## Contents

**03. සතිපට්ඨාන සූත්‍රය | සතියේ ආනිසංස | Satipatthana Deshana** ........ 3

1) සන්තාන ශුද්ධිය | සතියේ ආනිසංස | Benefits of mindfulness | @alokaalighttolife........ 3

2) දුක, ආර්ය සත්‍යයක් වෙන හැටි | සතියේ ආනිසංස | Benefits of mindfulness | @alokaalighttolife ... 11

3) Benefits of mindfulness practice | ඤායස්ස අධිගමාය, නිබ්බාණස්ස සච්ඡිකිරියාය | @alokaalighttolife 16

4) Effortless effort | ආතාප වීර්යයයි සතියයි අතර සම්බන්ධය | Mindfulness | @alokaalighttolife ..... 19

5) Clear explanation of mindfulness | සතියේ සියුම් පැතිකඩක් | Mindfulness | @alokaalighttolife ...... 28

6) explanation of sampajanna | vipassana meditation | සති සම්පජඤ්ඤය | @alokaalighttolife .... 38

7) සක්මන් භාවනාව අත්‍යවශ්‍යද ? | Benefits of walking meditation | @alokaalighttolife........ 46

8) Mindful walking | සක්මන සම්පජඤ්ඤයට තුඩුදෙන හැටි | Mindfulness | @alokaalighttolife ........ 53

9) සම්පජඤ්ඤ පබ්බය | Mindfulness meditation | @alokaalighttolife........ 60

10) ආත්ම දෘෂ්ටිය දියවෙන හැටි | four elements meditation | Mindfulness in sinhala | @alokaalighttolife........ 65

11) මරණයෙන් අමරණීයත්වයට | satipatthana meditation | mindfulness meditation | @alokaalighttolife........ 70

12) වේදනානුපස්සනා සතිපට්ඨානය | Dealing with pain in meditation | Mindfulness | @alokaalighttolife........ 73

13) උපේක්ෂා වේදනාව වැදගත්ද? | being neutral | mindfulness meditation | @alokaalighttolife ........ 80

14) චිත්තානුපස්සනාව | observe on your thoughts | Mindfulness meditation | @alokaalighttolife ... 87

15) කෙලෙසීමක් තියෙන තැනයි පාරිශුද්ධියක් තියෙන්නේ | mindfulness meditation | @alokaalighttolife 91

16) විතර්ක හමුවේ සතිය පුරුදු කිරීම | චිත්තානුපස්සනාව | Mindfulness in sinhala | @alokaalighttolife 95

17) කාමච්ඡන්දයට ලැජ්ජා වෙන තාක්, ඔබ නිවනින් දුරස් වෙනවා | Mindfulness meditation | @alokaalighttolife........ 100

18) පෞරුෂය හැදෙන්නේ ද්වේශයට මුහුණ දීම හරහායි | Mindfulness meditation sinhala | @alokaalighttolife........ 106

19) ථිනමිද්ධ නීවරණය | five hindrances | ධම්මානුපස්සනාව | පංච නීවරණ | @alokaalighttolife .......... 110

20) උද්දච්චකුක්කුච්ච නීවරණයට සතිය ගළපන හැටි |mindfulness in sinhala |පංච නීවරණ ධර්ම |@alokaalighttolife........ 117

21) සතිය හරහා මමත්වය දුරුවෙන හැටි | dissolving the ego | ධම්මානුපස්සනාව | @alokaalighttolife . 123

22) වේදනාස්ඛන්ධය යට සැඟවුණු කෙලෙස් නැසීම | Mindfulness meditation sinhala | @alokaalighttolife 129

23) සංඥාස්කන්ධයේ යථා ස්වභාවය | Mindfulness meditation sinhala | Mindfulness | @alokaalighttolife........ 136

24) සංස්කාර, විඤ්ඤාණ ස්කන්ධ හරහා නිවනට | Mindfulness meditation sinhala | @alokaalighttolife 141

25) සති සම්බොජ්ඣංගය වැඩෙන හැටි | Mindfulness meditation sinhala | @alokaalighttolife........... 146

26) සප්ත බොජ්ඣංග ධර්මතා වැඩෙන හැටි | how to practice mindfulness meditation | @alokaalighttolife........ 151

27) දුක්ඛ ආර්යය සත්‍යය | Four noble truth | සතිපට්ඨාන භාවනාව | @alokaalighttolife........ 157

28) චතුරාර්‍ය සත්‍යය ප්‍රායෝගිකව අත්දකිමු | The four noble truth |ධම්මානුපස්සනාව | @alokaalighttolife 162

29) සතිය හරහා සම්මා දිට්ඨිය උපදවා ගැනීම | Mindfulness in sinhala | @alokaalighttolife ................167

30) සම්මා සංකල්පය,අන්ත දෙකෙන් අතමිදීමෙන් හටගන්නක් | Mindfulness and eightfold path | @alokaalighttolife..........178

31) වචී සංස්කාරය හිතේ දියුණුවට ඇති ලොකුම බාධකයයි | right words & mindfulness | @alokaalighttolife..........185

32) කිසිත් නොකර සිටීම සහ සීලය රැකීම | Morality & mindfulness | @alokaalighttolife ....................195

33) ආජීවයේ අපිරිසිදු බව භාවනාවට බලපාන හැටි | right livelihood and mindfulness | @alokaalighttolife..........203

34) සම්මා වායාමය පරිණාමය වෙන ධර්මතාවයක් | Right effort and Mindfulness | @alokaalighttolife 209

35) සතියයි සම්මා සතියයි අතර වෙනස | Right mindfulness | සම්මා සතිය | @alokaalighttolife ...........219

36) භාවනාව යනු සමාධියද? | සම්මා සමාධිය - part - 1 | Right concentration | @alokaalighttolife ......229

37) භාවනා කරන අය මාර්ගඵල ලැබුවා කියා රැවටෙන හැටි | විපස්සනා උපක්ලේෂ -1 | eightfold path.......238

38) භාවනා කරද්දි ප්‍රීතියේ ගොදුරක් වීම | විපස්සනා උපක්ලේෂ -2 | right concentration |@alokaalighttolife..........245

39) විපස්සනා උපක්ලේෂ- පස්සද්ධිය | සම්මා සමාධිය | right concentration | @alokaalighttolife .........250

40) සම්මා සමාධිය තුළ සැඟවුණ කෙලෙස් | විපස්සනා උපක්ලේෂ - 4 | Mindfulness meditation |@alokaalighttolife..........255

41) වීර්යය සමබර කළ යුතු තැන | විපස්සනා උපක්ලේෂ -05 | Mindfulness practice | @alokaalighttolife 257

42) භාවනාව අතරමග නතර කරවන "සුඛය" | විපස්සනා උපක්ලේෂ -06 | Right concentration | @alokaalighttolife..........259

43) ඥාණයම මාරයා බවට පෙරලා ගැනීම | විපස්සනා උපක්ලේෂ _ 07 | Right concentration | @alokaalighttolife..........264

44) උපේක්ෂාව උපක්ලේෂයක් වෙන තැන | විපස්සනා උපක්ලේෂ- 8/9 | Right concentration & Upakkilesa 269

45) බලවත්ම උපක්ලේෂය | විපස්සනා උපක්ලේෂ - 10 | Right concentration | @alokaalighttolife.........273

46) සම්මා සමාධිය ලැබෙන හැටි | Attaining the Right Concentration | ආර්ය අෂ්ඨාංගික මාර්ගය | සම්මා සමාධිය 276

47) සතිපට්ඨාන භාවනා පුහුණුවේ අවසානය | සතිපට්ඨාන භාවනාව | vipassana Meditation | @alokaalighttolife..........285

# 03. සතිපට්ඨාන සූත්‍රය | සතියේ ආනිසංස | Satipatthana Deshana

1) සන්තාන ශුද්ධිය | සතියේ ආනිසංස | Benefits of mindfulness | @alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අලුත් මාතෘකාවක් යටතේ දේශනා ටිකක් අරගෙන එන්න තීරණය කලා. මොකද මේ සතිමත් බව ගැන තමයි අපි කතා කරන්නෙ. ඕනම දේකට ඉහළින් සතිය කියන එක තියාගන්න පුලුවන් කියන කාරණය අපි කතා කරන්නෙ. ඉතින් ඒ සතිය කියන එක පුරුදු කරන අයට අනුග්‍රහ පිණිස දේශනා මාලාවක් අපි අරගෙන එන්න තීරණය කලා. Playlist එකේ වෙනම category එකක තියෙන්නෙ ඔයගොල්ලන්ට ඒක හොයාගන්න පුලුවන් වෙන්න මං වෙනම Playlist එකකට දානවා, වෙනම category කරනවා. ඉතින් අපි කතා කරන්න හිතුවා සතිය පුරුදු කිරීමේ ආනිසංස. මොකද භාග්‍යවතුන් වහන්සේ දැන් ත්‍රිපිටකයට අනුව පොතේ හැටියට ගත්තත් සතිපට්ඨාන සූත්‍රයේ භාග්‍යවතුන් වහන්සේ සූත්‍රය දේශනා කරන්න කලින්ම ආනිසංස ටිකක් දේශනා කරලා තියෙනවා. මෙන්න මෙහෙම මෙන්න මෙහෙම ආනිසංස ටිකක් අපිට ලැබෙනවා සතිය කියන එක පුරුදු කලොත්, සතිපට්ඨානය කියන එක පුහුණු කලොත් කියලා දේශනා කරලා තියෙනවා. ඉතින් අපි මේ පොතේ දැනුමක් ගොඩගහගන්න නෙවෙයිනෙ යන්නෙ.

අපි කතා කරන්නෙ හැම දේශනාවකම ප්‍රායෝගිකව කොහොමද මේක පුහුණු කරන්නෙ කියන එක. ප්‍රායෝගිකව ජීවිතයට එකතු කරගන්න විදිය. ඉතින් මට හිතුනා මේ ආනිසංස හත මේ ජීවිතයේදීම අපිට අත්දකින්න පුලුවන් වෙන්නෙ මොන විදියටද කියලා, සතිය පුරුදු කලාම කොහොමද ඒක වෙන්නෙ කියන එක දැනුවත් කරන්න විග්‍රහ කරන්න එතකොට තමයි අපිට උනන්දුවක් ඇතිවෙන්නෙ. ඉතින් අපි අහලා තියෙනවා බුදුරජාණන් වහන්සේ ආනිසංස හතක් දේශනා කරලා තියෙනවා සතිපට්ඨාන සූත්‍රය විග්‍රහ කරන්න කලින්, දේශනා කරන්න කලින්. ඒක පටන් අරගෙනම තියෙන්නෙ ඒකායනො අයං භික්ඛවෙ මග්ගො කියලා. ඒ කියන්නෙ මහණෙනි මේක තමයි එකම ක්‍රමය එකම මග, මේ ආනිසංස හත ලබාගන්න. ඉතින් මෙච්චර පැහැදිලිව සුවිසුද්ධ වශයෙන් දේශනා කරලා තියෙන බුද්ධ වචනය ගැන අපිට විශ්වාසයක් නැහැ. ඒක තමයි මෙතන තියෙන ලොකුම ප්‍රශ්නෙ. බුදු කෙනෙක් ආවට ගියාට වචනයක් ප්‍රකාශ කරන්නැහැ කියන එකවත් අපිට තවම මතක නැහැ. මෙච්චර ලස්සනට එකම ක්‍රමයයි තියෙන්නෙ මේ දේවල් ලබන්න කියලා කියලා තියෙද්දිත් අපි කොහේද යන්නෙ කියන එක ගැන අපි නැවත වතාවක් හිතන්න වෙනවා.

ඉතින් මේ ආනිසංස හතෙන් අද මම මේකෙ කතා කරන්නෙ පළවෙනි එක ගැන, පළවෙනි ආනිසංසය. ඒකෙ තියෙන්නෙ සත්තානං විසුද්ධියා. ඕක තමයි පොතේ තියෙන්නෙ. ඒ කියන්නෙ සත්වයන්ගේ පිරිසිදුකම පිණිස, ශුද්ධිය පිණිස පාරිශුද්ධිය පිණිස හේතුවෙන එකම මගයි තියෙන්නෙ ඒ තමයි සතිපට්ඨානය. ඔය තමයි සාමාන්‍ය සරල අර්ථය. ඉතින් ඇත්තටම කියනවා නම් මේ සත්වයන්ගේ පිරිසිදු බව කියලා කියන්නෙ අමුතු එකක් නෙවෙයි, අපේ හිත පිරිසිදු කරගන්න එක තමයි. අපේ සන්තානයේ ශුද්ධියක් තමයි මේ කතා කරන්නෙ. ඉතින් මේක මේ ජීවිතේ කරන්න පුලුවන් කියලා මේ බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ. මේ ආනිසංස හත මේ ජීවිතේදී ළඟා කරගන්න පුලුවන්.

මෙහෙම එකක් කියන්නෙ භාග්‍යවතුන් වහන්සේ විතරයි. මේ ජීවිතේ මෙහෙම අරමුණක් මේ වගේ දෙයක් සත්වයන්ගේ පාරිශුද්ධියක් ළඟා කරගන්න පුලුවන් කියලා වෙන ශාස්තෘවරු කියන් නැහැ. ඒ ගොල්ලො කියන්නෙ මරණින් මත්තෙ තමයි ඒක තියෙන්නෙ, මේ ජීවිතේ බැහැ.

ඉතින් අවාසනාව තමයි මෙහෙම මේ ජීවිතේදීම මේක සාක්ෂාත් කරන්න පුලුවන් කියලා ස්ථිර වශයෙන් කියපු භාග්‍යවතුන් වහන්සේ වැනි ශාස්තෘවරයෙක් උරුම කරගෙන ඉන්න අපේ බෞද්ධයොත් අවාසනාව හිතාගෙන ඉන්නවා මේක මේ ජීවිතේ බැහැ. මේක මෛත්‍රී බුදුන් එනකල් ඉන්න ඕනෙ. අපිට පාරමී මදි, තව සෑහෙන්න සංසාරේ ඇවිදින්න ඕනෙ කියන තැනකට තමයි සියයට අනූනවයක් දෙනාම ඉන්නෙ වර්තමානයේ. සියයට එක්කෙනෙක් වගේ කලාතුරකින් කෙනෙක් මේ ජීවිතේ ඉවර කරන්න පුලුවන් කියන හැඟීමෙන් වැඩ කරනවා. ඉතින් ඕක බෑ කියන්න ඔය සසරට ප්‍රේම කරන්න, කෙලෙස් වලට ප්‍රේම කරන්න නිදහසට කාරණා බොහෝ ඉදිරිපත් කරනවා අපේ මිනිස්සු. ඒකටම තල්ලු දෙන බණ තමයි අපිට ඇහෙන්නෙ. සංසාරෙට යන හැටි, කරදර වලින් ආරක්ෂා වෙන හැටි, සංසාරගත ප්‍රේමවන්තයො හොයාගන්න හැටි ඕවා තමයි අපිට ඇහෙන්නෙ. අපිටත් ඉතින් විකිණෙන්නෙත් එහෙම බණ තමයි. මොකද මිනිස්සුන්ට ඕනෙ එහෙම. මොකද මේක මේ ජීවිතේ ඉවර කරන්න ඕනෙ කියලා භාග්‍යවතුන් වහන්සේ මෙච්චර ශුද්ධ වශයෙන් කියපු බුද්ධ වචනෙත් අපිට මතක නැහැ, ඒක අපිට විශ්වාස නැහැ. ඉතින් ඒ වචනේ විශ්වාස කරගන්න පුලුවන් හැකියාව තියෙන්නෙ අල්ප පිරිසකට විතරයි. ඒක තමයි ස්වභාවය. මොකද ලෝකය කියන්නෙ සත්‍යයට බය තැනක්. ලෝකයේ ඉන්න මිනිස්සු සත්‍යයට බයයි. ඒ නිසා තමයි ඒගොල්ලො බොරුවෙන් ජීවත් වෙන්නෙ. ඒක තමයි මෙතනදි ඔප්පු වෙන්නෙ.

ඉතින් බුදුරජාණන් වහන්සේ කියනවා මේක මේ ජීවිතේදිම කරන්න පුලුවන්, සත්වයන්ගේ විශුද්ධියක්. අපේ සන්තානය ශුද්ධ කරගන්න පුලුවන්, හිත පිරිසිදු කරගන්න පුලුවන්. ඉතින් මේ ආනිසංස හතේ අන්තිමට තමයි නිවන කියන එක තියෙන්නෙත්. ඉන් මෙහා, නිවනට මෙහා ලැබෙන ආනිසංස ටිකක්. ඉතින් නිවනට මෙහා ආනිසංස හයක් කියලා තියෙනවා. මේ ජීවිතේම සාක්ෂාත් කරන්න පුලුවන් කියලා. ඒ හය ලැබුවත් ඇති වගේ හැඟීමක් තියෙන්නෙ. හයක් ඕන නෑ මේ පළවෙනි එක ලැබුවත් ඇති එච්චර සහනයක් එනවා ඒක ලැබුනත්. ඉතින් මෙතන තියෙන දැන් මේක මේ ජීවිතේදිම සාක්ෂාත් කරන්න පුලුවන් කියලානෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ. ඇයි අපිට මේක තේරෙන්නෙ නැත්තේ. ඇයි අපිට මේක විශ්වාස නැත්තෙ හේතුව තමයි අපිට ඉස්සෙල්ලා මෙහෙම එකක් ඇහෙන්න ඕනෙ. හරියට ඇහෙන්න ඕනෙ, ආවාට ගියාට නෙවෙයි හරියට ඇහෙන්න ඕනෙ. අපි කියන්නෙ ටක්කෙට ඇහෙන්න ඕනෙ, point එකට ඇහෙන්න ඕනෙ, හරියටම time එකට ඇහෙන්නත් ඕනෙ. ඒකට කියන්නෙ අපි සුතමය ඥාණය, පොතේ හැටියට. හරියටම time එකට එක එක්කෙනාගේ time එක වෙනයි, මේ වගේ දෙයක් ඇහෙන්න time එකට, ටක්කෙටම point එකටම කතා කරලා ඇහුනොත් සුතමය වශයෙන් ඔන්න ඒක තමයි පළවෙනියටම වෙන්න ඕන මේක මේ ජීවිතේ ඉවර කරන්න පුලුවන් කියන මේ තැනට එන්න ඉස්සෙල්ලාම අපිට මේක ඇහෙන්න ඕනෙ. සුතමය වශයෙන් තේරෙන්න ඕනෙ.

ඉතින් එහෙම ඇහිච්චි කෙනෙකුට තමයි මේක නුවණින් කල්පනා කරලා බලන්න හිතෙන්නෙ, කොහොමද මේක වෙන්නෙ මෙහෙමද අරෙහෙමද කියලා අර චින්තාමය ප්‍රඥාව කියලා අපි පොතේ හැටියට කියන්නෙ ඒක තමයි, නුවණින් කල්පනා කරලා බලන්න හිතෙන්නෙ ඇහුනොත් තමයි. ප්‍රශ්නෙ තමයි මෙහෙමඇහෙන්නෙත් කලාතුරකින්

කෙනෙකුට ඇහුනු අයගෙනුත් දාහකින් එක්කෙනෙකුට, සීයකින් එක්කෙනෙකුට වගේ තමයි මේක නුවණින් කල්පනා කරලා බලන්න හිතෙන්නෙ. නැත්නම් අපේ බහුතරයක් මේ කණින් අහලා අර කණින් පිට කරලා අත පිහදාගන්න අය ඉන්නෙ. එතකොට හිතන්න මේ ලක්ෂෙකින් දාහකින් එක්කෙනෙකුට තමයි මේක ඇහෙන්නෙත්. ඇහුනු අයගෙනුත් කලාතුරකින් එක්කෙනකුට තමයි මේක නුවණින් හිතන්න හිතෙන්නෙ. මේක ඇත්තටම මේ ජීවිතේ ඉවර කරන්න පුලුවන්ද කරලා ඉවර කරන්න පුලුවන්ද කියන එක ගැන කල්පනා කරලා නුවණින් තේරුම් ගන්න හිතෙන්නෙ කලාතුරකින් කෙනෙකුට. ඕකට කියන්නෙ චින්තාමය ඥාණය.

ඊළඟ එක තමයි ඔහොම නුවණින් කල්පනා කරලා හිතලා බලන අයගෙනුත් කලාතුරකින් කෙනෙකුට මේක කරලා බලන්න ඕනෙ කියලා හිතක් පහළ වෙනවා. මේ ජීවිතේ මේක ඉවර කරන්න පුලුවන් කියලා එයාට ඇහුනා, එයා ඒක කල්පනා කලා, දැන් එයාට හිතෙනවා ඇත්තටම මේක උරගා බලන්න ඕනෙ, ඇත්තටම මේක කරන්න පුලුවන්ද කියලා. කරලා බලන්න හිතෙනවා, ඕකට තමයි ප්‍රත්‍යක්ෂ ඥාණය කියන්නෙ වෙන මොකුත් නෙවෙයි. සුතමය, චින්තාමය, ප්‍රත්‍යක්ෂ වශයෙන් මේක පෙළගැහිලා එන්න ඕනෙ මේ ජීවිතේම මේක ඉවර කරන්න පුලුවන් කියන හැඟීම එන්න. නැත්නම් එන්නෙ නැහැ. නැත්නම් අපි ඉන්නෙ අර සියයට අනූනවයක් දෙනා ඉන්න තැන බහුතරය තමයි ඉන්නෙ, ඕක මේ ආත්මෙ බැහැ, මෛත්‍රී බුදුන් එනකල් ඉන්න ඕනෙ කියාගෙන යනවා. ඉතින් මේකෙ මේ සුතමය, චින්තාමය, ප්‍රත්‍යක්ෂ කියන එකෙත් හරි ලස්සන සම්බන්ධෙකුත් තියෙනවා.

අපි හිතමු අපි මේ ජීවිතේම මේක ඉවර කරන්න පුලුවන් කියලා අපි යමක් අහනවා, ශ්‍රවණය කරනවා දේශනයක්. ඊටපස්සෙ අපි ඒ අනුව නුවණින් කල්පනා කරනවා, ඊටපස්සෙ අපි ඒ අනුව කර බලන්න උත්සාහ කරනවා මේක උරගා බලන්න ඒ පාරට බහිනවා. ඒ කියන්නෙ ප්‍රායෝගික පුහුණුවට බහිනවා. මේ පුහුණුවට බැස්සට පස්සෙ ආයෙත් ඒ කෙනා ඒ හා සම්බන්ධ දේශනයක් හෝ ඒ අහපු දේශනයම ඇහුවොත් එයාට තේරෙනවා කලින් පළවෙනි වතාවෙ ඇහුවට වැඩිය දැන් වැටහෙනවා කියලා එයාටම තේරෙනවා. කලින්ට වැඩිය තේරෙනවා. ඊටපස්සෙ එයා නුවණින් කල්පනා කරනකොට කලින්ට වැඩිය නුවණින් වැටහෙනවා. ඊටප්සසෙ එයා නැවත කරබලනකොට කලින්ට වැඩිය හොඳට මේක පුහුණුවෙන්න පුලුවන්. මෙහෙම මේ අංග තුන, මේ කොටස් තුන circle එකක් වගේ වැඩ කරන්නෙ එකකට එකක් උපකාරීයි. මේ කාරණා තුන වෙන් කරන්න බැහැ. බෙදන්න බැහැ. එතකොට මතක තියාගන්න ඔබටම තේරෙනවා ඇති සමහර ප්‍රායෝගික පුහුණුවට සම්බන්ධ දේශනා එක පාරක් ඇහුවට වැඩිය දෙවෙනිපාර අහනකොට ගොඩාක් දේවල් පළවෙනි පාර මගහැරිලා කියලා දැනෙනවා. ගොඩාක් මගහැරිලා වෙනම වැටහෙනවා. තුන්වෙනි වතාව අහනකොට ඊටවැඩිය තේරෙනවා. හතරවෙනි වතාව අහනකොට ඊට වැඩිය තේරෙනවා. එහෙම පුදුම රහක් එක්ක තමයි මේ ප්‍රායෝගික පුහුණුව, සතිය හරහා යන මේ ගමන වැඩෙන්නෙ. ඉතින් ඒක කර බලපු අය, උත්සාහ කරපු අයට ඒක හොඳට තේරෙනවා ඇති.

ඉතින් ඔන්න ඔහොම තමයි මේ ආනිසංසය, මේ හතම නැත්නම් සතිය හරහා ලැබෙන මේ ආනිසංස ටික මේ ජීවිතේදීම ලබන්න පුලුවන් දෙයක් කියන වැටහීම, ඒ විශ්වාසයට එන්නෙ ඔන්න ඔය ක්‍රමයට. ඉතින් මේ විදියට තමයි තමන්ගේ ශුද්ධිය කියන එක, පාරිශුද්ධිය කියන එක හැදෙන්නෙ. ඉතින් මේක තම තමන් තනි තනිව තමන්ගේ ජීවිතයට ගලපගත යුතු දෙයක් මිසක මේක අර කරට අතදාගෙන රංචු ගැහීගෙන පිරිස් හදාගෙන එහෙම කරන්න පුලුවන් දෙයක් නෙවෙයි. තම තමන් තනියෙන්ම වගබලාගන්න

ඕනෙ මට මේක මේ ජීවිතේ කරන්න පුලුවන් කියලා තේරුනාට මගේ ස්වාමියාට, මගේ බිරිඳට, මගේ සහෘදයාට, මගේ සහෝදරයාට, මාගේ ආදරණීයයන්ට තේරෙයි කියලා කියන්න බැහැ. එයාට තේරුම් කරවන්න ඕනෙ කියලා උත්සාහ අරගෙන වැඩකුත් නැහැ. මොකද අපි එකිනෙකාට time එකක් තියෙනවා, වෙලාවක් තියෙනවා, මේක වැටහෙන්න. ඉතින් ඕක අපි තේරුම් අරගෙන අපිට වැටහුනා නම් පාඩුවේ තනි තනිව මේක කරගෙන යන එකයි තියෙන්නෙ.

ඉතින් මේ සතිය හරහානෙ අපි දැන් මේක කරන්නෙ. එතකොට මේ සතිය පුරුදු කිරීමේදී මේ තමන්ගේ සන්තාන ශුද්ධිය, ජීවිත ශුද්ධිය කියන එක ලෞකික ලෝකෝත්තර අංශ දෙකෙන්ම කරන්න පුලුවන් දෙයක්. ඒක ලෝකෝත්තර පැත්තෙන් විතරක් නෙවෙයි, ඔය අපේ මිනිස්සු බණ අහන්නෙත් ඔය ලෝකෝත්තර ආනිසංස බලාගෙනම නෙවෙයිනෙ, ලෞකික ජීවිතේ පරමාර්ථ උදෙසා. ඉතින් ඇත්තමට සතියේත් එහෙම තියෙනවා. සතිමත් වීමේ සතිපට්ඨාන සූත්‍රයේත් ලෝකෝත්තර පැත්තට යන්න කලින් ලෞකික ආනිසංසත් තියෙනවා. නිකමට බලන්න මේ සතිමත් බව, වර්තමානයට අවදි වීම කියන එක පුරුදු කරපු අයට මේ අත්දැකීම් ඇති, අපිටත් බොහෝ පිරිසක් එහෙම අත්දැකීම් ඉදිරිපත් කරනවා. ඒ තමයි ඒගොල්ලන්ට ලැබෙනවා ආනිසංස කාර්යක්ෂම බව හොඳට වැඩිවෙනවා සතිමත් කෙනාගෙ. ඒකට හේතුව, එතන එතන එකවරකට එක වැඩයිනෙ කරන්නෙ සතිමත් කෙනා. ඒ කියන්නෙ එක වරකට එක වැඩක් කරන එක තමයි සතිය කියලා සාමාන්‍යයෙන් ඒක එක අර්ථයක්. එතකොට අපි එක වැඩකට ඒ දැන් කරන වැඩේට focus කරගෙන වැඩේ කරද්දි කාලය නාස්ති වෙන්නෙ නැහැ. කාලය ඉතුරු වෙනවා කියලා දැනෙනවා කලින්ට වැඩිය. ඒ වගේම අපිට වෙහෙසක් එන්නෑ, මහන්සියක් එන්නෑ, මොකද අපි එක දෙයක් කෙරෙහි අවධානයෙන් ඉන්නෙ. ඒ වගේම අපි කරපු වැඩේ හැඩයක් තියෙනවා. අපි කරපු වැඩේ නිමාවක් තියෙනවා. අපිළිවෙල වෙන්නෙ නැහැ. ආපස්සට හැරිලා බලන්න ඕනෙ වෙන්නෙ නැහැ. ඒ විතරක් නෙවෙයි අපි ලෞකික ජීවිතේ යම්කිසි අරමුණක් වෙනුවෙන් වැඩ කරද්දි ඒ අරමුණ සාක්ෂාත් කරන්න ඉතාම ලේසියි. අමාරුවෙන්නෙ නැහැ. අනික තමයි ඔය ඔක්කොම අවසානෙත් අපිට සතුට කියන එක ඉතුරුවෙනවා.

ඉතින් ලෞකික ජීවිතයට ඔය වගේ ආනිසංස ගොඩාක් ගන්න පුලුවන්. ලෝකෝත්තර පැත්ත ගැන අමුතුවෙන් කතා කරන්න ඕනෙ නැහැනෙ. ලෞකික ආනිසංසත් ඔය විදියට ලැබෙනවා මේ සතිය කියන එක පුරුදු කරද්දි, තමන්ගේ සන්තානයේ ශුද්ධියත් එක්ක තමයි ඒක වෙන්නෙ. ඉතින් මේක මේ විදියට අත්දැකපු කෙනෙකුට තේරුම් යනවා මේ සතිය කියන එක ඕනම පැත්තකට ඕනම තැනකට ගලපලා ගත්තොත් ප්‍රතිඵල සහිතයි, ඒක මරණින් මත්තට එන ප්‍රතිඵලයක් නෙවෙයි, මේ ජීවිතේදි ලැබෙන දෙයක් කියන එක තමන්ටම තේරුම් ගන්න පුලුවන් වෙනවා. ඉතින් මේ දැන් මේ ජීවිතේදීම ලැබෙයි කියන විශ්වාසය නැතිකමනෙ මෙතන තියෙන ප්‍රශ්නෙ. ඉතින් ගොඩක් වෙලාවට අර මම කලිනුත් සඳහන් කරලා ඇති ගොඩක් වෙලාවට අපේ මිනිස්සු නිවන කියන එකත් මරණින් මත්තට තමයි දාලා තියෙන්නෙ. හොඳට බලන්න, කෙනෙක් මැරුණහම නිවන් දකින්න ප්‍රාර්ථනා කරන්නෙත් එතකොට තමයි. ඔබට නිවන් සුව ලැබෙන්න කියලා. ඉතින් මේ විශ්වාසය තහවුරු වුනාම, ඔය මැරුණට පස්සේ ඕක කියන්න ඕනෙ නැහැ. මේ ජීවිතේදිම අත්දකින්න පුලුවන් දෙයක්.

හැබැයි මම කලින් වීඩියෝ වල සඳහන් කරනවා වගේ මේ සතිය කියන එක පුරුදු කරද්දි මුල් කාර්තුවේදී මුල් කාලයේදී ආරම්භක අවස්ථාවේදී මේක ඉතාම නීරසයි, කටුකයි, පැඟිරි වගේ. වෙහෙසක් තියෙනවා, හේතුවක් තියෙනවා ඒකට. හේතු ගොඩාක්

තියෙනවා. එකක් තමයි අපිට පුරුදු නැහැ. මේක පුරුදු නැහැ, ඒ වගේම අපි ලෞකික ජීවිතේදි, එහෙම නැත්නම් අපි පුරුදු කරගෙන ආපු රහ මේකෙ ලැබෙන්නෙ නැහැ. මොකද අපි පුරුදු කරගෙන ආපු රහ තියෙන්නෙ ඇලීම් ගැටීම් තුළ. මේකෙ ඇලීම් ගැටීම් එන්න එන්න අඩුවෙනකොට අර ඇලීම් ගැටීම් එක්ක ආපු රහ නැති හන්දා මේක නීරස වෙනවා. ඒ නිසා වෙහෙසයි කටුකයි. හැබැයි මේ මුල් කාර්තුවේදී අපි සත්පුරුෂයන්ගේ පිහිට ආශිර්වාදය උපකාර ඇතිව මේක කරගෙන ගියොත් ටික කාලයක් මේක පුහුණු වෙනකොට ඇත්තටම විශුද්ධියක් වෙනවා කියන එක පේන්න ගන්නවා, යන්තම් දැනෙන්න ගන්නවා.

ඉතින් අපිට සත්පුරුෂයන්ගේ ආශ්‍රය මේ මුල් කාර්තුවේදී අනිවාර්යයෙන්ම අවශ්‍යයි. ඒ කියන්නෙ අපිට guide කරන්න කෙනෙක් ඕනෙ. අපිට ගුරුවරයෙක් ඕනෙ කියලා කියන්නෙ ඒ නිසයි. මුල් කාලයේදී අපිට උපදෙස් ගන්න අපිව guide කරන්න අපිට මඟ පෙන්වන්න ගුරුවරයෙක් ඕන, සත්පුරුෂයෙක් ඕනෙ. නොලැබුනොත් සත්පුරුෂයෙක් නොලැබුනොත් ලත් තැනම ලොප් වෙන්න තියෙන ඉඩකඩ වැඩියි. මොකද අපිට තේරෙන්නෙ නැහැ මේ මුල් කාලෙ මේක කොහොමද ගලපගන්නෙ කියලා විශාල කටුක නීරස වෙහෙසකින් තමයි මේක කරගෙන යන්නෙ. මේක ගොඩාක් මරුගුල් තියෙනවා, පැටලෙන තැන් තියෙනවා. ඒවා ලෙහාගන්න ගුරුවරයෙක් ඕනෙ.

ඉතින් ඔය විදියට ගුරුවරයෙක්ගේ සත්පුරුෂයෙක්ගේ පිහිට ඇතිව කාලයක් කරගෙන යනකොට තමයි ඇත්තටම ශුද්ධියක් තියෙනවා කියලා පොඩ්ඩක් දැනෙන්න ගන්නෙ, පේන්න ගන්නේ. මේ නිසා තමයි මේක පටන් ගත්තට පස්සේ අපිට උදව් කරන්න කෙනෙක් ඕන වෙන්නෙ. ඒ නිසා පුලුපුලුවන් අය ආරම්භ කරන අයට උදව් කරන්න ඕනෙ කියන්නෙ මෙන්න මේ නිසයි. ඒ තමයි සත්පුරුෂයා. හැබැයි වර්තමානයේ ඒකෙ අනිත් පැත්ත තමයි ගොඩක් තියෙන්නෙ. අමාරුවෙන් හරි මේක කරන්න පටන් ගත්තට පස්සෙ ඇනුම් පද කියන්නයි, කෙකි දාන්නයි, උදළු දාන්නයි, බාල්දි දාන්නයි තමයි කට්ටිය ඉන්නෙ. එහෙම එකක් අපේ රටේ තියෙනවා. පටන් ගත්තට පස්සෙ ඒක කරගෙන යන්න ඉඩ දෙන්නෙම නෑ, කෙක්ක දානවා. ඉතින් සත්පුරුෂයෙක් කියන්නෙ කවුද කියන එක එතකොට තේරුම් ගන්න ඕනෙ. මේක කරන්න පටන් ගත්තොත් අතදෙනවා නම් යම්කිසි කෙනෙක්, support කරනවා නම් වචනෙකින් හරි කෙනෙක් මේක තල්ලු කරගෙන ඉස්සරහට යන්න ඔන්න ඔබ තේරුම් ගන්න ඒ තමයි ඔබට ඉන්න සත්පුරුෂයා. ඒ නිසා සත්පුරුෂයෙක්ගේ ඇසුරේ මේක පුහුණු කරන්න පටන් ගත යුතු වෙනවා, එහෙම නැතිවුනොත් අපිට සාමාන්‍ය තියෙන  කටුක වෙහෙසට වැඩිය විශාල වෙහෙසක් දැනෙන්න ගන්නවා.

ඉතින් මේක කර බැලීමේ කැමැත්ත, මේ ජීවිතේදී මේ ආනිසංස අපිට විඳින්න පුලුවන් මේ ජීවිතේදීම මේකෙ ප්‍රතිඵල භුක්ති විඳින්න පුලුවන් කියන විශ්වාසයෙන් කරබැලීමේ කැමැත්ත ආවෙ නැත්නම් අපේ මනසෙයි තිරිසන් සතෙක්ගේ මනසෙයි ඇත්තටම කිසිම වෙනසක් නැහැ. කර බැලීමේ කැමැත්ත ආවෙ නැත්නම්. ඒ නිසා වෙන්න ඇති බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ මේක දෙවියන්ටත්, බ්‍රහ්මයන්ටත් කරන්න පුලුවන් දෙයක් නෙවෙයි කියලා. මනුස්සයෙකුට තමයි මේක කරන්න පුලුවන්. බුදු කෙනෙක් පවා පහළ වෙන්නෙ මනුෂ්‍ය ආත්ම භාවයකදි. ඒ නිසා මේක අපිට ලැබිලා තියෙන අවස්ථාව ලෙහෙසි පහසු අවස්ථාවක් නෙවෙයි. ඉතින් අපි ගෙවන වර්තමානයේ ගෙවිලා යන හැම මොහොතකම හැම තත්පරයකම, හැම චිත්තක්ෂණයකම අවස්ථාව තියෙනවා අපිට මේක මේ ජීවිතේ ඉවර කරන්න ඕනෙ කියන චේතනාවෙන් කර බැලීමේ අවස්ථාව හැම මොහොතකම එළඹෙනවා. ඔබ තමයි තීරණය කරන්න ඕනෙ මේක. සසරට ඒ

චිත්තක්ෂණය පාවිච්චි කරනවාද, නැත්නම් නිවනට පාවිච්චි කරනවාද කියලා ඔබ තමයි තීරණය කරන්න ඕනෙ. නැත්නම් අපායට යන්න ඔබ පාර කපාගන්නවාද, නිවනට යන්න පාර කපා ගන්නවාද කියලා ඔබම තමයි තීරණය කරන්න ඕනෙ. ඒක හැම චිත්ත ක්ෂණයකම එළඹෙනවා. හැම වර්තමාන මොහොතකම ඒක එළඹෙනවා.

ඉතින් ඕක ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ ඔන්න ඕක තේරුම් ගන්න එක තමයි ක්ෂණ සම්පත්තිය කියන්නෙ කියලා. අපි ඉස්සරහට එළඹෙන හැම වර්තමාන මොහොතකම අපිට අර මනමේ කුමාරි, මනමේ කුමාරයයි හොරයි රණ්ඩු වෙන වෙලාවේ කඩුව දෙන්න තීරණය කළේ හොරාටද කුමාරයාටද කියන එක අනුව වගේ ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ හැම මොහොතකම, හැම තත්පරයකම, හැම වර්තමාන චිත්තක්ෂණයකටම අපිට option 2ක් තියෙනවා, අපි කඩුව දෙන්නෙ අපායටද නිවනට ද කියන එක තෝරගන්න. ඉතින් මේක තේරෙනවා නම් කෙනෙකුට ඕක තමයි ක්ෂණ සම්පත්තිය කියන්නෙ. ඒ කියන්නෙ මම මේ චිත්ත ක්ෂණයේ කඩුව දෙන්නෙ නිවනටද, සසරටද, අපායටද නිවනටද, කෙලෙස් වලටද නිවනටද. ඒක සතිය හරහා තමයි තීරණය කරන්න තියෙන්නෙ. ඉතින් ඔබ මේ එළඹෙන හැම චිත්තක්ෂණයකම සතිය පිහිටුවනවා කියන්නෙ එතනදී ඔබේ සන්තානය ශුද්ධ වෙනවා. ඔබ කඩුව දීලා තියෙන්නෙ නිවනට මිසක් අපායට නෙවෙයි. ඕක තමයි ක්ෂණ සම්පත්තිය කියන්නෙ. ඉතින් අපේ මිනිස්සු මොකද කරන්නෙ, අපිට තාම පාරමී පිරිලා නැහැ. අපිට තව ආයුෂ තියෙනවා, තව කල් තියෙනවා, මෛත්‍රී බුදුන් පහළ වෙනකල් යනවා කිය කියා ඔය යන්නෙ වෙන මොකටවත් නෙවෙයි, ඔය ප්‍රේම කරන්නෙ සංසාරයට. ඔය කඩුව දීලා තියෙන්නෙ සංසාරයට. අපායට තමයි කඩුව දීලා තියෙන්නෙ. ඉතින් ඒ නිසා අපි තේරුම් ගන්න ඕනෙ මේක මේ ජීවිතේ ඉවර කරන්න පුලුවන්ද කියලා අඩුගානෙ උරගා බලන්නවත් උත්සාහයක් ගත යුතුයි කියන එක තේරුම් ගත යුතු වෙනවා, ක්ෂණ සම්පත්තිය කියන්නෙ මොකක්ද කියලා තේරුම් ගන්න නම්.

ඉතින් මේ සන්තානය ශුද්ධ කරන එක, සතිය හරහාත් මේ සන්තානය ශුද්ධ කරන එක සිද්ධ වෙන්න නම් අපේ සීලයේ සහ දිට්ඨියේ ශුද්ධ වීමක් වෙන්න ඕනෙ. සීලය ශුද්ධ වෙනවා කියන එක කියන්නෙ සාමාන්‍යයෙන් බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ ප්‍රඥාවන්තයාට තමයි සීලය වැඩෙන්නෙ. වෙන කෙනෙකුට සීලය වැඩෙන්නෙ නැහැ. ඉතින් ප්‍රඥාව කියන එක එන්නෙ සතිය හරහා. මොකද මේ සතිය තියෙන කෙනාටම තමයි ඉතින් ඇත්තටම සීලය වැඩෙන්නෙ. සීලය ප්‍රගුණ වෙන්නෙ, පූරණය වෙන්නෙ සතිය තියෙන කෙනාටම තමයි. ඒ කෙනාට තමයි ශික්ෂාපද වලට ආරක්ෂා වෙන්න පුලුවන් වෙන්නෙ. ඒ හේතු සහිතව දැකගෙන එතනට එන්න පුලුවන් වෙන්නෙ. ඉතින් අපි හිතමු අපි සීලයක් ගැන නොසිතා සතියෙන් වැඩ පටන් ගන්නවා. මේ ඉන්න තැන ඉඳලා මේ වැඩේ කරන්න පටන් ගන්නවා, එතකොට මෙයාට ටිකෙන් ටික ඉස්සරහට යනකොට ඔය සතියට සම්පජඤ්ඤය කියන එක එකතුවෙනකොට එතකොට එයාට තේරෙනවා සීලය නැතිව ඉස්සරහට යන්න බෑ කියලා. ඒක ආයෙ බලෙන් දෙන්න ඕනෙ නෑ, එයාට පෙනි පෙනී දැක දැක දැන දැන තමයි එයා සීලයට එන්නෙ. එතකොට ආයෙ අමුතුවෙන් එයාට බලෙන් මේක රකින්න කියලා කියලා දෙන්න අවශ්‍යතාවයක් එන්නෑ.

ඒ විදියට සතිය හරහා සම්පජඤ්ඤයත් එක්ක සීලයට අනුග්‍රහ ලැබෙනවා. ඒ සීලයේ තිබුනු අඩුපාඩුකම් හදාගෙන සීලය ශුද්ධ කරගත්තහම ශුද්ධ කරගෙන ඒ හරහා සතියට ගියහම සම්පජඤ්ඤය හරහා නැවත සීලයට අනුග්‍රහ ලැබෙනවා. ඔය විදියට මේ කාරණා තුනත් අර මං මුලින් කියපු සුතමය, චින්තාමය, ප්‍රත්‍යක්ෂ ඥාණ තුන එකිනෙකට support වගේ, මේ කාරණා තුනත් එකිනෙකට සම්බන්ධයි. ඒ විදියට සීලයේ ශුද්ධිය ටික ටික එන්න

එන්න තමයි අපේ සන්තාන ශුද්ධිය හැදෙන්නෙ. දෘෂ්ටියේ ශුද්ධ වීම කියලා කියන්නෙ අමුතු දෙයක් නෙවෙයි. මේක මේ ජීවිතේ කර බලන්න පුලුවන් කියන මේ ජීවිතේ අත්දකින්න පුලුවන් කියන විශ්වාසය ගන්න එක. ඒ දැක්ම හදාගන්න තමයි තියෙන ලොකුම අමාරුව අපේ මිනිස්සුන්ගේ මනසින් ඕක අයින් කරන්න ලේසි නැහැ. ඒ කියන්නෙ භාග්‍යවතුන් වහන්සේ ගැන විශ්වාසය නැහැ කියන එක තමයි ඔය කියන්නෙ. වෙන මොකවත් නෙවෙයි. ශ්‍රද්ධාව කියන්නෙ ඔන්න ඕක. වෙන මොකුත් නෙවෙයි, ධර්මය කෙරෙහි, කියන්නෙ බුදුරජාණන් වහන්සේ කෙරෙහි ධර්මය කෙරෙහි, සංඝයා කෙරෙහි තමන්ගේ ගුරුවරයා කෙරෙහි විශ්වාසය ඇතිවෙනවා කියන්නෙ ශ්‍රද්ධාව ඇතිවෙනවා කියන්නෙ ඔන්න ඔය දෘෂ්ටිය ශුද්ධ වෙනවා කියන එක.

ඉතින් අපේ අය හිතන් ඉන්නෙ ශ්‍රද්ධාව කියන්නෙ මේ මල් මාලා තිය තිය වැඳ වැඳ යන එකක්, පින්කම් කරන එකක්. පිරිකර ගිහිල්ලා ගොඩගහන එකක්. උදේ ඉඳන් රෑ වෙනකල් දොහොත් මුදුන් තියාගෙන වැඳ වැඳ ඉන්න එකක් කියලානෙ හිතන් ඉන්නෙ. ඒක නෙවෙයි ඇත්තටම නියම ශ්‍රද්ධාව, විශ්වාසය කියන්නෙ. තමන්ගේ ගුරුවරයා කෙරෙහි පූර්ණ විශ්වාසය තියෙන්න ඕනෙ මේක කරන්න පුලුවන් කියලා. මොකද අපි ගුරුවරයා තුළින් තමයි බුදුරජාණන් වහන්සේ දකින්නෙ. අපේ ලොකු ස්වාමීන් වහන්සේ, ලොකු හාමුදුරුවො තුළින් ගුරු හාමුදුරුවො තුළින් තමයි බුදුහාමුදුරුවො දකින්නෙ. ඒක අපිට විශ්වාස නැහැ. ඉතින් ගුරුවරයා ගැන පූර්ණ විශ්වාසය ආවට පස්සෙ ජීවිතය වුනත් දෙන්න පුලුවන්. ඔය අපේ මිනිස්සු භාවනා කරන්න කලින් තුණුරුවන්ටයි, ගුරුවරයන්ටයි ජීවිතය පූජා කරනවා කියලා වාක්‍ය ටිකක් කියනවානෙ. ඔය වාක්‍යයක් කිව්වට ඕක හරියන් නැහැ. ඔය වාක්‍යයකට ඇවිල්ලා තියෙන්නෙ ඔන්න ඔය කාරණය තමයි. දෘෂ්ටිය ශුද්ධ වීම තමයි ඔය වාක්‍යයකට ඇවිල්ලා තියෙන්නෙ.

අපේ මිනිස්සු වාක්‍යයකින් ඔහේ කියෙව්වට ඒකේ අර්ථයක් දන්නෙ නැහැ. ඒක එන්නෙ නැහැ, හැඟීමෙන් එන්නෙ නැහැ. ආයෙ අමුතුවෙන් ඕක කියන්න ඕනෙ නැහැ. මේ ජීවිතේ මේක ඉවර කරන්න පුලුවන් හැඟීම ආවා නම් ආවට පස්සෙ එයාට බුදුරජාණන් වහන්සේ ගැන, ධර්මය ගැන, සංඝරත්නය ගැන ගුරුවරයා ගැන විශ්වාසයක් එනවා, බෙල්ල ඉල්ලුවත් දෙන්න පුලුවන් එතකොට. ආයෙ කිසිම ප්‍රශ්න කිරීමක් නැහැ. ගුරුවරයා ඇහුවොත් බෙල්ල දීපන් මට උඹේ කියලා මේ ආයෙ මොනවත් අහන්නෙ නැහැ, මට නිවන් දකින්න පුලුවන් වෙනවද එතකොට, මම ජීවිතේ දුන්නොත් මට මගඵල ලැබෙනවාද අහන් නෑ ඒවා. එච්චර විශ්වාසයක් ඇදහීමක් එනවා මේකෙදි. ඒ දෘෂ්ඨිය ශුද්ධ වෙන්න ඕනෙ, එහෙම නැත්නම් මේ ජීවිතේ කර බලන්න ඕනෙ කියන මේ හැඟීම නැතිව ඒ දෘෂ්ටිය ශුද්ධ වුනේ නැතිනම් එයාගේ සන්තානය ශුද්ධ වෙන්නෙ නැහැ. පළවෙනි ආනිසංසය එන්නෑ. ඉතින් ඔය විදියට ඔය කාරණා දෙකේ ශුද්ධියක් එන්න ඕන. ඉතින් ඕක එන්නෙ සතිය හරහා විතරයි. ඒ නිසයි බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ ප්‍රඥාවන්තයන්ට තමයි මේ කාරණා ටික සාක්ෂාත් වෙන්නෙ කියලා.

ඉතින් මේ විදියට අපි ගෙවන හැම වර්තමාන මොහොතකම සතිය කියන එක පිහිටුවනවා නම්, සතිමත් බව කියන එක එනවා නම්, සිහිය කියන එක තියෙනවා නම්, අවදිය කියන එක එනවා නම් ඒ සතිමත් චිත්තක්ෂණයේ අපේ සන්තානය ශුද්ධයි. කෙලෙසුන්ගෙන් විනිර්මුක්තයි. අපි කෙලෙස් ගැටවලින් බැඳිලා නැහැ, කෙලෙස් ගැටවලට අහුවෙලා නැහැ. සංසාරෙට කඩුව දීලා නැහැ, නිවනට තමයි අතදීගෙන යන්නෙ. එතකොට තමයි සන්තානය ශුද්ධ වෙන්නෙ. ඒක චිත්තක්ෂණයෙන් චිත්තක්ෂණයට තමයි පටන් ගන්න ඕනෙ. එකපාරට මේ පැය ගණන් මුළු දවසේම සිහියෙන් ඉන්න බැහැ. ගොඩාක් ඔය සිහිය පුරුදු කරන අයට තියෙන ප්‍රශ්නයක් ඒක. එක චිත්ත ක්ෂණයකට

හරි සතිය පිහිටෙව්වා නම් ඒකට සතුටු වෙලා ඊළඟ චිත්තක්ෂණයට අවදිය තියන එක තමයි අපි කරන්න ඕනෙ. එක දිගටම මේක පුහුණුවේ යෙදුනොත්, නිතිපතා පුහුණුවේ යෙදුනොත් සතත අභ්‍යාසයේ යෙදුනොත් අපිට මේ ආනිසංසය පූර්ණ වශයෙන් තියෙනවා කියලා දකින්න පුලුවන්.

අර මම කලින් කිව්වා වගේ මුල් කාර්තුවේ අපිට වෙහෙසක් තියෙනවා. කාලයක් මේක අතනෑර කරහම ඇත්තටම සන්තානය ශුද්ධ වෙනවා කියලා පේන්න ගන්නවා. ඒ කියන්නෙ එන්න එන්න අපේ ආකල්ප වල වෙනසක් දැනෙන්න ගන්නවා. අපේ ආතති අසහන අඩුවෙන්න ගන්නවා. අපි ජීවිතේ දිහා බලපු කෝණය වෙනස් වෙන්න ගන්නවා. දේවල් දිහා කලින් බලපු විදියට නෙවෙයි දැන් බලන්නෙ කියලා තේරෙන්න ගන්නවා. අපි බයෙන් පැනලා දුවපු දුක් දොම්නස් වලට මුහුණ දෙන විදියේ වෙනසක් වෙනවා කියලා දැනෙන්න ගන්නවා. අපි බයේ මුළු ගැන්වුනු රාග, ද්වේෂ, මෝහ කියන කෙලෙස් මනසේ උපන්නහම, හටගත්තහම අපි ඒවා කෙරෙහි දක්වන ප්‍රතිචාර වෙනස් වෙන්න ගන්නවා. කලින් දක්වපු ආකල්ප නෙවෙයි ඒවා කෙරෙහි තියෙන්නෙ කියලා දැනෙන්න ගන්නවා. ඒ කියන්නෙ සන්තානය ශුද්ධයි. ඕකම ඇති ඔය පළවෙනි ආනිසංසයම ඇති නිවන නොලැබුවත් සැනසීමෙන් ජීවත් වෙන්න. ඉතින් මේක තමයි බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ, මං මේ කෙටියෙන් කියන්නෙ, මේ ජීවිතේදීම ඒ තමන්ගේ සන්තානය ශුද්ධ කරගන්න ඕනෙ නම් ශුද්ධියක් ඕනෙ නම් ඒකායන මගයි තියෙන්නෙ, සතිය විතරයි, සතිපට්ඨානය විතරයි. එච්චරයි.

ඉතින් හොඳට බලන්න ඕකෙ ඕනම ධර්ම කාරණයකට ගලපලා බැලුවොත් සතිමත් චිත්තක්ෂණයක අපේ මනස රාග, ද්වේෂ වලින් විනිර්මුක්තයි, ඒ මොහොතේ ශුද්ධියක් තියෙනවා ඒ චිත්තක්ෂණයේ. ඉතින් අපි ඒ නිසා තමයි බිම ඉඳගෙන සතිමත් වෙනකොට හුස්මක් එක්ක යාලුවෙන්න කියන්නෙ. ඇවිදිනකොට යටිපතුලට අවධානය දීලා තමන් ඇවිදින ඉරියව්වත් එක්ක යාලුවෙන්න කියන්නෙ. එදිනෙදා වැඩක් කරනකොට එදිනෙදා වැඩත් එක්ක අවදියෙන් ඉන්න සතිමත්ව ඉන්න එකත් එක්ක යාලුවෙන්න කියන්නෙ. හැඟීමක් ආවේගයක් ආවහම ඒකට පනින්නෙ නැතිව ඒක දිහා අවදි මනසින් නිරීක්ෂණය කරන්න බලන්න කියලා කියන්නෙ ඔන්න ඔය නිසයි. මොකද සතිමත් සෑම චිත්ත ක්ෂණයකම අපේ මනස ශුද්ධයි. සන්තානය ශුද්ධයි. ඉතින් ඕක කාලයක් පුහුණු කරන්න ඕනෙ. පුහුණු කිරීමෙන් තමයි, ඕකට උපමාවක් කියනවා ලොකු ස්වාමීන් වහන්සේ, ගොවිතැන් කරන මිනිස්සු අලුතෙන් උදැල්ලක් කැත්තක් පොරවක් හදාගත්තහම ඒකට ලී මිටක්නෙ අපි ගහන්නෙ. අලුතෙන් මිටක් ගහනවා. ඒක හදපු මුල්ම කාලෙ ඒ මිට ගොරෝසුයි. අලුත්ම ලී මිට ගොරෝසුයි. ඉතින් ඒ මනුස්සයා ඒ උදැල්ලෙන් හරි කැත්තෙන් පොරොවෙන් හරි කාලයක් වැඩ කරනකොට ඕක අතට ගෙවෙනවා. මැදිලා මැදිලා ගෙවෙනවා. ඉතින් කාලයක් ගියාම ඒ මිට ඉතාම සිනිඳුයි, මතුපිට පෘෂ්ටය. ඉතාම සිනිඳු ලීයක් බවට පත්වෙනවා ඒක පේන්නෙ ඒක දැනෙන්නෙ කාලයක් ගියාම. අපි දවස ගානෙ බැලුවොත් මේක සිනිඳු වෙනවද ගෙවෙනවද කියලා පේන් නැහැ, දැනෙන් නැහැ. ඉතින් මුල් කාලෙ හරි අමාරුවෙන් තමයි මේ ගොරෝසු මිට අත් දෙකට වෙහෙසයි. නමුත් ඒක පාවිච්චි කරන්න කරන්න ඩිංග ඩිංග ගෙවෙනවා කාලයක් ගියාම තේරෙනවා, අනේ මේකෙ සෑහෙන ගෙවීමක් වෙලා තියෙනවා. දැන් මේ මිට ඉතාම අතට පහසුයි, ශුද්ධියක් වෙලා තියෙනවා.

ඒ වගේ තමයි මේ සතිය පුරුදු කරන එකෙත්, මුල් කාර්තුවේ වෙහෙසකර බවක් තියෙනවා, නීරස ගතියක් තියෙනවා. මොකද අපේ පුරුදු රටාවෙන්, මනස පවත්වපු පුරුදු රටාවෙන් වෙනස් රටාවකට පුරුදු කරන්න යන්නෙ. ඒක ලේසි නැහැ. මොකද මනස ඡන්දෙ

දෙන්නෙ කෙලෙස් වලට. දැන් අපිමේ හුරු කරන්න හදන්නෙ නිකෙලෙස් පැත්තට ඡන්දෙ දීගන්න. ඒක ලේසි නැහැ. අපිට පුරුදු සංසාරයට ඡන්දෙ දීලා. අපි දැන් ඡන්දෙ දෙන්න හදන්නෙ නිවනට. ඒක ලේසි නැහැ. ඒක මනසට පුරුදු නැහැ. ඒක පොඩ්ඩක් අහුවෙනකල් නීරස ගතියක් තියෙනවා, සත්පුරුෂයෙක් එක්ක මේක පුරුදු කරන්න කියන්නෙ ඒ නිසයි. චිත්තක්ෂණයෙන් චිත්තක්ෂණයට, පියවරෙන් පියවරට හුස්මෙන් හුස්මට, මොහොතින් මොහොතට අපි සතිය ගැලපුවොත් මේ ආනිසංසය අපිට භුක්ති විඳින්න පුලුවන් වෙනවා. ඒකට අමුතු ප්‍රාර්ථනා ඕනෙ නැහැ. මං හිතනවා ඔබට සතිය කියන එක ඉස්සරහින් තියාගෙන වැඩ කරන්න යම්කිසි උනන්දුවක් එන්න ඇති කියලා, මේ කාරණා ටිකෙන්. ඉතින් අපි ඊළඟ වීඩියෝ එකකදි මුණ ගැහෙමු, සතිය පුරුදු කිරීමේ ඊළඟ ආනිසංසත් එක්ක. තෙරුවන් සරණයි!

2) [දුක, ආර්ය සත්‍යයක් වෙන හැටි | සතියේ ආනිසංස | Benefits of mindfulness | @alokaalighttolife]

තෙරුවන් සරණයි! අපි කලින් වීඩියෝ එකක් අරගෙන ආවා සතිය පුරුදු කිරීමේ ආනිසංස මොනවද අපිට ලැබෙන්නෙ කියන එක සම්බන්ධයෙන්. ඉතින් ඒ සම්බන්ධ වෙනම වීඩියෝ කීපයක් අරන් එනවා. ඒකෙ තව එකක් තමයි අපි අද අරන් එන්නෙ. ඉතින් මට හිතුනා මේ එක වීඩියෝ එකකින් එක ආනිසංසයක් ගැන කතා කරනවාට වැඩිය අද වීඩියෝ එකෙන් එක ළඟ ආනිසංස හතරක්, ඒ හතරම එක වගේ - එක වගේ නිසා මං අද වීඩියෝ එකෙන් ඒ ආනිසංස හතරම ගැන කතා කරනවා කියලා හිතුවා. ඉතින් අපි පළවෙනි වීඩියෝ එකෙන් සඳහන් කලේ භාග්‍යවතුන් වහන්සේ සතිපට්ඨාන සූත්‍රය දේශනා කරන්න කලින්ම ආනිසංස හතක් දේශනා කලා. නිවනට මෙහා ආනිසංස හයක් තියෙනවා. ඒ නිවනට මෙහා ලැබෙන ආනිසංස හය අතරේ තියෙන තව හතරක් තමයි අද කතා කරන්නෙ. එක වගේ නිසා මම හිතුවා එක වීඩියෝ එකකින් විස්තර කරන්න.

ඉතින් අපිට ඊළඟට තියෙන්නෙ සෝක පරිද්දවානං සමතික්කමාය දුක්ඛ දෝමනස්සානං අත්තං ගමාය කියන කාරණා හතර. සෝක පරිදෙව - අපිට සතිය පිහිටුවීමෙන් ශෝකයන්ට උත්තර හොයන්න පුලුවන්. ශෝක සමනය කරන්න පුලුවන්. හැඬීම් වැළපීම් පරිදේව කියන්නෙ හැඬීම් වැළපීම්, මේවා සමනය කරන්න පුලුවන්. නැත්නම් සෝක පරිදේව තරණය කරන්න පුලුවන්. සාමාන්‍යයෙන් කියන්නෙ මේ ශෝක පරිදෙව සාගරයක තමයි අපි ජීවත් වෙන්නෙ. ඒක තරණය කරන්න පුලුවන් ඒක හරහා යන්න පුලුවන්, ඒක සමනය කරන්න පුලුවන් සතිය තියෙන කෙනෙකුට. සතිය පුරුදු කරපු කෙනෙකුට. ඒ කියන්නෙ මේ දෙකටම සමාන්තරව තමයි ඊළඟ ආනිසංස දෙකත් යන්නෙ. ඒ තමයි දුක්ඛදෝමනස්සානං අත්තං ගමාය කියන එක. ඒ කියන්නෙ දුක් දොම්නස් අතික්‍රමණය කරන්න පුලුවන්. දුක් කිව්වහම කායික දුක් අපි සඳහන් කරන්නෙ. දුක් දොම්නස් කිව්වහම මානසික දුක්, ඉතින්මේ හතරම දුක කියන ප්‍රධාන මාතෘකාවේ පැතිකඩවල් ටික්ක. ඒ නිසයි හතරම එකට කතා කරන්න හිතුවේ. ඉතින් මම විතරක් නෙවෙයි ඔබත් දන්නවා, සාමාන්‍යයෙන් මේ ලෝකෙ කිසිම මානවයෙක් නැහැ මේ කාරණා හතර අත්නොදැකපු. අපි හිතනවා අපිට ජීවිතයක් ලැබෙනවා නම් මේවා නැති ජීවිතයක් ලැබෙන්න ඕනෙ කියලා. ඉතින් ඒ නිසා තමයි මිනිස්සු ආතති අසහන ගන්නෙ. මේවා නැති ජීවිතයක් හොයන නිසා. නමුත් මේවා ඒකාන්ත සත්‍යය, පරම සත්‍යය ඒක බොරු කරන්න බැහැ කාටවත්. මොකද මම නිතරම සඳහන් කරන දෙයක්, භාග්‍යවතුන් වහන්සේ ට කවදාවත් හිස් වචන කියන්න අවශ්‍යතාවයක් තිබිලා නැහැ. ඒක තමයි බුද්ධ ඥාණයේ ස්වභාවය.

ඉතින් මේ ශෝක පරිදේව දුක් දෝමනස්ස කියන මේවා category කලොත් දුක කියන කාරණයට තමයි අයිතිවෙන්නෙ. ඉතින් මේ සතිය හරහා මේවා අතික්‍රමණය කරන්න පුලුවන්. සමතික්‍රමණය කරන්න පුලුවන්, තරණය කරන්න පුලුවන් කියලා කියන්නෙ වෙන මොකවත් නෙවෙයි, දුක දිහා ආදරෙන් බලන්න කියලා දෙන කතාව තමයි සතිය කියලා කියන්නෙ. අපි මෙතුවක් කල් බැලුවේ දුක දාහි වෛරයෙන්. ඒ නිසයි අපිට වැරදුනේ. හැබැයි භාග්‍යවතුන් වහන්සේගේ ඉගැන්වීම දුක දිහා ආදරයෙන් බලන ක්‍රමය කියා දෙන එක. අවාසනාවට අපේ බෞද්ධයන්ට මේක අහුවෙලා නැහැ. අපේ බෞද්ධයො මැරෙනකලුත් ඒගොල්ලො හිතන් ඉන්නෙ නිවන කියන එකත් දුකට වෛර කිරීමෙන් ලැබෙන දෙයක් කියලා. ඒ නිසා අපේ බෞද්ධයො අපේ මිනිස්සු දුකට පුදුම තරම් භයයි. දුකට පුදුම තරම් වෛර කරනවා, අකැමැතියි. දුකෙන් පලායන්න තමයි උත්සාහ කරන්නෙ. දුකෙන් සැඟවෙන්න තමයි හොයන්නෙ. දුකට එන්න බැරි ආරක්ෂක වැටකඩොලු දාගන්න තමයි හැම වෙලේම බලන්න. කවමදාවත් ඔබ හොයන සැනසීම ඕකෙන් ලැබෙන් නැහැ. ඔය හොයන නිවනවත් ලැබෙන්නෙ නැහැ.

ඉතින් ඔය කියන ක්‍රමයට අපි දුක දිහා බැලුවෙ සතුරෙක් විදියට. දැන් බලන්නෙ සතුරු මානසිකත්වයෙන් නෙවෙයි. දුකම අපි සතුට ඇති කරගැනීමේ මූලද්‍රව්‍ය බවට පත්කරගන්නවා. දුක උත්පාදනය කරගැනීමේ මූලද්‍රව්‍යය බවට අපි දුක පත් කරගනන්නවා. සතුට, සන්තෝෂය, සැනසීම උත්පාදනය කරගැනීමේ මූලද්‍රව්‍යය වෙන්නෙ දුකම තමයි. එහෙනම් කොහොමද අපි මේක තල්ලු කරලා මේකට පයින් ගහලා මේක එපා කියලා සතුටක් හොයන්නෙ. සන්තෝෂයක් හොයන්නෙ. එහෙම බැහැ. ඉතින් මේක දිහා මේක මේ ක්‍රමයට හරවගන්න දුක දිහා නිර්භීත මනසකින්, සාදර මනසකින්, එක එල්ලේ ඇහැට ඇහැ තියලා බලන්න පුලුවන් පෞරුෂයක් හැදෙන්න ඕනෙ. දුක දිහා. ඒක එන්නෙ සතිමත් මනසකින් විතරයි. මොකද සතිය කියන්නෙ හුදු නිරීක්ෂණය. අවධානය. කිසිම විනිශ්චයක් ගන්නෙ නැතිව, තීන්දු තීරණ ගන්නෙ නැතිව පූර්ණ අවධානයකින් බලන් ඉන්නවා කියන එක. ඉතින් දුක දිහා එහෙම බලන් ඉන්න කොයිතරම් පෞරුෂයක් තියෙන්න ඕනෙද. ඔන්න ඔය ක්‍රමයට තමයි දුක ආර්ය සත්‍යයක් බවට පත්වෙන්නෙ.

අපි මෙතුවක් කල් දුක සතුරෙක් විදියට හිතලා දුක නැති කරන්න, විනාශ කරන්න නැතිභංගස්තාන කරන්නයි අපි ඉගෙන ගත්තෙ සහ අපිට උගැන්නුවෙත් එහෙමයි. අපි හිතන්නෙත් එහෙමයි. හැබැයි අපි නිතරම ප්‍රාර්ථනා කරන්නෙ චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න ඕනෙ කියලා. ඉතින් චතුරාර්ය සත්‍යයේ පළමු සත්‍යය තමයි දුක්ඛ ආර්ය සත්‍යය. දුක්ඛ ආර්ය සත්‍යය අවබෝධ කරන්න ඕනෙ. ඉතින් දුක්ඛ ආර්ය සත්‍යය අවබෝධ කරන්න නම් දුක එන්න ඕනෙ අපිට. ඒක එනකොට කියනවා නෑ එපා. කොහෙද බලන්නකො අපි යන්නෙ. පරස්පර විරෝධී වැඩ දෙකක්නෙ කරන්නෙ. එකම දුක තමයි, අපි ඒ දිහා බලන බැල්ම වෙනස් වෙච්චි ගමන් එකම දුක ආර්ය සත්‍යයක් බවට පත්වෙනවා. ඒ බැලීමේ කලාව, ඒ බැල්මේ කලාව තමයි සතිය කියලා කියන්නෙ. සතිමත්බව කියලා කියන්නෙ. සතිපට්ඨාන භාවනා ක්‍රමය කියලා කියන්නෙ. ඉතින් මේක පුරුදු වුනහම, මේ වර්තමානයට අවදි වෙන්න පුරුදු වුනහම සතිපට්ඨානය කියන එක පුරුදු වුනාම එන එන දුක සතියට යොමු කරන්න අපිට පුලුවන් වෙනවා. ඉතින් ඒක එක්කො කායානුපස්සනාව හරහා සතියට යොමු කරන්න පුලුවන්. එක්කො වේදනානුපස්සනාව හරහා සතියට යොමු කරන්න පුලුවන්. එක්කො චිත්තානුපස්සනාව හරහා, එක්කො ධම්මානුපස්සනාව හරහා අපිට සතියට යට කරගන්න පුලුවන්. ඔය නිසා තමයි මේ සතර සතිපට්ඨානයක් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ.

එක එක චරිත අනුව, එකිනෙකාගේ ප්‍රඥාව ආදී ඉන්ද්‍රිය ධර්මයන්ගේ වෙනස් බව අනුව. අපි මේ අපේ මේ ඉදිරියට එන දුකට සතිමත්ව මුහුණ දෙන ආකාර වෙනස් වෙන්න පුලුවන්. සමහර වෙලාවට එකම චරිතය විවිධාකාරයෙන් එක වෙලාවකට කායානුපස්සනාවට අදාළව මුහුණ දෙනවා. එක වෙලාවකට වේදනානුපස්සනාවට අදාළව මුහුණ දෙනවා. එහෙම වෙනස් වෙන්න පුලුවන්. ඒ නිසයි අපිට මේ සතිය කියන එක මෙච්චරටම වැදගත් වෙන්නෙ. මේක පුහුණු කිරීමේ අවශ්‍යතාවය තියෙන්නෙ. මොකද මේක මම නිතරම කියන දෙයක්, දුකට පෙම් කිරීමේ කලාව මේ. එතකොට තමයි දුක ආර්ය සත්‍යයක් බවට පත්වෙන්නෙ. ඕක තමයි දුක්ඛ ආර්ය සත්‍යය අවබෝධ කරනවා කියන්නෙ. ඉතින් මේක මේ විදියට සතිය පුරුදු කරන්න පටන් ගත්තහම වර්තමානයට අවදි වෙන්න පටන් ගත්තහම ඇත්තටම යෝගාවචරයාට දුක නිකන් වැඩිවුනා වගේ දැනෙන්න ගන්නවා. මොකද මං නිතරම කියන දෙයක් අපි මේ මගට බැස්සහම වැඩියෙන් දැනෙනවා වැඩියි. සමහරවිට කරදර දුක් වේදනා වැඩියෙන් එනවත් එක්ක.

ඊට අමතරව අපි වෙනදා මතුපිටින් ඔහේ හිත විසුරුවාගෙන කලබල මනසින් කිසිම ඒකාග්‍ර බවක් නැතිව අපි ජීවත් වෙනකොට හරියටම දුක දුකක් විදියට දැනෙන්නෙ නැහැ. Feel වෙන්නෙ නැහැ. හැබැයි සතිමත් කෙනාට හැම චිත්ත ක්ෂණයකම හැම පියවරකම තියෙන දුක දැනෙන්න ගන්නවා. එතකොට එයාට හිතෙන්න පුලුවන් අනේ මේ භාවනාව කියලා එකක් කරන්න පටන් ගත්තට පස්සෙ නැති කරදරත් එන්න ගත්තා. දුක එන්න එන්න වැඩිවුනා කියලා ගොඩක් අය මේක අතාරිනවා. මිනිස්සු දන්නෙ නැහැ එතන මොකක්ද වෙලා තියෙන්නෙ කියලා. ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ එතකොට කියන ලස්සන උපමාවක් කියනවා, ඒ තමයි ඔය යන්තර මන්තර ගුරුකම් කරනකොට ඔය අමනුෂ්‍යයො එහෙම එළවන්න කට්ටඩියෙක් ඇවිල්ලා මන්තරයක් ජප කරනකොට මන්තරය හරි නම් මන්තරය හරියටම ජප වුනා නම් අර ආවේශ වෙලා ඉන්න මනුස්සයෙක්ගේ ඇඟට ආවේශ වෙලා ඉන්න අමනුස්සයා මායම් වෙන්න පටන් ගන්නවා. පරල වෙන්න පටන් ගන්නවා. එයා දඟලන්න පටන් ගන්නවා. ඉතින් ඒ අමනුස්සයා දඟලන්න පටන් ගන්නෙ, මායම් වෙන්න පටන් ගන්නෙ මන්තරය හරි නම් තමයි, ඒ කියන්නෙ කලබලය වැඩිවෙනවා. ඇවිස්සිල්ල වැඩිවෙනවා. එතකල් එයා මතුරන මන්තරය හරි නැත්නම් ඒ අමනුස්සයා දඟලන් නෑ, අන්න ඒ වගේ දෙයක්. අපි මේ සතිය කියන එක හරියටම පුහුණුව හරියටම එන්න පටන් ගත්තොත් නිකම් දුක වැඩිවුනා වගේ එකක් දැනෙන්න ගන්නවා. මේක ඇවිස්සෙන්න ගන්නවා, පටන් ගත්තු ගමන්.

ඉතින් මේක දන්නෙ නෑ ගොඩක් අය. ඒ නිසා තමයි ගොඩාක් යෝගාවචර භූමියට එන ගිහි පැවිදි හැමෝම බලාපොරොත්තු සුන් මානසිකත්වයක් ඇතිකරගන්නවා මේකට අඩිය තියපු ගමන්. මොකද ඒගොල්ලො හිතන් එන්නෙ මේකට අඩිය තියපු ගමන් සුරංගනා ලෝකයක්, සුරපුරයක් මැවෙයි කියලා. වෙන්නෙ හාත්පසින් වෙනස්වුනු අපායක් වගේ දෙයක් නිර්මාණය වෙනවා. ඉතින් ඒ හරිගිහිල්ලා තියෙන්නෙ. ඒත් අපි ඉන්නෙ වැරදි දෘෂ්ටියක නිසා අපි ගන්නෙ වැරදි විදියට. අපි හිතනවා මට වැරදුනා කියලා. ඉතින් ඒ දුක දිහා වෙන ඇහැකින් බලන කලාව තමයි බුදුරජාණන් වහන්සේ මේ දේශනා කරලා තියෙන්නෙ. ඉතින් ඔය බටහිර ලෝකෙ අය ඕකට කියන්නෙ positive thinking, ධනාත්මක චින්තනය කියලා කියන්නෙ ඔන්න ඕක. ඉතින් අපේ මිනිස්සුන්ට බුදුරජාණන් වහන්සේ කිව්වට වැඩක් නැනෙ, සුද්දෙක් කියෙන්නෙපෑ. එතකොට තමයි ඉස්මුදුනෙ තියාගෙන පිළිගන්නෙ. මේක තමයි ධනාත්මක චින්තනය කියන්නෙ.

හැබැයි මම නැවතත් කියනවා ඔය බටහිර සුද්දා ගියපු ධනාත්මක චින්තනයේ පොඩි හුරස් පරස් තියෙනවා. ඒ ලණු කාපු මිනිස්සු අන්තිමට ආතති අසහන වලටමයි එන්නෙ.

හේතුව හරියටම ඒගොල්ලො ඒක අල්ලගෙන නැහැ. භාග්‍යවතුන් වහන්සේ හරියට මේක අල්ලගත්තා. ඒ නිසා මතක තියාගන්න මේ ධනාත්මක චින්තනය හරි positive thinking හරි දුක පැණි රහ කරගන්න කලාව හරි හරියටම දන්නෙ භාග්‍යවතුන් වහන්සේ. ඉතින් ඔය සෝක පරිදෙව කියන දෙකට සතියෙන් උත්තර හොයාගන්න පුලුවන් වුනු කෙනෙකුට දුක්ඛ දෝමනස්ස දෙකට උත්තර හොයාගන්න පුලුවන්කම ලැබෙනවා. ඒ දෙක අතික්‍රමණය කරන්න ලොකු පෞරුෂයක් එනවා එතකොට. ඇයි දැන් මේ දුකේ පැතිකඩවල් දෙක්ක එක්ක එයා ගණුදෙනු කරන්න එයා දැන් දන්නවා. ඒකට මුහුණ දෙන ක්‍රමය දන්නවා. එතකොට මේ කායික දුක් සහ මානසික දුක් එක්ක කොහොමද ගණුදෙනු කරන්නෙ කියලා එයාට තේරෙනවා. එයා නිකං සුදුසුකම් ලබනවා වගේ එකක් වෙන්නෙ එතනදි. ඉතින් මතක තියාගන්න අපි කොච්චර මේකට බයේ පැනලා යන්න හැදුවත්, සාමාන්‍යයෙන් අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ සක්මන පර්යංක වශයෙන් භාවනා කරන යෝගාවචරයාට වුනත් පර්යංකයේදී අධික වේදනා දැනෙනවා. ඉතින් ඒවා පවා සංසාරගත හේතුවකින් කර්මයකින් සැකසෙන්නෙ කියලා අපේ ගුරුවරු කියලා තියෙනවා. ඒක එහෙමමයි.

ඉතින් ශෝකයක් පරිදේවයක්, දුකක් දොම්නසකට සංසාරගත හේතුවකුත් යටින් සැඟවිලා තියෙනවා. ඉතින් ඒ හේතුවක් සහිතව තමයි දුක අපේ ඉස්සරහට එන්නෙ, වෙන මොකකටවත් නෙවෙයි, අපිට යම්කිසි දෙයක් කියලා දෙන්න. අපිට හැම දුකක්ම එන්නෙ අපේ ඉස්සරහට. ඕනම සිත් තැවුලක් ශෝකයක් හැඬීමක් වැළපීමක් කායික දුකක් මානසික දුකක් එන්නෙ අපිට යම්කිසි දෙයක් කියලා දෙන්න. ඒ පැමිණි දුක දිහා සාදර හිතින් බැලුවොත් තමයි ඒ ගැඹුරු රහස අපිට කියලා දීලා යන්නෙ එයා. ඒ දුක අපිට ඒ ගැඹුරු රහස කියලා දෙන්නෙ අපි ඒක දිහා සාදර සිතින් බැලුවොත් විතරයි. ඒ කියන්නෙ දුකට පෙම් කරන්න දන්නවා නම්, දුක දිහා ආදරෙන් බලන්න දන්නවා නම් ඒ දුක ආපු රහස අපිට කියලා තමයි යන්නෙ. ඔන්න ඔය නිසා විපස්සනා ආචාර්‍යයින් වහන්සේලා සාමාන්‍යයෙන් සඳහන් කරන දෙයක් තමයි සෑම විපස්සනා ඥාණයක්ම පහළ වෙන්නෙ බරපතල දුකකට පස්සෙ කියන එක. ඒ කියන්නෙ දුකකට පස්සෙ එනවා කියන්නෙ තවටිකක් සියුම් කරලා කිව්වොත්, ද්වේෂයකට පස්සෙ තමයි විපස්සනා ඥාණයක් පහළ වෙන්නෙ. ඉතින් අපි ද්වේෂයට කොච්චර වෛර කරනවද. මේක තේරුම් ගන්න හරි අමාරු ගැඹුරු තැනක්. මොකද දුක අස්සෙ තියෙන අනුසය ක්ලේශය තමයි ද්වේෂය. ඒ නිසයි එහෙම කියන්නෙ. දුකක් ආවට පස්සෙ තමයි විපස්සනා ඥාණයක් පහළ වෙන්නෙ.

ඕකට උපමාවක් කියනවා, පල්ලමක් කියන එකක් නිර්මාණය වෙන්නෙ කන්දක් තිබ්බොත් විතරයි. ඉතින් ඒ පල්ලමට වැටෙන්න අපිට, පල්ලම කියන්නෙ සජීප දෙයක්. පහසු දෙයක්, සැහැල්ලු දෙයක්, ජොලියක් තියෙන දෙයක්. ඉතින් ඒ පල්ලමට බහින්න නම් කන්දෙ මුදුනටම යන්න ඕනෙ. කන්ද නගිනවා කියන එක ලේසි දෙයක් නෙවෙයි, දුකක්. ඒ දුක කියන එකේ මුදුනටම ගියාම තමයි සැපය ආරම්භ වෙන්නෙ. ඒක තමයි මේ කියන්නෙ. සෑම දුකක්ම ආවට පස්සෙ ඒ දුක උපරිමය දක්වා ගිය තැන තමයි විපස්සනා ඥාණය පහළ වෙන්නෙ. ඒ කියන්නෙ ද්වේෂයක් ළඟ තමයි ප්‍රඥාව පහළ වෙන්නෙ. ද්වේෂයක් ළඟ තමයි විපස්සනා ඥාණයක් පහල වෙන්නෙ. ඉතින් මේක කියලා දෙන්න හරි අමාරුයි අපේ සම්ප්‍රදායානුකූල බෞද්ධයන්ට. ඒගොල්ලන්ට මේක නිකං ත්‍රිපිටකයට ගැහුවා වගේ, බුදුරජාණන් වහන්සේට විරුද්ධ වුනා වගේ හැඟීමක් තියෙන්නෙ. ඇයි, අර පොතේ දැනුම කරපින්නං ඉන්න මිනිස්සුන්ට මේක තේරෙන්නෙ නැහැ. ප්‍රායෝගික පුහුණුව අවශ්‍යයි මේකට. ඉතින් ඔය මෙන්න මේ technique එක අහුවුනාට පස්සෙ දුක සාපයක් විදියට දැකපු දැක්ම දුක ආර්ය සත්‍යයක් බවට පත්වෙන්න පටන් ගන්නවා.

ඔය නිසා තමයි භාග්‍යවතුන් වහන්සේ සතිපට්ඨාන සූත්‍රය දේශනා කරන්න කලින් ආනිසංස විදියට කිව්වෙ මේ සතිය කියන එක පුරුදු කලොත්, ඇල්ලුවොත් මේ කියන දුකේ පැතිකඩවල් හතර, සෝක පරිදේව දුක්ඛ දොම්නස් කියන මේ හතරටම උත්තර එනවා. එහෙනම් අපි මොකටද දුක් වලට බය වෙන්නෙ. ඇයි අපි භය විය යුත්තේ. හඬන්න වැළපෙන්නයි අපි බය වෙන්න ඕනෙ. සිත් තැවුල් එනවාට ඇයි අපි බයවෙන්න ඕනෙ. කායික දුක් ලෙඩරෝග හැදෙනවාට ඇයි අපි බයවෙන්න ඕනෙ. මානසික දුක් එනවාට ඇයි අපි භය වෙන්න ඕනෙ. ආයුධය අපි ළඟ තියෙනවා නම්. මෙච්චර සුන්දර ක්‍රමයක් මෙච්චර පෞරුෂයකින් මුහුණ දෙන්න පුලුවනු ක්‍රමයක් තියාගෙන අපේ මිනිස්සු කොහෙද දුවන්නෙ. ඒ නිසා මතක තියාගන්න මේ සතිය කියන එක පුරුදු කරන එක ඔබ හිතනවාට වැඩිය සෑහෙන බලවත් ආයුධයක්. ඔය නිවනට මෙහා ලැබෙන ආනිසංස.

ඉතින් ඕවට උදාහරණ කතන්දර ඕන තරම් ත්‍රිපිටකයේ අටුවා ටීකා පරිශීලනය කලොත් හොයන්න පුලුවන්. ඉතින් අපි දන්න ප්‍රසිද්ධම කතාව තමයි පටාචාරාවන්ගේ කතාව, කිසාගෝතමියගේ කතාව. ඉතින් පටාචාරාවගේ කතාව අහපුවාම අපේ බෞද්ධයො කියන්නෙ අනේ මේ ලෝකෙ කිසිම කාන්තාවකට නම් එහෙම වෙන්න එපා කියලා. මම නම් කියන්නෙ මුළු මහත් කාන්තා සංහතියටම ඕක වෙන්න ඕනෙ. එතකොට තමයි නිවන් දකින්නෙ. නැත්නම් හරියන් නැහැ. අපේ මිනිස්සුන්ට මතක නැහැ පටාචාරාවට ඒ සා විශාල දුකක් ආපු නිසා තමයි නිවනට දොර ඇරුනේ කියන එක මතක නැහැ. ඒකයි කියන්නෙ දුකක් ආවට පස්සෙ තමයි නිවනට මග ඇරෙන්නෙ, දොර ඇරෙන්නෙ. විපස්සනා ඥාණ පහළවෙන්නෙ. ඉතින් අපේ අය ඒක දන්නෙ නැහැ.

එක රහතන් වහන්සේ කෙනෙක් හිටියා, බුදුරජාණන් වහන්සේ ජීවමාන කාලෙ. හොරු පිරිසක් වට කරලා උන්වහන්සේ මරන්න හදනවා, මං මේ බොහොම කෙටියෙන් අදාළ කොටස විතරයි කියන්නෙ. උන්වහන්සේ කියනවා මාව මරන්න එපා හෙට උදේ වෙනකල් ඉඩදෙන්න කියලා. ඉතින් හොරු කියනවා, ඔබ වහන්සේට හෙට උදේ වෙනකල් ඉන්න ඉඩ දුන්නොත් පැනලා යන එකක් නෑ කියලා කවුද ඇප වෙන්නෙ කියලා. ඉතින් උන්වහන්සේ කරන්නෙ ළඟ තිබුනු ලොකු ගලක් අරගෙන කලවා ඇට දෙකට ගහලා, කලවා ඇට දෙක බිඳගන්නවා. එතකොට ඇවිදින්න බැහැනෙ. ඊටපස්සෙ අහනවා ඇතිද මේ ඇපය කියලා. ඊටපස්සෙ හොරු දන්නවා ඉතින් ආයෙ බයවෙන්න දෙයක් නෑනෙ ඇවිදින්න බෑනෙ. එතකොට ඔබ චුට්ටක් imagine කරලා බලන්න මේ වෙන කෙනෙක් අපිට තුවාලයක් කරන එක ප්‍රශ්නයක් නෑ, මොකද අපි අපේ කයට කොච්චර බැඳිලා තියෙනවාද කියනවා නම් අපිටම පුලුවන්ද අපේ කයට ඩැමේජ් එකක් කරගන්න. මේ ගලකින් ගහලා උඩින් තියෙන මේ මස් ටික ඉරාගෙන තලාගෙන පොඩි කරගෙන ඇටකටුව කැඩෙන තරමට පහරක් ගහගන්න.

එතකොට හිතන්නකො කොහොම පෞරුෂයක් අපේ බෞද්ධ ශ්‍රාවකයන්ට තිබ්බෙද කියලා. ඊටපස්සෙ අපේ අය කියයි ගොන් කතාවක්, ඕක ඉතින් අපි විහින් දුක් විඳගන්න ඕනද නිවන් දකින්න කියලා. ඉතින් ඒ මේ කතාවේ ගැඹුර දන්නෙ නැති නිසා. මොකද උන්වහන්සේ දන්නවා අනිවාර්යයෙන් මේ මිනිස්සු මාව මරනවා. ඊට වැඩිය හොඳයි, ඊට කලින් මගේ වැඩේ ඉවර කරගන්න එක. මොකද උන්වහන්සේට පුදුම විශ්වාසයක් තිබුනා උන්වහන්සේගේ පුහුණුව ගැන. උන්වහන්සේ සතිපට්ඨාන භාවනා ක්‍රමය පුහුණු කරමින් හිටියේ. පුදුම විශ්වාසයක් තිබුනා. ඉතින් පොතේ සඳහන් වෙන්නෙ උන්වහන්සේ එළිවෙනකොට රහත් වුනා. කොහොමද රහත් වෙන්න ඇත්තෙ, වේදනානුපස්සනාවෙන්. සතිය හරහා, අපේ මිනිස්සුන්ට මේවා මැජික්. මේ අපේ අය හිතන් ඉන්නෙ මේ කැක්කුමක් චුට්ටක් එන්න බැහැ, කකුල් නමන් ඉන්නකොට පොඩි

කැක්කුමක් එන්න බැහැ, ලෙඩක් දුකක් හැදෙන්න බැහැ නිවන් දකින්න නම්, බලන්නකො මේ උණු ලේ මේ රත්වෙච්චි ලේ ගලද්දි, එවෙලෙම ඇතිවුනු තුවාලයක් තියෙද්දි ඒ වේදනාව කොහොම තියෙන්න ඇත්ද එළවෙනකොට. ඒ වේදනාව එක්ක උන්වහන්සේ රහත් වුනා.

කොහොමද අර වේදනාව කායික දුකත් එක්ක ගණුදෙනු කරන්න සතිය හරහා උන්වහන්සේ කාලයක් තිස්සෙ ඒකට මනස පුහුණු කරලා තිබුනා. බයවෙන්න දෙයක් නෑනෙ. උන්වහන්සේට කිසිම චකිතයක ආවෙ නැහැ හොරු තමන් මරන්න ඇවිල්ලා ඉන්නවා කියලා කිව්වට. ඇයි උන්වහන්සේට විශ්වාසයි, මුහුණ දෙන්න පුලුවන් කිලා. කඅපි එහෙමවුනොත් ඔහොම දෙයක් කරයිද, අල්ලස් දීලා පැනලා යන්න හදයිද, ජීවිත ආසාවට. උන්වහන්සේ දන්නවා කොහොමත් මැරෙන එක, මගේ වැඩේ කරගන්න එක ඊට වඩා හොඳයි කියලා. ඒ වගේ ඕන තරම් සිද්ධි තියෙනවා, කුමක් නිසා ද මේ සතිය පුරුදු කිරීමේ බල මහිමය. ඒ නිසා ඔබ දන්නවා වර්තමාන ලෝකෙයේ අසීමිත දුක් දොම්නස් වැඩියි. වැඩිවෙනවා මිසක අඩු නැහැ. ඔබට ගැලවීමට අවශ්‍යයි නම් ගැලවීමට තියෙන එකම එක ක්‍රමයයි, ඔබේ හිත හදන්න ඕනෙ. හිත හදන්න මේ ලෝකෙ තියෙන ඒකායන එකම ක්‍රමයයි. සතිය පුරුදු කිරීම. සතිපට්ඨාන භාවනා ක්‍රමය. මොකද බුදුරජාණන් වහන්සේම මේ සූත්‍රයේ දේශනා කලා ඒකායන මාර්ගය. සෝක පරිදේව දුක් දොම්නස් වලට එකම මාර්ගය සතිය පුරුදු කරන එක. ඉතින් ඔබට වෙන පිළියමක් ඇත්තේ නැහැ. ඒ නිසා සතිය පුරුදු කරන්න හැම මොහොතකම උත්සාහ කරන්න. තෙරුවන් සරණයි!

3) Benefits of mindfulness practice | ඤායස්ස අධිගමාය, නිබ්බාණස්ස සච්ඡිකිරියාය | @alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අද මේ වීඩියෝ එක අරගෙන එන්නෙ සතියේ ආනිසංස පෙළගැස්මේ ඊළඟ වීඩියෝ එක විදියට. අපි මීට කලින් වීඩියෝ දෙකක් කරගෙන ඇවිල්ලා තියෙනවා. ඒකෙ මට මතක විදියට ඔය දෙකටම ආනිසංස පහක් ගොනු කරලා තියෙනවා. මගේ මතකේ හැටියට. අපිට තියෙන්නෙ ආනිසංස හතක්නෙ. භාග්‍යවතුන් වහන්සේ සතිපට්ඨාන සූත්‍රය දේශනා කරන්න කලින් සතිය කියන එක පුරුදුකිරීමේ, සතිපට්ඨාන භාවනාව පුරුදු කිරීමේ ආනිසංස හතක් පෙන්නලා දෙනවා, මෙන්න මේ දේවල් ඔබට මේ ජීවිතයේදීම සාක්ෂාත් කරන්න පුලුවන් සතිය කියන එක ඔබේ ජීවිතයට එකතු කරගත්තොත් කියන එකට. උන්වහන්සේ දේශනා කරන්නෙ මේ ආනිසංස. එතකොට වෙනම අතිරේක උනන්දුවක් වීර්යයක් රහක් ඇතිවෙනවා මේක කරලා බලන්න හිතෙනවා. ශ්‍රවණයෙන් එන ශ්‍රද්ධාව කුසල ඡන්දයක් දක්වා වැඩෙනවා මේ තත්වයේදි. ඉතින් අපිට දැන් තියෙන්නෙ අද කතා කරන්න තියෙන්නෙ ඤායස්ස අධිගමාය නිබ්බාණස්ස සච්ඡිකිරියාය දෙකම. මේ වෙලාවේ දෙකම එකට කතා කරනවා.

ඉතින් මෙතනදි ඤායස්ස අධිගමාය කියන එක සරල අර්ථයෙන් අපි දන්නෙ නුවණ වැඩෙනවා කියන එකක්. ඉතින් ඇත්තටම මේක එන්නෙ අර ඉහළින් තියෙන උඩින් තියෙන ආනිසංස පහට ඒ ආනිසංස පහ ලැබෙන්නෙ සතිය ප්‍රායෝගිකව පුහුණු කරපු කෙනෙකුට තමයි මේ ඤායස්ස අධිගමාය කියන එකට අඩිය තියන්න පුලුවන් වෙන්නෙ. ඒ කියන්නෙ සත්තානං විශුද්ධියා - තමන්ගේ සන්තානය ශුද්ධ කරගන්න. සෝක පරිදේව දුක් දොම්නස් අතික්‍රමණය කරන්න ඒවා ඉක්මවා යන්න, ඒවා සමනය කරන්න සතියෙන් වැඩ ගන්න දන්න කෙනෙකුට සතිය ඒ තැන්වලට පාවිච්චි කරන්න දැනටමත් ප්‍රායෝගික හැකියාවක් පුහුණුවක් තියෙන කෙනෙකුට තමයි ඤායස්ස අධිගමාය කියන එක සාක්ෂාත් වෙන්නෙ. නුවණ කියන එක එන්නෙ. ඒ කියන්නෙ මේ යථාර්තය දකිනවා කියන

එක. ඉතින් ඕකට හරි ලස්සන උපමාවක් කියනවා මේ අපේ ලොකු ස්වාමීන් වහන්සේ, දැන් අපිට වර්තමාන ලෝකයේ තාක්ෂණය දියුණුයිනෙ. එතකොට තාක්ෂණික උපකරණ තියෙනවා අපිට පාවිච්චි කරන්. ඒ හැම උපකරණයක්ම පාවිච්චි කරන්න අත්පොතක් දීලා තියෙනවා. මොකද අපිට මැෂින් එක හම්බුනාට අත්පොත නැත්නම් හිතුමනාපෙට තමයි දැන් මැෂින් එක පාවිච්චි කරන්නෙ. ඊටපස්සෙ damages වැඩියි. ඒ නිසා සෑම උපකරණයකටම අපිට අත්පොතක් එනවා කොහොමද මේ මැෂින් එක පාවිච්චි කරන්නෙ කියලා guidelines ටිකක් එක්ක.

අන්න ඒ වගේ අපිටත් මැෂින් එකක් ලැබිලා තියෙනවා මේ මානව ශරීරය කියන එක විශ්ව ධාතුවේ තියෙන විශ්වයේ නිර්මාණය වෙන, විශ්වයේ ස්වභාවිකව නිර්මාණය වෙන ශ්‍රේෂ්ටතම මැෂින් එක. ආයෙ මේකට ගහන්න පුලුවන් මැෂින් එක කිසිම විද්‍යාඥයෙකුට විද්‍යාවට මේක හදන්න බැහැ. ඉතින් මේකෙන් දැන් අපි හිතනවා එහෙම කොහොමද කියන්නෙ විද්‍යාවෙන් කොච්චර දේවල් හයොගෙන තියෙනවාද කියලා. වෙන්න පුලුවන්. විද්‍යාව materially, භෞතික පැත්තෙන් සෑහෙන දේවල් ඉස්සරහට ගිහිල්ලා තියෙනවා. ඒගොල්ලො immaterial පැත්ත මනස සම්බන්ධව ඒගොල්ලො තාම හෝඩියටවත් අඩිය තියලා නැහැ. හැබැයි භාග්‍යවතුන් වහන්සේ මේ අංශ දෙකම ගැන මේ ලෝකෙට පහළ වෙන ශ්‍රේෂ්ටතම පුරුෂයා තමයි මේ අංශ දෙකම ගැන ප්‍රවීණත්වයක් තියෙන. උන්වහන්සේ මේ අංශ දෙකම දැනගෙන කතා කලේ. ඉතින් අපේ අය මේ භෞතිකත්වය විතරක් ඔළුවේ තියන් ඉන්නෙ, විද්‍යාව ඔලුවේ තියාගෙන භාග්‍යවතුන් වහන්සේට පයින් ගහනවා, ඒක තමයි අපේ බෞද්ධයන්ට වැරදුනේ.

ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ මානව ශරීරය තමයි ලෝකෙ තියෙන ශ්‍රේෂ්ටතම machine එක, උපකරණය ස්වභාවිකව නිර්මාණය වුනු. අපිට ඉතින් ස්වභාවිකව මේක දැන් ලැබිලා තියෙනවා. හේතුවක් සහිතව. හැබැයි අත්පොත නැහැ කොහොමද මේක use කරන්නෙ, මේකෙන් වැඩ ගන්නෙ, මේකෙන් වැඩ කරන්නෙ මොන විදියටද, මේ machine එක run කරන්නෙ ක්‍රියාකාරී වෙන්නෙ මොන විදියටද කියන එක අපි හරියටම දන්නෙ නැහැ. ඉතින් ඒ නිසා කියන්නෙ machine එක අපිට ලැබිලා තියෙනවා අත්පොත නැහැ. අත්පොත කියන එක ලැබෙන්නෙ කොහොමද අර ඉහළින් කියපු ආනිසංස පහ ලැබෙන විදියට සතිය ප්‍රායෝගිකව පුහුණු කරපු කෙනෙකුට අත්පොත ලැබෙනවා. අත්පොත ලැබෙනවා කියන්නෙ සන්තානය ශුද්ධ කරන ක්‍රමය තේරෙන කෙනෙකුට සෝක පරිදේව ඒ කියන්නෙ සිත් තැවුල් හැඬීම් වැළපීම් කායික දුක් මානසික දුක්, මෙන්න මේවත් එක්ක, ජීවිතේ අනිවාර්යයෙන්ම හැම කෙනෙකුටම මුහුණ දෙන්න සිද්ධ වෙන දේවල්.

මේ දේවල් එක්ක සතිය හරහා ගණුදෙනු කරන්න දැනගන්න කෙනෙකුට දන්න කෙනෙකුට ප්‍රායෝගිකව ඒකට face කරන්න, මුහුණ දෙන්න දන්න කෙනෙකුට අත්පොත ලැබෙනවා. එයාට තේරෙනවා ඊටපස්සෙ මේ මානව ශරීරය කියන එක මානව ජීවය කියන එක කොහොමද maintain කරන්නෙ, කොහොමද මේකත් එක්ක ඉස්සරහට යන්නෙ, කොහොමද මේ machine එක ක්‍රියාකාරී වෙන්නෙ කියන එක එයාට තේරෙනවා. ඒ machine එක කියන්නෙ හුදු කය විතරක් නෙවෙයි. මනසත් සහිත, සිතත් සහිත කය. මේ මානව ජීවය කියන එක, මේ machine එක කොහොමද maintain කරන්නේ, කොහොමද මේකට මුහුණ දෙන්නෙ, කොහොමද මේක වැඩ කරන්නෙ කියන අත්පොත එයාට ලැබෙනවා. අන්න එතකොට තමයි මේ ඤායස්ස අධිගමාය නුවණ කියන එක අපිට එන්නෙ. ඉතින් මේ සතිය හරහා තමයි සතිපට්ඨාන භාවනා ක්‍රමය හරහා තමයි අපිට මේ අත්පොත ලැබෙන්නෙ. ඒකයි භාග්‍යවතුන් වහන්සේ කියන මේ ඒකායන මාර්ගය කියලා

කියලා තියෙන්නෙ. මෙච්චර පැහැදිලිව කියලා තියෙද්දිත් අපේ රටේ අමන පිරිසක් ඉන්නවා මේක තේරෙන් නැති. මේක තේරෙන්නැති පිස්සු නටන පිරිසක් ඉන්නවා මේ බුදුරජාණන් වහන්සේගේ පිරිසිදු බුද්ධ වචනය. ඒක ප්‍රායෝගිකව පුහුණු කරලා නැහැ, දන්නෙ නැහැ මෙච්චර ගැඹුරක් තියෙනවා කියන්න විකාර නටනවා.

ඉතින් මෙතනදි දැන් මේ machine එකත් එක්ක, මේ ජීවිතේ කියන එක අපි machine එක කියන වචනය පැත්තක තියමුකො, ජීවිතය කියන එක මානව ජීවිතය, මනුස්ස ජීවිතය කියන එකේ ඇත්ත මොකක්ද කියලා තේරුම්ගන්න පුලුවන් වෙන්නෙ ඔන්න එතකොටයි. ඒ කියන්නෙ මේ හිත ශුද්ධ කරන, ශෝකයක් කරදරයක් සිත් තැවුලක් හැඩීම් වැළපීමක් කායික දුක්, මානසික දුක් මේ දේවල් එක්ක අපි වෙනදා ගණුදෙනු කරපු විදියට නෙවෙයි සතිය පුරුදු කරන කෙනෙක් දැන් ගණුදෙනු කරන්නෙ. ඒ දේවල් දිහා එයා වෙනදා බලපු විදියට නෙවෙයි සතිය පුරුදු කරන කෙනෙක් දැන් බලන්නෙ. සතිය පුරුදු කරන කෙනෙක්ගේ ආකල්ප සම්පූර්ණයෙන් වෙනස් වෙනවා. එයාගේ ජීවන රටාව පවා පොඩ්ඩ පොඩ්ඩ වෙනස් වෙන්න ගන්නවා, සෞඛ්‍ය සම්පන්න විදියට. ඔන්න එතකොට එයාට තේරෙනවා මේ මානව ජීවය කියන එක මනුෂ්‍යත්වය කියන එක කොහොමද handle කරන්නෙ කොහොමද මේකට මුහුණ දෙන්නෙ, කොහොමද මානසික සෞඛ්‍යය රැකගෙන, නිදහස රැකගෙන, සාමකාමීත්වය රැකගෙන මේ ජීවිතය පවත්වන්නෙ කියන එක තේරෙනවා. ඕක තමයි මේ කියන එකේ සරල අර්ථය. ඤායස්ස අධිගමාය.

ඉතින් ඔතනට එන්න මේ කියන තත්වය, දැන් මේ ඤායස්ස අධිගමාය කියන එක මේ machine එක මේ මානව ජීවය කියන එක පාලනය කරන්න, handle කරන්න මේක සතුටින් පවත්වන්න දැනගත්තු කෙනාට එයාගේ ජීවිතේට එන හැම දුකක්ම එයා කොම්පෝස්ට් බවට පත්කරනවා. ඒ කියන්නෙ එයා තවදුරටත් දුක් එනවට භය චරිතයක් නෙවෙයි. එයා දුක් වලට ආරාධනා කරන්න තරම් පෞරුෂයක් ගොඩනැගිච්චි චරිතයක් බවට පත්වෙනවා. අපි, ඔබ ඔබේ හදවතට තට්ටු කරලා බලන්න. ඔබේ මනස මේ වෙනකොට programme කරලා තියෙන්නෙ දුකට බයේ දුවන්න. දුකට බයේ පලා යන්න. දුකට බයේ comfort zone එකක්, ආරක්ෂිත කලාපයක් හදාගෙන ඒක ඇතුලේ හිරවෙලා ඉන්න තමයි ඔබේ මනස programme වෙලා තියෙන්නෙ. ඕක තමයි සම්ප්‍රදායානුකූල ධර්මයෙන්, සම්ප්‍රදායානුකූල ආගමෙන් ඔබේ මනසට කරපු වින්නැහිය. ඒ නිසා වර්තමාන ලෝකෙ බෞද්ධයාට මැරෙන්නවත් කොන්ද පණ නැහැ. මරණයට පවා බයයි සහලවනවා. ඇයි මේ අපි දුකට බයේ දුවන ජාතියක් බවට තමයි අපි සම්ප්‍රදායෙන් සම්ප්‍රදායානුකූල ආගමෙන්, සම්ප්‍රදායානුකූල දේශනා වලින් අපිව පුහුණු කලේ. අපිව programme කලේ. බලන්නකො බුදුරජාණන් වහන්සේ මොකක්ද කියලා තියෙන්නෙ ඇත්තටම කියලා. ගිහිල්ලා කියවලා බලන්න සතිපට්ඨාන සූත්‍රය, පෙළ අටුවා ටීකා සහිතව කියවලා බලන්න. අඩුගානෙ කියවලාවත් බලන්න හරි අර්ථය ඇතිව. ඒත් යමක් තේරුම් ගන්න පුලුවන් හරි අර්ථයෙන් තේරුම් ගත්තොත්.

මේ බුදුරජාණන් වහන්සේ කියන්නෙ ඒ පැමිණි දුක පැණි රහක් කරගන්න කලාව. අපි දුකට වෛර කරන, දුක සාපයක් කරගෙන දුවන පිරිසක්. උදේ පටන් රෑ වෙනකල් අපි දඟලන්නෙ දුකට බයේ හැංගෙන්න පුලුවන් ආරක්ෂිත කලාපයක් ගොඩනගාගන්නෙ කොහොමද කියලා. ඉතින් අපිට පණ නැහැ ඒකට මුහුණ දෙන්න. ඉතින් මේ කියන්නෙ දුකට විහින් පනිනවා නෙවෙයි. අපිට ගැලවෙන්න බැරි දුක් ටිකක් තියෙනවා. මොනම විදියකටවත් අපිට ගැලවෙන්න බැහැ. මොකද අපි මේ සසරකට පැටලිලා ඉන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේම දේශනා කරනවා මේ දුක කියන එක මත තමයි ලෝකය පිහිටලා තියෙන්නෙ. දුක කියන එක ආර්ය සත්‍යයක් කියලා තමයි බුදුරජාණන් වහන්සේ දේශනා

දෙන වෙලාවට දුකට සිහිය පිහිටන වෙලාටව තමයි දුකට කම්පා නොවෙන මානසිකත්වය හැදෙන්නෙ. ඉතින් අපි ය ම්කිසි වෙලාවක ඒකෙන් කම්පා වෙනවා නම් ඒ කියන්නෙ අපිට දුක ආර්ය සත්‍යයක් බවට පෙරළගන්න track එක අහුවෙලා නැහැ. ඒ කියන්නෙ අපි ඒ දුකට ගොදුරු වෙලා ඉන්නෙ, තවදුරටත් අපිට ඒ දුක සාපයක් විදියට තමයි දැනෙන්නෙ. තේරෙන්නෙ, පෙනෙන්නෙ.

ඒ නිසා මතක තියාගන්න යම් දුකක් අපේ ජීවිතයට පුංචි හෝ විශාල හෝ ඕනම දුකක් එනවා නම් ඒක එන්නෙ අපිට ඒකෙන් දෙයක් ගන්න තියෙන නිසයි. එහෙම නැතිනම් ඒක එන්නෙ නෑ අපේ ජීවිතේට. ඒක හොඳට මතක තියාගන්න. යම්කිසි විශේෂ හේතුවක් නිසයි අපේ ජීවිතේට යම් යම් දුක් එන්නෙ. ඒ නිසා අපි මේ කාරණය දන්නෙ නැති නිසා තමයි ගොඩාක් අය මේකට කැමැති නැත්තෙ. ඒ නිසා අපේ මිනිස්සු පුරුදු වෙලා තියෙනවා, හොඳ ඒවා ළඟින් තියාගෙන ජීවිත කාලෙම හොඳ ඒවත් එක්ක ජීවත් වෙන්න අපේ මිනිස්සුන්ට කැමැත්තක් එනවා, අපේ මිනිස්සු ඒකට දඟලනවා, ඒකට තටමනවා, මේ හොඳ ඒවා විතරක් ළඟින් තියාගෙන දුක් නැති කරගෙන ජීවත් වෙන්න. ඉතින් භාග්‍යවතුන් වහන්සේ නමුත් දේශනා කරලා තියෙන්නෙ මේ ලෝකෙ සතුටක් කියලා එකක් තියෙනවා නම් තියෙන්නෙ මේ දුකක් තියෙනවා කියන ඒකේ මේ යථාර්ථය දැක්කහම ඇතිවෙන සතුට තමයි ලෝකෙ තියෙන හොඳම සතුට. ඒ කියන්නෙ දුක දුකක් හැටියට දැකීමෙන් අපේ මනසට එනවා සැපක්. දුක පිරිසිඳ දැක්කහම අපේ මනසට එනවා සැපක්. ඒක තමයි මේ ලෝකෙ තියෙන හොඳම සතුට කියලා භාග්‍යවතුන් වහන්සේ දේශනා කලේ. ඒ නිසා ලෝකෙ එකම සැපයි තියෙන්නෙ, ඒ තමයි දුක දුකක් හැටියට දැකීම.

ඉතින් මෙන්න මේ කියන කාරණය අපිට තේරුණොත් මේ කියන කාරණය තේරුණාම තමයි අපිට පර්යංක සක්මන් වලදි අපිට එදිනෙදා ජීවිතේදී මේ සතිය තියාගෙන පුහුණු කරගෙන යන ගමනේදී පර්යංකයක, දැන් ගොඩාක් අයට ලංකාවේ පර්යංකය එක ඉරියව්වක පැයක් විතර ඉන්න බැහැ, හරි අමාරුයි. ඉතින් අපිට මේ ඉන්න බැරි හේතුව මෙන්න මේක තේරුම් අරන් නැති නිසා. ඉතින් මේක තේරුණාම අපිට එකම ඉරියව්වක බොහෝ වෙලා ඉන්න පුලුවන්. ඒක පර්යංකයේ විතරක් නෙවෙයි, සාමාන්‍ය ජීවිතෙත් අපිට එක ඉරියව්වක ඉන්න බැහැ, අපිට නළියැමක් තියෙනවානෙ. ඒ එන්නෙ මෙන්න මේක තේරුම් අරන් නැති නිසා. ඇයි එහෙම වෙන්නෙ, කොහොමද අපි මේ එකම ඉරියව්වක බොහෝ වෙලාවක් ඉන්නෙ, ඒ එන හැම දුකක්ම සතියට යට කරන්න පුලුවන් දක්ෂතාවය දැන් එයා ගාව තියෙනවා. ඒ නිසා තමයි මෙයාට එක ඉරියව්වක බොහෝ වෙලාවක් ඉන්න පුලුවන් වෙන්නෙ. ඉතින් අපි බලන්න මේ එකම දුකක් දිහා එක කෝණයකින් බැලුවහම එය සංසාරයට, ඒ දුකම දිහා වෙනත් කෝණකයින් බැලුවොත් ඒක නිවනට.

ඉතින් මේ දුක නෙවෙයි ඇත්තටම අපිට ප්‍රශ්නයක් වෙලා තියෙන්නෙ. අපි ඒ අත්දැකීම දිහා ඒ සිද්ධිය දිහා බලන කෝණය තමයි ප්‍රශ්නයක් තියෙන්නෙ. බලන කෝණයේ දෝෂයක් නිසා තමයි අපි සංසාරයට යනවද නිවනට යනවද කියන එක තීරණය කරන්නෙ. ඉතින් ඒ නිසා තමයි භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා පඤ්චස්කන්ධය අපි දන්නවානෙ පොතේ දැනුමනෙ. රූප වේදනා සංඥා සංකාර විඤ්ඤාණ. අපිට කියලා දීලා තියෙන්නෙ මේක දුකක් කියලා. ඒ වුනාට භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා මේ පඤ්චස්කන්ධය තුළම මේ බඹයක් පමණ සිරුර තුළම නිවන තියෙනවා කියලා. ඇයි ඒ? පඤ්චස්කන්ධයම දුකක් නම් එතන නිවන තියෙනවා. දුක දුකක් හැටියට දකින තැන නිවන තියෙනවා. ඇයි ඉතින් භාග්‍යවතුන් වහන්සේ නිවන තියෙනවා කියලා කියලා තියෙන්නෙ දුකක් තියෙන

තැනක. සැපක් තියෙන තැනක නෙවෙයි. එතකොට බලන්න අපේ භාග්‍යවතුන් වහන්සේගේ ඉගැන්වීම අපි තේරුම් අරන් ඉන්න විදියේ තියෙන වෙනස. පරස්පර විරෝධී කම. ඉතින් මේ බඹයක් පමණ සිරුරේ දුකක් තියෙනවා නිවනක් තියෙනවා කියලා භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ අන්න ඒ නිසයි.

ඉතින් ඒ නිසා වෙන කෙනෙක් දුකක් විඳිනවා දැක්කට පස්සෙ ඒ දුක අපිට නම් විඳින්න වෙන්නෙ නැහැ කියලා අපිට හිතන්න බැහැ. අපි දැනගන්න ඕන කවුරුහරි කෙනෙක් දුකක් විඳිනවා දැක්කහම අපිටත් මේක මෙහෙමම තමයි කියලා අපි තේරුම් ගන්න ඕන. ඉතින් එහෙම නැතිව අපි කරන්නෙ මේක නැති කරන්න හදන තැනකට තමයි අපි දඟලන්නෙ. ඉතින් මේ නිසා තමයි සිදුහත් කුමාරයා පවා ගිහිගෙය හැරයන්න කලින් මාළිගා තුනක් හදාගෙන මේ දුකක් නැති ජීවිතයක් අපේක්ෂාවෙන්, දුකක් නැති ජීවිතයක් බලාපොරොත්තුවෙන් කටයුතු කලේ. ඉතින් මේක තේරුම් ගත්තහම අපිට පර්යංකයකදි සක්මනකදි අපි  ඉස්සරහින් තියාගන්න මූල කර්මස්ථානයක් එක්ක අපිට ගොඩක් වෙලාම ඉන්න පුලුවන් වෙනවා. මොකද මේ සිද්ධ වෙන දේ දිහා අපිට බලන් ඉන්න පුලුවන් නිසා. එතකොට තමයි අපිට සිද්ධ වෙන දේ දිහා බලන් ඉන්න පුලුවන් වෙනකොට තමයි අපිට අරමුණක යථාර්තය දකින්න පුලුවන් වෙන්නෙ. මොකද අපි දෙයක් දිහා ගොඩක් වෙලා බලන් ඉන්න කැමැති නැහැ. අපි ඒකෙන් වෙහෙසක් එනකොට, දුකක් එනකොට අපි වෙන දෙයක් හොයාගෙන යන්න හදනවා.

ඉතින් මේකෙ දුක කියන්නෙ නිවනට මගක් කියන එක තේරුම් ගත්තට පස්සෙ අපිට එකම දෙයක් දිහා බොහෝ වෙලා බලන් ඉන්න පුලුවන් වෙනවා, අරමුණෙන් අරමුණට පනින්න ඕන වෙන්නෙ නෑ, එතකොට එකම දෙයක් දිහා බොහෝ වෙලා බලන් ඉන්නකොට තමයි මේ අරමුණේ යථාර්තය මොකක්ද කියන එක අපිට තේරුම් ගන්න පුලුවන් වෙන්නෙ. ඉතින් මේ පඤ්චස්කන්ධය අපි මේ පර්යංක සක්මන මේ එදිනෙදා වශයෙන් මේ සිහිය තියාගෙන යන්නෙ මේ පඤ්චස්කන්ධයේම යථාර්තය දකින්නනෙ. ඉතින් පඤ්චස්කන්ධය දුකක් නම් නිවනට අවශ්‍ය හැමදේම ඒකෙ තියෙනවා. අපි ළඟ තියෙනවා, අපි මේ පාරමී පුරන්න ඕන, වෙන දේවල් හොයන්න ඕන කියලා ගියාට ඇත්තටම මේ පඤ්චස්කන්ධය තුළම නිවන තියෙනවා ඒක පේන්නෙ නැත්තෙ අපිට නුවණ නැති නිසා.

ඉතින් මේ කියන යථාර්තය දැක්කට පස්සෙ මේ කියන අරමුණක යථා ස්වභාවය දැක්කට පස්සෙ අපේ මනසට නිබ්බිදාව කියන මානසිකත්වය පහළ වෙනවා. ඒකට කියන්නෙ කළකිරීම. හැබැයි මේ මිනිස්සු කියන කළකිරීම නෙවෙයි, ඒක නිර්වින්දන ස්වභාවයක්. ඒක දේවල් කෙරෙහි අපේක්ෂා වෙන මානසිකත්වයක් එන්නෙ එතන කළකිරීමේදී. මිනිස්සු හිතන් ඉන්නෙ ද්වේෂ සහගත කළකිරීමක්. ඉතින් අපි හිතනවා වගේ එකක් නෙවෙයි, දුක දුකක් විදියට දැකීම හරහා තමයි ඒ මානසිකත්වය අපේ මනසට එන්නෙ. එතකොට අපි සාමාන්‍යයෙන් සඳහන් කරනවා, පර්යංකයකදා සක්මනකදි අපි හිතමු අපි හුස්ම ඉස්සරහින් තියාගෙන කටයුතු කරද්දි අපිට පේන්නෙ මුලින්ම හටගත්තු හුස්ම. ඉතින් හටගත්තු හුස්මත් එක්ක කාලයක් අපිට මනස ඒකෝදිභාවයට පත් කරගෙන ඒකාග්‍ර කරගෙන ඉන්න පුලුවන් වුනාම ගුරුවරයා උපදෙස් දෙනව මේ මුල දකින්න කියලා.

ඇයි මේ හුස්මේ මුල දකින්න කියන්නෙ, හුස්මේ හටගැන්ම ආරම්භය මුල දකින්න කියන්න හේතුව තමයි මේකෙ මුල තමයි මේක හටගන්න හේතුව තියෙන්නෙ, ඒ කියන්නෙ තණ්හාව දෙවන සමුදය සත්‍යය තියෙන්නෙ එතන. අරමුණක හටගැන්ම බලනකොට, අරමුණේ මුල බලනකොට තමයි මේකෙ හේතුව පේන්නෙ. හේතුව තණ්හාව කියලා

අහුවෙන්නෙ අන්න එතනදි. ඒ අනුව අපි තේරුම් ගන්න ඕන මේ සෑම අරමුණකම මුල බලන්න යන කාරණයේදී අපිට සමුදය සත්‍යය අහුවෙනවා. ඒක ප්‍රහාණයෙන් තමයි අපිට නිවන කියන එක එන්නෙ. එහෙම නැතිව මේ දුකත් එක්ක රණ්ඩු කිරීමෙන් නෙවෙයි. ඒ කියන්නෙ මේ හටගන්න හැම චිත්තක්ෂණයකම අපිට නිවන් දකින්න පුලුවන් අවස්ථාව සැලසිලා තියෙනවා. අපි ඒක ගන්නෙ නැති එක විතරයි තියෙන්නෙ. ඉතින් අපි මුල, මැද, අග අරමුණක මුල, මැද, අග හරියට දැක්කොත් තමයි කෙලෙස් අඩුවෙන තැනට තණ්හාව ප්‍රහාණය වෙන තැනට නිවන සාක්ෂාත් වෙන තැනට මනස හැදෙන්නෙ. මොකද අරමුණක මුල මැද අග හරියටම දැක්කහම තමයි ඇත්තටම තණ්හාව කියන එක ටිකෙන් ටික අඩුවෙන්න පටන් ගන්නෙ. අපි අරමුණක මුල මැද අග බලන්නැති තාක්කල් තණ්හාව අඩුවෙනවා නෙවෙයි තණ්හාව ටික ටික වැඩිවෙනවා. ඒ නිසා අපි ගොඩක් වෙලාවට කරන්නෙ මේ මොහොතේ ආපු දුක අයින් කරලා තල්ලු කරලා ඊළඟට පස්සෙ දවසක එන දුකක් අවබෝධ කරන්න තමයි අපි හිතාගෙන ඉන්නෙ. ඒකට තමයි ප්‍රමාදය කියන්නෙ, ඒක අප්‍රමාදය නෙවෙයි.

අපිට කරන්න තියෙන්නෙ මේ දැන් දැන්, මේ මොහොතේ ආපු දුකට සතිය පිහිටුවන්නයි, එහි මුල මැද අග දකින්නයි අපිට ඕන. ඒ විදියට මේ දුකත් එක්ක ගණුදෙනු කරන කලාව තේරුම් ගත්තට පස්සෙ යෝගාවචරයාට එයාගේ ජීවිතේට එන හැම දුකකටම මුහුණ දෙන්න පුලුවන් හැකියාව එයාගේ මනසට එනවා. හැකියාව එනවා විතරක් නෙවෙයි, එයාට කැමැත්තක් ඇතිවෙනවා. සියලු දුක් වලට මේ විදියට මුහුණ දෙන්න. ඊටපස්සෙ එයාට ජීවිතයක එයා හිතනවා ගොඩක් වෙලාවට ජීවිතේට එන්න තියෙන ලොකුම බරපතලම කරදර ටික ඔක්කොම මේ වෙලාවේ මට එනවා නම් හොඳයි කියන මානසිකත්වය මනසට එනවා. මොකද මේ වෙලාවේ එයාගේ මනස සති, සමාධි, ප්‍රඥා හොඳින් වැඩිලා තියෙනවා. ඒ නිසා මේ වගේ මානසිකත්වයකට ආපු කෙනෙක්ගේ මනසේ අසාධාරණකම් හමුවේ ගොඩක් සැලෙන්නෙ නැහැ. ඒවා දැක්කෙ නැහැ, ඇහුනෙ නැහැ, තේරුණේ නෑ වගේ තමයි එයා ජීවත් වෙන්නෙ.

මේ නිසා තමයි භාග්‍යවතුන් වහන්සේ පවා පාපයට වැටිලා ඉන්න මිනිස්සුන්ට උදව් කරන්න යන්නෙ, බේරගන්න පුලුවන් නම් විතරයි. බේරගන්න බැරි නම් උන්වහන්සේ යන්නෙ නැහැ. ඒක දැක්කෙ නැහැ, ඇහුනේ නැහැ, තේරුනේ නැහැ වගේ උන්වහන්සේ ඉන්නවා. මොකද මේ යථාර්තය තේරුණාට පස්සෙ ඒක එක්ක හැප්පෙන්න යන්න අවශ්‍යතාවයක් එන්නෙ නැහැ. මනස සෑහෙන උපෙක්ෂාවකට වැටෙන්නෙ. මොකද ඒ කෙනෙක් දුකකට වැටෙනවා නම්, කෙනෙක් දුකකට වැටෙන පාරෙ යනවා නම් එයාගේ අතේ තමයි ඒකට මුහුණ දෙනවද නැද්ද කියන වගකීම තියෙන්නෙ. ඒකට අපිට කරන්න පුලුවන් දෙයක් නැහැ. ඒකට එයාගේ මනසේ potential එක හැදිලා තියෙන්නෙ. විභව ශක්තිය හැදිලා තියෙන්න ඕන. ඉතින් භාග්‍යවතුන් වහන්සේ පවා එහෙමයි කටයුතු කලේ. උන්වහන්සේට බේරගන්න පුලුවන් කෙනෙක්ව විතරයි උන්වහන්සේ බේරගන්න යන්නෙ, අනිත් අය බේරගන්න යන්නෙ නැහැ. ඉතින් ඒ කියන්නෙ මේකෙ තේරුම තමයි මේ මානසිකත්වය ආපු කෙනෙකුට අසාධාරණය දිහා බලන් ඉන්න පුලුවන් මානසිකත්වය එනවා. ඒ නිසා තමයි මිනිස්සු ඔය සාමාන්‍යයෙන් මනස දියුණු අයට හිත්පිත් නැති මිනිස්සු කියලා කියන්නෙ, දුකක් කරුණාවක් තේරෙන්නෑ, අනුකම්පාවක් මෛත්‍රියක් නෑ කියලා මිනිස්සු බනින්නෙ ඒ නිසයි. ඇත්තටම ඒක අනුකම්පාවක්, මෛත්‍රියක් නැතිකම නෙවෙයි. මිනිස්සු හිතන් ඉන්නෙ කරුණාව මෛත්‍රියට වැඩිය ඉහළ මානසිකත්වයක් තමයි උපෙක්ෂාව කියන්නෙ. නමුත් අපේ මිනිස්සු මුළු ජීවිතේම විසඳන්න යන්නෙ මෛත්‍රියෙන් කරුණාවෙන්. විසඳන්න බැහැ. මං ඒ ගැන වෙනම වීඩියෝ එකකුත් කරලා ඇති. ඇයි සතර

බඹ විහරණ වල උපෙක්ෂාව අන්තිමට දාලා තියෙන්නෙ කියලා. ඒක දාලා තියෙන්නෙ මේ මෛත්‍රිය කරුණාව මුදිතාවට වැඩිය උපෙක්ෂාව ශ්‍රේෂ්ටයි.

අපේ අය හිතන් ඉන්නවා උපෙක්ෂාව මහ පහත් දෙයක්, මෛත්‍රිය කරුණාව තමයි ලෝකෙ තියෙන ශ්‍රේෂ්ටම ගුණධර්ම කියලා. නෑ, මෛත්‍රියෙන් කරුණාවෙන් විසඳන්න බැරි දේවල් තියෙනවා. ඒ තැනදි ඒ කෙනාගේ මනස උපෙක්ෂාවට යනවා. උපෙක්ෂාවට ගිය කෙනෙක් දිහා මිනිස්සු විවේචනාත්මකව තමයි බලන්නෙ. එතකොට ඔබ හොඳට මතක තියාගන්න, ඔබ මේ ගුණයෙන් උසස් කෙනෙක්ව තමයි ඔබ විවේචනය කරන්නෙ, මොකද හිතක් පපුවක් නැති කෙනෙක් කියලා. භාග්‍යවතුන් වහන්සේ පවා හැසිරුනේ එහෙමයි. උන්වහන්සේට චරිතය හොඳින් අධ්‍යයනය කරලා බැලුවොත් ඔබට ඒක තේරුම් යයි. අසාධාරණය දිහා බලන් ඉන්න පුලුවන් හැකියාව එනවා. ඉතින් මේක එන්නෙ අර පර්යංකයකදි, සක්මනකදි අරමුණක මුල මැද අග බලලා අරමුණක, දෙයක යථාර්තය තේරුම් ගත්තට පස්සෙ තමයි අපේ මනස දෙයකට කම්පා නොවෙන මානසිකත්වය හැදෙන්නෙ. හුස්මක් නැතිවෙනකොට, හුස්මක් ගෙවෙනකොට, හුස්ම සියුම් වෙනකොට කම්පා වෙන්නෙ නැහැ. එතනින් තමයි ඒ හරහා තමයි සම්පූර්ණ ජීවිතයක බරපතල සාමාන්‍ය ජීවිතයක ඇතිවෙන දේකටත් කම්පා නොවී ඉන්න පුලුවන් මානසිකත්වය හැදෙන්නෙ. ඉතින් ඔය කියන විදියට අපි මේ සමුදය කියන එක දැක්කට පස්සෙ තණ්හාව කියන එක, මේ නිරෝධ සත්‍යය කියන්නෙ අමුතු දෙයක් නෙවෙයි. තණ්හාවේ ගෙවීයාම විතරයි. සමුදයේ ගෙවීයාමමමයි නිරෝධය කියලා කියන්නෙ. ඒක අමුතු දෙයක් නෙවෙයි.

ඒ කියන්නෙ අරමුණක මුල දැක්කට පස්සෙ අපිට හේතුව ජේනවා. ඊටපස්සෙ හටගත්තු අරමුණ ගෙවිලා යන එක අපිට ජේන්න ගන්නවා. ඒ කියන්නෙ මේක නිරුද්ධ වෙලා යන හැටි දැකීමමයි නිරෝධ සත්‍යය කියලා කියන්න. එතනින් තමයි පටන් ගන්නෙ. මේක අල්ලලා දැන් රණ්ඩු කරන්න එන්න එපා, එහෙම කොහොමද වෙන්නෙ කියලා. ඒක තමයි සරලම තැන, පුංචිම තැන, ඉතින් අපිට ඒක දැනටමත් ලැබිලා තියෙන්නෙ අපි ඒක බාරගන්න කැමැති නෑ. මොකද අරමුණක් ගෙවෙනවානෙ කොහොමත්, රූප, වේදනා සංඥා සංකාර විඤ්ඤාණ කියන ඕනම අරමුණක් ගෙවිලා යනවා. අපි බලන්නැති එක විතරයි එතන තියෙන දෝෂය. හැම අරමුණක්ම ගෙවෙනවා. ඉතින් ඒකමයි නිරෝධය කියලා කියන්නෙ. තණ්හාව පවා ගෙවෙනවා, තණ්හාව සහිත සිතුවිල්ල පවා ගෙවෙනවා, නිරුද්ධ වෙනවා. අපි බලන්නෑ, ඒ කියන්නෙ අපිට මේක ලැබිලා තියෙනවා බාරගන්නෙ නැති එකක් තියෙන්නෙ. ඒකයි සාමාන්‍යයෙන් කියන්නෙ අපි දැනටමත් නිවන් දැකලා ඉන්නෙ දන්නෙ නෑ කියලා කියන්නෙ අන්න ඒ නිසා. මේක ලැබිලා තියෙනවා අපි බාරගන්නැතිකම විතරයි තියෙන්නෙ. ඕකට තමයි සාක්ෂාත්කරණය කරනවා කියන්නෙ අන්න ඒකයි. බාරගන්න එකට තමයි සාක්ෂාත්කරණය කරනවා කියන්නෙ. දැනට ලැබිලා තියෙන දේ accept කරනවා කියන එක.

ඉතින් ඔය භාරගන්න ක්‍රමය, අර සාක්ෂාත් කරණ, දැනටත් ලැබිලා තියෙනදේ බාරගන්න තියෙන ක්‍රමය පාරට තමයි මාර්ග සත්‍යය කියලා කියන්නෙ. වෙන එකක් නෙවෙයි. මාර්ග සත්‍යය කියන්නෙ වෙන එකක් නෙවෙයි, දැනටමත් ලැබිලා තියෙන දේ බාරගන්නෙ කොහොමද කියන මානසිකත්වය හදාගන්න යන පාර තමයි ඒක. ඉතින් ඒකට තමයි අපි මේ ටික ටික පුහුණු වෙන්නෙ. මාර්ග සත්‍යය කියලා කියන්නෙ ඒක. සතිය හරහා ටික ටික පුහුණුවෙන්නෙ, මේ දැනටමත් ලැබිලා තියෙන දේ බාරගන්න පුලුවන් මනස හදන්නයි. ඉතින් බලන්න භාග්‍යවතුන් වහන්සේ සතිපට්ඨාන සූත්‍රයේ මේ යථාර්තය නිරෝධය කියන එක බාරගන්න පුද පූජා තියන්න කියලා තියෙනවාද, සතිපට්ඨාන සූත්‍රයේ මුල සිට අග දක්වා හරියට අර්ථ සහිතව කියවලා බලන්න. මේ මිනිස්සු හිතන් ඉන්න විදියේ දෙයක්

නෙවෙයි මේ නිරෝධ සත්‍යය සාක්ෂාත් කරන්න, නිවන කියන එක සාක්ෂාත් කරන්න අපිට කරන්න තියෙන්නෙ. හාත්පසින් වෙනස් දෙයක්. ඉතින් සම්පූර්ණ සතිපට්ඨාන සූත්‍රයේ අඩංගු වලා තියෙන්නෙ සියයට සීයක්ම ප්‍රායෝගික පුහුණුවක්.

ඉතින් අදින් සතිපට්ඨාන දේශනා මාලාව අවසන් වෙනවා. ඉතින් බලන්න අපි කායානුපස්සනා කොටසේ ඉඳලා මේ දක්වාම මේක පෙළගැහිලා ඇවිල්ලා තියෙන්නෙ මේ චතුරාර්ය සත්‍යය ඉලක්ක කරගෙන. ඉතින් අපි හරියටම ඒක පුහුණුවේ යෙදුනොත් අපිට ඒකෙ ප්‍රතිඵල ලැබෙනවා. සතිපට්ඨාන සූත්‍රයේ අවසානයේ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා. යම්කිසි යෝගාවචරයෙක් මේ පුහුණුව අවුරුදු හතක් හරියට කලොත් අවුරුදු හත අවසන් වෙනකොට එක්කො අර්හත්වයට පත්වෙනවා, එක්කො අනාගාමී වෙනවා කියනවා. ඉතින් අපි අර්හත්වය අනාගාමීත්වය පොඩ්ඩක් පැත්තකින් තියමුකො. අඩුගානෙ අපිට මේකෙ යථාර්තයවත් තේරුම්ගන්න. එතනට යන්න නිහතමානීකම හදාගන්න. මේ ලොකු ලොකු අතු අල්ලන්න කලින්. ඉතින් ඔහොම ඔහොම භාග්‍යවතුන් වහන්සේ අවුරුදු හය, පහ ඔහොම කිය කිය ඇවිල්ලා උදේ ගත්තු කමටහන හවසදි සාක්ෂාත් කරන්න පුලුවන් කියලා වෙන සූත්‍රයක සඳහන් වෙනවා. ඉතින් ඒ නිසා එක දවසකුත් ඇති. අපිට මේ වැඩේ කරන්න කියලා භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා. ඒ ඉන්ද්‍රිය ධර්ම පූරණය වෙලා තියෙන විදියට තමයි ඒක තීරණය වෙන්නෙ. ඒ කියන්නෙ අපිට මේක මේ ජීවිතේදී ප්‍රතිඵල අත්දකින්න පුලුවන් ක්‍රමවේදයක් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙනවා ලස්සනට. ඉතින් ඔබේ අතේ තමයි ඊටපස්සෙ මේ කටයුත්ත තියෙන්නෙ, ඔබ මේ පුහුණුව කරගෙන යනවාද නැද්ද කියන එක ගැන. ඉතින් අදින් අපි එහෙනම් සතිපට්ඨාන දේශනා මාලාව අවසන් කරනවා, හැමදෙනාටම මේ අනුව පුහුණුවේ යෙදිලා ප්‍රතිඵල භුක්ති විඳින්න හැකියාව ලැබේවා කියලා අපි ආශිර්වාද කරනවා, ඒ සඳහා ශක්තිය ධෛර්යය වීර්යය ලැබේවා කියලා ආශිර්වාද කරනවා, පුහුණුවේ යෙදෙන්න සතිය ඉස්සරහින් තියාගෙන, එතකොට ඔබටත් මේ ප්‍රතිඵල අත්දකින්න පුලුවන් වෙනවා. තෙරුවන් සරණයි!

## 29) සතිය හරහා සම්මා දිට්ඨිය උපදවා ගැනීම | Mindfulness in sinhala | @alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අද කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාව මම කලින් නතර කලා, නමුත් මට හිතුනා ඒකෙ ධම්මානුපස්සනා කොටසේ සච්ච පබ්බයේ මාර්ග සත්‍යය ගැන පොඩ්ඩක් විස්තර කරන්න. මොකද මාර්ග සත්‍යයට තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගය අයිති වෙන්නෙ. ඉතින් ඒක විස්තර කරලා අනිත් අයට කොහොමද මේක ප්‍රායෝගිකව අපි පුහුණු වෙද්දි, සතිය ඉස්සරහින් තියාගෙන කොහොමද මේක ප්‍රායෝගිකව පුහුණු වෙද්දි අපි මේ මාර්ග අංග අට සම්බන්ධයෙන් අපේ මනස වැඩකරන්නෙ කියන එක කතා කරන්න හිතුනා. මේ ටික අලුතෙන් සතිපට්ඨාන දේශනා මාලාවට එකතුවෙන්නෙ ඒ අනුව. ඉතින් සතිපට්ඨාන සූත්‍රයේ සාමාන්‍යයෙන් මේ සතිපට්ඨාන සූත්‍රය පෙළ ගැහිලා තියෙන්නෙ ඒක හරියට අධ්‍යයනය කලොත් කෙනෙකුට තේරෙනවා සරල පුංචි තැන ඉඳලා, මේ ගොරෝසු තැනක ඉඳලා ඉතාම සියුම් අති සූක්ෂ්ම තැන දක්වා තමයි සතිපට්ඨාන සූත්‍රය විග්‍රහ වෙලා තියෙන්නෙ. ඉතින් ඒක කායානුපස්සනා කියන ගොරෝසු නමුත් සරල තැනක ඉඳලා වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා වශයෙන් ඉතාම සියුම් ගම්භීර තැනක් දක්වා අපේ මනස අරගෙන යනවා ප්‍රායෝගික පුහුණුවත් එක්ක. ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ

මේකට සඳහන් කරන්නෙ දන්න තැන ඉඳලා නොදන්න තැනට යන ගමනක් තියෙන්නෙ කියලා. ඒ කියන්නෙ අපි දන්න දේ ඉඳලා නොදන්න තැනක් දක්වා යන ගමනක් කියලා තමයි මේ නිවන කියලා කියන්නෙ. ඉතින් සතිපට්ඨාන සූත්‍රය පෙළ ගැහිලා තියෙන්නෙ අන්න ඒ විදියට.

ඉතින් ඒකෙ මේ සම්මා දිට්ඨි කියන එකනෙ මාර්ග අංග අටේ පළමුවෙන්ම අපි ඉගෙන ගන්නෙ සම්මා දිට්ඨි කියන එක. ඉතින් අපි සාමාන්‍යයෙන් සම්මා දිට්ඨි කියන්නෙ මොකක්ද කියලා ඇහුවොත් හැම කෙනෙක්ම කියන්නෙ නිවැරදි දැක්ම, යහපත් දැක්ම කියලා. ඉතින් අපි ඔහොම කියාගෙන ඉන්නවා. හැබැයි නිවැරදි දැක්මක් කිව්වට, ඒ දැක්මක් නිවැරදියි කියන්නෙ මොන වපසරියෙන්ද, මොන සීමාවෙන්ද, මොන විදියෙන් දකින එකද නිවැරදි කියලා අපි කවමදාවත් හොයන්නෙ නෑ. අපිට අවශ්‍ය නැහැ. එකිනෙකාගේ මානසික මට්ටම් අනුව සුතමය වශයෙන් ගත්තු කාරණා අනුව හිතාගෙන ඔහේ ඉන්නවා. මේ සම්මා දිට්ඨිය හරි මොකක් හරි මේ මාර්ග අංක අටකින් යුක්ත ආර්ය අෂ්ටාංගික මාර්ගය මේ ප්‍රායෝගිකව තමන් තුළම වැඩෙන්න ඕනෙ, තමන් තුළ තියෙන්න ඕනෙ, තමන් තුළින් අත්දකින්න පුලුවන් දෙයක් කියන එක අපි කවදාවත් හොයන්නෙ නැහැ. ඒක අදෘශ්‍යමාන බලවේගයකට පවරලා ඒක කොහෙන් හරි හැදෙයි කියලා හිතාගෙන ඉන්නවා. නමුත් ඇත්තටම සම්මා දිට්ඨිය ආදී මේ මාර්ග අංග අට අපි තුළ හැදෙන්න ඕනෙ දෙයක්. අපි තුළ අපිට අත්දකින්න පුලුවන් වෙන දෙයක්. ප්‍රත්‍යක්ෂ කරන්න පුලුවන් වෙන දෙයක් වෙන්න ඕනෙ. ඒක තමයි භාග්‍යවතුන් වහන්සේගේ ඉගැන්වීම සියයට සීයක් ප්‍රායෝගිකයි කියලා කියන්නෙ.

එතකොට මේ සම්මා දිට්ඨි කියන එකේදි අපේ ලොකු ස්වාමීන් වහන්සේ හරි ලස්සනට විස්තර කරනවා. සම්මා දිට්ඨිය ආකාර කිහිපයකින් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා ඉතින් මේ මොනම සම්මා දිට්ඨිය වුනත් පදනම හැදෙන්නෙ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය කියන එකෙන්. ඒ කියන්නෙ සරලව කිව්වොත් හොඳ දේවල් කලොත් හොඳ දේවල් ලැබෙනවා, නරක දේවල් කලොත් නරක දේවල් ලැබෙනවා කියන එක තමයි සරල උත්තරය. හැබැයි ඔහොම කියපු පමණින් අපිට මේ ගම්භීර අර්ථය හොයාගන්න බැහැ. අපි සාමාන්‍යයෙන් කටකතා වලට කියන්නෙ කල කල දේ පල පල දේ කියලා. ඒක තමයි මේ කියන්නෙ. මේක ගැන විශ්වාසය ඇතිවෙන එක. ඒක ගැන හරි නිවැරදි දැක්මක් ඇතිවෙන එක.

එතකොට ඕනම කෙනෙක් මේ ලෝකෙ කවුරුහරි ආධ්‍යාත්මික පැත්තට හැරෙනවා නම්, මේ ආධ්‍යාත්මයක් ඇතුලත දියුණුවක් හොයාගන්න කැමැති කෙනෙක් ඉන්නවා නම් ඒගොල්ලො මුලින්ම එන්න ඕනෙ මේ කම්මස්කතා ඥාණ සම්මා දිට්ඨියටයි. ඒගොල්ලන්ට මුලින්ම මේක දැනෙන්න ඕනෙ. මේක නැති කෙනෙකුට කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය කියන එක නැති කෙනෙකුට ආගමක්, ආධ්‍යාත්මයක්, ගුණයක් මේ කිසි දෙයක් නැහැ. ඉතින් ඒක මත පදනම් වෙලා තමයි අපිට ඉස්සරහට යන්න පුලුවන් වෙන්නෙ. ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ මේ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය සම්බන්ධයෙන් විග්‍රහ කරද්දි හරි ලස්සන කාරණා ටිකක් කියනවා. ඒ තමයි මේ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය කියන එක ඒ කියන්නෙ කර්මඵල විශ්වාසය කියන එක අපි හොඳක් හෝ නරකක් හරි මොකක් හරි අපි මේ සිත කය වචනයෙන් කලොත් ඒක ඒ විදියටම result එකක් ආපහු එනවා කියන එක. ඒ කියන්නෙ අපෙන් එළියට නිකුත් වෙන්නෙ යම්කිසි vibration එකක්ද, ඒකම ආපස්සට අපිට එනවා කියන එක. ඕක තමයි සරල අර්ථය.

මේක ලෝකයේ බහුජන මතය වෙන්නෙ නෑ කියනවා කවමදාවත්. මේ කර්මඵලය කියලා එකක් මේ ලෝකෙ තියෙනවා, කර්මඵලය කියලා එකක් මේ ලෝකෙ වැඩ කරනවා, කර්ම න්‍යායක් කියලා එකක් තියෙනවා කියන එක කවදාවත් ලෝකෙ බහුජන මතය වෙන්නෙ නැහැ. මේක පිළිගන්නෙ ඉතාම සුළු කොටසක් විතරයි, මේක තේරුම් ගන්නෙත් ඉතාම සුළු කොටසක් විතරයි කියලා උන්වහන්සේ පහදලා දෙනවා, මොකද ඒක අපිට දැනටමත් ලෝකෙ දිහා පේන්න තියෙනවා, ඉතින් අපි උත්සාහ කලාට මේ මුලු ලෝකෙම බෞද්ධ ලෝකයක් කරන්න හැදුවට මුලු ලෝකෙම සදාචාර සම්පන්න ලෝකයක් කරන්න හැදුවට ඒක කවදාවත් කරන්න බැහැ. ඒක බුදු කෙනෙක් පහළ වුනු කාලෙකවත් සිද්ධ වෙලා නැහැ. ඔබට භාග්‍යවතුන් වහන්සේ ජීවමාන කාලෙ අතීතය අරන් බැලුවොත් කිසිම දවසක ඒ උන්වහන්සේ ජීවමානව වැඩ ඉද්දිවත් මුලු ලෝකෙම සදාචාර සම්පන්න බෞද්ධ ලෝකයක් කරන්න පුලුවන්කම උන්වහන්සේටවත් ලැබිලා නැහැ. ඉතින් ඊළඟට තව කාරණයක් තියෙනවා, මේක එහෙම බහුජන මතය නොවුනත් කවමදාවත් මේක ලෝකෙන් අයින් කරන්නත් බැහැ. අබුද්ධොත්පාද කාලෙකවත් මේක කවදාවත් ලෝකෙන් අයින් කරන්න පුලුවන් ධර්මතාවයක් නෙවෙයි. මොකද මේක නියාම ධර්මයක්.

ඉතින් එහෙනම් අපිට මේක නැතිකරන්නවත් මේක තහවුරු කරන්නවත් ස්ථිර කරන්නවත් මේක සදාතනික කරන්නවත් අපිට කරන්න පුලුවන් දෙයක් නැහැ. ඒක නියාමයක්. නියාම ධර්මයක් වෙනුවෙන් මනුස්සයෙකුට අධිකාරීත්වයක් පවරන්න බැහැ. ඒක නියාමයට අදාළ විදියට තමයි ඒක පවතින්නෙ. ඉතින් අපි කරන්න ඕනෙ තනි තනියෙන් අපිට තේරුනා නම් අපි අපි හැදෙන එක විතරයි. අපිට එහෙම නැතිව ලෝකෙ පුරාම අධිකාරීත්වයක් පවරන්න බැහැ. පව් සිද්ධ වෙනවා, කර්ම විපාක එනවා, මෙහෙම කරන්න බැහැ, මේක කරන්න එපා කියලා අපිට එහෙම කරන්න බෑ, භාග්‍යවතුන් වහන්සේ කවදාවත් එහෙම දේශනා කරලා නැහැ. උන්වහන්සේ නියාමයි විස්තර කරලා තියෙනවා, මේක මෙහෙමයි. ඉතින් මේක වැටහෙන කෙනෙකුට ප්‍රඥා මට්ටම තිබුනොත් වැටහෙන කෙනෙකුට මේක බාරගන්න පුලුවන්, පිළිගන්න පුලුවන්. එතකොට මේ ආධ්‍යාත්මික මග යන කෙනෙකුට මොකටද මේ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය ඕනෙ වෙන්නෙ. ඇයි ආධ්‍යාත්මය දියුණු කරන්න යන කෙනෙකුට කර්මඵල විශ්වාස කරන්න ඕනෙ? හේතුව තමයි කර්මය කියන එක මේ අපි කර්මය කිව්වහම අපේ ඔළුවට යන්නෙ දුකක් විතරයි. නමුත් කර්මය කියලා කියන්නෙ සැප දුක් දෙකම අයිති, ඒ සැප දුක් ඔක්කොම ගෙනල්ලා දෙන ඒවා කර්ම බවට පත්වෙනවා. කර්ම විපාක වෙනවා, සැප විපාකත් එනවා, දුක් විපාකත් එනවා.

එතකොට දැන් අපිට මේක ගොඩක්ම ඕන වෙන්නෙ ආධ්‍යාත්මික මග යද්දි දුක් එක්ක ගණුදෙනු කරන්න තමයි අපිට මේක හොඳ tool එකක් විදියට පාවිච්චි කරන්න පුලුවන් වෙන්නෙ. මේක තේරුම් ගත්තු කෙනෙකුට ආධ්‍යාත්මික මග යද්දි දුකත් එක්ක ගණුදෙනු කරන්න ලේසි වෙනවා, පහසුවෙනවා. මොකද කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය කර්මඵල විශ්වාසය තියෙන්නෙ මනස උපෙක්ෂාවට අරන් යන්න. උපෙක්ෂාවට තමයි පාර කැපෙන්නෙ මේක දන්න කෙනෙකුගෙන්. සාමාන්‍යයෙන් මනුස්සයො කර්මය කියන එක අල්ලගෙන තියෙන්නෙ, කර්මයක් තියෙනවා කියන එක අරගෙන තියෙන්නෙත් ද්වේෂයෙන්. හොඳට බලන්න ඔබ ඔබේ හිතත් එක්කත් කතා කරලා. මේවා කොච්චර කිව්වත් මිනිස්සුන්ට තේරෙන්නැහැ. අපි හැම වෙලේම දුකක් ආවම මේක මගේ කරුමෙ කරුමෙ කිය කියා ද්වේෂයෙන් තමයි ඒක අල්ලන්නෙ. ඊටපස්සෙ කියනවා මට මේක කර්මයක් කියලා මට හොඳට තේරෙනවා කියලා. ඇත්තටම අපිට යමක් කර්මයක් කියලා තේරෙනවා නම් ඒක ද්වේෂයෙන් නෙවෙයි අල්ලන්නෙ. මොකද කම්මස්සකතා ඥාණ

සම්මාදිට්ඨිය කියන්නෙ කුසල පැත්තෙ තියෙන දෙයක්. එතකොට කුසල පැත්තෙ තියෙන දෙයක් නිසා කොහොමද අපිට ද්වේෂයක් එන්නෙ. ඒ නිසා මේ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය කියන එක යමක් කර්මයෙන් හටගෙන තියෙන්නෙ, මේකට හේතුවක් තියෙනවා කර්මයක් වශයෙන් කියලා තේරුනාම එයාගේ මනස උපෙක්ෂාවට යනවා මිසක් අර කම්මුලට අතක් ගහගෙන දුකෙන් අඬෝවැඩියා තියාගෙන ඉන්න එකක් නෙවෙයි කර්මය මෙනෙහි කරනවා කියන්නෙ.

අපේ අය හිතන් ඉන්නෙ කර්මය මෙනෙහි කරනවා කියන්නෙ මේ කම්මුලට අතක් ගහගෙන නාහෙන් අඬාගෙන ඉන්න ඕනෙ කියලා. එතන තියෙන්නෙ ද්වේෂය. දුක, ඇඬීම කියන්නෙත් ද්වේෂ මූලික සිද්ධාන්තයක් මනසේ හටගන්න. ඒ නිසා අපේ අය තේරුම් අරන් ඉන්නවා මේ කරුමෙ කරුමෙ කියලා කියන එක එහෙම හිතන් ඉන්න එක තමයි මේ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය කියන්නෙ කියලා. නැහැ. කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය තියෙන කෙනාට දේවල් හමුවේ උපෙක්ෂාව එනවා. මේක මගේ කරුමෙ වෙන්න ඇති, අසීමිත පිරිසක් පෞද්ගලික ප්‍රශ්න අරගෙන එනවා මේක මගේ කරුමෙ කරුමෙ මෑණියනි, ඉතින් කරුමෙ නම් සතුටින් ඉන්න ඕනෙ. අපි හිතන් ඉන්නෙ කරුමෙ කියලා දුකෙන් ඉන්න ඕන කියලා. කරුමෙ නම් දුකෙන් ඉන්න නෙවෙයි, කරුමෙ නම් සතුටින් ඉන්න ඕනෙ, මොකද කර්මය කියලා එයාට වැටහෙනවා නම් මනස යන්නෙ උපෙක්ෂාවට. උපෙක්ෂාව ළඟදි මනස සාමකාමී වෙනවා.

ඉතින් මේ වැරදි වැටහීම නෙවෙයි, මේක නෙවෙයි අපි මේ ආධ්‍යාත්මික මග යන කෙනෙකුට කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය තියෙන්න ඕනෙ කියන්නෙ මේක නම් නෙවෙයි. උපෙක්ෂාවට මනස ගන්න පුලුවන් වෙන්න ඕනෙ. ඒ කෙනාට දැනෙන්න ඕනෙ, ඔව් මම පෙර කරපු කර්මයක විපාකයක් මේ වෙලාවේ ඇවිල්ලා තියෙන්නෙ. අපි හිතමු අපිට කවුරුහරි උදාහරණයක්; ගොඩක් අය අරන් එන ප්‍රශ්නයක් තමයි මේ ස්වාමී බිරින්දෑවරු අයාලේ යන එක. ඉතින් අපි හිතමු මගේ ස්වාමියා වැරදි පාරක යනවා, මට ද්‍රෝහිකම් කරනවා. ඉතින් මේක මගේ කරුමෙ කියලා තේරුම් ගන්නවා නම් එයා ඇයි දුකින් ඉන්නෙ. මමත් සංසාරෙ මගේ ස්වාමියා මට දුන්නු හා සමාන දුකක් මමත් මගේ partner කෙනෙකුට දීලා තියෙනවා, ඒ මනුස්සයා මං අද මේ විඳින දුක එදා විඳින්න ඇති, අනේ ඉතින් ඒ ගින්දර මගෙන් එළියට ගිය හින්දානෙ දැන් මට මේ එන්නෙ. එහෙනම් ඉතින් මේ සිහිනුවණ තියෙන වෙලාවේ, ධර්මයත් තියෙන වෙලාවේ මං මේක බාරගන්න ඕනෙ, ඒක ගෙවෙන එක හොඳයි මේ සිහිනුවණ තියෙන වෙලාවේ, නැත්නම් මම අලුතෙන් තව කර්මයක් රැස් කරගන්නවා, ඒකට තමන්ගේ ස්වාමියාට ස්තූති කරන්නත් පුලුවන්. ස්වාමියා කෙරෙහි අනුකම්පා කරන්නත් පුලුවන්. මොකද එයා මගේ කරුමෙ කරගහගන්නවා. ඉතින් ඒ නිසා මේක හොඳයි මේ වෙලාවේ මට ගෙවන්න ලැබිච්චි එක, ඒ නිසා මං මේක සිහිනුවණින් මුහුණ දෙන්න ඕනෙ, මේකට කාටවත් චෝදනා කරලා වැඩක් නැහැ, දෙස්දෙවොල් තියලා වැඩක් නැහැ, මගේ මහත්තයට දොස් කියලා වැඩක් නැහැ, මේක මගේ කර්මය නම් මං උපෙක්ෂාවෙන් බාරගන්න ඕනෙ. එතකොට මනසට එන්නෙ දුකක් නෙවෙයි, වෙහෙසක් නෙවෙයි. හරි සාමකාමී මානසිකත්වයක් එන්නෙ. ඉතින් ඔන්න ඕක තමයි කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය කියන එකට මනසක් ආවා නම් සරලව අපේ මනස උපෙක්ෂාව තුළ තියෙන්න ඕනෙ.

ඉතින් මේක තේරුනු කෙනෙකුට මේ උපෙක්ෂාවට ආවහම කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය හරහා එයාට තේරෙනවා මොන දේ කලත් දුකක් එනවා, අපි ඒක දැනගෙන ඉන්න ඕන. මේ නිවන් දකින්න ගියා කියලා සැපම එන්නෙ නැහැ. නිවන් දකින්න යන පාර තමයි ලෝකෙ තියෙන අමාරුම පාර, දුක් වැඩිම පාර. අපේ මිනිස්සු හිතන් ඉන්නෙ ඒක

තමයි සැප වැඩි පාර කියලා. නැහැ ඒක තමයි දුක් වැඩිම පාර. ඒ නිසයි මේ පාරට මිනිස්සු පය ගහන්න බය. ඒ නිසයි අපේ මිනිස්සු අල්ලස් දීලා නිවන් දකින්න හදන්නෙ. ඒ මේකට මේ කෙලින් මූණ දීලා යන්න තියෙන බය නිසා. ඇයි මේක තමයි අමාරුම පාර ලෝකෙ තියෙන. විශ්ව ධාතුවේ තියෙන. ඉතින් මේක දන්න කෙනා මේ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය කියන එක තියෙන කෙනාට මේ පාරෙ යන්න පුලුවන්, මොකද එයා අඩිය තියලා තියෙන්නෙ දැනගෙන මේ පාර ලේසි පහසු නෑ කියලා. ඒ නිසයි කියන්නෙ මේ නිවන් මග යන්නෙ පින්වන්තයන්ට විතරයි මේකෙ යන්න පුලුවන්, මේකට ශ්‍රේෂ්ට පෞරුෂයක් තියෙන්න ඕනෙ, මහ තේජසක් තියෙන්න ඕනෙ, ඒ නිසා සුලු පිරිසක් විතරයි මේකෙ යන්නෙ. අනිත් අය යන්නෙ නැහැ.

ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ දේශනා කරන්නෙ යෝගාවචරයා කියන කෙනාගේ ළඟ ආයුධ මල්ලක් තියෙන්න ඕනෙ, බෙහෙත් මල්ලක් තියෙන්න ඕනෙ, අවශ්‍යතාවයකට පාවිච්චි කරන්න මේ ආයුධ මල්ලෙ මේ බෙහෙත් මල්ලෙ, අනිවාර්යයෙන් බෙහෙත් ඩප්පියක් තියෙන්න ඕනෙ ඒක තමයි මේ බෙහෙත් කුප්පියේ තමයි මේ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය කියන බෙහෙත පොඩි කුප්පියකට දාලා තමයි ගමන් මල්ලේ තියාගන්න ඕනෙ. මොකද ඒක දිගටෝම අවශ්‍ය වෙනවා පාවිච්චි කරන්න. ඉතින් මේක නැති කෙනෙකුට අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ භාවනා කරන්න එනවා කියන එක මේ ලෝකෙ තියෙන තිත්තම එපාම කරපු දේ වෙනවා. ගොඩාක් අය භාවනා කරන්න ඇවිදිල්ලා චරුචුරු ගාන්නෙ මෙන්න මේක නැති නිසා. අපිට තේරෙනවා කෙනෙක් තමන්ගේ භාවනා අත්දැකීම වාර්තා කරනකොට එයා ඒක චෝදනාමුඛයෙන් මෙහෙම එකක් වුනා, අයියෝ අයියෝ කියාගෙන කියනවා නම් එයාට කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය නැතිව තමයි එයා වැඩේට බැහැලා තියෙන්නෙ. එහෙනම් එයා වහාම තමන්ගේ ගමන් මල්ලට අර බෙහෙත් කුප්පිය දාගන්න ඕනෙ. නැත්නම් ඉස්සරහට යන්න බැහැ. හැමවෙලේම චරුචුරු ගානවා. හැමවෙලේම ප්‍රශ්නයක් අරගෙන එන්නෙ. කටුකොහොලක් වගේ. කටුගෙයක් වගේ.

දූවිලි සහිත මහා කාන්තාර පාරක යනවා වගේ තමයි කෙනෙකුට භාවනාව දැනෙන්නෙ. මේ ගොඩක් අයට භාවනාව නීරස වෙන්න ප්‍රධානම කාරණයක් තමයි ඕක. නැත්නම් මේක තමයි ලෝකෙ තියෙන හරිම සුන්දරම, සාමකාමීම, ජොලිම ක්‍රමය. භාවනා කරන එක. ඒක එපාවෙන්නෙ ඔන්න ඔය හේතු නිසා. මොකද අපේ මිනිස්සු හිතන් ඉන්නවා භාවනා කරන්න ආවහම සුරපුරයක් මැවෙන්න ඕනෙ කියලා. සුරංගනා ලෝකයක් මැවෙන්න ඕනෙ කියලා. අපි නිකං උඩයන්න ඕනෙ, පාවෙන්න ඕනෙ, ලෝකෙ අනිත් ඔක්කෝටම වැඩිය හොඳ වෙන්න ඕනෙ. නෑ ලෝකෙ තියෙන කියන්නෙ අපිට තිබුනු ටිකත් නැතිවෙන එකක් වෙන්නෙ. තිබුනු ටිකත් නැතිවෙලා යනවා මේ පාරට බැස්සහම. ඉතින් ඒක මොකක්ද මේ වෙන්නෙ කියලා තේරුම් ගන්න පුලුවන් ඥාණය තිබ්බොත් තමයි එයාට ඉස්සරහට යන්න පුලුවන් වෙන්නෙ. ඒකට තමයි මේ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය ඕනෙ කියලා කියන්නෙ.

ඊළඟට තව සම්මාදිට්ඨියක් තියෙනවා ඒ තමයි සමථ සම්මාදිට්ඨිය කියන එක. මේ සම්මාදිට්ඨියේ වර්ග කිහිපයක් තියෙනවා කියලා මම කලින් කිව්වානෙ, සූත්‍ර පිටකයේ සඳහන් වෙනවා. මේකෙ පළවෙනි එක තමයි කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය, ඔන්න දෙවෙනි එක තමයි සමථ සම්මාදිට්ඨිය කියන එක. එතකොට මේ සමථ සම්මාදිට්ඨිය කියලා කියන්නෙ මොකක්ද, අපි යම්කිසි අරමුණක් මූල කර්මස්ථානයක් ඉස්සරහින් තියාගෙන පර්යංක භාවනාවකදි අපි ඒකට නැවත නැවත සිහිය තියන්න සතිය තියන්න සතිමත්ව මේ අරමුණේ දිග වෙලාවක් ඉන්න අපි උත්සාහ කලාම අපිට මේ අරමුණත්

එක්ක බොහෝ වේලාවක් මනස පවත්වන්න පුලුවන්, එතකොට අපේ මනසේ තියෙන නීවරණ යටපත් වෙලා අපේ හිත වික්ෂිප්ත වෙන්නෙ නැතිව, හිතේ වික්ෂිප්ත බව නැති කරලා මේ නීවරණ යට කරලා යම්කිසි ඒකාග්‍ර මනසක් අපිට උපයගන්න පුලුවන්. ඉතින් ඕකෙ සමථ පැත්තෙන් ලොකුවට කතා කලහම ධ්‍යාන සමාපත්ති වශයෙන් ලොකුවට කතා කරනවා.

එතකොට අපේ ලොකු ස්වාමීන් වහන්සේ මෙතන හරි ලස්සන කාරණයක් විස්තර කරලා මට අහුවුනා එක තැනක. ඒ තමයි මේ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය තියෙන කෙනාගේ අතින් සීලය සම්පූර්ණ වෙනවා. හොඳට බලන්න, කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය තියෙන කෙනාගේ අතින් සීලය සම්පූර්ණ වෙනවා. මොකද එයා දන්නවානෙ හොඳ කලොත් හොඳ, නරක කලොත් නරක. එතකොට සීලය එයා කඩන්නෙ නැහැ. දුස්සීල වෙන්න උත්සාහ කරන් නෑ, මොකද එයා දන්නවා විපාක එනවා. එතකොට මේක හොඳට තේරෙන කෙනාට සීලයට එන්න පුලුවන්. ඒ හරහා මම කලින් දේශනාවල විස්තර කරලා තියෙනවා වීතික්කම මට්ටමේ තියෙන කෙලෙස් කැපෙනවා ඒ හරහා. එතකොට දැන් වීතික්කම කෙලෙස් කියන්නෙ මොනවද කියලා අහන්න එපා, ඒ ගැන විස්තර කරලා තියෙනවා කලින් දේශනාවල ඕනෙ තරම්. වීතික්කම මට්ටමේ තියෙන කෙලෙස් කැපිලා යනවා කියනවා මේ කම්මස්සකතා ඥාණ සම්මාදිට්ඨිය හරහා. ඊට පස්සෙ සමථ සම්මාදිට්ඨියෙන්, සමථ සම්මාදිට්ඨියෙන් වෙන්නෙ මොකක්ද අපේ සමාධිය යම් මට්ටමකට ගොඩ නැගිලා දෙනවා. මොකද මේ එක අරමුණක මනස ඒකාග්‍ර කරගන්නනෙ මේ උත්සාහ කරන්නෙ නීවරණ යටපත් කරගෙන. එතකොට ඒ මට්ටමේදී එයාගේ මනසේ වැඩ කරන පරියුට්ඨාන කෙලෙස් ටික කැපිලා යන්න පටන් ගන්නවා. පරියුට්ඨාන කෙලෙස් කියලා කියන්නෙ නීවරණ ධර්ම ටිකට තමයි. ඒ ගැනත් කලින් දේශනා වල විස්තර කරලා තියෙනවා.

ඉතින් ඔය විදියට සමථ සම්මාදිට්ඨියෙන් ගොනු කරගත්තු මනස ඊළඟට තියෙනවා තව සම්මාදිට්ඨියක්, ඒ තමයි විපස්සනා සම්මාදිට්ඨිය කියන එක. ඒකෙන් අපේ ප්‍රඥාව මෝදු වෙලා දෙනවා, ප්‍රඥාව තමයි වඩලා දෙන්නෙ, ඒකෙන් අපේ තුන්වෙනි කෙලෙස් මට්ටම අනුසය කෙලෙස් මට්ටම කැපිලා යනවා. ඔය විදියට තමයි මේ සම්මා දිට්ඨි තුනක් මෙතන දැන් තියෙනවා, කම්මස්ස්සකතා ඥාණ සම්මාදිට්ඨිය, සමථ සම්මාදිට්ඨිය සහ විපස්සනා සම්මාදිට්ඨිය. මේ තුනෙන් සීල සමාධි ප්‍රඥා වැඩෙන හැටි වීතික්කම පරියුට්ඨාන අනුසය කෙලෙස් කැපෙන හැටි හරි ලස්සනට භාග්‍යවතුන් වහන්සේගේ මේ සතිපට්ඨාන සූත්‍රය අනුසාරයෙන් විග්‍රහ කරලා තියෙනවා. ඒක මුල ඉඳලම සතිපට්ඨාන දේශනා මාලාව අහගෙන එන කෙනෙකුට විතරයි තේරෙන්නෙ. මේක මෙතනින් ඇහුවට තේරෙන් නැහැ.

එතකොට දැන් අපි මේ කතා කරගෙන යන්නෙ මාර්ග අංග ධර්ම ටික ගැනනෙ. එතකොට මේ මාර්ග අංග වල සම්මා දිට්ඨි කතාවේදි ආර්ය අෂ්ටාංගික මාර්ග කතාවේ සම්මා දිට්ඨියට අපි ගන්නෙ ඔන්න ඔය විපස්සනා සම්මාදිට්ඨිය කියන එකයි. හැබැයි එතනට එන්න ඊට කලින් අර කම්මස්සකතා ඥාණ සම්මා දිට්ඨියෙන් base එක හදාගෙන, සමථ සම්මාදිට්ඨියෙන් මනස යම් ඒකෝදී බවක් කරගෙන තමයි මෙතනට එන්න ඕනෙ. එතකොට මේ සම්මාදිට්ඨිය ආර්ය අෂ්ටාංගික මාර්ගයේ සම්මා දිට්ඨිය කියලා කියන්නෙ ඔබ කියන නිවැරදි දැක්ම කියලා කියන්නෙ ඔබ හිතන් ඉන්න යහපත් දැක්ම කියලා කියන්නෙ මේ විපස්සනා සම්මාදිට්ඨිය හදාගන්න එකයි. මේක තමයි මේ විපස්සනා සම්මාදිට්ඨිය හරහා තමයි ඉතුරු සම්මාදිට්ඨි දෙකක් තියෙනවා, ඒ තමයි මග්ග සම්මාදිට්ඨිය සහ ඵල සම්මාදිට්ඨිය කියන දෙක. මේ දෙකට පාර කැපෙන්නෙ. මේ දෙක ලබාගන්න අපිට උදව් වෙන්නෙ මෙන්න මේ විපස්සනා සම්මාදිට්ඨිය. මේක turning point

එකක්. විපස්සනා සම්මාදිට්ඨිය කියන එක ඇත්තටම turning point එකක්. එතන තමයි මේ සම්මාදිට්ඨි සම්පූර්ණ සම්මාදිට්ඨි කතාවේ බලය තියෙන, මහා යුද්ධයක් තියෙන, වැඩ තියෙන, ගොඩක් දේවල් සිද්ධ වෙන තැන තමයි විපස්සනා සම්මාදිට්ඨිය කියලා කියන්නෙ.

ඉතින් සතිපට්ඨාන සූත්‍රයට අනුව බැලුවොත් වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා කියන මේ කොටස් තුනේදිම වැඩ කරන්නෙ විපස්සනා සම්මාදිට්ඨිය. විපස්සනාව වැඩ කරන්නෙ ඒ කොටස් තුනෙන් කායානුපස්සනා කොටසේදී විපස්සනා වෙන්නත් පුලුවන් සමථ කොටස වෙන්නත් පුලුවන්. නමුත් මේ විපස්සනා කොටස වැඩ කරන්නෙම සතර සතිපට්ඨානයෙන් වේදනා, චිත්ත, ධම්ම කියන කොටස් තුනේදි. ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ හරි ලස්සනට විග්‍රහ කරනවා, අපි මේ ධර්මයනෙ ප්‍රගුණ කරන්නෙ. ඉතින් ධර්මයේ ගුණ හයක් ස්වක්ඛාතො කියන ගාථාව තුළ අඩංගු වෙනවා. මේ ගුණ හය සජීවීව සක්‍රියව අත්දකින්න පුලුවන් වෙන්නෙ මෙන්න මේ විපස්සනා සම්මාදිට්ඨිය තුළදි. ඒ කියන්නෙ විපස්සනාව වැඩෙන කොටසේ තමයි කෙනෙකුගේ මනසට ධර්මයේ තියෙන ස්වාක්ඛාතාදී ගුණ හය සජීවීව සක්‍රියව අත්දකින්න පුලුවන් වෙන කොටස. මොකද අතීත අනාගත දෙකෙන් අයින් වෙලා, දැන් මේ සතිය හරහානෙ අපි මේ විපස්සනාවට පාර කපන්නෙ. සතිය කියන්මෙ මේ මොහොතේ ජීවත් වෙන එකක්නෙ. එතකොට අතීත අනාගත දෙකින් අපේ මනස අයින් වෙලා මොකද ඒ දෙකේ ධර්මය නැහැ. අතීතයේවත් අනාගතයේවත් ධර්මය නැහැ, ධර්මය කියන එක තියෙන්නෙ මේ මොහොතේ දැන් මෙතන. එතකොට මනස පවතින්නෙ මේ දැන් මෙතන මේ මොහොතේ තමයි සියල්ලම සිද්ධ වෙන්නෙ. කෙලෙස් කැපෙන්නෙ මේ ඔක්කොම ටික වෙන්නෙ දැන් මෙතන මේ මොහොතේ.

ඉතින් අපේ මනස යම්කිසි විදියකට විශුද්ධියකට යනවා නම් ඒක වෙන්නෙත් මේ වර්තමාන මොහොතේමයි, මේ මොහොතේමයි. එතකොට ස්වාක්ඛාත කියන ධර්මයේ මුල, මැද, අග යහපත් කියන එක. මේක සතිමත්ව මේ විපස්සනා කොටසේදී ගෙවෙන හැම චිත්තක්ෂණයකදීම මුල, මැද, අග මේකෙ මුල හෝ මැද හෝ අග කියලා ගන්න යම්කිසි තැනක් වෙයිද ඒ හැම තැනකම ධර්ම ඕජාව අපිට දැනෙන්න ගන්නවා. හැම චිත්තක්ෂණයකම චිත්තක්ෂණයේ මුල බැලුවත් මැද බැලුවත් අග බැලුවත් ධර්මයේ ඕජාව දැනෙන්න ගන්නවා. මේ කියන දේවල් ඇත්තටම දැනෙන්නෙ නැහැ තේරෙන්නෙ නැහැ, මේක ප්‍රායෝගිකව පුහුණු නොකරපු කෙනෙකුට නම්. සතිය කියන එක සක්මන, පර්යංක, එදිනෙදා වශයෙන් පුහුණු වෙන අයටයි මේ කතා කරන්නෙ. ඒගොල්ලන්ට විතරයි මේකෙ රහ දැනෙන්නෙ. මොකක්ද මේ කියන්නෙ කියලා හරි තේරෙන්නෙ. ඉතින් මේ සන්දිට්ඨිකයි කියලා කියන්නෙ මේ ජීවිතේම අපිට ප්‍රතිඵල භුක්ති විඳින්න පුලුවන් කියන එකනෙ.

ඉතින් මේ විපස්සනා කොටසේදි, මේ වේදනා චිත්ත ධම්මානුපස්සනා කොටස් වලදි සතිය පුහුණු කරගෙන යන යෝගාවචරයාට මේ දැන් මෙතන මේ මොහොතේ හටගන්නා අරමුණ සතියෙන් දැක්කා නම් ඊළඟ චිත්තක්ෂණයේ විපාක එයාට භුක්ති විඳින්න පුලුවන් වෙනවා. ඒක එතනම එයාගේ මනස ශුද්ධවෙන එක එයාට දකින්න පුලුවන්. සන්දිට්ඨික ගුණය. මෙලොවම දකින්න පුලුවන්. ඉතින් අකාලිකයි කියෙන්නෙ එවෙලෙම ප්‍රතිඵල දකින්න පුලුවන්, මේක ඊළඟ ආත්මෙටවත් ඊළඟ ජීවිතේටවත්, ඊළඟ බුද්ධ කල්පෙටවත් නෙවෙයි ඒ චිත්තක්ෂණයේ එවෙලෙම හරියට නිවැරදිව අරමුණ මෙනෙහි කලොත් හරියට නිවැරදිව සති සම්පජඤ්ඤය එයාගේ මනසේ හරියට වැඩ කලොත් එයාට එවෙලේම ප්‍රතිඵලය භුක්ති විඳින්න පුලුවන්. ඒක තමයි අකාලිකයි කියන්නෙ. මොකද මේ ශාසනය කියන එක ක්‍රියාත්මක වෙන්නෙ මේ මොහොතේ දැන්. ඒක කවදාවත් පරණ වෙන එකක්

නෙවෙයි. පරණ වෙන්නෙ ආගම. ධර්මය කවදාවත් පරණ වෙන්නෙ නැහැ. ආගම් විදියට නිර්මාණය වෙලා තියෙන දේවල් ඒවා පරණ වෙනවා, ඒවා පිරිහෙනවා, ඒවා නැතිවෙලා යනවා. හැබැයි ධර්මය කියන එක කවමදාකවත් පරණ වෙන්නෑ. පිරිහෙන්නෙත් නෑ, නැතිවෙන්නෙත් නෑ. අපි දන්නැති එක විතරයි තියෙන එකම ප්‍රශ්නෙ. මොකද ධර්මය කියන එක තියෙන්නෙ මේ මොහොතේ.

ඊටපස්සෙ ඕපනයික කියන්නෙ වෙන මොකුත් නෙවෙයි අපිට එතන එතන තමන් තුළින්ම මේක අත්දකින්න පුලුවන්. ඉතින් පච්චත්තං වේදිතබ්බො විඤ්ඤූහීති කියන එකත් ඒ ආසන්නයේ තමයි යන්නෙ. මේකෙ පූර්ව කාලීනව යෙදෙන කෙනෙකුට මේ ජීවිත කාලේම අත්දකින්න පුලුවන් තමන් තුළින්. ඊටපස්සෙ අන්තිමට ඒහිපස්සික ගුණය කතා කරනවා. ඇයි ඒ, ඒහිපස්සිකො කියන ගුණයට අපිට ආරාධනා කරන්න පුලුවන් ඕනෙම කෙනෙකුට මේ ගුණ තමන් තුළින් දැකපු කෙනෙකුට තමන්ටම මේවා භුක්ති විඳින්න පුලුවන් වෙච්චි කෙනෙකුට පුදුම විශ්වාසයකින් ඕනම කෙනෙකුට ආරාධනා කරන්න පුලුවන් එන්න ඇවිල්ලා බලන්න, විවෘතව කතා කරන්න පුලුවන් හැකියාව එනවා. එතකොට අපි දැන් මේ සම්මාදිට්ඨි කතාවක්නෙ කතා කරගෙන යන්නෙ. මේ ප්‍රායෝගික පුහුණුවේදී. එතකොට අපේ හිත අපි සක්මන පර්යංක එදිනෙදා වශයෙන් මේ සිහිය පුරුදු කරගෙන යද්දි අපි මූල කර්මස්ථානයක් ඉස්සරහින් තියාගෙන ඒකට අනුව සිහිය පුරුදු කරගෙන යද්දි, අපි හිතමු අපි භාවනා කරද්දි අපේ හිත එක එක තැන්වලට දුවනවා. ශබ්ද වලටයනවා, සිතුවිලි වලට යනවා, වේදනා වලට යනවා.

ඊටපස්සෙ වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා කොටස් ගැන කතා කරලා තියෙනවා. ඒ වගේ මට්ටමකට මනස යද්දි අපේ හිත යම් යම් තැනක් ස්පර්ශ කරනවා නම් භාවනා කරද්දි, අපේ හිතට යම් දෙයක් ප්‍රකට වෙලා දැනෙනවා නම් අන්න එතන තමයි කෙලෙස් ටික වැඩ කරන්නෙ. එතන තමයි අපේ තෘෂ්ණාව මුල් බැහැගෙන තියෙන්නෙ. එතන තමයි අපේ අවිද්‍යාව හොඳටම තියෙන්නෙ. ඒ නිසයි අපිට ඒක ප්‍රකට වෙන්නෙ. ඒ නිසයි අපේ මනස ඒක අල්ලන්නෙ. එහෙනම් මතක තියාගන්න නිවන තියෙන්නෙත් එතනම තමයි. අපිට යමක් ප්‍රකට වෙලා, අපේ මනස යම් තැනක් අල්ලනවා නම් එතනම තමයි කෙලෙස් ගොඩ තියෙන්නෙත්, නිවන තියෙන්නෙත් එතනම තමයි. වෙන තැනක නෙවෙයි, ඒක මගහැරලා ගිහිල්ලා නෙවෙයි. එතන ඇත්ත දැකීමෙන් විතරයි නිවන කියන එක හම්බවෙන්නෙ.

මේ නිසා සාමාන්‍යයෙන් විපස්සනා ලෝකෙ ගුරුවරු යෝගාවචරයාට උපදෙස් දෙනවා පර්යංකයට යන්න කලින් මං මේ පර්යංකයේදී අහවල් රූප ටික බලනවා, අහවල් නාම ටික බලනවා, අහවල් දේ බලනවා, අහවල් දේ කරනවා කියලා මුලින් plan කරගෙන සැලසුම් කරගෙන නෙවෙයි පර්යංකයට යන්නෙ. සක්මනට යන්නෙ. මොකද එන එන දේත් එක්ක තමයි අපි සිහිය තියන්නෙ. අපිට එහෙම බෙදාගෙන යන්න බෑ. මේ පර්යංකයේදී මම රූපම බලනවා, මං හුස්මම බලනවා, මං ශබ්දම බලනවා, මං වේදනාම බලනවා, මම නාමධර්මම බලනවා කියලා එහෙම එකක් නෑ. ඒක ආත්ම දෘෂ්ටියේ උපරිම තැනක්. එහෙම යන්න බැහැ. මොකද මොකක් වෙනවද කියලා අපි දන්නෙ නැහැ. ගියාට පස්සෙ එන දේත් එක්ක තමයි මනස පවත්වන්න තියෙන්නෙ.අපිට අරහෙම බෙදාගෙන යන්න බැහැ. එන එන එකට සතිය තියන්න තමයි අපි විපස්සනාවෙදි යන්නෙ. ඉතින් ගුරුවරු ඒ උපදෙස යෝගාවචරයන්ට ලබාදෙනවා, මේ මුලින් සැලසුම් හදාගෙන නෙවෙයි, මොකුත් දන්නෑ වගේ කවදාවත් භාවනා කලේ නෑ වගේ හැම දවසකම හැම පර්යංකයකටම සක්මනකටම ආධුනිකයෙක් වගේ එළඹෙන්න කියලා තමයි උපදෙස් දෙන්නෙ. මොකද

එතකොට ලේසියි. කලින් දාගත්තු රාමු නෑ. තීන්දු තීරණ නෑ. එන එන දේත් එක්ක අලුත් අලුත් විදියකට හැම චිත්තක්ෂණයකම අලුතෙන් අපි ඒකට සතිමත්ව මුහුණ දෙනවා.

ඉතින් අපි මූල කර්මස්ථානයක් ඉස්සරහින් තියාගෙන යද්දි යමක් අපිට ප්‍රකට වෙලා දැනෙනවා නම් අපි එතනින් තමයි පටන් ගන්නෙ. අපි සාමාන්‍යයෙන් කියන්නෙ පර්යංකයට ගියාම ප්‍රකට අරමුණෙන් පටන් ගන්න. ඉතින් ඊටපස්සෙ අපි ප්‍රකට අරමුණක් විදියට හුස්ම හරි පිම්බීම හැකිලීම එක්ක හරි ගියාට පස්සෙ යම්කිසි දෙයක් ප්‍රකට වෙනවා නම් අපි ඒකට සිහිය තියනවා, ඒක ඇති හැටිය දකිනවා සති සම්පජඤ්ඤය හරහා. ඉතින් ඒ අරමුණ ගෙවිලා ගියා නම් අපි කරන්නෙ ආයෙත් මූල කර්මස්ථානයට එන එක. ඉතින් සමහර වෙලාවට මේ විදියට යම්කිසි දෙයක් අපිට ප්‍රකට වෙලා පේන්නෙ, ප්‍රකට වෙලා දැනෙන්නෙ ඒක යටින් කර්මයක් වැඩ කරනවා වෙන්නත් පුලුවන්. අපේ රුචි අරුචිකම් අනුව වෙන්නත් පුලුවන්. අපි තෝරගත්තු දේවල් අනුව වෙන්නත් පුලුවන්. ඔය වගේ ගොඩක් හේතු තියෙන්න පුලුවන්. ඒ මොකක් වුනත් අපි ඒකත් එක්ක හැප්පෙන්නෙ නැතිව, අපි ඒකට ගැටෙන්නෙ නැතිව ඒක අයින් කරන්න යන්නෙ නැතිව අපි කරන්නෙ ඒකට සිහිය තියන එක විතරයි. ඒ හරහා තමයි ඒ සතිය හරහා තමයි අපි ඒකෙ ස්වභාවය බලන්න යන්නෙ. ඒකෙ යථාර්තය බලන්න යන්නෙ. දුක කියන යථාර්තය බලන්න යන්නෙ. මෙතන දුකක් කියලා එකක් තියෙනවා.

දැන් චතුරාර්ය සත්‍යය සම්බන්ධයෙන් කතා කරන කොටසේනෙ මේ මාර්ග සත්‍යයට අදාළව මේ සම්මාදිට්ඨිය අපි කතා කරන්නෙ. ඉතින් අපි දුක්ඛෙ ඤාණය කියන එකත් දැනගන්න ඕනෙ. චතුරාර්ය සත්‍යයේ දුක්ඛෙ ඤාණය කියන්නෙ දුකක් තියෙනවා කියන එක. ඉතින් මේ විදියට අපි අරමුණකට සතිය තියද්දි මේ දුක ගැන, දුකේ යථාර්තය, දුකක් කියන්නෙ මොකක්ද කියන එක, දුක සම්බන්ධ ඤාණය, දුක සම්බන්ධ සම්මාදිට්ඨිය කියන එක අපිට පහළ වෙන්නෙ ඒ එන එන අරමුණට එතන එතන සතිය තිබ්බොත් තමයි. අපි මෙතනදි දුකක් හොයාගෙන යන්නෙ නැහැ. අපි දුක හොයාගෙන යන්නෙ නැහැ, අඩුවක් නැතිවම ඇති තරම් දුක අපිව හොයාගෙන එනවා. මෙතනදි අපි කරන්නෙ අපිව හොයාගෙන ආපු දුක දිහා අපි සතිසම්පජඤ්ඤය සහිතව බලනවා. ස්වභාවිකව එන දේ දිහා අපි බලනවා. ඒකට තමයි අපි සතිය තියන්නෙ. මේ ස්වභාවිකව අපේ ජීවිතේට හටගන්න දේවල් වලට අපි වගවෙන්න ඕනෙ. නැහැ. මොකද ඒක දැනටමත් ඇවිල්ලා ඉවරයිනෙ. ඒක අපිට තියෙන්නෙ සතියට දාන්න විතරයි. අපිට ඒක ගැන අමුතුවෙන් ප්‍රශ්න අහලා වැඩක් නෑ, රණ්ඩු කරලා වැඩක් නැහැ, මොකද දැන් ඒක ඇවිල්ලා ඉවරයි. එතකොට අපිට කරන්න තියෙන්නෙ ඒක සතියට යට කරන්න විතරයි තියෙන්නෙ ඒක, ඒකට සතිය තියන්න විතරයි තියෙන්නෙ, අපිට ඒකෙ යථාර්තය ඇත්ත මොකක්ද කියලා දකින්න.

ඉතින් අපිට එන සෑම අරමුණක්ම එන්නෙ යම්කිසි පණිවිඩයක් හංගගෙන. ඒ කියන්නෙ මේ දුක්ඛෙ ඤාණය, සමුදය ඤාණය, නිරෝධ ඤාණය, මාර්ග ඤාණය කියන මේ චතුරාර්ය සත්‍යය අවබෝධ කරගන්න පණිවිඩයක් හංඟන් තමයි එන්නෙ හැම අරමුණක්ම. එක්කො ඒක හරහා අපිට දුක්ඛෙ ඤාණය කියන එක වටහාගන්න එනවා වෙන්න පුලුවන්. ඉතින් ඒ මොන ඤාණය වුනත් වැටහෙන්න නම්, එන්න නම් අපි ඉස්සෙල්ලාම ඒකට සතිය තියන්න ඕනෙ. අරමුණක යථා ස්වභාවය අපිට පේන්න ඕනෙ. පේන්න නම් අපි ඒකට සිහිය තියන්න ඕන. ඉතින් ඒක රූපයක් හරහා හරි, හිත හරහා හරි, වේදනාවක් හරහා හරි මොකක් හරි ඒ හරහා සම්මා දිට්ඨිය පහළ වෙන්න තමයි මේ පාර කැපිලා තියෙන්නෙ. නිවැරදි දැක්ම. මොකක්ද මේ නිවැරදි දැක්ම කියන්නෙ. ඒ කියන්නෙ අරමුණක මේක තමයි යථා ස්වභාවය. නිවන කියන එක ඔය ඕනම තැනක තියෙන්න පුලුවන් ඇසට පේන රූපයක් තුළ, කණට ඇහෙන ශබ්දයක් තුළ නාසයට දැනෙන ගඳ සුවඳක්, දිවට

දැනෙන රසයක්, කයට දැනෙන ස්පර්ශයක් හිතට දැනෙන සිතුවිල්ලක මේ ඕන එකක් අස්සෙම නිවන හැංගිලා තියෙන්න පුලුවන්. අපි සිහිය තියලා සම්පජඤ්ඤය හරහා ඒකෙ ඇත්ත දැකපු තැන අපිට ඔය අවබෝධ ටික එන්න පුලුවන්. ඒක කොතන තියෙනවදා කියන්න අපි දන්නෙ නැහැ. ඉතින් සාමාන්‍ය බෞද්ධයා, සාමාන්‍ය මිනිස්සු හිතාගෙන ඉන්නෙ මේ දුක්ඛෙ ඥාණය කියලා කියන්නෙ දුක නැති කරන්න හදන එකක් කියලා. දුක නැති ලෝකයක් කියලා. දුක නැති ලෝකෙක අපි කොහොමද දුක ගැන ඥාණයක් උපදවා ගන්නෙ. එහෙම එකක් නෙවෙයි භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ.

මේ දුක නැති කරන්න හදන එකක් නෙවෙයි, ඔහු දුකට හිනාවෙනවා. ඒ කියන්නෙ දුක හරහා දුකේ ස්වභාවය තේරුම් ගන්නවා. දුකේ යථා ස්වභාවය තේරුම් ගන්නවා. ඉතින් යමක යථා ස්වභාවය තේරුම් ගන්න නම් යමක් එළඹෙන්න ඕනෙ, පැමිණෙන්න ඕනෙ, ඒකට මුහුණට මුහුණ දාන්න ඕනෙ. ඉතින් ඒ විදියට මේ මට්ටමේ ඉන්න යෝගාවචරයා මේ පුංචි පුංචි දුක් වල ඉඳලා ලොකු ලොකු දුක් වලට එයා පුරුදු වෙනවා. ඒ හැම එකක් හරහාම එයාගේ මනසේ දුක්ඛෙ ඥාණය ටික ටික වැඩෙනවා. ඒක තමයි සම්මා දිට්ඨිය කියලා කියන්නෙ. ඒ හරහා තමයි සම්මා දිට්ඨිය වැඩෙන්නෙ. ඉතින් සැරියුත් ස්වාමීන් වහන්සේ පටිසම්භිදාමග්ග පාලියේ දේශනා කරල තියෙනවා කියලා මම අහලා තියෙනවා, ලොකු ස්වාමීන් වහන්සේගේ දේශනා වල මේ දුක අපිට ආකාර හතරකින් වැටහෙන්න ගන්නවා මේකට සතිය තිබ්බහම. මේ ආකාර හතරෙන් වැටහෙන එක තමයි දුක්ඛෙ ඥාණය කියලා කියන්නෙ. ඒ තමයි පීලනට්ටො සංකතට්ටො සංතාපට්ඨො විපරිණාමට්ඨො කියලා.

ඉතින් පීලන කියන්නෙ සතිය තියන තියන හැම අරමුණකම පෙලන ස්වභාවයක් තියෙනවා කියලා මේ යෝගාවචරයාට අහුවෙනවා, ඒක දැනෙනවා. ආශ්වාස අරමුණක වුනත්, ප්‍රශ්වාස අරමුණක වුනත් හිස් තැනක තිබුනත්, ශබ්දයක තිබුනත් මේ හැම තැනකම තියෙන්නෙ පෙලන ස්වභාවය එයාට පේනවා. ඒ තරමට සති සම්පජඤ්ඤ දෙක මේ මට්ටමේ දියුණුයි. ඉතින් සාමාන්‍යයෙන් අපි යෝගාවචරයාත් මුල් කාලෙදි සිතුවිලි වැඩි වුනාම භාවනාව වැරදිලා කියලා හිතනවා. හුස්ම පේනවා නම්, හුස්ම විතරක් පේනවා නම් හොඳයි කියලා හිතෙනවා. ඒක තමයි හොඳම භාවනාව කියලා හිතෙනවා. සිතුවිලි සිතෙන එක නරක වෙලා කියලා හිතෙනවා. නමුත් ධම්මානුපස්සනා කොටසට යෝගාවචරයා ආවහම මේ ඔක්කොම එකයි. මේ එකකවත් හොඳක් හෝ නරකක් කියලා දෙයක් නැහැ. මේ ඔක්කොම එකයි, හැම එකකම තියෙන්නෙ පෙලන ස්වභාවයක්. ඒ හරහා එයාට දුකක් කියලා එකක් තියෙනවා. දුක කියලා කියන්නෙ මෙහෙම එකක්. ඒ හරහා තමයි මේ දුක්ඛෙ ඥාණය සම්මා දිට්ඨිය කියන එක වැටහෙන්න ගන්නෙ. ඉතින් හැම අරමුණකම ඉඳලා හැම චිත්තක්ෂණයකම හටගන්න හැම අරමුණකම ඉඳලා ඊළඟ අරමුණට මේ ස්වභාවය ගලාගෙන යනවා. ඒක අපි දකින එකක් තමයි මේ කරන්නෙ.

අපි කවදාවත් මෙහෙම අරමුණෙන් අරමුණට චිත්තක්ෂණයෙන් චිත්තක්ෂණයට මෙහෙම දුකක් ගලාගෙන ගියාට, පෙලන ස්වභාවයක් ගලාගෙන ගියාට මේක ලෝකෙ තියෙන පරම සත්‍යයක් කියලා අපි කවදාවත් දකින්න උත්සාහ කලේ නැහැ. අපි හිතන් හිටියේ මේක කාගෙහරි වැරැද්දක්. මට මේ පෙලන ස්වභාවය ඇවිල්ලා තියෙන්නෙ අහවලාගේ වැරැද්දක්, නැත්නම් මගේ කරුමෙ, කරුමෙ. අපි හිතුවේ එහෙමයි. ඒ නිසා අපි හැමවෙලේම උත්සාහ කලේ මේක නැති කරන්න, අපි දඟලන්න. නමුත් මේ මට්ටමට සති සම්පජඤ්ඤයත් එක්ක වැඩුනු යෝගාවචරයාගේ හැම චිත්තක්ෂණයකම මේක දෝරෙ ගලනවා කියලා පේනවා. මේක ලෝකෙ පරම සත්‍යයක් කියලා තේරෙනවා. ඒක තමයි සම්මාදිට්ඨිය කියලා කියන්නෙ. පෙලන ස්වභාවය. ඊළඟට සංකතට්ඨො, මේ හැම එකක්ම

මේ එකකින් හටගන්න දෙයක්නෙවෙයි. එකක තියෙන දේකුත් නෙවෙයි. හේතු ගොඩකින් හට අරගෙන හැම දෙයක් පුරාම පැතිරිලා තියෙන දෙයක්. ඒ හේතු සම්බන්ධතාවය බුදු කෙනෙකුට විතරයි සියයට සීයක් දකින්න පුලුවන්. අපිට ඒ ඒ කෙනාගේ ප්‍රඥා මට්ටමට අනුව යම් යම් මට්ටමින් දකින්න පුලුවන් මේ හේතුඵල සම්බන්ධය. අපි මොන විදියට විග්‍රහ කලත්, කිසිම කෙනෙක් මේ හේතුඵල සම්බන්ධය කාටවත්ම බැහැ සියයට සීයක් සම්පූර්ණයෙන් විග්‍රහ කරන්න. ඒක කරන්න පුලුවන් බුදු කෙනෙකුන්ට විතරමයි. ඒ ඒ කෙනාගේ ප්‍රඥා මට්ටම අනුව සුළු සුළුවෙන් මේක විග්‍රහ කරන්න පුලුවන් එච්චරයි.

ඉතින් මේක වැටහෙන්න ගන්නවා යෝගාවචරයාට එයාගේ ප්‍රඥා මට්ටමින්. මේ එකක්වත් තනි එකකින් හැදිච්චි දෙයක් නෙවෙයි. හේතු රාශියකින් සම්පාදනය වෙමින් ඇවිල්ලා තියෙන්නෙ. හේතු සහිතයි, මේක දැනගන්න එකත් සම්මාදිට්ඨිය, ඥාණයක්. ඊටපස්සෙ සංතාපනට්ඨො කියන්නෙ දැවෙන තැවෙන ස්වභාවයක් තියෙනව හැම ආරම්මණයකම. හැම චිත්තක්ෂණයකම. ඒක සාමාන්‍යයෙන් යෝගාවචරයා මුල් කාලෙදි කායානුපස්සනා කොටස් වලදි මේ තවන දවන ගතිය නිසා තමයි, ඒකට බය නිසා තමයි හැමදේම වෙනස් කරගන්න හදන්නෙ. ඒ නිසා එක අරමුණකින් තව අරමුණකට පනින්නෙ. ඒ නිසයි අපි ඉරියව් මාරු කරන්නෙ. ඒ නිසයි අපි සැප හොයන්නෙ. ඒ නිසයි අපි චරුවුරු ගාන්නෙ. මේ දවන තවන ගතියට බයයි. ඒක නමුත් අපිට කරන්න තියෙන්නෙ ඥාණය කියන එක පහළ කරගන්නවා නම් සම්මාදිට්ඨිය කියන එක උපදවාගන්නවා නම් මේ එන එන හැම ආරම්මණයකටම, ඒ ආරම්මණයක් තුළ අපි දකින දේට සාදර වෙන එක විතරයි. දවන තවන ගතියට සාදර වෙන එක විතරයි.

ඒකට අපි ඒකට විරුද්ධ වෙන්න ගියොත් ඒ දවන තවන ගතියට අපි හැප්පෙන්න ගියොත් තව තවත් දැවිල්ල තැවිල්ල වැඩියි. පෙලෙන ස්වභාවයට අපි තවත් පෙලෙන්න ගියොත් ඒ පෙලන ස්වභාවය තව වැඩිවෙනවා විතරයි. ඒක නෙවෙයි, ආර්ය සත්‍යය අවබෝධ වෙන පාර. ඒක අනාර්ය පාර. ආර්ය සත්‍යය අවබෝධ වෙන පාර තමයි පෙලෙන, දැවෙන, තැවෙන තැන්වලදි ඒකට පෙලෙන්නෙ නැතිව, දැවෙන්නෙ තැවෙන්නෙ නැතිව, ඒකට සාදර වෙන එක. ඒ හරහා තමයි ආර්ය සත්‍යයට දොර ඇරෙන්නෙ. සම්මා දිට්ඨියට දොර ඇරෙන්නෙ. දුක්ඛෙ ඥාණය කියන එක අපිට වැටහෙන්නෙ. ඊටපස්සෙ විපරිණාම මට්ටම කියලා කියන්නෙ මේ අරමුණෙන් අරමුණට මේක මොහොතින් මොහොත වෙනස් වෙනවා. එක චිත්ත ක්ෂණයක් කිසි දවසක මේ ලෝකෙ එක සමාන චිත්තක්ෂණ දෙකක් අපිට හොයන්න හම්බෙන්නෙ නැහැ. එක සමාන අරමුණු දෙකක් අපිට හොයන්න හම්බෙන් නැහැ. ඒක මොහොතින් මොහොත විපරිණාමයට පත්වෙනවා, වෙනස් වෙනවා, පෙරලෙනවා. ඉතින් එහෙම ලෝකෙක තමයි අපි මේ ස්ථිර කරගන්න, තහවුරු කරගන්න හදන්නෙ.

මං ආදරය කරපු කෙනා මට ස්ථිරව ආදරය කරන්න ඕනෙ, හැමදාම මට ආදරය කරන්න ඕනෙ, මට සතුටින් ඉන්න පුලුවන් වෙන්න ඕනෙ. මේ ඇත්ත නොදැකපු නිසා අපිට මේක වෙන්නෙ. අපි ඇත්ත දැක්කා නම් අපි ආදරය කරයි, අපි ආදරේ කරනවා හැබැයි අර විදියට බලාපොරොත්තු වෙන්නෑ, මොකද දන්නවා මේ ආදරේ ඉල්ලන මමත් වෙනස් වෙන චරිතයක්. ආදරේ බලාපොරොත්තු වෙන චරිතයත් එහෙමයි. ඉතින් අපි කොහොමද ස්ථිර දෙයක් ඉල්ලන්නෙ. ඉතින් මේ යථාර්තය නොදකින නිසාම තමයි මනුස්සයො දුකින් පීඩා විඳින්නෙ. සසර ගමනට කෙක්ක වැටෙන්නෙ. ඉතින් මේ විදියට සති සම්පජඤ්ඤය හරහා මේ ධම්මානුපස්සනා කොටසට ආපු යෝගාවචරයාට හැම චිත්තක්ෂණයකම හැම අරමුණකම මුල, මැද, අග හරහා එයාට දුක්ඛ සත්‍යය පේනවා. හැම අරමුණකම මුල, මැද, අග හරහා එයාට දුක්ඛෙ ඥාණය වැටහෙනවා. ඕක තමයි සම්මාදිට්ඨිය කියලා කියන්නෙ.

ඉතින් දේශනාව ටිකක් දිගවුනා. අපි ඊළඟ දේශනාවෙන් නැවත මුණගැහෙමු. මේ සම්මාදිට්ඨි, කොටස තමයි මාර්ග අංග වල සම්මා දිට්ඨි කොටස තමයි අපි අද විස්තර කලේ. තෙරුවන් සරණයි!

30) [සම්මා සංකල්පය,අන්ත දෙකෙන් අතමිදීමෙන් හටගන්නක් | Mindfulness and eightfold path | @alokaalighttolife]

තෙරුවන් සරණයි! අපි අද කතා කරන්නෙ සතිපට්ඨාන සූත්‍ර දේශනා මාලාවේ ආර්ය අෂ්ටාංගික මාර්ගය සම්බන්ධයෙන් අපි ඉතුරු කොටස කතා කරගෙන යන්නෙ අපි මීට කලින් ගෙනාවේ සම්මා දිට්ඨිය සම්බන්ධ දේශනාවක්. ඉතින් අද සම්මා සංකප්ප සම්බන්ධ කොටස තමයි කතා කරන්නෙ. කොහොමද මේ සතිය කියන එක ප්‍රායෝගිකව පුහුණු කරගෙන යද්දි ධම්මානුපස්සනා කොටසේදී අපිට මේක වැටහෙන්නෙ කියන එක. ඉතින් පොතේ හැටියට ආර්ය අෂ්ටාංගික මාර්ගයට තමයි මධ්‍යම ප්‍රතිපදාව කියලා හඳුන්වන්නෙ. ඉතින් මේ සතිය කියන එක පුරුදු කරගෙන මේ කායානුපස්සනා හරහා වේදනානුපස්සනා, චිත්තානුපස්සනා හරහා ධම්මානුපස්සනා කොටස දක්වා මේක ප්‍රායෝගිකව අරගෙන යෝගාවචරයෙකුට ජීවිතයට එන ඕනෑම දෙයක් ආවහම ඒකෙ මේ අන්ත දෙක සහ මැද කියන මේ කාරණා තුන තේරුම් ගන්න පුලුවන් වෙනවා. ඒ කියන්නෙ කාමසුඛල්ලිකානු අන්තයයි, අත්ථකිලමතානු අන්තයයි ඒකට අහුනොවී මැද්දට ඉන්න කාරණය ගොඩක් වෙලාවට යෝගාවචරයාට අහුවෙනවා මේ මට්ටමට ආවට පස්සෙ. ඒක මේ තේරුම් ගැනීම නැති හැම මොහොතකම අපි යම්කිසි දෘෂ්ටියකට වැටිලා ඉන්නෙ අන්ත දෙකේ එක කාමසුඛල්ලිකානු අන්තය අල්ලලා දෘෂ්ටියකට වැටෙනවා. නැත්නම් අත්තකිලමතානු අන්තය අල්ලලා දෘෂ්ටියකට වැටෙනවා.

ආවාසනාව තමයි අපි හිතනවා ඒකම තමයි මධ්‍යම ප්‍රතිපදාව කියලා. අපි මුලා වෙනවා මේක හරියටම බෙදලා වෙන් කරලා තේරුම්ගන්න පුළුල් මානසිකත්වය හැදිලා නැත්නම්. ඉතින් මේකට අපේ ලොකු ස්වාමීන් වහන්සේ ලස්සන උපමාවක් කියනවා. අපි එහෙම අන්තයකට වැටිලා ඒකම මධ්‍යම ප්‍රතිපදාව කියලා වැරදි දෘෂ්ටියකට වැටෙන එක හරියට බල්ලෙක් තමන්ගේම වලිගය අල්ලගන්න වටේ කැරකෙනවා වගේ එකක් තමයි මෙතන සිද්ධ වෙන්නෙ කියලා. හෙව්වට ඒගොල්ලන්ට මධ්‍යම ප්‍රතිපදාව තමන් අල්ලගත්තු දෘෂ්ටියේ කැරකි කැරකි හෙව්වට හම්බවෙන්නෙ නැහැ. ඉතින් මේ මට්ටමට ආපු යෝගාවචරයෙක්ගේ මනස මේ විදියට මේ කාමසුඛල්ලිකානු, අත්තකිලමතානු කියන මේ අන්ත දෙකට වැටෙන විදියයි, ඒ දෙකට අහුනොවී මැද්දට වැටෙන විදියයි දකින්න පුලුවන් නම් ඒකට තමයි අපි කියන්නෙ නියම දෘෂ්ටිය, සම්මා දිට්ඨිය, නැත්නම් පුළුල් දෘෂ්ටියක් තියෙනවා කියලා තමයි කියන්නෙ. ඒක නැති කෙනෙකුගේ දෘෂ්ටිය බොහෝම පටුයි. ඕනෑ තරම් මිත්‍යා දෘෂ්ටියට වැටෙන්න ඉඩකඩ තියෙනවා.

ඉතින් මේක මේ මට්ටමට එන්න නම් මේ සම්බන්ධයෙන් හොඳ සුතමය ඥාණයක් තියෙන්න ඕනෙ, නිවැරදි මාර්ගය සම්බන්ධයෙන්. ඒ ගැන හොඳ චින්තාමය ඥාණයක් තියෙන්නත් ඕනෙ, ප්‍රත්‍යක්ෂ වශයෙන් මේක ස්පර්ශ කරලා තියෙන්නත් ඕනෙ. එතකොට තමයි මේ සම්මා දිට්ඨිය කියන පුළුල් මානසිකත්වය විවර වෙන්නෙ. ඒ මානසිකත්වය එන්නෙ. ඉතින් අපේ ජීවිතේට එන ඕනෑම දේක මේ පැතිකඩ තුනම අපිට පේනකල්, වැටහෙනකල්, තේරුම් යනකල් එක අන්තයකටවත් අහුවෙන්නෙ නැතිව, අත්දකින හැමදේකම මේක දකිනතුරු අපිට පුදුමාකාර ඉවසීමකින් පුහුණුව කරගෙන යන්න සිද්ධ

වෙනවා. සාමාන්‍යයෙන් ස්වභාවයෙන්ම අපිට සිද්ධ වෙන්නෙ දෙයක මුල දකිනකොටම අපි හදිසි වෙනවා. අපි කලබල වෙලා ඒකට ප්‍රතිචාර ප්‍රතික්‍රියා දක්වන්න උත්සාහ කරනවා.

ඉතින් මේ පුළුල් දෘෂ්ටිය එන්න කලින් අපි ඒ විදියට තමයි හැසිරෙන්නෙ. එතකොට අපි අත්දකින දෙයක ඇහෙන්, කණෙන්, නාසයෙන්, දිවෙන්, කයින්, මනසින් දෙයක් ගත්තහම අපි හදිසි වෙලා ප්‍රතිචාර ප්‍රතික්‍රියා දක්වන්න යන්නෙ කොහොමද, මේ සම්මා සංකප්ප වල විරුද්ධ වුනු මිච්ඡා සංකප්ප වලින් තමයි අල්ලන්නෙ. එක්කො කාම සංකල්පයකින් ඒකට ප්‍රතිචාර දක්වනවා. එක්කො ව්‍යාපාද සංකල්පයකින් ඒකට ප්‍රතිචාර දක්වනවා. එක්කො විහිංසා විතර්කයකින් සංකල්පයකින් අපි ඒකට ප්‍රතිචාර දක්වන්න උත්සාහ කරනවා. අපි උදාහරණයක් ගමු මේකට. දැන් පර්යංක සක්මන එදිනෙදා වශයෙන් සතිය පුරුදු කරන යෝගාවචරයෙකුට අපි හිතමු ඔන්න පර්යංකයට ගිහිල්ලා හොඳට පට්ටලා වෙලා ඉඳගෙන හුස්මට සිහිය තියාගෙන, නැත්නම් පිම්බීම හැකිලීම කියන මේ මූලික අරමුණ තෝරගෙන අපි ඕකට සිහිය තියාගෙන ඉද්දි ඔන්න ශබ්දයක් ඇහෙනවා. ඇහුනු ගමන් එක්කො අපි ඒකට ඇලෙනවා, එක්කො අපි ඒකට ගැටෙනවා. අපි ඇලුනොත් ඒක කාම විතර්ක, කාම සංකල්පය හරහා ඉස්සරහට යනවා. අපි ඒකට ගැටුනොත් ව්‍යාපාද විහිංසා විතර්ක හරහා ඒකෙ කතන්දර ගොතාගෙන ප්‍රපඤ්ච කරගෙන ඉස්සරහට යනවා.

ඉතින් මම අහලා තියෙනවා ප්‍රථම ධ්‍යාන ලාභියාට පවා, ප්‍රථම ධ්‍යානයේ ඉන්නකොට සමහර අවස්ථාවන් වලදී මේ විදියට මේ කාම ව්‍යාපාද විහිංසා විතර්ක, බාහිර අරමුණු නිසා පහළ වෙනවා කියලා මම අහලා තියෙනවා ප්‍රථම ධ්‍යාන ලාභියාට පවා. ඇයි එහෙම වෙන්නෙ, ප්‍රථම ධ්‍යාන ලාභියෙක් වුනත් එයාගේ මනසේ දෘෂ්ටිය පුළුල් වෙලා නැහැ, මේක තමයි දුක කියලා කියන්නෙ. මේක තමයි දුක්ඛ සත්‍යය කියලා කියන්නෙ, දුක ආර්ය සත්‍යයක් බවට හැරෙන තැන තමයි මේක කියන එක ඒ දෘෂ්ටිය තවම හැදිලා මදි. පුළුල්ව හැදිලා මදි. සම්මා දිට්ඨිය කියන කාරණයට කෙනෙකුගේ මනස ආවට පස්සෙ අපි කලින් වීඩියෝ එකේ සඳහන් කරපු විදියට එයාට ඒ අරමුණ නිසා ආපු දුක, ඒ පෙළීම බලන් ඉන්න පුලුවන්. ඒ කියන්නෙ ශබ්දය නිසා හරි, වේදනාවක් නිසා හරි, සිතුවිල්ලක් නිසා හරි, පෙලීමක්, වේදනාවක්, දුකක් එනවා නම් ඒක එයාට බලන් ඉන්න පුලුවන්. ඒ බලන් ඉන්නකොට ඒ පෙලීමෙන් අපේ මනස පෙලෙන් නැහැ.

මං හිතනවා මං මේ කියන එක තේරෙනවා ඇති කියලා. අපි අකැමැති රූපයක්, ගන්ධයක්, රසයක්, ස්පර්ශයක්, සිතුවිල්ලක් ආවහම ඒකෙ පෙළීමක් තියෙනවානෙ අපි කලින් වීඩියෝ එකේ සඳහන් කලා, දුක කියන එකේ කාරණා හතරකින් අපිට වැටහෙනවා, ඒකෙ පීලන අර්ථයක් තියෙනවා, ඒ කියන්නෙ පෙළීමක් තියෙනවා. ඒක පෙළීමක් සහිතව ආවට අපේ මනස ඒකෙන් පෙළෙන්නෙ නැහැ. ඇයි අපිට ඒක දිහා විවෘත මනසකින් බලන් ඉන්න පුලුවන් නිසා. එතකොට තමයි යෝගාවචරයාට මේ මට්ටමට හිත ආවට පස්සෙ අර ශබ්ද නිසා එයාගේ හිතට ශබ්ද වේදනා, උදාහරණයකට ගත්තෙ අපි ශබ්දයනෙ, ඒ ශබ්ද නිසා එයාට කාම විතර්ක විහිංසා විතර්ක ව්‍යාපාද විතර්ක එන්නෙ නැහැ. ඇයි එයාගේ මනසට පෙලීමක් නැතිව බලන් ඉන්න පුලුවන්. ඉතින් මේ මට්ටමට යෝගාවචරයාගේ හිත ආවහම එයාට ශබ්ද තියෙද්දිත් හුස්ම බලන්න පුලුවන්. වේදනා තියෙද්දිත් හුස්ම බලන්න පුලුවන්. සිතුවිලි තියෙද්දිත් හුස්ම බලන්න පුලුවන්. මේ මට්ටමේදී යෝගාවචරයා ගොඩාක් වෙලාවට කමටහන වාර්තා කරන්නෙ මට හුස්ම පේනවා, මට පිම්බීම හැකිලීම පේනවා, හැබැයි background එකෙන් ශබ්ද වේදනා සිතුවිලි ඇවිල්ලා යනවා වගේ පේනවා, ඒවා මගේ හිතට කිසිම කරදරයක් නැහැ. හැබැයි මට හුස්ම බලන්න පුලුවන් කියලා කියනවා. ඒ කියන්නෙ අරවා තියෙනවා එයාගේ මනසට ඒක තවදුරටත් පෙළීමක් බවට එන්නෙ නැහැ. ශබ්ද වේදනා සිතුවිලි කියන මේ හැම අවස්ථාවකදිම එයා හිත් කරදර ගන්නෙ

නැහැ. එයාට පුලුවන් මූලික අරමුණත් එක්ක ඉස්සරහට යන්න. මේකට තමයි අපි කියන්නෙ විපස්සනා සම්මා දිට්ඨිය කියලා.

මේ මට්ටමේදී යෝගාවචරයාගේ මනසේ අහවල් දේ වේවා, අහවල් දේ නොවේවා කියලා කිසිම ප්‍රාර්ථනාවක් නැහැ. නිකං බලන්න අපි මේ යෝග කර්මයට අඩිය තියපු ගමන් අපි හිතනවා මේක නැත්නම් හොඳයි, මේක නැත්නම් හොඳයි, මේක නැත්නම් මට භාවනාව හොඳට කරගන්න පුලුවන්, අරහෙම තිබුනානම් මට භාවනාව හොඳට කරගන්න පුලුවන්, මෙහෙම වුනානම් හොඳයි කියලා වේවා නොවේවා කියන හැඟීම් ටිකක් අපේ මනසේ තියෙනවා. හැබැයි මේ මට්ටමට ආපු යෝගාවචරයාට අහවල් දේ නොවේවා කියලා එයා හිතන්නෙත් නෑ, අහවල් දේ වේවා කියලා හිතන්නෙත් නැහැ, මොකද එයාට එන හැමදෙයක් එක්කම මේ යථාර්තය පේනවා, ශබ්දයක් ආවා නම් ඒකත් එයාට දැනෙනවා. ඒකත් එයාට පේනවා, ඒකත් අඳුරගන්න පුලුවන්. ඒ ශබ්දය නිසා හිතට පීඩාවක් ආවා නම් ඒකත් පේනවා ඒකත් හඳුනගන්න පුලුවන්. කිසිම ලෙසකින්වත් අනේ මේ ශබ්ද නොතිබුනා නම් අනේ මේ වැස්ස නොතිබුනා නම්, මේ මැස්සො නොතිබුනා නම් මිනිස්සු කරදර නොකළා නම් එහෙම හැඟීම් නැහැ. අනේ මට හොඳ දේවල් ලැබුනා නම්, මෙහෙම වුනා නම් එහෙම කියලා ප්‍රාර්ථනාවල් නැහැ එයාගේ මනසේ.

ඒකයි ලොකු ස්වාමීන් වහන්සේ දේශනා කරනවා මේ හේතුව නිසා තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගයේ සම්මා දිට්ඨියට පස්සෙ සම්මා සංකප්පය දාලා තියෙන්නෙ මෙන්න මේ නිසයි කියලා උන්වහන්සේ දේශනා කරනවා. ඇයි ඒ, සම්මා දිට්ඨිය ආවහම දෘෂ්ටිය නිවැරදි වුනහම මේ දේවල් දිහා, තමන්ගේ ජීවිතයට එන දේවල් දිහා අර කාම විතර්ක, විහිංසා විතර්ක, ව්‍යාපාද විතර්ක නැතිව එයාට දේවල් දිහා බලන්න පුලුවන්. මොකද මේ ධම්මානුපස්සනා කොටස කියන්නෙ ලෝකයේ ධර්මතා ටිකක් තියෙනවා. හැබැයි අපි ඒවා ධර්මතා වශයෙන් නෙවෙයි පුහුදුන් මනුස්සයා දකින්නෙ. ඒවා ආත්ම දෘෂ්ටියෙන් නිත්‍ය සංඥාවෙන් වට කරලා තමයි අපි ඒවා දකින්නෙ. අපි මේ සතිය හරහා යන්නෙ ධර්මතා ධර්මතා වශයෙන් තේරුම් ගන්න. එතකොට තමයි අපි ඒවා නිත්‍ය, සුඛ, සුභ, ආත්ම වශයෙන් ගන්නෙ නැත්තෙ. එතකොට මේ මට්ටමට ආපු යෝගාවචරයා මේ දේවල් දිහා මේක ධර්මතාවයක් කියන මානසිකත්වයෙන් තමයි බලන්නෙ. ශබ්දය කියන්නෙ ධර්මතාවයක්, දුක කියන්නෙ ධර්මතාවයක්, සිතුවිල්ලක් කියන්නෙ ධර්මතාවයක්, වේදනාවක් කියන්නෙ ධර්මතාවයක් ඒ නිසා දුකක් වෙහෙසක් දැනෙනවා නම් ඒකත් ධර්මතාවයක් කියන අදහසින් තමයි එයාගේ මනස දේවල් දිහා බලන්නෙ. එතකොට එයා තවදුරටත් මේ ධර්මතා නිසා පැටලෙන්නේ නැහැ. ඒවා වැරදියට ගන්නෙ නැහැ. ඒවා නිසා තවදුරටත් කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, විහිංසා විතර්ක පහළ වෙන්නෙ නැති මට්ටමකට එයාගේ මනස හැදෙනවා.

ඒ නිසා ඕනෑම සිද්ධියකදි මේ සිද්ධියක් ආවට පස්සෙ යෝගාවචරයාට අත්දකින්න මනස හසුරුවන්න පුලුවන් විකල්ප මාර්ග තුනක් තියෙනවා, ඒ තමයි කාමසුකල්ලිකානු අන්තය සහ අත්තකිලමතානු අන්තය සහ මැද්ද. එතකොට මේ කොටස් තුනම යෝගාවචරයාට පේනකල් යෝගාවචරයා කරන්න ඕනෙ නැවත නැවත තමන්ගේ අරමුණත් එක්ක ඉස්සරහට යන්න ඕනෙ. ඉස්සරහින් තියාගත්තු මූලික අරමුණ නැවත නැවත අපි කියන්නෙ නැවත නැවත අරමුණ දකින්න ඕනෙ. නැවත නැවත මෙනෙහි කරන්න ඕනෙ, නැවත නැවත භාවනා කරන්න භාවිත බහුලීකෘත කරන්න කියෙන්නෙ ඒ නිසයි. මේ අත්තකිලමතානු අන්තයයි, කාමසුකල්ලිකානු අන්තයයි මැදයි කියන මේ කොටස් තුන හරියට පේනකල් අපිට කරන්න තියෙන්නෙ මේ මූලික අරමුණ කියලා භාවනා අරමුණ ඉස්සරහින් තියාගෙන මේක දිගින් දිගටම පුරුදු වෙන එකටයි. ඒ වැටහීම ආවට පස්සෙ

තවදුරටත් යෝගාවචරයාට ශබ්ද ප්‍රශ්නයක් නෙවෙයි, වේදනා ප්‍රශ්නයක් නෙවෙයි, සිතුවිලි ප්‍රශ්නයක් නෙවෙයි, තවදුරටත් කෙලෙස් කියන ඒවා ලෝකෙ තියෙන දේවල් රාග ද්වේෂ මෝහ ආදී දේවල් එයාට තවදුරටත් ප්‍රශ්නයක් නෙවෙයි.

ඉතින් මේ විදියට මේ විපස්සනා සම්මා දිට්ඨියට යෝගාවචරයාගේ මනස ආවට පස්සෙ යෝගාවචරයාට තේරෙනවා ඒක එයාට දැනෙනවා භාවනාව කියන්නෙ පර්යංකය විතරක්ම නෙවෙයි කියලා. භාවනාව කියන්නෙ මේ හුස්ම විතරක්ම නෙවෙයි කියලා. භාවනාව කියන්නෙ පිම්බීම හැකිළීම විතරක්ම නෙවෙයි කියලා. භාවනාව කියන්නෙ සක්මන විතරක්ම නෙවෙයි කියලා එයාට තේරෙනවා. එයා අවදියෙන් ඉන්න සෑම තැනකදිම එයාගේ මනස ඇතුලාන්තයට හැරිලයි තියෙන්නෙ. ඇතුලාන්තයට කිඳාබහින ගතියක් තියෙනවා හැමවෙලේම හැම මොහොතක්ම එයාට භාවනාවක්. ඔන්න ඔය මට්ටමේදී තමයි යෝගාවචරයාට භාවනාවයි ජීවිතයයි කියන්නෙ දෙකක් නෙවෙයි මේ දෙකම වෙන් කරන්න බැරි එකක් කියන තැනට මනස එනවා. භාවනාව කියන්නෙ ජීවිතේ මේ බත් කනවා වගේ කෑල්ලක් නෙවෙයි. හැම මොහොතකම අපි මේ අවදි මනස තියාගෙන ඉන්නවා නම් ඒක භාවනාවක් වෙනවා. ඔබ මේ වෙලාවේ ඉන්නෙ බස්හෝල්ට් එකක වෙන්න පුලුවන්. ඔබ දැන් ඉන්නෙ ඔබ වැඩ කරන තැනක වෙන්න පුලුවන්. ඔබ මේ වෙලාවේ ඉන්නෙ පාටියක වෙන්න පුලුවන්. ඔබ මේ වෙලාවේ ඉන්නෙ මළගෙදරක වෙන්න පුලුවන්, ඔබ මේ වෙලාවේ ඉන්නෙ වෙන මොකක්හරි තැනක වෙන්න පුලුවන්. එතන තමයි ඔබේ භාවනා මධ්‍යස්ථානය. ඒක ඔබේ භාවනාව.

අපේ මිනිස්සු අහනවා මෙච්චර කාර්ය බහුල ජීවිතේ භාවනා කරන්නෙ කොහොමද. එක්කෙනෙක් මට මතකයි comment එකක් දාලා තිබුනා නිකං කන්න දෙනවා නම් අපිටත් සතිය ලැබෙනවා කියලා. එහෙම මානසිකත්ව තියෙන අයට මේක තේරෙන්නෙ නැහැ. මොකද ඒ තමයි ඒගොල්ලන්ගේ conscious level එක. ඒ ගොල්ලන්ගේ මනස තියෙන මට්ටම, ඒගොල්ලන්ට පේන්නෙ එච්චරයි. ඉතින් මිනිස්සු හිතන් ඉන්නවා මේ හිත හදනවා කියන එකට වෙනම වෙලාවක් ඕනෙ කියලා, නැහැ. භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය විශ්ව දහමක්. මේක මේ කොටසකට විතරක් කරන්න පුලුවන් පටු ධර්මයක් නෙවෙයි. සමස්ත විශ්වයටම අදාළ ධර්මතාවයක්. ඉතින් අපිට මේක ඕනම තැනකදි උරගා බලන්න පුලුවන්, අත්හදා බලන්න පුලුවන්. එතකොට යෝගාවචරයා මේ මට්ටමේදී ප්‍රතිචාර ප්‍රතික්‍රියා, කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, විහිංසා විතර්ක වශයෙන් ප්‍රතිචාර ප්‍රතික්‍රියා දක්වන්නෙ නැතිව එන දේත් එක්ක එයාට ඉස්සරහට යන්න පුලුවන් මානසික තත්වයක් ගොඩනැගෙනවා.

ඉතින් යෝගාවචරයාට මේ මට්ටමේදී තේරෙනවා යම්කිසි දේකට එයා ප්‍රතිචාර දැක්වුවොත් එයා ප්‍රතික්‍රියා දැක්වුවොත්, චේතනා පහළ කලොත් ඔක්කොම කර්ම බවට පත්වෙනවා කියන්න එයා දන්නවා. ස්වභාවිකව හටගන්න කිසිවක් එහෙම වෙන්නෙ නැහැ. අපි ස්වභාවිකව හටගත්තු දේට චේතනාත්මකව ප්‍රතික්‍රියා දැක්වුවොත් එකෙදි කර්ම රැස් වෙනවා. කර්ම බවට පත්වෙනවා. කර්ම රැස් නොකර ඉන්නෙ ඔන්න ඔහොමයි. ඉතින් මේකට අපේ ලොකු ස්වාමීන් වහන්සේ හරි ලස්සන නමක් දීලා තියෙනවා, නිතරම උන්වහන්සේ මේක දේශනා කරනවා. ඒ තමයි මේ තමයි අපණ්ණක ප්‍රතිපදාව කියන්නෙ. අවිරුද්ධ ප්‍රතිපදාව කියන්නෙ කියලා. කිසිවකට ප්‍රතිචාර දක්වන් නෑ, ප්‍රතික්‍රියා දක්වන්නෙ නැහැ. මොකක් ආවත් බලන් ඉන්නවා, මොකද ඒක යනවා කියන්න දන්න නිසා. ඒක යනවා කියන්න දන්නවා අර මොන විදියේ අරමුණක් ආවත් ඒකට සියයට සීයක් සාදර වෙලා අවදියෙන් ඉන්නවා. ඒකට හැප්පෙන්න යන්නෙ නැහැ, මේ මට්ටමේදිත් යෝගාවචරයාගේ ආකල්ප වල විශාල වෙනසක් වෙන්න පටන් ගන්නවා.

සමහර අය හිතන් ඉන්නවා මෙහෙම බලන් ඉන්න එක, මේක නිකං ඉන්න එකක්, ඔහේ නෝංජල් කමක්, කැක්කුමක් නැතිකමක්, කොන්ද පණ නැතිකමක් කියලා තමයි ගොඩක් අය හිතන් ඉන්නෙ, මේ එන දේවල් දිහා බලන් ඉන්න එක. ඇත්තටම ඔහොම කියන අයටත් වැඩිය කැක්කුමක්, පෞරුෂයක් තියෙන නිසා තමයි මේක දිහා බලන් ඉන්න පුලුවන් වෙන්නෙ. ඒ කෑගහන අයට ඇත්තටම එච්චර කැක්කුමකුත් නැහැ, එච්චර පෞරුෂයකුත් නැහැ මේක දිහා බලන් ඉන්න. බලන් ඉන්න තමයි පෞරුෂය තියෙන්න ඕනෙ. කෑගහන්න නෙවෙයි පෞරුෂය තියෙන්න ඕනෙ. එතකොට සංසාර දුක කියන එක හදාගන්න බැරි නිසා තමයි යෝගාවචරයාට ඒ කැක්කුම දැනෙන නිසා තමයි ඒක දිහා බලන් ඉන්නෙ. එන ඕනම දෙයක් දිහා එයා බලන් ඉන්නවා, මොකද එයා දන්නවා මේක ආවා වගේම යනවා කියන්න. ඉතින් සාමාන්‍යයෙන් මිනිස්සු හිතාගෙන ඉන්නෙ මේ මොහොතේ දුක වේදනාව කියන එක ආවාට ඒක අපි අයින් කලොත් ඊළඟ මොහොත හරිම හොඳයි කියලා තමයි අපි හිතන් ඉන්නෙ. එහෙම එකක් නැහැ මේ මොහොත වගේම මොහොතක් තමයි ඊළඟ මොහොතත්.

අපේ ලොකු ස්වාමීන් වහන්සේ ඕකට ලස්සන උපමාවක් දෙනවා, ගිනිඅඟුරක් අතට අරගෙන දකුණු අතට අරගෙන අත පිච්චෙන නිසා වම් අතට මාරු කරනවා. ඒක පිච්චෙනකොට අනිත් අතට මාරු කරනවා. ඒ වගේ අත්දෙකට මාරුවෙන් මාරුවට ගිනි අඟුර මාරු කර කර ඉන්නවා වගේ වැඩක් තමයි මිනිස්සු කරන්නෙ. ඇත්තටම නම් දකුණු අතේ තියෙන ගිනි අඟුර වම් අතට මාරු කරපු ගමන්ම නම් පොඩි සහනයක් තියෙනවා මොකද තාම අරක පිච්චෙන්න පටන් අරන් නෑනෙ. ඔන්න ඕකට රැවටිලා තමයි අපි මේ දේවල් අරකෙන් මේකට, අරකෙන් මේකට මාරු කර කර ඉන්නෙ. අර පුංචි මාරු කරපු ක්ෂණයෙන්ම පොඩි සහනයක් තියෙනවානෙ, ඒකට තමයි අපි මේ රැවටිලා ඉන්නෙ. හැබැයි පිච්චෙනවා. දුක තියෙන කල් මාරුකලාට වැඩක් වෙන්නෙ නැහැ. හැම ඉරියව්වකම, හැම චිත්තක්ෂණයකම මෙහෙමඉ එකක් තියෙනවා. ඉතින් අපිට කරන්න තියෙන්නෙ ඒක දැනගෙන, ඒක දැකගෙන ඇති හැටියෙන් බාරගන්න පුලුවන් මානසිකත්වයක් හදාගන්න එක විතරයි. එතකොට ප්‍රශ්නෙ ඉවරයි.

ඉතින් ගොඩාක් අය මේ පර්යංක භාවනාවෙදි වුනත් භාවනා කරද්දි වුනත් ගොඩාක් අය අපිට ඉරියව්ව මාරු කරන්නැතිව ඉන්න බැරි ඔන්න ඔය නිසයි. අපි ඉඳගෙන හිටියොත්, කකුල් නමලා ඉඳගෙන හිටියොත් රිදෙනවා කියලා දිගහරිනවා. අපි හිතනවා දිග හැරපු ගමන්ම එනවානෙ සහනයක්. අපි එන්න ඒකට තමයි අහුවෙන්නෙ. හැබැයි කකුල් දිගහැරපු ඉරියව්වෙත් අපිට සදහටම ඉන්න බැහැ. මට මතකයි මගෙන් එක professor කෙනෙක් campus එකක උගන්වන professor කෙනෙක් මගෙන් අහනවා මෙහෙණින් වහන්ස, මේ පර්යංකයේ ඉද්දි කකුල් රිදෙනකොට දිගහැරලා භාවනා කලාම මොකක්ද තියෙන ප්‍රශ්නෙ අහනවා. ඇයි ඉතින් අපි බොරුවට දුක් විඳින්නෙ කියලා අහනවා. ඉතින් professor වුනාට ඒගොල්ලන්ට තියෙන්නෙ දැනුමක් විතරයි. මේකෙ තියෙන ගැඹුර තේරෙන් නැහැ. ඉතින් අපි ඔය අර එන තාවකාලික සුවයට අපි හැමදාම මුළු ජීවිත කාලෙම අපි ඕක තමයි කරන්නෙ. අපේ මිනිස්සු අරමුණෙන් අරමුණට හිත පන්න පන්න ඉන්නෙ. තනිවෙන්න බැරි, විවේකීව ඉන්න බැරි ඒකයි. ඒගොල්ලන්ට පිච්චෙනවා. පිච්චෙනකොට එකකින් එකකට, එකකින් එකකට පන්නනවා හිත. ඉතින් ඔයගොල්ලො social media ගියහම කරන්නෙත් ඕකම තමයි. එකකින් අනිකට පන්න පන්න යන්නෙ දැනට බලන එකේ දුකක් එනවා ටිකක් වෙලා ගියාම අනිකට පනිනවා. ඒකෙන් තව එකකට පනිනවා, ඒකෙන් තව එකකට පනිනවා. ඉතින් මැරෙනකල්ම ඔච්චරයි කරන්න තියෙන්නෙ. මේකෙ ඇත්ත මොකක්ද කියන එක ඒගොල්ලො හොයන්නෙ නැහැ, උත්සාහ

කරන්නෙ නැහැ, බලන්න මේකට ස්ථිර මේකට විසඳුමක් තියෙනවානෙ කියන එක මේ ගොල්ලන්ට තේරෙන්නෙ නැහැ.

ඉතින් යෝගාවචරයාට මේ මට්ටමට ආවට පස්සෙ ලොකු ස්වාමීන් වහන්සේ දේශනා කරන්නෙ භාවනා කරන්න දෙයක් නැහැ, එයාට තේරෙනවා භාවනා කරන්න දෙයක් නැහැ, කෙරෙන දෙයක් තියෙන්නෙ. ඒක දිහා බලන් ඉන්න විතරයි තියෙන්නෙ. භාවනා කරන්න දෙයක් නැහැ. හැබැයි අපි මේකට බහින්නෙ යමක් කරන්න. භාවනා කරන්න. මේ ධම්මානුපස්සනා කොටසට යෝගාවචරයා ආවහම දන්නවා අපිට අමුතුවෙන් කරන්න දෙයක් නැහැ, කෙරෙන දෙයක් තියෙනවා, ඒක දිහා අවදි මනසින් බලන් ඉන්න විතරයි තියෙන්නෙ. ඒ තාක් කල් අපි බේරිලා. අපි ආරක්ෂිතයි. ඉතින් මේ මට්ටමට ආවහම යෝගාවචරයාට තේරෙනවා, කතා කළ යුතු දේ, කතා කළ යුතු තැන, කතා කළ යුතු මට්ටම, නිහඬ විය යුතු වෙලාව, මේ විෂය මට කතා කරන්න සුදුසු එකක්ද නැති එකක්ද, මේ වැඩේ මම මෙතනදි කරන්න ඕනෙද නැද්ද මෙන්න මේ වැටහීම් ටික යෝගාවචරයාට එනවා මේ මට්ටමේදී. ඉතින් විපස්සනා යෝගාවචරයෙකුට මේ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ සම්මා දිට්ඨි සම්මා සංකප්ප කියන දෙකෙන් තමන්ගේ නිවන් මගට කරගන්න සෑහෙන වැඩ ටිකක් තියෙනවා මේ මට්ටමේදි මේ කොටස් දෙකත් එක්ක.

ඉතින් මේ සම්මා සංකප්ප වෙනුවට අපිට සාමාන්‍යයෙන් පුරුදු වෙලා තියෙන්නෙ මිත්‍යා සංකල්පය ඉස්සරහින් තියාගෙන වැඩ කරන්න. නමුත් අපි මේ සක්මන පර්යංක එදිනෙදා වශයෙන් මූලික අරමුණක් ඉස්සරහින් තියාගෙන අපි මේ ඒක දිහා බලාගෙන ඒකත් ඉස්සරහින් තියාගෙන මේ යන්නෙ ඇත්ත ඇතිහැටියෙන් මොකක්ද කියන එක දකින්න. අඩුම ගානෙ නිකමට බලන්න ඔයගොල්ලො ගිහිල්ලා සතිපට්ඨාන සූත්‍රය මුල ඉඳලා අගට අරගෙන බලන්න සතිපට්ඨාන සූත්‍රයේ කොහේහරි කියලා තියෙනවාද කියලා මේක අනිත්‍ය විදියට හිතන්න මේක දුක් විදියට හිතන්න, මේක අනාත්ම විදියට හිතන්න, අනිත්‍යයි, අනිත්‍යයි, දුකයි, දුකයි, අනාත්මයි, අනාත්මයි කියලා හිතන්න කියලා කොහේහරි තියෙනවාද කියලා. සතිපට්ඨාන සූත්‍රයේ කිසිම තැනක ඔය වචන තුනවත් නැහැ. එහෙම කියන්නෙ නැහැ. ඇයි ඒ, මේ එහෙම දෙයක් නෙවෙයි මේකෙ තියෙන්නෙ. භාග්‍යවතුන් වහන්සේ අපිට ආරාධනා කරන්නෙ එහෙම හිතන්න නෙවෙයි, යථාර්තය දකින්න, අරමුණ අරමුණ විදියට බලන්න කියලයි කියන්නෙ. ඒ ඇත්ත දැක්කම අපිට අනිත්‍යය වශයෙන් දෙයක් වැටහෙනවා. දුක් වශයෙන් දෙයක් වැටහෙනවා. අනාත්ම වශයෙන් දෙයක් වැටහෙනවා. ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ ඕකට හරි ලස්සන උපමාවක් දෙනවා මුහුදේ රැල්ල මාරු කර කර ගියාට තෙත් වෙන එක වෙනස් වෙන් නැහැනෙ. හැම රැල්ලකම තෙතක් තියෙනවා. ඒ වගේ තමයි අපි මොකක් මාරු කලත් දුක වෙනස් වෙන්නෙ නැහැ. ඒක තියෙනවා.

ඉතින් අපිට ඇති තරම් ඕන තරම් දවසක් පුරා අරමුණු එනවා. සෑම අරමුණකම මේක තියෙනවා. ඉතින් අපි මේ දුක දුකක් හැටියට දකින්න යන්නෙ, අපිට අවශ්‍යතාවය තියෙනවා නම් ඉස්සරහින් තියාගෙන එන හැම අරමුණකම මේ සත්‍යය දකින්න පුලුවන් අපිට සිහිය තියාගෙන වැඩ කටයුතු කරනවා නම්. ඉතින් දැන් ඔබට තේරෙනවා ඇති මේ සියලුම ක්‍රියාවන් ටික, මේ සියලුම සිද්ධීන් ටික වෙන්නෙ වර්තමාන මොහොතෙ කියන එක. අපිට මේක දකින්න පුලුවන් මේ මොහොතේ කියන එක. මොකද මේ සියලු සත්‍යය තියෙන්නෙ වර්තමාන මොහොතේ. නමුත් අපි මේ වර්තමාන මොහොතට වෛර කරන නිසා තමයි අපිට ඒක පේන්නෙ නැත්තෙ. අපි සංසාරයක් පුරා වැඩියෙන්ම වෛර කරලා තියෙන්නෙ මේ මොහොතට. ඒ නිසයි අපි අතීතයට අනාගතයට පනින්නෙ මෙච්චර. මෙච්චරම ආස. ඉතින් මේ මොහොතේ මේක දකින්න අපි උත්සාහ කලොත් අපිට

දැනෙනවා මේ මොහොතට අවදි වෙලා මේක දකින්න උත්සාහ කලොත් කෙලෙස් කැපෙන්නෙ ඒ මොහොතේ කියලා. ඉතින් ඒකට තමයි පොතේ වචනයක් තියෙනවා තදංග නිබ්බුති කියලා. තදංග වශයෙන් අපිට නිවන ස්පර්ශ කරන්න පුලුවන් වෙන්නෙ ඔන්න ඔතනදි තමයි ඔය විදියට.

ඉතින් මෙච්චරම සරල දේ අපි හිතනවා මේක වෙන්න පුලුවන් දෙයක්ද, බුදුරජාණන් වහන්සේගේ ධර්මය හරි ගම්භීරයිනෙ. මේක මෙච්චර ඉක්මණට හම්බවෙයිද මේක මෙච්චර සරලයිද කියලා මොකද අපේ මනස programme කරලා තියෙන්නෙ සංකීර්ණ දේවල් හොයන්න. ඉතින් කෙනෙක්ගේ ඉස්සරහට මේක ආවත් විශ්වාස කරන්නෑ හිතනවා නෑ මේක වැරදිලා, මේක හරි සංකීර්ණයි මෙච්චර ලේසියට හම්බෙයිද කියලා. ඉතින් මේක වෙන්නෙ වර්තමාන මොහොතට සාදර වීමක් හරහා. වර්තමාන මොහොත සියයට සීයක් බාරගැනීම හරහා. වර්තමාන මොහොතට සියයට සීයක් අවදිවීම හරහා. මේක තණ්හාවෙන් සාදර වීමක් නෙවෙයි. සිහියෙන් අවදි මනසින් සාදර වීමක්. ඒකෙන් තමයි අපිට ඇත්ත කියන එක දැකගන්න පුලුවන් වෙන්නෙ. ඉතින් අපි සක්මන පර්යංක වශයෙන් මූලික කමටහනක් ඉස්සරහින් තියාගෙන අපි සතිමත්ව ඉන්න තාක් කල් මේ මිත්‍යා සංකල්ප විතරක් නෙවෙයි අනුසය කෙලෙස්වත් හටගන්න ඉඩක් එන්නෑ ගොඩක් වෙලාවට. ඉතින් වීතික්කම කෙලෙසුත් නැහැ, පරිඋට්ඨාන කෙලෙසුත් නැහැ, මිච්ඡා සංකල්පත් නැහැ.

සතිමත් එක චිත්තක්ෂණයකදි, ඔබ හරියට එක චිත්තක්ෂණයකට සතිය තියනවා නම් ඔය වීතික්කම කෙලෙස් පරිඋට්ඨාන කෙලෙස්, අනුසය කෙලෙස් පවා මනසින් අයින් වෙනවා. මිත්‍යා සංකප්ප, කාම ව්‍යාපාද විහිංසා විතර්ක මනසින් අයින් වෙනවා. සබ්බ පාපස්ස අකරණං කියන එක සිද්ධ වෙන්නෙ ඔන්න ඔහොමයි. ඔබ සතිමත් චිත්තක්ෂණයක් ගත කරද්දි ඔබ සියලුම පාපයන්ගෙන් අයින් වෙලා, ඕකම තමයි කුසලස්ස උපසම්පදා කියලා කියන්නෙ එහෙම නැතිව අමුතුවෙන් මේ පින් කර කර යන එකක් නෙවෙයි. නිකමට ගිහිල්ලා බලන්නකො ආර්ය අෂ්ටාංගික මාර්ගයේ එහෙම පින් කරන එකක් තියෙනවාද කියලා. එහෙම නැහැ. අපි වර්තමාන මොහොතට අවදි වීම හරහා සබ්බ පාපස්ස අකරණං කියනඉ එකත් සිද්ධ වෙලත් ඉවරයි, කුසලස්ස උපසම්පදා කියන එකත් සිද්ධ වෙලා ඉවරයි. සචිත්ත පරියොදපනං කියන එක සිද්ධ වෙලත් ඉවරයි. කාරණා තුනම මේ එකම සතිමත් චිත්ත ක්ෂණයක සිද්ධ වෙනවා.

ඉතින් සාමාන්‍යයෙන් ඔබ හොඳින් මතක තියාගන්න ඔබට මේකෙදි තේරෙනවද මේ සබ්බ පාපස්ස අකරණං කුසලස්ස උපසම්පදා සචිත්ත පරියොදපනං කියන එක මොකුත් නොකර ඉන්න එකෙන් තමයි සිද්ධ වෙන්නෙ. මොකුත් නොකර ඉන්නවා කියන්නෙ මේ අවදි මනසින් ඉන්න මොහොතක ඒ කාරණා තුනම සිද්ධ වෙනවා. ඉතින් යමක් කරනවා නම් නිකං තේරුම් ගන්න, නිකං චේතනාත්මකව යමක් කරනවා නම් ඉතින් ඒක අකුසලයක් තමයි. සංස්කාරයක් තමයි රැස්වෙන්නෙ. යමක් සංස්කාර නම් ඒක සියලු සංස්කාරයෝ දුක් නම් ඒක අකුසලයක් වෙන්න එපැයි. මොකද පින් පව් දෙකම සංස්කාර. ඉතින් භාග්‍යවතුන් වහන්සේ මේක දන්න නිසා තමයි අඩුවෙන්ම සංස්කාර රැස්වෙන පාරක් අපිට කියාදීලා තියෙන්නෙ ඒ තමයි මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය. ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන්නෙ සංස්කාර රැස් වෙන එකක්. හැබැයි ලෝකෙ අඩුවෙන්ම සංස්කාර රැස් වෙන තැනක්. ඉතින් අපිට මේක අපි මේ සතිපට්ඨාන භාවනා ක්‍රමයත් එක්ක සතිය ඉස්සරහින් තියාගෙන, මූලික අරමුණක් ඉස්සරහින් තියාගෙන යද්දි අපි නිතරම කරන්නෙ අරමුණ මෙනෙහි කරමින්, මෙනෙහි කරමින් නැවත නැවත අරමුණට

හිත අරගෙන සිහියෙන් ඉස්සරහට යන එක, එතකොට මේ මිච්ඡා සංකප්ප එන්නෙ නැහැ. කාමච්ඡන්ද ව්‍යාපාද, විහිංසා විතර්ක එන්නෙ නැහැ.

ඉතින් මේක පර්යංකයේත් පුරුදු කරනවා, සක්මනේදිත් පුරුදු කරනවා, එදිනෙදා වැඩ වලදිත් පුරුදු කරනකොට එතකොට ඔබට තේරෙන්න ගන්නවා අපේ මනස මිච්ඡා සංකප්ප වලට අහුවෙන්නෙ නැහැ. ඉතින් යම්තැනක කාම විතර්කය, ව්‍යාපාද විතර්කය, විහිංසා විතර්කය හටගන්නෙ නැහැ කියන්නෙම එතන තියෙන්නෙ නෙක්ඛම්ම සංකප්පය, අව්‍යාපාද සංකප්පය, අවිහිංසා සංකප්පය. එකම සතිමත් චිත්තක්ෂණයක මේ සියල්ල සිද්ධ වෙනවා අපි දන්නෙ නැති වුනාට. ඉතින් මං හිතනවා දවසකට එක හුස්මක් හරි අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ දවසකට එක හුස්මක් හරි සිහියෙන් දකින්න. එක මොහොතක් හරි සිහියෙන් ඉන්න. එතකොට ඔබ හිතන්න මේ එක තත්පරයක සිහිය තිබ්බහම මෙහෙම වෙනවා නම් විනාඩියකට පැයකට විනාඩි පහක් අපි මෙහෙම තිබ්බොත් කොහොමද තියෙයිද කියලා. එතකොට ඔබ දැනගන්න මේ විදියට තමයි අපි මේ සම්මා දිට්ඨිය හරහා සම්මා සංකප්ප එක්ක ඉස්සරහට ගණුදෙනු කරගෙන යන්නෙ.

ඉතින් අපි ඊළඟ වීඩියෝ එකේදී ඊළඟ මාර්ග අංගය සම්බන්ධයෙන් කතා කරමු. තෙරුවන් සරණයි!

31) වචී සංස්කාරය හිතේ දියුණුවට ඇති ලොකුම බාධකයයි | right words & mindfulness | @alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අද කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ ධම්මානුපස්සනා කොටසට අයිති දේශනාවක්. ආර්ය අෂ්ටාංගික මාර්ගය සම්බන්ධයෙන්. අපි කලින් සම්මා දිට්ඨි සම්මා සංකප්ප කියන කොටස් දෙක සම්බන්ධයෙන් කතා කලා කොහොමද මේ සතිය කියන එක ඉස්සරහින් තියාගෙන සතිපට්ඨාන භාවනා ක්‍රමය කියන එක පුරුදු කරද්දි කොහොමද මේ මාර්ග අංග එක්ක මනස වැඩ කරන්නෙ කියන එක තමයි මේ කතා කරගෙන යන්නෙ. එතකොට අද කතා කරන්නෙ සම්මා වාචා කියන කොටස. ඉතින් අපි සාමාන්‍යයෙන් පොතේ දැනුම විදියට දන්නෙ සම්මා වාචා කියන්නෙ වචනයෙන් වෙන වැරදි වලින් වළකිනවා කියන එක. ඉතින් ඔබ ඔබේ හිත දිහා බලපුවාම ඔබට තේරිලා ඇතිනෙ ඒක කොච්චර අමාරු වැඩක්ද කියලා. බොරු කියන එක, කේලම් කියන එක, පරුෂ වචන කියන එක, හිස් වචන කියන එකෙන් ගැලවෙන එක. හේතුව තමයි අපි අර ඇතුලතින් එන්න තියෙන source එක, ඇතුලතින් එන්න තියෙන උල්පත ගැන හිතන්නෙ නැතිව මේ මතුපිටින් වෙනස් කරන්න යන නිසා තමයි මේක අපිට අමාරු. අපි මේකෙ සිද්ධවෙන සිද්ධාන්තය දන්නෙ නැහැ අපි මතුපිටින් විතරක් මේක කරන්න යන නිසා.

ඉතින් අපි ඒක බලමු කොහොමද මේ සතියත් එක්ක පුහුණු කරගෙන යද්දි සක්මන පර්යංක එදිනෙදා වශයෙන් භාවනා පුහුණුවේ යෙදෙන කෙනෙකුට මේක වැඩ කරන්නෙ කියලා. ඉතින් සාමාන්‍යයෙන් බැලුවොත් අපි වැරදි කරන දොරවල් තුනක් තියෙනවානෙ, සිතයි කයයි වචනයයි කියලා. ඉතින් මේ දොරවල් තුනෙන් වැරදි කරන්න ගොඩාක්ම මුල් වෙන්නෙ ගොඩාක් වෙලාවට මේ වැරදි වචනය. ඒක හේතුවෙනවා අර කයින් වන වැරදි වලටත්, සමහරවෙලාවට හිතින් වන වැරදි වලටත් රුකුලක් වෙනවා මේ වචනය කියන එක. මේක ඒ තරමටම බරපතල කාරණයක්. ඒ නිසා තමයි මේ නිවන් මඟ යද්දි අපි

සංස්කාර කියලා දෙයක් අහලා තියෙනවා ධර්මයේ. මේ සංස්කාර සංසිඳවමින් යන ගමනේදී සංස්කාර සංසිඳෙනකොට, දැන් අපි අහලා තියෙනවා කාය සංස්කාර වචී සංස්කාර, චිත්ත සංස්කාර කියලා. අපි ඔයගොල්ලන්ගෙන් ඇහුවොත්, කෙනෙක්ගෙන් ඇහුවොත් මේ නිවන් මග පුහුණු කරගෙන යද්දි, භාවනා කරගෙන යද්දි මේ සංස්කාර වලින් ඉස්සෙල්ලාම සංසිඳෙන්නෙ මොකක්ද, දෙවෙනියට සංසිඳෙන්නෙ මොකක්ද, තුන්වෙනියට සංසිඳෙන්නෙ මොකක්ද කියලා ඇහුවොත් අපි ගොඩක් වෙලාවට කියන්නෙ කාය සංස්කාරය තමයි මුලින්, දෙවෙනියට වචී සංස්කාරය, තුන්වෙනියට චිත්ත සංස්කාර කියලා. නමුත් ඇත්තටම මේක එහෙම නෙවෙයි වෙන්නෙ. ප්‍රායෝගික පුහුණුව කරගෙන යද්දි ඉස්සෙල්ලම සංසිඳෙන්නෙ වචී සංස්කාර. ඊටපස්සෙ තමයි කාය සංස්කාර, ඊටපස්සෙ තමයි චිත්ත සංස්කාර. එතකොට ඔබට තේරෙන්න ඕනෙ කොයිතරම් මේ සංසාර උගුලට අහුවෙන්න වචනය කියන එක වචී සංස්කාරය කියන එක බලපානවද කියන එක. ඒක හරි සියුම් විදියට වැඩ කරන්නෙ.

අපි බලමු ඒක හෙමින් වැඩ කරන්නෙ කොහොමද කියලා කතා කරලා. ඉතින් අපි පොඩ්ඩක් ඕලාරික තැන ඉඳලා කතා කරන්න පටන් ගත්තොත්, ගොරෝසු තැන ඉඳලා මේ වචනයේ නිවැරදි බව හදාගන්න යන ගමනේදී ඕනවට වැඩිය කයිවාරු ගහන එක නවත්වන්නත් ඕනෙ. ඒ කියන්නෙ ඕනවට වැඩිය කයිවාරු ගහන එක නවත්වනවා කියන්නෙ ප්‍රමාණයට කතා කිරීම අපිට දැනෙන්න ඕනෙ. සම්මා වාචාව කියන එකට ආවහම පමණට කතා කිරීම හැදෙන්න ඕන සහ කයිවාරු ගහන අයගෙන් වෙන් වෙලා ඉන්න පුලුවන් මානසිකත්වය හැදෙන්න ඕනෙ. නමුත් අපි සමාන්‍යයෙන් මේ දෙකම කරන් නැහැනෙ. අපි කයිවාරු ගහන අයට තමයි කැමැති. අපි සමගි සංගම් වලට බැඳෙන්න තමයි කැමැති එහෙම තැන්වලට යන්න තමයි කැමැති. ඒ වගේම අපි වැඩිපුර කතා කරන්න තමයි කැමැති. මේක සිද්ධ වෙන විදියක් තියෙනවා. ඉතින් ඒක දැනගන්න නම් මේ වචනය කියන එක බිඳිලා එන මානසික තත්ව දෙකක් තියෙනවා. ඒ කියන්නෙ බණ පොතේ හැටියට කිව්වොත් චෛතසික ධර්ම දෙකක් තියෙනවා ඒ දෙකෙන් තමයි වචනය කියන එක බිඳෙන්නෙ. ඒ චෛතසික ධර්ම දෙක තමයි විතක්ක විචාර කියලා කියන්නෙ. විතර්කය සහ විචාරය කියන දෙකෙන් තමයි වචනය කටින් එළියට එන වචනයක් විදියට බිඳිලා එන්නෙ.

ඉතින් අපි හිතමුකො අපි කටවහගෙන ඉන්නෙ කියලා. අපි කටින් කතා කරන් නැහැ. කටින් කතා කලේ නැතිවුනාට අර විතක්ක විචාර දෙක නිසා හිත දොඩමළුයි නම් හිත කතා කරනවා නම් ඇත්තටම මේ අදාළ වැඩේ කෙරෙන්නෙ නැහැ, එහෙම කෙනෙකුට බණක්වත් ඇහුවට ඒක ප්‍රයෝජනයක් නැහැ. නිකමට බලන්නකො ගොඩක් අය අපිට කියනවා බණක් ඇහුවට ගොඩක් දේවල් මතක හිටින් නැහැ. අමතක වෙනවා. හරියට කරුණු කාරණා ඔළුවට යන්නැහැ. හේතුව තමයි අපි බණ අහනකොට වචනයෙන්, අපේ කට නිහඬ වුනා අපේ හිත දොඩමළුවයි තියෙන්නෙ. හිත කතා කරනවා. හිත විතර්ක විචාර වලට අහුවෙලා. එතකොට බණ ටිකක් ඇහුවත් ප්‍රයෝජනයක් නැහැ. ඒක තේරෙනවා ඇති ගොඩක් අය ඉන්නවා අපි මේ දාන වීඩියෝස් වුනත් දේශනාවක් දෙතුන් පාර අහනවා. එතකොට ඔබට දැනිලා තියෙනවාද පළවෙනි වතාව අහනවට වැඩිය දෙවෙනි වතාවේ පළවෙනි වතාවේ තිබුනදවත් කියලා හිතන්න බැරි කාරණා වැටහෙනවා. තුන්වෙනි වතාව අහනකොට ඊට වැඩිය වැටහෙනවා මේවා කලින් දේශනාවේ තිබ්බද කියලත් හිතෙනවා. ඒ තරමටම වැටහීම වැඩියි නැවත නැවත ඒක අහද්දි, එක්කො පොතක් කියවද්දි. ඒකෙන් මොකක්ද අපිට තේරුම් ගන්න තියෙන්නෙ. අර පළවෙනි වතාව අහනකොට විතර්ක විචාර මනසේ වැඩියි. එතකොට අහපු බණින් අර කණාවට වගේ

වචනයක් දෙකක් තමයි ඔළුවට යන්නෙ. එතකොට නමුත් බණේ වැදගත් කමක් තිබ්බා කියලා තේරුණොත් අපි ඒක නැවත අහන්න පෙළඹෙනවා. අහනකොට අපි දන්නවා මේ මගහැරිච්ච් ටිකක් තියෙන නිසා තමයි අපි දෙවෙනි වතාවට අහන්නෙ. එතකොට අපිට තව ටිකක් වැඩිපුර අවධානයෙන් අහන්නෙ. එතකොට විතක්ක විචාර අඩුවෙනවා ටිකක්. එතකොට වැඩිපුර ටිකක් වැටහෙන්න ගන්නවා.

ඒ නිසා මේ කට විතරක් වහගෙන ඉන්න එකක්, වචනය බිඳෙන එක නවත්වන එකෙන් විතරක් මේ අදාළ කෘත්‍යය වෙන්නෙ නැහැ. අර මනසේ ඇතුලේ තියෙන විතර්ක විචාර කියන චෛතසික ධර්ම දෙකට තමයි අපි උත්තර හොයන්න ඕනෙ. ඉතින් මේ වචනය කියන එක හරිම චපල දෙයක්. විතක්ක විචාර චෛතසික දෙක හරිම චපලයි, ඒ නිසා තමයි අපි සාමාන්‍ය ව්‍යවහාරයේ කතාවක් හැදිලා තියෙන්නෙ දිවට ඇටකටු නැති හන්දා නැවෙන නැවෙන පැත්තට කතා කරනවා කියලා. මේ වචනය කියන එක එච්චර චපල නිසා, ඉතින් මෙන්න මේ කියන වචනය නිසා තමයි, වචනය හරහා තමයි, වචනය විසින් තමයි ලෝකයේ හොඳ නරක අතට හැරෙන එක, ලෝකය හොඳ නරක පැත්තට පෙරලෙන එක තීරණය වෙන්නෙ ගොඩාක් වෙලාවට මේ වචනය හරහා. එ නිසා තමයි අපිට මේකෙන් ගැලවෙන්න ලේසි නැත්තෙ. මොකද මේ වචනය තමයි ගොඩාක් වෙලාවට ලෝකය කියන එක පාලනය කරන්නෙ. ඒ නිසයි අපිට මේ විතක්ක විචාර චෛතසික දෙකට උත්තර හොයාගන්න අමාරු වෙන්නෙ. ඒ නිසා හිතක් හදන්න යනකොට කතාව සහමුලින්ම නතර කළ යුතුයි කියලා කියන්නෙ මෙන්න මේ නිසයි.

භාවනා මධ්‍යස්ථාන වලට ගිහිල්ලා භාවනා කරපු අය දන්නවා ඇති හොඳට භාවනා මධ්‍යස්ථානවල කතාව තහනම්, mobile use කරන්න තහනම්, පොත්පත් අනංමනං බණ අහන්න තහනම්. ඇයි මෙහෙම කරලා තියෙන්නෙ කියලා ගොඩක් අයට තේරුම් ගන්න බැහැ. මොකද එයාලට මේ සුතමය ඥාණය නැහැ. ඒ නිසා ගොඩාක් වෙලාවට ඒ නීතිත් එක්ක හැප්පෙනවා. ගොඩාක් වෙලාවට මෙච්චරටම කතා නොකර ඉන්න ඕනෙද, මට මතකයි මම බුරුමෙ භාවනා කරන්න ගිය කාලෙ, එහෙ මොන විදියකටවත් එහෙ කතා කරන්න දෙන්නෙ නැහැ. ඉතාම දැඩි නීතියක්. මේ එකට හිතවත්ව ගිය අය එක්කවත් කතා කරන්න දෙන්නෙ නැහැ. හැමතැනම අපිව පරීක්ෂා කරන්න අය දාලා තියෙනවා කතා කරනවාද කියලා බලන්න. එතකොට ගොඩක් අයට මේක දරන්නෙ නැහැ, ඔරොත්තු දෙන්නෙ නැහැ මේ කතාව නවත්වන්න කියන එක. ඉතින් ගොඩක් අය හිතනවා භාවනා කරනවා කියලා ඔච්චර කතා නොකර ඉන්න ඕනෙද කියලා සමහරු ඒ විදියට හරි පටු විදියට මේ නීතිය ගන්නවා.

එතකොට අපි දැනගන්න ඕනෙ අපි centre එකකට යනවානම් ඒ centre එකක නීති පද්ධතියක් හදලා තියෙන්නෙ භාවනා කරපු ගුරුවරයෙක්. එතකොට ඒ ගුරුවරයෙක් නීතියක් හදන්නෙ මොකක් හරි දෙයක් දන්න හින්දානෙ. ඒ ගුරුවරයාගේ මට්ටමට අපි තාම ගිහිල්ලා නැහැ. එතකොට අන්න එතෙන්ට තමයි ශ්‍රද්ධාව කියන එක ඕන. අපි තාම ගිහිල්ලා නැති හන්දා තමයි අපිට තේරෙන් නැත්තෙ වචනය මෙච්චර බලපානවද, කතා කරන එක මෙච්චරම නවත්වන්න ඕනෙද කියලා. එතකොට තමයි ශ්‍රද්ධාව ඕනෙ අදහාගෙන යන්න. මට තේරෙනකල් ඇයි මේ වචනය මෙච්චර බලවත් වෙන්නෙ, හානිකර වෙන්නෙ, කතාව මෙච්චරම නවත්වන්න ඕනෙ ඇයි කියන එක තේරෙනකල් ඒ නීතිය රැකගෙන ඉස්සරහට යන්න අපිට ශ්‍රද්ධාව ඕනෙ. ඒක නැති කෙනාට භාවනාව වැඩෙන් නැහැ. ඒක නැතිකෙනාට හොඳට මතක තියාගන්න centre එකකට ගිහිල්ලා centre එකක් තියෙන නීති රීති පද්ධතිය, කතිකාවත, ව්‍යවස්ථාව ප්‍රශ්න කරනවා නම් කෙනෙක් එයාට කිසි දවසක භාවනාව වැඩෙන් නැහැ. වැඩෙන්න ඔන්න ඕක තමයි නියම ශ්‍රද්ධාව

කියන්නෙ. එහෙම නැතිව මල්පහන් පූජා කරගෙන මේ ලක්ෂ ගණන් මල් පූජා කර කර පින්කම් කරන එක නෙවෙයි, මේ අදහාගෙන යන එක. ඔන්න ඕක තමයි බුදුරජාණන් වහන්සේ ශ්‍රද්ධාව කියන්නෙ. එතකොට තමයි ගමනක් තියෙන්නෙ ඉස්සරහට.

එහෙ බුරුමෙ කිසි ලෙසකින්වත් කතා කරන්න දෙන්නැහැ. සාමාන්‍යයෙන් වාචාල කටවල් තියෙන අයට බුරුමෙ ඉන්න බැහැ. ලේසි නැහැ. ඉන්න බැහැ එහෙ භාවනා කරන්න, එච්චර දැඩි නීතිරීති පද්ධතියක් දාලා තමයි එහෙ භාවනා කරන්නෙ. මම ලංකාවේ ඒ තරම් දැඩි නීති රීති තියෙන centre එකක් දැකලා නැහැ. අඩුගානෙ මගේ ලොකු ස්වාමීන් වහන්සේගේ centre එකත් බොහොම මිනිස්සුන්ට දරන්න පුලුවන් මට්ටමට, බොහොම බුරුලට තමයි තියෙන්නෙ. එහෙත් කතා කරන්න එපා කියලා තහනම් දාලා cctv camera පවා දාලා තියෙනවා. නමුත් අහන් නැහැ. බුරුමෙ නීතිය දාලා අපි ඉන්න කුටිය ඇතුලේ විතරයි අපිව බලන්න, අපිව පරීක්ෂා කරන්න කෙනෙක් නැත්තෙ. කුටියෙන් එළියට බැහැපු තැන ඉඳලා එළියෙ ගත කරන සෑම තැනකම අපි ගැන බලන්න පිරිසක් එහෙ වෙනම පත් කරලා ඉන්නවා අපි හරියට භාවනා කරනවාද, අපි කතාබහ කරනවාද, අපි කියවනවද, අපි නීතිරීති රකිනවාද නැද්ද කියලා බලන්න. එහෙ ගොඩක් වෙලාවට තුන්වතාවක් හතර වතාවක් වගේ තමයි අවවාද කරන්නෙ. ඒ නීතිය ඇහුවේ නැත්නම්, ඒක කැඩුවොත්, ඒකට යටත් වුන් නැත්නම් එයාලාව centre එකෙන් එළියට දානවා. ඉතින් එහෙම පද්ධතියක් තියෙන්න ඕනෙ. ඒ මොකද මේ ඒ ගුරුවරු දන්නවා මේ භාවනාව කියන එක වැඩෙන් නැහැ මේ කට කියන එක වැහුවෙ නැත්නම්. කතාව නැවැත්තුවෙ නැත්නම් වැඩෙන් නැහැ, ඒක කොහොමද වෙන්නෙ කියලා අපි ඉස්සරහට හෙමින් කතා කරගමු. මෙච්චරටම කතාව කියන එක, මේ ඔළුවට දාගන්න විතක්ක විචාර කියන එක මේ තොරතුරු දාගන්නවා කියන එක මෙච්චරටම ඉභාවනාවට බලපානවාද කියලා ඔබට තේරෙයි මේ කාරණා ටික හෙමින් ඔබ බොහොම සාවධානව ඇහුවොත්.

ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ දේශනා කරනවා කතා කරන්න එපා කියන එක, කතාව කියන එක මෙච්චරටම භාවනාවට බලපෑවත් අපිට කෙනෙකුට බලපෑම් කරන්න ගොඩාක් වෙලාවට අමාරුයි, මොකද දන්නවද මිනිස්සු වේල් තුනක් දවසට කෑම කනවට වැඩිය තොරතුරු වලට මිනිස්සු සළකනවා. කනවට වැඩිය මිනිස්සුන්ට තොරතුරු ඕනෙ. මිනිස්සු කනවට වැඩිය වියදම් කරනවා කියනවා මේ තොරතුරු වෙනුවෙන්. ඔබම බලන්න ඔබේ හදවතට තට්ටු කරලා. වේල් තුනක් කනවට වැඩිය වියදම් යන්නෙ මේ ලෝකෙ තියෙන තොරතුරු ගන්න වියදම් කරන එක නෙවෙයිද කියලා. කයිවාරු ගහන්න තොරතුරු ගන්න වියදම් කරන වියදම් කිරීම තමයි අපිට ගොඩාක් වෙලාවට වැඩිවෙලා තියෙන්නෙ. ඉතින් මේ තරමටම මිනිස්සුන්ට මේ තොරතුරු කියන එක ඕනෙ නිසා, කන කෑමටත් වැඩියෙන් තොරතුරු ඕන නිසා තමයි මේක පහදලා දෙන්න ගියහම යුද්ධ ප්‍රකාශ කරන්නෙ.

ඒ නිසා තමයි භාවනා මධ්‍යස්ථානයක මේ නීතියට අපිට යටත් වෙන්න බැරිවෙලා තියෙන්නෙ. ඒ තරමටම මේ වචනය කියන එක, මේ තොරතුරු කියන එක අපිට ඕනෙ. විතක්ක විචාර කියන එක හිත හිතා ඉන්න දේවල් ඕනෙ. නමුත් අපේ ශක්තීන් අපේ energies ගොඩාක් වැය වෙන්නෙ මේ කියන වචන නිසයි. මේ කියන විතක්ක විචාර නිසා ඒක යෝගාවචරයාට කාලයක් භාවනා කරපු කෙනෙකුට විවේකීව ඒක දැනෙනවා. මේ කතාව කොච්චර වෙහෙසක්ද කියලා. ඒ නිසා තමයි කාලයක් තිස්සේ එක දිගට භාවනාව පුහුණු වෙන යෝගාවචරයන්ට කතා කරන්න අවශ්‍යතාවයක් දැනෙන් නැත්තෙ. එතකොට ඒගොල්ලො ගොඩක් වෙලාවට මේ අහන දේකටත් බොහොම කෙටියෙන් උත්තරයක් දීලා පාඩුවේ ඉන්නවා. කතාව කියන එක වෙහෙසක්. ඒක දැනෙනවා අපේ

energies සැඟෙහන්න වැය වෙනවා මේ කතාවට, විතක්ක විචාර වලට. ඉතින් අපි කටින් කතා කරන්න කලින් හිතින්නෙ කතා කරන්නෙ. අර මොකද විතක්ක විචාර කියන චෛතසික දෙක හටගන්නෙ මනසේ. එතකොට අපි හිතින් තමයි ඉස්සෙල්ලාම දොඩමළු වෙන්නෙ. ඒකට පවා අපේ මේ ශක්තීන් සැඟෙහන ගොඩක් වැය වෙනවා. අපි කටින් කතා නොකළත් මේ හිතින් දොඩමළු වෙන එකේදි, හිතින් කතා කරන එකේදි ගොඩාක් අපේ ශක්තීන් වැයවෙන්න පටන් ගන්නවා. එතකොට දැන් මේ විතක්ක විචාර කියන එක, මේ කටින් වචනයක් විදියට එළියට එන්න කලින් හිතේනෙ විතක්ක විචාර කියන එක හටගන්නෙ. ඒ විතක්ක විචාර කියන ඒවා කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, විහිංසා විතර්ක ආදී වශයෙන් විවිධ විදියට මනසේ විතර්ක හටගන්න පුලුවන්.

එතකොට කටින් වචනයක් එළියට එන්න කලින් මනසේ තමයි විතර්ක හටගන්නෙ. මේ විතර්ක වැඩිවෙන්න හේතුවෙන ප්‍රධාන හේතුව තමයි අපේ දෘෂ්ටිය පිරිසිදු නැහැ. සම්මා දිට්ඨිය නැහැ. දැන් ඔයගොල්ලන්ට තේරෙනවාද මාර්ග අංග වල එක දෙක තුන ලස්සනට ගැලපිලා ඇවිල්ලා තියෙන හැටි. සම්මා වාචාව කියන, ඒ කියන්නෙ සම්මා වාචාවට එන්න බැරිව අපි කයිවාරු ගහන පැත්තට වැඩිපුර යන්නෙ ඊට කලින් තියෙන සම්මා සංකප්පය නැති නිසා. ඒ කියන්නෙ කාම විතර්ක, ව්‍යාපාද විතර්ක, විහිංසා විතර්ක වැඩිවෙනවා. ඒක වැඩිවෙන්න හේතුව වෙන්නෙ සම්මා දිට්ඨිය නැහැ. නිවැරදි දැක්ම නැහැ. සම්මා දිට්ඨිය කියන වීඩියෝ එක කරලා තියෙනවා. අපිට මේ දේවල් ගැන යථාර්තය තේරුම් ගත්තු මානසිකත්වයක් නැති නිසා තමයි අපේ මනසේ කාම, ව්‍යාපාද, විහිංසා වශයෙන් මේක මේ ප්‍රධාන category එක, කාම ව්‍යාපාද විහිංසා කියන එක. මේක යටතේ ඕන තරම් විතර්ක තියෙනවා. ඒවා වැඩිවෙන්නෙ අර නිවැරදි දැක්මක් නැති නිසා.

එතකොට මේ විතර්ක වැඩිවෙනකොට අපිට කතා කරන්න තියෙන අවශ්‍යතාවය වැඩිවෙනවා. කතා නොකර හිටියොත් එයාට මානසික ලෙඩක් හැදෙනවා, උන්මත්තක වෙනවා. දැන් තේරෙනවද ඔය තනිවෙලා ඉන්න අය කතා කරනවා වැඩි හේතුව? මොකද එයාලා තනියෙන් ඉන්නෙ. එතකොට එයාලා ඇතුලතින් දොඩමළු වෙනවා වැඩියි. ඊටපස්සෙ එයාලට කෙනෙක් හම්බවුනොත් පැය ගාණක් කියවනවා සමහරවිට එකම දේ. ඒක කරේ නැත්නම් එයා පිස්සු හැදෙනවා, එයාට මානසික ලෙඩක් හැදෙනවා, එහෙම නැත්නම් කායික ලෙඩක් විදියට එළියට යනවා. මේක අපි දැනගෙන ඉන්න ඕනෙ. එතකොට මම මේ වීඩියෝ එකක් කලින් කරලා තියෙනවා මේ පැවිදි වුනාම කෙලෙස් වැඩිවෙනවා, ඒ නිසා විවේචනය පරිස්සමින් කියලා. එකෙත් මම හිතන විදියට මම විස්තර කරලා තියෙනවා දැන් තේරෙනවාද, දැන් පැවිද්දෙක් හිත හදන පැත්තකට යන පැවිද්දෙක් හුදෙකලාවනෙ වැඩිපුර ඉන්නෙ. එතකොට කෙලෙස් ඇවිස්සෙනවා වැඩියි.

එතකොට මේ පැවිදි වුනහම කෙලෙස් ඇවිස්සෙනවා වැඩිවෙන නිසා තමයි භාග්‍යවතුන් වහන්සේ කියන්නෙ කාම සංඥාව කියන එක, කාමය අපි අයින් කලාට පස්සෙ, වස්තු කාමය අයින් කලාට පස්සෙ මේ හිත ඉස්සරහට රැකගෙන යන්න නම් රූප කර්මස්ථානයක හිත බඳින්න ඕනෙ කියලා බුදුරජාණන් වහන්සේ කියනවා. ඒ කියන්නෙ භාවනාවක් කළ යුතුමයි. කලේ නැත්නම් ඉස්සරහට යන්න බැහැ. එතකොට ප්‍රශ්නයක් වෙනවා. ඒ කියන්නෙ මේ සීලයෙන් අපි වීතික්කම කෙලෙස් වලට වැට බඳිනවානෙ. ඒකනේ අපි මේඉ කාම වස්තු අයින් කරනවා කියන්නෙ. කාමයෙන් අයින් කරනවා කියන්නෙ. එතකොට ඒක මේ භෞතිකව අයින් කරන දෙයක්නෙ. සීලයෙන් කරන්නෙ ඒක තමයි, භෞතිකව තියෙන කාම වස්තු ටික අයින් කරනවා. හැබැයි ඉතින් හිතෙන් කාමය අයින් වෙලා නැහැනෙ. මහණ වුනු ගමන් රහත් වෙන්නෙ නැහැනෙ. එතකොට වෙන්නෙ මොකක්ද, අර ඉන්ද්‍රියන්ගෙන් කාමය භුක්ති විඳින්න ඉඩක් නැතිව අපි ඒ දොරවල් ටික

වහනකොට මනසින් මේ කාම ව්‍යාපාද විහිංසා විදියට විතර්ක විදියට මේක එළියට බහින්න පටන් ගන්නවා. මොකද තවම මහණ වුනු පළියට සම්මා දිට්ඨිය හැදිලා නැහැනෙ. මේක කාලයක් ක්‍රමානුකූලව පුහුණු වෙනකොටනෙ අපේ දෘෂ්ටිය පිරිසිදු වෙන්නෙ. අපි ගත්තු වැරදි සංඥාවලින් ගත්තු දේවල් ටික අයින් වෙන්නෙ.

ඒ වෙනකල් ඒ දෘෂ්ටිය පිරිසිදු වෙනකල්, මේ විතර්ක වලට උත්තරයක් විදියට තමයි භාග්‍යවතුන් වහන්සේ රූප කර්මස්ථානයක හිත බඳින්න ඕනෙ කියන්නෙ. රූප කර්මස්ථානයක හිත බඳිනවා කියන්නෙ භාවනාවක් කළ යුතුමයි. එතකොට තමයි අපිට මේකත් එක්ක ඉස්සරහට යන්න පුලුවන් වෙන්නෙ. එහෙම නැතිවුනොත් අර ඇතුලත විතර්ක දොඩමළු වෙලා ඒක දැන් සම්මා වාචාව කියලා සිල් පදයකුත් තියෙන නිසා කතා නොකර හිටියොත් එක්කො එයා කායිකව ලෙඩ වෙනවා, එක්කො එයා මානසිකව ලෙඩ වෙනවා. ඒ නිසා තමයි ගොඩාක් වෙලාවට අපේ ලොකු ස්වාමීන් වහන්සේ ගොඩක් වෙලාවට මතක් කරන දෙයක්, අපේ ඇඟෙන් විශේෂයෙන් බඩ හරහා මොකක්හරි ලෙඩක්, බඩේ ලෙඩක් හරි මොකක් හරි එහෙම එකක් එළියට එනවා නම් එයාගේ මනසේ ලෙඩක් තියෙනවා. ඒ නිසා තමයි බඩේ ලෙඩ ගොඩක් එළියට එන්නෙ. එහෙම නැත්නම් ඇඟේ ලෙඩක් මොකක්හරි එළියට එනවා නම් අර ඇතුලේ තියෙන දෙයක් හිර කරගෙන තද කරගෙන ඉන්නෙ විතර්ක, ඒවා energies, ඒවා ශක්තීන්. ඒවා අපි හරහා අපි එළියට යන්න දෙන්නැතිව ඇතුලේ stuck කරගත්තොත් එක්කො එයාව කායිකව ලෙඩ වෙනවා. එක්කො මානසිකව ලෙඩ වෙනවා. ඉතින් මේකට උත්තරයක් තියෙන්න ඕනෙ. මේක බුදුරජාණන් වහන්සේ දන්නවා. ඒ නිසා තමයි බුදුරජාණන් වහන්සේ භාවනා ක්‍රම අපිට දීලා තියෙන්නෙ උත්තරයක් විදියට. ඒකට සාර්ථකම ක්‍රමයක් තමයි මේ සතිපට්ඨාන භාවනා ක්‍රමය කියන්නෙ. ඒකයි අපි මේක නැවත නැවත පුන පුනා මෙච්චර කියන්නෙ. මේක පුහුණුවෙන්න පටන් ගන්න කියලා.

එතකොට මේ කියන මේ ඇතුලත තියෙන මේ දොඩමළු ගතිය එළියට දැම්මෙ නැත්නම් ලෙඩක් හැදෙන නිසා තමයි වර්තමානයේ ඉන්න ගොඩක් අය මේක දන්නෙ නැතිවුනත් මේ ජනමාධ්‍ය කියන එක මේ social media කියන එක, මේ IT කියන එක, මේ තොරතුරු තාක්ෂණය කියන එක හොඳට අපි ගිලින්නෙ, අපි ඒකෙ උගුල්වලට මෙච්චර අහුවෙන්නෙ අපිට මේ කතා කරන්න ඉඩක් හදලා දීලා තියෙනවානෙ. අපිට මේ තොරතුරු තාක්ෂණය කියන එකෙන් කතා කරන්න ඉඩක් හදලා දීලා තියෙනවා, මේ ජනමාධ්‍ය කියන එක මේ තොරතුරු තාක්ෂණය කියන එක, මේ social media කියන එක. ඉතින් අපි ඇතිවෙන්න උදේ හිට රෑ වෙනකල් මේකෙ කතා කරනවා, වචන බිඳිනවා, තොරතුරු හුවමාරු කරගන්නවා. ඇයි මේ, ඇතුලත ගොඩ නැගෙන විතක්ක විචාර දෙක එළියට දාන්න හොඳ තෝතැන්නක් තමයි ජනමාධ්‍යය කියලා කියන්නෙ. අපි දන්නෙ නැහැ, ඒ නිසා තමයි භාවනා මධ්‍යස්ථාන වල භාවනා කරන්න ගියහම mobile phone එක බාරගන්නෙ. mobile phone එක use කරන්න දෙන්නැත්තේ ඒ නිසයි. මොකද මේ අන්ත දෙකක් එකට කරගෙන යන්න බැහැනෙ. භාවනාවට සම්පූර්ණයෙන් බාධා වෙන දේ තියාගෙන අපි කොහොමද භාවනා කරන්නෙ. ඒක වෙන්නෙ නැහැ.

ඉතින් මේක අත්දැකලාම බලන්න ඕනෙ මේක කොහොමද වෙන්නෙ කියලා බලන්න. ඉතින් හිතේ මේ දොඩමළු ගතිය වැඩිවුනු චරිත වලට තනිවෙලා ඉන්න බැරි ඒකයි. වර්තමානෙ ගොඩාක් අයට තනිවෙන්න බැරි ඒකයි. කයිවාරු නොගහා ඉන්න බැහැ. ඉතින් ඒකට හොඳම තෝතැන්න තමයි social media. දැන් ඔයගොල්ලො හිතයි අහයා social media භාවිතා කරන ගොඩක් අය කාමර අස්සට වෙලා ඉන්නෙ. ඔව් කාමර අස්සට වෙලා ඉන්නවා. ඒගොල්ලන්ට මුහුණට මුහුණ කතා කරන්න කෙනෙක් නැතිවුනාට social

media හරහා ඇති තරම් තමන්ගේ හිතේ තියෙන විතර්ක හෙළි කරන්න ඉඩ තියෙනවා. ඒ නිසා ඒගොල්ලො මේ භෞතිකව මුහුණට මුහුණ මිනිස්සුත් එක්ක තියෙන සම්බන්ධතා අඩු වෙලා. විවාහ වුනු දෙන්නෙක් වුනත් ගෙදර ඉන්න හැම කෙනාටම අද තියෙනවා mobile phone. ඉතින් ඒගොල්ලො තනි තනි ලෝකවල ඉන්නෙ ඇයි, ඒගොල්ලන්ගේ මනසේ තියෙන දේවල් එළියට දාන්න වමාරන්න තැන් තියෙනවා. ඒක නැතිවුනහම අපිට පිරිසත් එක්ක ඉන්න පුලුවන්.

ඉතින් මේකට හොඳම උදාහරණය තමයි පහුගිය කාලෙ වසංගතයත් තිබුනා. එතකොට රටවල් ලොක් කරලා තිබුනා. එතකොට ගොඩක් අය ඇතුලට හිරවුනා. එතකොට මොකක්ද වුනේ කියලා මතකයි නේද. ගොඩක් අය suicide කරගත්තා. ගොඩක් අයට මානසික ලෙඩ හැදුනා. ගෘහස්ථ හිංසනය වැඩිවුනා. ඇයි ඒවා වුනේ. එගොල්ලන්ට පුරුදු දැන් රහවැටිලා තියෙන්නෙ අර කායිකව තනිවෙලා හැබැයි මේ social media හරහා දොඩමළු වෙලා. ගෙයක් ඇතුලට ආවට පස්සෙ මුහුණට මුහුණ මනුස්සයෙක් ඇසුරු කරලා මේගොල්ලන්ට පුරුදු නැහැ. පුරුදු නැති නිසා ඒගොල්ලො එතනදි ප්‍රශ්නයක් හදාගන්නවා හිංසනය වැඩියි. ඒගොල්ලන්ට ඕනෙ අර ලෝකෙට යන්න. එළියට යන්න. ඒ නිසා තමයි තනිවුනාට පස්සෙ suicide කරගන්න හිතෙන්නෙ. පිස්සු හැදෙන්නෙ. ඇයි ඒගොල්ලන්ට මේක පුරුදු නැහැ. වචනය දොඩමළු කරන එක නවත්වලා ඉන්න පුරුදු නැහැ. හැබැයි අපිට දවසක් එනවා නවත්වන්න එන. අන්න ඒ නිසා තමයි අපි අඩුගානෙ ඒ ගැන හිතලවත් මේක train කරන්න ඕනෙ. ඒ නැතත් ඔබට භාවනාව දියුණු කරගන්න ඕන නම් නිවන් දකින්න ඕන නම් අනිවාර්යයෙන් මේක ඔබට අනුගමනය කරන්න සිද්ධ වෙනවා.

දැන් එතකොට මේ social media හරහා වුනත්, මුහුණට මුහුණ මුණගැහිලා වුනත් කෙනෙකුට මේ විතක්ක විචාර වලින් බැට කන ඇතුලෙන් දොඩමළු වෙන කෙනෙක් කියවද්දි ඇහුම් කන් දෙන කෙනා හරියට පරිස්සමින් ඇහුම්කන් දෙන්න ඕනෙ. නැත්නම් ඇහුම්කන් දෙන කෙනා පිස්සෙක් වෙනවා. ඉතින් එතකොට පැවිද්දො විදියට කර්මස්ථානාචාර්‍යවරු විදියට දැන් අපි වුනත් මිනිස්සුන්ව ආශ්‍රය කරන එක බොහෝම සීමිතව කරන්නෙ මෙන්න මේ නිසයි. මොකද අපි පරිස්සම් වෙන්න ඕනෙ ඔක්කොටම කලින්. ඒ නිසා මේ මට මතකයි මට ගොඩක් චෝදනා ඇවිල්ලා තිබුනා මිනිස්සුන්ට දොස් කියනවා, මානසික ප්‍රශ්න තියෙන අයට ඇහුම්කන් දෙන් නැහැ කියලා. මට අවශ්‍ය මට සීමිත මට පුලුවන් ප්‍රමාණයෙන් ඇහුම්කන් දෙනවා. මොකද ඔක්කොටම පොදුවේ ඇහුම්කන් දීලා මනස හදාගන්න පුලුවන් ක්‍රමවේදයකට තමයි චැනල් එක හදලා තියෙන්නෙ. එතකොට මාව පෞද්ගලිකවම කතා කරන්න අවශ්‍යතාවයක් ඇත්තටම නැහැ. චැනල් එකේ තියෙන දේශනා හරියට අහලා පුහුණු වෙනවා නම් ඇත්තටම අවශ්‍ය නැහැ මාත් එක්ක කතා කරන්න. ඒවයින් ප්‍රයෝජන ගන්නැහැ. එතකොට අනවශ්‍ය විදියට මේ අපිත් එක්ක තොදොල් වෙන්න, අපිත් එක්ක අනවශ්‍ය විදියට කතා කරන්න එනකොට මම කිසි දවසක ඒකට ඉඩක් තියන් නැහැ. මොකද ඔය කාටත් වැඩියෙන් මට වටින්නෙ මගේ මානසිකත්වය. ඒ නිසා අපි පරිස්සම් වෙන්න අපි දැනගන්න ඕනෙ. අනිත් එය ගොඩාක් දේවල් කියවගෙන එද්දි අපි දැනගන්න ඕනෙ ඒක පරිස්සම් වෙන්න. මොකද ඒක තමයි වඩා වැදගත්.

සාමාන්‍යයෙන් පෞද්ගලිකව මම බොහෝම ආත්මාර්ථකාමි චරිතයක්. අනුන්ට උදව් කරන්නෙ මාව බේරෙන්න පුලුවන් සීමාවේ තියාගෙන විතරයි. එහෙම නැතිව මිනිස්සු කියවාගෙන එන එන පළියට අපිට ඒකට මුහුණ දෙන්න බැහැ. ඒගොල්ලන්ට ඕන තරම් උත්තර තියෙනවා, මේගොල්ලො මේ ගන්නෙ නැහැ. ඇත්තටම නම් මේ දේශනා, මම

දන්නවා මේ සතිපට්ඨාන දේශනා අහන්නෙ බොහොම සීමිත පිරිසයි. අනිත් ඒවා දහස් ගණන් අහනවා. සතිපට්ඨාන දේශනා අහන්නෙ සීමිත පිරිසයි. ඒකෙන් මම තේරුම් අරන් ඉන්නවා මේක ප්‍රායෝගිකව කරන්න කැමැති අල්ප පිරිසයි ඉන්නෙ. අනිත් අය නිකං අර රැල්ලට අහන්නෙ. ආසාවට අහන්නෙ. ඒගොල්ලො තමයි වැඩියෙන් ප්‍රශ්න ඉදිරිපත් කරන්නෙත්, ඕන නැති ප්‍රශ්න. ඉතින් ඒ නිසා ඇත්තටම නම් මනස පුහුණු කරන්න ඕනෙ කෙනෙක් විතරයි මේ සතිපට්ඨාන දේශනා ටික අහන්නෙ.

ඒ නිසා මම මගෙන් වැඩගන්න පිරිස විදියට දකින්නෙ මේ සතිපට්ඨාන දේශනා ටික, සතිමත් වීමේ දේශනා ටික අහන පිරිස විතරයි. ඒගොල්ලන්ට තමයි මේක train කරන්න ඕනෙ වෙලා තියෙන්නෙ. අන්න ඒ අය වෙනුවෙන් විතරයි මං කතා කරන්නෙ. මට පිරිස වැඩි කරගන්න, ඔළුගෙඩි ගාණ වැඩි කරගන්න මට කිසිම අවශ්‍යතාවයක් නැහැ. මේක ප්‍රායෝගිකව පුහුණු වෙන අය වෙනුවෙන් විතරයි මං කතා කරන්නෙ. ඒගොල්ලො ගොඩක් ප්‍රශ්න අහන්නෙත් නැහැ. මගෙන් දැනටත් email හරහා මේ කමටහන් ශුද්ධ කරගෙන භාවනා කරන විශාල පිරිසක් ඉන්නවා, අදටවත් ඒ ගොල්ලො මගෙන් phone number එක ඉල්ලලා නැහැ. ඉල්ලලා නැහැ, email හරහා විතරක් උපදෙස් අරගෙන අනේ පාඩුවේ භාවනා කරනවා. ඒ අර ඒගොල්ලො වෙනවෙන් මං සෑහෙන කැපවීමෙන් වැඩ කරනවා. සමහරු මං මගේ ලොකු ස්වාමීන් වහන්සේ ගාවටත් යොමු කරලා තියෙනවා. ඇයි මේ දොඩමළුව ඕනෙ ඒගොල්ලන්ට. ඒගොල්ලො දන්නෙ නැහැ ඒගොල්ලො අහුවෙලා තියෙන දේ. අපි දොර ඇරලා තිබ්බොත් තියෙන ඔක්කොම ටික කියනවා. මේ හරි ලේසියෙන් short and sweet වැඩක් කරන්න තියෙද්දි අපි ඒකට ආස නැහැ. අපි ආස කියව කියව ඉන්න. ඒ නිසා හොඳට මතක තියාගන්න මේ ලෝකෙ තියෙන හැම ප්‍රශ්නෙකටම උත්තර තියෙනවා මේ සතිය කියන වචනේ හරහා ඒකෙ බලය දන්නෑ අපේ මිනිස්සු. ඒක පුහුණු වෙන් නැහැ. ඒක පුහුණු වෙන්නනෙ ක්‍රමානුකූලව පටන් ගත්තු ගමන් උත්තර එන් නැහැ. එනවා මේක විශ්වාසයෙන් කරගෙන යන්න. ඒකෙ ඔය හැම ප්‍රශ්නෙකටම උත්තර තියෙනවා. එතකොට මේ වචනය කියන එක අනවශ්‍ය විදියට මේ දොඩමළු වීම වැඩි නිසා තමයි ගොඩාක් අයගේ ඇතුලේ පැහැවන දේවල් ඕනවට වැඩිය කතා කරන්න එන්නෙ. අපි දැනගන්න ඕනෙ ඇහුම්කන් දෙන කෙනා දැනගන්න ඕනෙ තමන්ගේ පරිස්සම තියාගන්න.

එතකොට මම කිව්වා මේ දැන් භාවනා කරගෙන යද්දි අපි අපේ ඉස්සෙල්ලම සංසිදෙන්නෙ වචී සංස්කාර කියලා. එතකොට මේ වචී සංස්කාර සංසිදෙන්න ඉස්සරවෙලාම ඕනෙ නිසා තමයි අපි කතා කරන එක නවත්වන්නෙ, භාවනා මධ්‍යස්ථාන වල. කයිවාරු ගහන එක, බණ පොත් වුනත් කියවන්න දෙන්නෙ නැහැ. බණක් වුනත් එතන centre එක කරන දේශකයන් වහන්සේ කරන දේශනාවකට ඇරෙන්න වෙන ඒවා අහන්න දෙන්නෑ, mobile phone use කරන්න දෙන්නැහැ. ඇවිල්ලා ඉන්න අනිත් අයත් එක්ක තොරතුරු හුවමාරු කරගන්න දෙන්නෙ නැත්තෙ මේ නිසයි. එතකොට දැන් මේ කටින් වචනයක් විදියට බිදෙන්න කලින් අපේ මනසේ තියෙන විතක්ක විචාර දෙකනෙ ඉස්සෙල්ලා ඒකටනෙ උත්තර හොයන්න ඕනෙ.

එතකොට ඒකට උත්තර හොයන්න යද්දි අපි පර්යංකයකට ගියාට පස්සෙ අපේ මනසේ හටගන්න විතක්ක විචාර දෙක, ඒ කියන්නෙ මේ ඇතුලත කතාව කියලා ඇතුලේ තව එක්කෙනෙක් කතා කරන්නෙ, ඒ ගැන මම වීඩියෝස් කලිනුත් කරලා ඇති, ඇතුලේ කතා කරන කෙනාගේ කට වහන්න ඕනෙ ඉස්සෙල්ලාම. එයාගෙ කට වහන්න බෑ එහෙම එකපාරටම. එයාගේ කට වහන්න තමයි අපි මේ පර්යංකයේදී හුස්ම හෝ පිම්බීම හැකිලීම හෝ සක්මනකදී දකුණ වම වශයෙන් හෝ එදිනෙදා කරන වැඩකට කායානුපස්සනා කොටසේ තියෙන කායික වැඩකට අපි අවධානය දීලා ඒකෙ දැනෙන්නෙ මොනවද කියලා

බලන්න කියලා අපි කියන්නෙ අර ඇතුලේ කතා කරන කෙනාගේ කතාව නවත්වන්න තමයි. එයා නතර වුනේ නැත්නම් වචී සංස්කාරය සංසිඳුන් නැත්නම් කාය සංස්කාරය සංසිඳෙන් නැහැ. එතකොට මේ පර්යංක සක්මන වශයෙන් භාවනා කරද්දි ඇතුලෙ කතාව වැඩි චරිත වලට කටින් කතා කරන්නත් දේවල් ගොඩක් තියෙනවා. ඒ ගොල්ලො භාවනා උපදෙස් ගන්න ගියත්, ඒ ගොල්ලො භාවනා කරන්න ගියත් කතාව වැඩියි. ප්‍රශ්නයක් අහන්න ගියත් කතාව වැඩියි. ඒගොල්ලන්ට කෙටියෙන් උත්තරයක් දුන්නට හරියන් නැහැ. එතකොට මේකට තමයි අපි උත්තරයක් හොයන්න තමයි අපි නැවත නැවත පර්යංකයේදී හුස්ම හෝ පිම්බීම හැකිලීම හෝ කියලා මූලික අරමුණක් අරගෙන ඒකෙ සිහිය තියන්න, සිහිය තියලා ඒකෙ දැනෙන්නෙ මොනවද කියලා නැවත නැවත අවධානය තියලා බලන්න.

සිතුවිල්ලක් ආවොත් ඒක සිතුවිල්ලක් කියලා දැනගෙන ඒක අතහැරලා නැවත නැවත මූල කර්මස්ථානයට හිත ගන්න කියන්නෙ මෙන්න මේ නිසයි. සක්මන් කරද්දිත් එහෙමයි. එදිනෙදා වැඩ කරද්දිත් එහෙමයි. එතකොට අපි හිතමු දැන් පර්යංකයේදී කෙනෙක් හුස්ම මූලික අරමුණ කරගෙන ඔන්න එයා භාවනා කරනවා, හුස්ම හිත තියන් ඉන්නවා. එතකොට එයාගේ මේ ඇතුලේ කතා කරන එක්කෙනා, දොඩමළු වෙන එක්කෙනා විතක්ක විචාර දෙක සංසිඳුනොත් තමයි එයාගේ හුස්ම සංසිඳෙන්නෙ. මොකද හුස්ම තමයි කාය සංස්කාරය එතනදි, පර්යංකයේදී. හුස්ම ඉස්සරහින් තියාගෙන භාවනා කරන යෝගාවචරයාගේ එතන කාය සංස්කාරය වෙන්නෙ හුස්ම. හුස්ම සංසිඳෙන්නෙ නැත වචී සංස්කාරය සංසිඳෙන තුරු. ඒ කියන්නෙ මේ ඇතුලෙ කතා කරන කෙනාගේ කච කචය නතර වෙන්නැති තාක් කල් හුස්ම සංසිඳෙන් නැහැ. හුස්මත් එක්ක මනස ඒකාග්‍ර කරන්න බැහැ.

ගොඩක් අය නගන චෝදනාවක් තියෙනවා මොන තරම් භාවනා කලත් හිත සන්සුන් වෙන්නැහැ, හිත එක අරමුණක තියන්න බැහැ. ඔව්, ඇයි? හිත දොඩමළුයි. ඇයි හිත දොඩමළු? අපි හිතට එළියෙන් දාන දේවල් ටික වැඩියි. ඒ නිසා ඇත්තටම නම් මේ දේශනා ගොඩක් වෙලාවට අහන්නෙ ගිහියො. පැවිද්දො අහන්නෙ අඩුවෙන්. ඒ නිසා ගිහියන්ට මං මේ කියන්නෙ ගිහියන්ට මේක අමාරුයි, ලේසි නැහැ. මොකද ඒගොල්ලො ඉන්නෙ අනිත් අයත් එක්ක ගණුදෙනු කරන්න ඕනෙ ලෝකෙක. එහෙම ඉඳගෙනත් කරන පිරිසක් ඉන්නවා. එතකොට පැවිද්දන්ට පූර්ණ කාලීනව මේකෙ යෙදෙන්න කාලයක් වෙන් කරගන්න අපි දැනගන්න ඕනෙ. මාස ගාණක් හරි අවුරුද්දක් හරි අර වගේ centre එකක හුදෙකලාව ඉඳගෙන මේක කරන්න ඕනෙ. එතකොට තමයි මේක හරියටම උත්තර හොයාගන්න පුලුවන් වෙන්නෙ. එතකොට මේ විදියට ඇතුල කතා කරන කතාව අඩුවුනාම ඔන්න හුස්ම සංසිඳෙන්න පටන් ගන්නවා.

හැබැයි හොඳට මේ සතිය කියන එක අතවාසියට ගත්තු කාලයක් පළපුරුදු යෝගාවචරයන්ට මොනතරම් ලෝකයත් එක්ක සම්බන්ධ වුනත් පර්යංකයට ගියාට පස්සෙ එයාට මේ ඇතුලේ කතාව ක්ෂණයකින් නවත්වලා එයාට කාය සංස්කාරයට සංසිඳවන්න පුලුවන්. ඒ නිසා ගොඩක් අය හිතනවා මේ භාවනා උපදෙස් දෙන්න එළියට ඇවිල්ලා ඉන්න ගුරුවරු කර්මස්ථානාචාර්‍යවරුත් එහෙනම් ඔක කරන්නෙපැයි කියලා. උන්වහන්සේලා යම්කිසි පුහුණුවක් ලබලා ඒකෙ පරිචයක් තියෙන නිසා තමයි එළියට ඇවිල්ලා තියෙන්නෙ. මම නමින් කියන් නැහැ, මම ගොඩාක් විපස්සනා ගුරුවරු ආශ්‍රය කරනවා. එක ශ්‍රේෂ්ට ස්වාමීන් වහන්සේ කෙනෙක් කියනවා උන්වහන්සේට හදිසි උවමනාවකට, උන්වහන්සේ ඉන්නෙ කොළඹින් ටිකක් පරිබාහිරව. උන්වහන්සේ ටිකක් කොළඹ ගිහිල්ලා ඇවිල්ලා පර්යංකයකට ගියොත් විනාඩි පහක් ඇතුලත උන්වහන්සේට චිත්ත ඒකාග්‍රතාවය ගන්න පුලුවන් කියලා. ඒ කියන්නෙ උන්වහන්සේට විනාඩි පහක්

යනකොට වචී සංස්කාර සංසිඳවන්න පුලුවන් කියන්නෙ විතක්ක විචාර දෙකින් බැට කන එක නවත්වන්න පුලුවන් technique එක උන්වහන්සේට අහුවෙලා.

එහෙම අහුවෙන්නෙ කොහොමද, කාලයක් පුහුණු වුනාම. එතකොට මේක ප්‍රශ්නයක් වෙන්නෙ නැහැ. එහෙම තමයි භාග්‍යවතුන් වහන්සේලා, රහතන් වහන්සේලා, කර්මස්ථානාචාර්‍යයීවරු පවා වර්තමාන ලෝකෙ ඕනෙ තරම් තියෙනවා විපස්සනා meditation centres. ඒ තැන්වල ශ්‍රේෂ්ට ගුරුවරු බිහිවෙලා තියෙන්නෙ ඒ විදියට. එතකොට මේක අපි කාලයක් පුහුණු කලාම අපිට technique අහුවෙනවා මේ විතක්ක විචාර දෙකෙන් ටක් ගාලා මනස ගලවගන්න. ඇතුලත කතාවෙන් ටක් ගාලා මනස ගලවගන්න පුලුවන් technique එකක් අහුවෙනවා. එයාට ඉක්මණින් හුස්මට මනස තියන්න පුලුවන්. හුස්ම ටක් ගාලා සංසිඳෙනවා. ඊටපස්සෙ මේ කාය සංස්කාරය, හුස්ම කියන එක සංසිඳුනට පස්සෙ තමයි ඊළඟට චිත්ත සංස්කාර කියන එක සංසිඳෙන පැත්තට වැඩ කරන්න තියෙන්නෙ. එහෙම නැතිව මේ ක්‍රමානුකූල පිළිවෙල නැතිව අපිට මේ වචනය කියන එක සංසිඳුවන්නෙ නැතිව අපිට මේ මනස කියන එක දියුණු කරන්න ලෙහෙසි නැහැ.

ඉතින් භාවනා මධ්‍යස්ථානවල තියෙන ලොකුම ප්‍රශ්නෙ තමයි ඔන්න ඕක. වෙන ප්‍රශ්න කයින් වන වැරදි, සිතින් වන වැරදි වලට වැඩිය දැන් අපි සීලයකට සමාදන් වුනත් කයින් වන වැරදි වලින් ගොඩක් වෙලාවට වැළකිලා ඉන්නෙ. හිතත් නෙවෙයි ලොකුම බලපාන ප්‍රශ්නෙ. මෙන්න මේ වචනය තමයි භාවනා මධ්‍යස්ථාන වල තියෙන ලොකුම ප්‍රශ්නෙ. ඉතින් ඒක නවත්වන්න බැරි ප්‍රධානම හේතුව තමයි ඒගොල්ලන්ගේ දෘෂ්ටියේ පොඩි පොඩි දෝෂ තියෙනවා. ඒගොල්ලන්ගේ සම්මා දිට්ඨිය කියන කාරණය හරියට ඇවිල්ලා නැහැ එන්නෙ නැහැ. දැක්ම පොඩ්ඩක් ගැටලු සහගතයි ඒ නිසා ඒගොල්ලන්ට මේ වචනය කියන එක හසුරුවගන්න තේරෙන් නැහැ. ඉතින් මේක දකින්න තමයි අපි මේ සිහිය පවත්වන්න කියන්නෙ. එතකොට තමයි අපිට දේක ඇත්ත කියන එක පේන්න ගන්නෙ. ඇත්ත ඇතිහැටියෙන් පේන්න ගන්නෙ. එතකොට තමයි ටික ටික ටික මේ වැරදි ටික හැදිලා මේ වචී සංස්කාර කියන විතක්ක විචාර දෙක සංසිඳවගන්න ටිකක් මෙල්ල කරගන්න පුලුවන් වෙන්නෙ.

එතකොට දැන් මේ වචනය කියන එක වළකින්න තියෙන දෙයක්නෙ. වැරදි වචනය කියන එක වළකින්න තියෙන දෙයක්. ඒක අභිධර්මයේ හැටියට චෛතසික වලින් ගත්තොත් විරති චෛතසිකයෙන් තමයි මේක සිද්ධ වෙන්නෙ. විරමණයක්. විරති චෛතසිකයක්. වැළකීමක්. එතකොට අපි සතිය පිහිටුවන හැම මොහොතකම, අපි හිතමු පර්යංකයට ගිහිල්ලා ඇස් දෙක පියාගෙන මේ හුස්ම ඉස්සරහින් තියාගෙන හුස්මට අවධානය තියාගෙන ඉන්න හැම චිත්තක්ෂණයකම හැම තත්පරයකම සිතුවිල්ලක් ආවත් ඒක සිතුවිල්ලක් කියලා දැනගෙන නැවත හිත හුස්මට ගන්න හැම වෙලාවකම විරති චෛතසිකය වැඩ කරනවා. එතකොට බලන්න නිකං එක පැයක් අපි ඇස් පියාගෙන මේ හුස්මත් එක්ක ගණුදෙනු කලොත් මේ විරති චෛතසිකය මේ සම්මා වාචාවට අදාළ කුසල චෛතසිකය කොච්චර වාර ගාණක් ඇතිවෙනවාද කියලා, එක පැයක් අපි ඇස් දෙක පියාගෙන පර්යංකයකට ගියොත්. එක පැයක් සක්මන කලොත්. ඉතින් ඒ වටිනාකම දැක්කොත් තමයි අපිට උනන්දුවෙන් ඉස්සරහට යන්න පුලුවන්කම ලැබෙන්නෙ. විරති චෛතසිකය කොච්චර මේකෙන් වැඩ කරනවාද මේ සම්මා වාචාව කියන එක කොච්චර සිද්ධ වෙනවාද කියන එක දැනගත්තොත් මේ කියන සංසන්දනය, මේ කියන සම්බන්ධය තේරුම් ගත්තු යෝගාවචරයන්ට නීතියක් අවශ්‍යම නැහැ centre එකේ ඉද්දි ඒගොල්ලන්ට අවශ්‍ය දේ විතරයි ඒගොල්ලො කතා කරන්නෙ. ඒගොල්ලන්ට කතා කරන්න අවශ්‍යතාවයක් එන්නෙම නැහැ. ඕන නැහැ. ගුරුවරයත් එක්ක අදාළ කතාව කලහම

කමටහන ශුද්ධ කරද්දි කතා කලහම ඒගොල්ලන්ට ඇති. කතා නොකලා කියලා ප්‍රශ්නයක් එන්නැහැ.

කතා නොකර ඉද්දි stress එනවා නම්, ආතති අසහන එනවා නම් ඒ කියන්නෙ මේ කියන තැනට මනස ඇවිල්ලා නැහැ. ඒ නිසා තමයි ගොඩාක් වෙලාවට තනිවෙලා ඉන්න අය ගොඩාක්ම වෙලාවට කෙනෙක් හම්බුනාම කතා කරනවා වැඩි, ඇයි ඒ? අර විතක්ක විචාර අධිකයි. ඒක හෙළි කරන එක තමයි එයාලට සෞඛ්‍ය සම්පන්න. හෙළි කලේ නැත්නම් එක්කො මානසික ලෙඩක් හැදෙනවා, එක්කො කායික ලෙඩක් හැදෙනවා. ඒ නිසා තමයි ගොඩාක් වෙලාවට ඔය ප්‍රශ්න තියෙන මිනිස්සුන්ට counsellors ලා හැදුනහම ඒගොල්ලන්ගේ තියෙන ප්‍රශ්නය වමාරන්න ඉඩදෙන්නෙ. ඒක විවේකයක්. ඊටපස්සෙ තමයි බෙහෙත කරන්නෙ. ඒ මොකද, ඇතුලේ තියෙන පැහැව පැහැව තියෙන මොකක්හරි ප්‍රශ්නයක් තමයි ඒගොල්ලන්ගේ කායික මානසික ලෙඩේට හේතුවෙලා තියෙන්නෙ. ඉතින් වර්තමානෙ හොයාගෙන තියෙනවා, සමාජෙ ගිලගෙන තියෙන ලෙඩක් තමයි gastritis කියන එක. මේකට අපි හිතන් ඉන්නෙ කෑම තමයි බලපාන ප්‍රධාන හේතුව කියලා. ඇත්තටම කෑමට වැඩිය බලපාන්නෙ මානසික ආතතිය අසහනය කියලා දැන් හොයාගෙන තියෙනවා. ඒ කියන්නෙ මානසික ආතති අසහන වැඩි අයට gastritis වැඩියි. ඇයි ඒ? ඇතුලේ හිර කරගෙන ඉන්නෙ විතක්ක විචාර වලින් දොඩමළු වෙන කතන්දර ටිකක්. ඒක හෙළි කරන්න විදියක් නැහැ, එක්කො ලැජ්ජාව නිසා මොනවහරි හින්දා. ඉතින් ඒක කායික හෝ මානසික ලෙඩක් විදියට එළියට යනවා. ඉතින් මේක ලෞකික ජීවිතේ සාමාන්‍ය සෞඛ්‍ය සම්පන්න ජීවිතයක් ගෙවන්න වුනත්, ලෝකෝත්තර ජීවිතේ ඉස්සරහට යන්න වුනත් වචනය ගැන අපිට සෑහෙන්න සැළකිලිමත් වෙන්න වෙනවා, වචී සංස්කාරය ගැන.

අපි ඊළඟ දේශනාවෙන් නැවත මුණගැහෙමු. තෙරුවන් සරණයි!

## 32) කිසිත් නොකර සිටීම සහ සීලය රැකීම | Morality & mindfulness | @alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අද කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනය. අපි ඉන්නෙ දැන් ධම්මානුපස්සනා කොටසේ, සච්ච පබ්බයේ මාර්ග සත්‍යයට සම්බන්ධ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ කරුණු තමයි අපි කතා කරගෙන යන්නෙ. ඉතින් සතිය කියන එක පුරුදු කරගෙන සතිමත් වීම හරහා මේ තාක් දුරට එන්න ඕනෙ නම් කරුණාකරලා දේශනා මාලාවේ මුල ඉඳලා අහලා ප්‍රායෝගිකව පුහුණු වෙන්න. එහෙම නැතිව මේක විතරක් ඇහුවට මේ දේශනාව විතරක් අහලා ප්‍රශ්න අහන්න හදිස්සි වෙන්නත් එපා. මොකද මුල ඉඳලම දේශනා මාලාවක් විදියට කරලා තියෙනවා ඒවා අහන්න. ඉතින් අපි ගිය වතාවේ සම්මා වාචා සම්බන්ධයෙන් කතා කරා. අද අපිට තියෙන්නෙ සම්මා කම්මන්ත කියන කොටස කතා කරන්න.

ඉතින් අපි සරලව බැලුවොත් අපි මේක ගැන දන්නෙ සම්මා කම්මන්ත කියන එක ගැන සරලව දන්නෙ කයින් වෙන වැරදි වලින් වළකිනවා කියලා තමයි අපි සාමාන්‍යයෙන් දන්නෙ. ඉතින් අපි ගොඩාක් අහලා තියෙන්නෙ මේකෙ සීල පැත්තෙන්. ඒ කියන්නෙ හොඳ නරක වශයෙන් තමයි අපි මේක අහලා තියෙන්නෙ. කර්මය කර්මඵල වශයෙන් තමයි අපි මේක අහලා තියෙන්නෙ. සදාචාරය පැත්තෙන් තමයි අපි මේක අහලා තියෙන්නෙ. මොකද කයින් වෙන වැරදි සත්තු මරන එකෙන්, සොරකම් කරන එකෙන්, කාමයේ වරදවා හැසිරෙන එකෙන් වළකින් එකක් තමයි අපි දන්නෙ. ඉතින් ඒක සීලමය පැත්තෙන්

තමයි අපි ගොඩක් වෙලාවට දන්නෙ. නමුත් ලොකු ස්වාමීන් වහන්සේ විස්තර කරනවා මේ කාරණාව සීලමය පැත්තෙනුත් සමාධි පැත්තෙනුත් ප්‍රඥාව පැත්තෙනුත් අපිට බලන්න පුලුවන් කියලා. එතකොට අපි දැනට දන්නෙ සීලමය පැත්තෙන්නෙ. ඒ කියන්නෙ සත්තු මරන එක නරකයි, සත්තු නොමරන එක හොඳයි, හොරකම් කරන එක නරකයි, හොරකම් නොකරන එක හොඳයි, කාමයේ වරදවා හැසිරෙන එක නරකයි, කාමයේ වරදවා නොහැසිරෙන එක හොඳයි. එහෙමනෙ අපි අහලා තියෙන්නෙ. ඒ තමයි සීලමය පැත්ත.

ඉතින් මේකෙ සමාධි පැත්තට අදාළ කොටස තමයි අපිට මේක දිහා සතර බඹ විහරණ වලින් බලන්නත් පුලුවන්. ඒ කියන්නෙ සත්තු ගැනමයි උදාහරණ, පළවෙනි සිල් පදය ගත්තොත් සත්තු ගැන මෛත්‍රියෙන්, කරුණාවෙන්, මුදිතාවෙන් උපෙක්ෂාවෙන් අපිට මේ සත්තු මරන එකෙන් වැළකිලා ඉන්න පුලුවන්. ඒ වගේම ඉතුරු සිල් පද දෙකටත් අපිට ඒ විදියට ගලපගන්න පුලුවන්. ඒ කියන්නෙ සතර බඹ විහරණ පැත්තෙන් මේක දිහා බලන්නත් පුලුවන්. නමුත් අපි මේ සතිපට්ඨාන භාවනා ක්‍රමයේදී අපි මේක දිහා බලන්නෙ විපස්සනා පැතිකඩකින්. එතකොට අපි මේ විපස්සනා පැතිකඩෙන් අරක දිහා බලනකොට අර කලින් කියපු සීලමය පැතිකඩෙන් හා සිව්බඹ විහරණ වල පැතිකඩෙන් බලන එක හරියට බාලාංශ වැඩක් වගේ තමයි පේන්නෙ. ඒ කියන්නෙ ඒවා පුංචි technique වගේ දැනෙන්න ගන්නවා. ඒ කියන්නෙ මේ මානසිකත්වයට, මේ විපස්සනා පැතිකඩෙන් බලනකොට ඒ දිහා අපේ මනසට වැටහෙන ප්‍රමාණය පුළුල් වෙනවා. පුළුල් මානසිකත්වයක් හැදෙනවා ඒවා දිහා දකින්න. එතකොට තේරෙනවා අර සීලමය පැත්තෙන් සහ මෛත්‍රී කරුණා මුදිතා පැත්තෙන් බලන එක හරිම පුංචි මානසිකත්ව කියලා දැනෙන්න ගන්නවා.

ඉතින් ඒ සීලමය පැත්තෙන් සහ බඹ විහරණ වල මෛත්‍රී කරුණා මුදිතාව පැත්තෙන් විතරක් බලලා මේ විපස්සනා පැතිකඩ අහුනොවුනු අයට තමයි ඔය මාංශ ප්‍රශ්න එහෙම ගොඩාක් ඇතිවෙලා තියෙන්නෙ. මේ විපස්සනා පැතිකඩ ඒගොල්ලන්ට අහුවෙලා නැහැ. ඒ ගොල්ලො අර ලෙවල් දෙකේ විතරක් ඉඳගෙන කතා කරන අය ගොඩාක් තමයි මේ නිර්මාංශ ප්‍රශ්න ඔය වගේ ගොඩාක් සදාචාරය අල්ලගෙන තියෙන ප්‍රශ්න ගොඩාක් සමාජයේ උද්ගත වෙලා තියෙන්නෙ ඒ නිසා. හැබැයි ඒකත් ධර්මයේ තියෙන කෑල්ලක්, ධර්මයේ තියෙන කොටසක් අරගෙන හදාගත්තු ප්‍රශ්නයක් නිසා ඒ ලෙඩ සනීප කරන්නත් ලේසි නැහැ. අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ බෙහෙතින් හැදිච්ච ලෙඩ සනීප කරන්න බැහැ කියලා. ඒ කියන්නෙ ධර්මයනෙ දැන් මේගොල්ලො මේ ලෙඩක් කරගෙන තියෙන්නෙ. ධර්මයම අල්ලගෙන ඒක ප්‍රශ්නයක් කරගෙන මේ. පුංචි කොටසක් අල්ලගෙන ඒකම හරි අනික් ඒවා වැරදියි කියලා හිතන් ඉන්නවා. නමුත් ඉහළ ඉහළ මට්ටම් වලට මනස අරන් යනකොට තේරෙනවා මේක වැරදි නැහැ, හරි. හැබැයි මේක පුංචි මට්ටමක්, ඒක අල්ලගෙන ඒකම හරි කියන්න බැහැ, මොකද ඊට වැඩිය ශ්‍රේෂ්ට levels උඩින් තියෙනවා.

ඉතින් අර ඒ පුංචි කොටස් වල ඉන්නකොට තමයි ඔන්න ඕවා මහාලොකු ප්‍රශ්න කරගෙන සමාජය ගිනි තියන ප්‍රශ්න බවට හදාගන්නෙ. ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ ඒ ලෙඩ සනීප කරන්නත් බැහැ. මොකද බෙහෙතෙන් හටගත්තු ලෙඩ සනීප කරන්න බැහැ. ඒක සාමාන්‍ය හැමෝම දන්න දෙයක්. ඉතින් මේ වගේ දන්න අයට සාමාන්‍යයෙන් ඕන, මේක තමයි හරිම කියලා කියාපාන්න තමයි ඕනෙ. ඉතින් ඒ වගේ අයට උත්තර දීලා පිරිමහන්න බැහැ. ඒ වගේ බෙහෙතින් ලෙඩ හැදිච්ච අයට, ඒ වගේ මේ ධර්මයේ තියෙන පොඩි පොඩි කොටස් අල්ලාගෙන ඒකමයි හරි අනිත් ඒවා වැරදියි

කියාගෙන ඉන්න අයට උත්තර දීලා පිරිමහන්න බැහැ. ඒ නිසා තමයි ඔය සමාජයේ ඇතිවෙලා තියෙන ඔන්න ඔය වගේ ජනප්‍රිය ප්‍රශ්න වලට ශ්‍රේෂ්ට භික්ෂූන් වහන්සේලා නිහඬව ඉන්නෙ. කතා කරන්නෑ මොකද උන්වහන්සේලාට තේරෙනවා මේ ජනප්‍රිය ප්‍රශ්න හදාගත්තු අය මේ පුංචි මානසික level එකක ඉඳගෙන මේ කෑගහන්නෙ. ඒගොල්ලො මනස වඩලා නැහැ, උඩට ගිහින් නැහැ. ගියා නම් පේනවා මොකක්ද වෙලා තියෙන්නෙ කියලා.

ඉතින් මෙතෙන්ට මම අමතර කාරණයක් ඉදිරිපත් කරනවා, මේක තේරුම් ගන්න, දේශනාව දිග වුනත්, කැමැති කෙනෙක් අහයිනෙ. ඉතින් මම ඔය එක ස්වාමීන් වහන්සේ කෙනෙක්ගෙන් ඇහුවා, උන්වහන්සේ හරි ලස්සන උපමාවක් දේශනා කරලා තිබුනා උන්වහන්සේ කියනවා අපි හැමෝම ඉන්නෙ අශූචි වලක කියලා හිතන්න කියලා. අපි හැමෝම ඉන්නෙ අශූචි වලක කිසිම භේදයක් නැතිව. එතකොට මේකෙන් මේ අශූචි වලෙන් ගොඩ එන්න ඉණිමගක් තියෙනවා, ඒකත් අශූචි වලින්ම තමයි හදලා තියෙන්නෙ. ඉණිමග කියලා රන් වලින් හදපු ඉණිමගක් නෙවෙයි, අශූචි වලින් තමයි ඒකෙ හරස් පොලු දාලා තියෙන්නෙ. එතකොට උන්වහන්සේ කියනවා මේකෙ ඔන්න අපි හිතමු පොලු සීයක් විතර තියෙනවා කියලා මේ අශූචි වලෙන් ගොඩ එන්න. අපි හිතමු විසිවෙනි පඩියට නැගපු මනුස්සයෙක් ඉන්නවා. එතකොට විසිවෙනි පඩියට නැගපු මනුස්සයාට අර වළෙන් උඩ ලෝකය පේන වපසරියක් තියෙනවා. එයාට වළේ පතුලේ ඉන්න මනුස්සයාට වඩා පොඩ්ඩක් වැඩියෙන් හැබැයි පේනවා. මොකද එයා පොඩ්ඩක් උඩට ඇවිල්ලා. අපි හිතමු පනස්වෙනි පඩියේ ඉන්න කෙනෙක් ඉන්නවා. එයාට අර විසිවෙනි පඩියේ ඉන්න කෙනාටත් වැඩිය, වළේ ඉන්න කෙනාටත් වැඩියෙන් ටිකක් පේනවා. අපි හිතමු අසූවේ වගේ කෙනෙක් ඉන්නවා. එයාට ඊටත් වැඩියෙන් ටිකක් පේනවා.

එතකොට අපි හිතමු මේ අසූවේ වගේ ඉන්න කෙනෙක් අපි හිතමු සීයටම ඇවිල්ලා. අපි හිතමු අසූවෙ වගේ ඉන්න කෙනෙක් යමක් කියනවා. එතකොට ඊට පහළින් ඉන්න මිනිස්සු ඒකට විරුද්ධව කෑගහනවා නම් ඒ කියන්නෙ එයාලට මේ සාමාන්‍ය දැනීමවත් නැහැ. ඇයි ඒ අසූවේ ඉන්න කෙනාට අනිත් අයට වැඩිය සාපේක්ෂව දෙයක් පේනවා. පෙනිලා තමයි කතා කරන්නෙ. හැබැයි පල්ලෙහා ඉන්න අයට අර අසූවේ පඩියේ ඉන්න කෙනාට පේන ප්‍රමාණය පේන්නැති හන්දා එයාලා එයාට දොස් කියනවා ඔය බොරු කියන්න එපා, එහෙනම් අපිටත් පේන්න ඕනනෙ කියලා එයාලට මතක නැහැ එයාලා ඉන්නෙ ඊට වැඩිය පල්ලෙහා level එකක කියලා. අන්න ඒ වගේ දෙයක් තමයි මේකෙ තියෙන්නෙ. පල්ලෙහා ඉන්න කට්ටිය අර උඩින් ඉන්න කෙනෙක් මොකක් හරි කිව්වහම ඒක පේන්නැහැනෙ දන්නෑ හිතාගන්න බෑ ඉතින් කෑගහනවා. ඉතින් එතකොට අසූවෙ උඩ පඩි වල ඉන්න අය මොකක්ද ගන්න තීරණය. ඒගොල්ලන්ට තේරෙනවා එක පාරක් දෙපාරක් කියන්න හදනවා. බැහැ මේක විසඳන්න, ඒගොල්ලො නිහඬ වෙනවා. ඇයි ඒගොල්ලො දන්නවා මේගොල්ලො මේ දැකලා නෙවෙයි මේ කෑගහන්නෙ. කියලා පිරිමහන්න බෑ, ඊට වැඩිය හොඳයි පාඩුවේ කට පියාගෙන අපි මේ ඉණිමගෙන් ගොඩවෙන එක කියලා උන්වහන්සේලා පාඩුවේ ඉන්නවා. කතා කරන් නැහැ. කතා කරලා පිරිමහන්න බැහැ. මොකද අර බහුතරය ඉන්නෙ පල්ලෙහා පඩිවලනෙ. බහුතරය ඉන්නෙ. උඩට යන්නෙ බොහොම සුළු පිරිසයි. එතකොට ඒගොල්ලො නිහඬ වෙනවා.

අන්න ඒ වගේ තමයි මේ සමාජයේ ජනප්‍රිය ප්‍රශ්න ටිකක් තියෙනවානෙ ශාසනය සම්බන්ධයෙන් හදාගෙන. ඔය ප්‍රශ්න ටික ඇතිවෙලා තියෙන්නෙත් ඔන්න ඔය හේතුව නිසා. ඉතින් ඒ නිසා මේ මට්ටමට ආවට පස්සෙ ඒ නිසා තමයි සාමාන්‍ය ධර්මයේ තියෙන ස්වභාවයක්, ටිකෙන් ටික ටිකෙන් ටික මනස ඉහළට වැඩෙන අය නිහඬ වෙනවා. වැඩිය

සමාජෙට කතාබහ කරන්න මිනිස්සුන්ට ලොකුවට බණ කියන්න එන්නෙ නැහැ. ඒගොල්ලො ටික ටික මේක අතහැරලා නිහඬ වෙනවා. මොකද ඒගොල්ලන්ට තේරෙනවා මේක කතා කරලා පිරිමහන්න පුලුවන් දෙයක් නෙවෙයි කියලා. අන්න ඒ නිසා තමයි බුදුරජාණන් වහන්සේටත් බුදුවෙලා බණ කියන්න බෑ කියලා හිතුනෙ. මේ ආවෙම බණ කියන්න. සංසාරයට අහුවෙලා ඉන්න සත්වයන්ව සසරින් ගොඩ ගන්නමයි පතාගෙනත් ආවෙ. බුදුවුනෙත් ඒකට. බුදුවුනාට පස්සෙ හිතෙනවා අනේ බෑ කියලා, ඔන්න ඕක තමයි හේතුව. බුදුරජාණන් වහන්සේටත් හිතෙනවා අනේ බෑ මීට වඩා හොඳයි පාඩුවේ ඉන්න එක කියලා. මොකද උන්වහන්සේට දැනෙනවා මේක තේරුම් ගන්නෑ මේ මිනිස්සු කියන එක.

එතකොට දැන් මේ සම්මා කම්මන්ත කියන මේ කාරණා දැන් මේ විපස්සනා පැතිකඩකින් බලනකොට සාමාන්‍යයෙන් ලොකු ස්වාමීන් වහන්සේ සඳහන් කරනවා ධර්මයේ සඳහන් වෙනවා කියලා මේ මාර්ගඵල ලාභියෙක් මේක දිහා බලන්නෙ කොහොමද, අන්න ඒ විදියට තමයි අපි විපස්සනා යෝගියාගේ මනස ඒ දේවල් දිහා බලන්නෙ. ඒ කියන්නෙ මේක තේරෙන්න කිව්වොත් අපි කැමැති නෑනෙ සාමාන්‍යයෙන් අපේ ශරීරයේ තුවාලයක් හැදිලා ඒකෙ කැළලවත් හිටිනවාට අපි කැමැති නෑනෙ අපේ ශරීරයේ. වේදනාව කෙසේ වෙතත් තුවාලයක් හැදිලා ඒකෙ කැළලවත් හිටිනවට අපි කැමැති නැහැ. එච්චරටම අපි අපිට ආසයි. අපිට ආදරෙයි. ඒ වගේම තමයි අනිත් සත්වයොත්, අනිත් මිනිස්සුත්. අපි අපේ සිරුරට කැළලක් ඇතිවෙනවාටත් කැමැති නැත්නම් අනිත් අය වේදනාවක් ඇතිවෙනවට කොහොමවත්ම කැමැති නැහැ. ඉතින් අපි එහෙම හිතලා තමයි සීල මට්ටමේදී සහ අර සතර බඹ විහරණ වලදි කතා කරනකොට ඔය වගේ මානසිකත්වයකින් තමයි අපි ඒකෙන් අයින් වෙන්නෙ.

එතකොට සීල මට්ටමේදී මේ කියන විදියට අපි ළඟ සීලය තිබුන් නැත්නම් ඒ කියන්නෙ මේ සත්තු මරලා හොරකම් කරලා කාමයේ වරදවා හැසිරිලා තිබුනොත් ඒ මනුස්සයාට ඒ සීලයෙන් දුර්වල කෙනාට තනිවෙන්න බැහැ. කළුවරට මුහුණ දෙන්න බැහැ. ඒගොල්ලන්ට තනිවෙනකොට බයයි, අඳුර එනකොට බයයි. එතකොට එයාලගේ මනසේ ආතති අසහන වැඩිවෙනවා. ඒකෙන් එයාලගෙ මානසික ලෙඩ හැදෙනවා. බටහිර ලෝකෙ කියන විදියට මානසික ලෙඩ හැදෙන්න බලපාන ආතති අසහන එන්නෙ ඔන්න ඔය හේතුව නිසා. අත්තානෝවාද භය කියලා කියන්නෙ ඔන්න ඕකට තමයි. ඊටපස්සෙ එයාට පරානෝවාද භයත් එනවා, දණ්ඩ භයත් එනවා. සමහරු ඔය තුනෙන්ම බේරිලා ඉන්නවා. හිටියට අන්තිමට එන දුග්ගති භය කියන එක ලේසි නැහැ, මැරෙන්න යනකොට සහළවන්න වෙනවා. මරණයේදී ඇතිවෙන භය ඒකෙන් ගැලවෙන්න ලෙහෙසි වෙන්නෙ නැහැ.

ඉතින් විපස්සනා යෝගාවචරයා, විපස්සනාවට ආවට පස්සෙ යෝගාවචරයාට මේ වැරදි තුන කරන්න අවස්ථාව ලැබිලත් එයා ඒක කරන්නෙ නැහැ. සත්තු මරන්න අවස්ථාව ලැබිලත්, හොරකම් කරන්න අවස්ථාව ලැබිලත් කාමයේ වරදවා හැසිරෙන්න අවස්ථාව ලැබිලත් එයා ඒක කරන්නෙ නැහැ. එයා ඒ කියන්නෙ අභය දානය දෙනවා. ඒ කියන්නෙ ලෝකෙ තියෙන හොඳම දානය තමයි සීලය කියලා කියන්නෙ. අපි මේ පව්න් වැළකිලා ඉන්න එක තමයි හොඳම දානය. අපි හිතන් ඉන්න දානය නෙවෙයි. ඒ කියන්නෙ අපි සතෙකුට ජීවිතය දෙන එක, හොරකම නොකර ඉන්න එක, කාමයේ වරදවා හැසිරෙන්නෙ නැතිව ඉන්න එක, ඒක තමයි හොඳම දානය. ඒකට අපි දෙන වචනය තමයි, පොතේ වචනය අභය දානය කියන එක. මෙතනදි බලන්නෙ අර හොඳ නරක පැත්තෙන් වත් නෙවෙයි. ඒ කියන්නෙ සත්තු මරන එක නරකයිනෙ, ඒ නිසා සත්තු නොමරා ඉන්න ඕනෙ කියලත් නෙවෙයි යෝගාවචරයා හිතන්නෙ. අනේ සත්තු පව්නෙ මෛත්‍රිය දෙන්න ඕනනෙ

එහෙමත් නෙවෙයිනෙ. විපස්සනා යෝගාවචරයා මෙතන හිතන්නෙ එයාට මරන්න අවස්ථාව තියෙද්දි ඒක අවශ්‍යතාවයක් නැහැ.

හැබැයි මෙතනට එන්නෙ අර සීල මට්ටමෙන් අර ඒ වගේම සතර බඹ විහරණවල කාරණාවලින් මනස සැකසුනු චරිතයක් තමයි මෙතනට එන්නෙ. ඊටපස්සෙ සතිය හරහා විපස්සනාව පුරුදු වුනු කෙනෙකුට තමයි මනස මෙතෙන්ට එන්නෙ. ඒ කියන්නෙ කිසිවක් නොකර ඉන්න එක, යමක් නොකර සිටීම තමයි හොඳම පින කියන එක විපස්සනා යෝගාවචරයාට අහුවෙලා තියෙන්නෙ. යමක් කරනවා කියන්නෙ සංස්කාර. අපි හිතන් ඉන්නෙ පව් කරන එක විතරයි තියනෙ ප්‍රශ්නෙ කියලානෙ. නෑ නිවන කියන්නෙ පව් පින් දෙකම සංස්කාර, පව් පින් දෙකම නොකර ඉන්න තැනකට තමයි මනස එන්නෙ. එතකොට විපස්සනා යෝගාවචරයා කිසිවක්ම නොකර ඉන්න තැන, පාපය විතරක්ම නෙවෙයි එයා මෙතනදි සතෙක් මරන්න චාන්ස් එක තියෙද්දිවත් එයා මරන්නැහැ, කිසිවක් නොකර ඉන්න එකම විතරයි එයා පින විදියට දකින්නෙ. මෙතනදි මේ කිසිවක් නොකර ඉන්න මානසිකත්වය හැදෙන්නෙ නැහැ විපස්සනාවට ආපු නැති කිසි කෙනෙකුට.

විපස්සනාවට ආවට පස්සෙ තමයි තේරෙන්නෙ සංස්කාර රැස් නොකර ඉන්නවා කියන්නෙ පාපී සංස්කාර විතරක්ම නෙවෙයි, අකුසල සංස්කාර විතරක්ම නෙවෙයි කුසල සංස්කාර කියන්නෙත් සසර තමයි, දුක තමයි. යමක් කරනවා කියන්නෙ මෙතන ක්ලේශයක් තියෙනවා. ඒ නිසා කිසිවක් නොකර ඉන්න තැනට විපස්සනා යෝගියාගේ මනස මෙතනදි හැදෙනවා. ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ දේශනා කරන්නෙ මේ විපස්සනා යෝගාවචරයා කියන්නෙ නිකං ඉන්න ඉගෙනගන්න ඕනෙ කියන එකක්. කිසිවක් කරන්නැතිව නිකං ඉන්න ඉගෙන ගන්නවා හැබැයි මිනිස්සු හිතන් ඉන්න නිකං ඉඳීමක් නෙවෙයි. මිනිස්සු මේ මට්ටමට ඇවිල්ලා නෙවෙයි නිකං ඉන්නෙ. මේ මට්ටමට ආවට පස්සෙ නිකං ඉන්නවා කියන එක මේ මට්ටමට එන්න කලින් නිකං ඉන්නවා කියන එකට වැඩිය වෙනස් කියලා යෝගාවචරයාට තේරෙන්න ගන්නවා. ඉතින් අපි හිතන්නෙවවත් නැති තරම් බලවත් ආනිසංස ලැබෙන්නෙ මේ කිසිවක් නොකර ඉඳීම තුළ තමයි. ඕක තමයි සබ්බ පාපස්ස අකරණං කියන්නෙ. කිසිවක් නොකර ඉන්න එකක්. ඒ තුළම කිසිවක් නොකර සිටීම තුළම ඊළඟ කුසලස්ස උපසම්පදාවත්, සචිත්ත පරියොදපනං කියන එකත් සිද්ධ වෙනවා.

එතකොට අපි සක්මන පර්යංක එදිනෙදා වශයෙන් සිහිය තියන යෝගාවචරයෙකුට අපි හිතමු පර්යංකයකට ගියා කියලා පැයක. පැයක පර්යංකයකට ගිහින් අපි හුස්ම දිහා බලන් ඉන්නවා. හුස්ම මූලික අරමුණ කරගෙන ඉස්සරහට යනවා. එතකොට එයා පැයක පර්යංකයක ඉද්දි ඒ පැය ඇතුලත එයාගෙ අතින් කිසිම පාපයක් සිද්ධ වෙන්නෙ නැහැ. එයා ඉන්නෙ මේ හුස්මත් එක්ක, හුස්ම කියන මූලික අරමුණ ඉස්සරහින් තියාගෙන සතිය පුරුදු කරනවා. එතකොට එයා මෙතනදි පාප වලින් වැළකෙන්නෙ හොඳ නරක ගැන හිතලා නෙවෙයි. මෛත්‍රිය කරුණා මුදිතා ආදී බඹවිහරණ නිසාත් නෙවෙයි. එයා මේ ඇස් පියාගෙන තමන් ඉස්සරහින් තියාගෙන ඉන්න අරමුණට අවදි මනස පැවැත්වීමෙන්ම එයාගේ අතින් පව් කියන දේවල් කිසිවක් සිද්ධ වෙන්නෙ නැහැ. වීතික්කම කෙලෙස් හටගන්නෙ නැහැ. ඉතින් එයාට යම්කිසි වෙලාවකට අරමුණට මුහුණට මුහුණ දාලා ඉන්න පුලුවන් වුනොත් පරිඋට්ඨාන කෙලෙස් හටගන්නෙත් නැහැ. හැබැයි මේ දන්දෙමින් පින්කම් කරමින් අර සාමාන්‍ය මට්ටමේ ඉන්න මිනිස්සු මෙතනට එන්න කැමැති නැහැ. දානයට කැමැති, සමාජ සේවයට කැමැති මිනිස්සු මෙතනට එන්න කැමැති නැහැ. මේකෙන් කොච්චර කෙලෙස් කැපෙනවාද කියන එක ඒ මිනිස්සුන්ට තේරෙන්නෙ නැහැ. මොකද ඒගොල්ලො ආස ජනප්‍රිය ධර්මයට. ඒගොල්ලො ආස විකිණෙන ධර්මයට.

ඒගොල්ලො ආස සමාජයේ පිළිගන්නවා කියලා හිතාගෙන ඉන්න ධර්මයකට. ඒගොල්ලො ආස ඒගොල්ලො හිතනවා ඒකෙන් පව් වලින් ගැලවෙන්න පුලුවන්, නිවන් දකින්න පුලුවන් කියලා. නමුත් මේ එක පැයක්, ඇස් දෙක පියාගෙන පර්යංකයකට ගිහිල්ලා හිටියට පස්සෙ එයාගේ අතින් මේ සම්මා කම්මන්තය කියන එක, මේ හුස්මක් දිහා සිතුවිල්ලක් දිහා, නැත්නම් පිම්බීමේ හැකිලීම අරමුණක් දිහා මූණට මූණ දාලා සිහිය තියාගෙන බලන් ඉද්දින් එයාගේ අතින් මේ සියල්ල සිද්ධ වෙනවා. ඒක පේන්නෙ නැහැ. ඒක අරගොල්ලන්ට වටින්නෙ නැහැ. මොකද ඒකෙ ගාලගෝට්ටියක් නැහැ, ඒකේ ඝෝෂාවක් නැහැ, ඒකෙ සෙනඟ නැහැ, ඒකේ loud speaker නැහැ, ඒකේ අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ හඳුන්කූරු සුවඳ නෑ, ඒකෙ ලක්ෂ ගණන් මල් නැහැ. ඉතින් මිනිස්සු හිතන් ඉන්නෙ මේ හොඳම පින සිද්ධ වෙන්න loud speaker තියෙන්න ඕනෙ. සෙනඟ ඉන්න ඕනෙ, හඳුන්කූරු සුවඳ දැනෙන්න ඕනෙ, ලක්ෂ ගණන් මල් තියෙන්න ඕනෙ, පාවඩ තියෙන්න ඕනෙ. මේ මිනිස්සු හිතන් ඉන්නෙ එහෙම. ඒ නිසා ඒ පැත්තට බර මිනිස්සුන්ට මේක දෙන්න බැහැ. මේක අදහාගන්න බැහැ. මේක අදහාගන්න පුලුවන් වෙන්නෙ අර හෙමින් හෙමින් අමාරුවෙන් හරි පෙර පිනක් තිබිලා මේකට ඇවිල්ලා ඇවිල්ලා කාලයක් මේක පුහුණු වුනු කෙනෙකුට තේරෙනවා දෙයියනේ මේ පිරිසෙන් වෙන්වෙලා හුදෙකලා වෙලා මේ විවේකීව පර්යංකයක් බැඳගෙන, සක්මනක් කරගෙන ඉන්න මොහොතක මොනතරම් නම් අපේ අතින් සීලය රැකෙනවාද. අපිට අමුතුවෙන් දෙයක් කරන්න ඕනෙ නැහැ සීලය රකින්න. මේ මොකුත් නොකර වර්තමාන මොහොතට අවදි වෙලා ඉන්න මොහොතේ වීතික්කම කෙලෙස් විතරක් නෙවෙයි, පරියුට්ඨාන කෙලෙස් පවා අපිට අයින් කරගන්න පුලුවන්. මේ තමයි විපස්සනා යෝගාවචරයාගේ මනසේ සම්මා කම්මන්තය වැඩ කරන හැටි.

ඉතින් මට මතකයි එක තැනක ලොකු ස්වාමීන් වහන්සේ සඳහන් කරනවා යම්කිසි කෙනෙකුට සති සම්පජඤ්ඤය කියන මේ දෙක නැතිනම්, සතිසම්පජඤ්ඤය කියන එක නැතිනම් එයාට භය ලැජ්ජාව නැතිවෙනවාලු. සතිසම්පජඤ්ඤය තියෙන තැනමයි භය ලැජ්ජාව කියන එක හටගන්නෙ කියලා සඳහන් කරනවා. ඒක ධර්මයේ තියෙනවා සීලවන්තයාට තමයි ප්‍රඥාව එන්නෙ, ප්‍රඥාවන්තයාට තමයි සීලය එන්නෙ. එතකොට සතිසම්පජඤ්ඤ දෙක කියලා කියන්නෙ සම්පජඤ්ඤය කියන්නෙ ප්‍රඥාව, එතකොට සම්පජඤ්ඤය හටගන්නෙ සතිය පදනම් කරගෙන. එතකොට යම්තැනක සති සම්පජඤ්ඤය තියෙනවා නම් එතන සීලය තියෙනවා. යම් තැනක සීලය තියෙනවා නම් එතන සති සම්පජඤ්ඤය කියන එක තියෙනවා. හැබැයි මේකෙදි ඔබ විශේෂයෙන් දැනගත යුතු දෙයක් තියෙනවා, සතිය පිහිටපු පමණින් සිල් කැඩෙන් නෑ කියන එක නෙවෙයි මේ කියන්නෙ. ඒ වගේ අන්තවාදී දෘෂ්ටි ගන්න එපා. මනස තමන්ගේ මනස දිහා බලන්න. මැජික් වගේ දේවල් වලින් මනස හැදෙන් නැහැ. අපි මේ සතිය පුරුදු කරන්න පටන් ගත්තු ගමන් එයා රහතන් වහන්සේගේ සීලය එයාට එන්නෙ නැහැ. සතිය පුරුදු කරන්න ගත්තට සීලය කැඩෙනවා. සති සම්පජඤ්ඤය තිබුනට සීලය කැඩෙනවා.

හැබැයි එයාට සති සම්පජඤ්ඤය පුරුදු කරන කෙනෙකුට සිල් පදයක් බිඳුනහම අපි හිතමු සිල් පදය බිඳිලා පැය ගාණක් ගිහිල්ලා තමයි එයාට සිහිය පිහිටන්නෙ. ආ මගේ අතින් සිල් පදය බිඳුනානෙ කියලා. කලින් එහෙමවත් තිබුනෙ නැහැ. ඉතින් එතනදි සිහිය පිහිටියා නම් මෙන්න මේ විදියට මගේ අතින් සිල් පදය බිඳුනා, මෙහෙම වුනා කියලා එයා නැවත සතිය තියන්න පුරුදු කරනවා, ඒක දැක්කට පස්සෙ එයා නැවත නැවත සිහියෙන් ඉන්න පුරුදු කරනවා. අපි හිතමු ආයෙත් එයාගේ අතින් ඒ සිල්පදය බිඳෙන්න පුලුවන්. බිඳෙනවා. එතකොට අර කලින් එයාට සිල්පදය බිඳිලා පැයක් ගියාට පස්සෙ තමයි එයාට ඒක දැනෙන්නෙ, මතක් වෙන්නෙ. ඊළඟ දවසේ එයාට පැයක් යන්න කලින් සමහරවිට

විනාඩි පනහක් යද්දි එයාට මතක් වෙනවා සිල් පදය බිඳුනා කියලා. අන්න එහෙම තමයි මේ මනස ටිකෙන් ටික, ඔහොම පුහුණු වෙවී යනකොට සීලය බිඳෙන්න ඔන්න මෙන්න, සීලය බිඳෙන්න චිත්තක්ෂණයකට කලින් එයාට අහුවෙනවා මං මේ සිල් පදය බිඳින්න යන්නෙ කියලා, එතනින් එහාට ඒක වළකිනවා.

ඉතින් එහෙම තමයි සීලය කියන එකෙන් ගැලවෙන්න මේ සති සම්පජඤ්ඤය කියන එක උදව් වෙන්නෙ. ඒ නිසා සති සම්පජඤ්ඤය යම් තැනකද එතන තමයි සීලය පිහිටන්නෙ. ඒ නිසා මතක තියාගන්න සීයයට සීයක් පාරිශුද්ධ මනුස්සයෙක් නම් ඔබ ඔබට මොකටද ධර්මයක්. ඔබට ධර්මය ඕන නෑනෙ තවදුරටත්. ඒ නිසා මේ බොරුවට ලෝකෙට පාරිශුද්ධ චරිතයක් කියලා පෙන්වන්න යන එකෙන්ම තේරෙනවා එහෙම පෙන්වන්න යනකොට අනිත් අයට තේරෙනවා පැත්තක ඉන්න අයට, ඇත්තටම මෙයා පාරිශුද්ධ නැහැ. ඇතුලේ තියෙනවා කුණු ටිකක්, ඒ නිසයි මෙයා පෙන්වන්න හදන්නෙ පාරිශුද්ධයි කියලා. හොඳට මතක තියාගන්න. අපි පාරිශුද්ධයි කියලා අපි සංවරයි කියලා, අපි ශාන්ත දාන්ත මිනිස්සු කියලා පෙන්වන්න හදන්නෙ ඇතුලේ කුණු ටිකක් තියෙන නිසා. එහෙම ඇතුලේ කුණු නැති කෙනෙකුට එහෙම පෙන්වන්න ඕනෙ නැහැ. එයා යථාර්තය තේරුම් අරන් ඉන්නෙ. අපි ළඟ අපි සියයට සීයක් පාරිශුද්ධ නැති නිසා තමයි අපිට සති සම්පජඤ්ඤය ඕනෙ. අපි සියයට සීයක් පාරිශුද්ධයි නම් අපිට සති සම්පජඤ්ඤය ඕනෙ නැහැ. ඒ නිසා අපි දැනගන්න ඕනෙ මේ සති සම්පජඤ්ඤ දෙක පුරුදු කරනවා කියන්නෙම ඇතුලේ කුණු ටිකක් තියෙනවා. ඒ ටික ඕනෙ වෙලාවක එළියට එන්න පුලුවන්. ආවොත් අපි කරන්නෙ ඒක සිහියෙන් දැනගෙන ඉස්සරහට යනවා. ඒ නිසා මේකට තමයි ශාසනය නමක් දීලා තියෙන්නෙ ආයති සංවරය කියලා.

ආයති සංවරය කියන වචනය බුදුරජාණන් වහන්සේ දුන්නෙ ඒකයි. අපි අතින් වැරැද්ද වෙනවා. සිහියෙන් දකිනවා, නැවත නැවත සංවරයට එනවා. එහෙම එහෙම ගිහිල්ලා තමයි අපිට යම් දවසක සිල් පදයක් බිඳින්න චිත්ත ක්ෂණයකට කලින් අපිට සිහිය පිහිටන්න පටන් ගන්නෙ. ඒ නිසා මතක තියාගන්න මේ වැරැද්දක් නැවත නැවත සිද්ධ වෙනකොට තමයි යෝගාවචරයාට මේක අල්ලන්න පුලුවන් වෙන්නෙ. වැරැද්ද කරන්න යන සිතුවිල්ල, ඒකට හේතුව අල්ලන්න පුලුවන් වෙන්නෙ වැරැද්දක් නැවත නැවත වෙද්දි. ඒ නිසා එළඹ සිටි සිහිය තිබුනු පමණින් වැරදි වෙන්නෙ නැහැ කියලා හිතන්න එපා. එළඹ සිටි සිහිය තියෙන කෙනාටත් වැරදි වෙනවා. එයා ඒකෙන් දැක දැක, දැක දැක ඉස්සරහට යද්දි තමයි අර කලින් කිව්වා වගේ සීලයක් බිඳෙන්න කලින්ම එයාට අල්ලන්න පුලුවන් වෙන්නෙ. ඉතින් අපේ මිනිස්සු හිතනවා හැබැයි, බාහිරින් බලන කෙනෙක් හිතන්න පුලුවන් මෙයා කියන්නෙ නම් සිහිය පුරුදු කරනවා කියලා, මෙයා කියන්නෙ නම් භාවනා කරනවා කියලා, මෙයා කියන්නෙ නම් නිවන් දකින්න බණ අහනවා කියලා ඒ වුනාට කරන තරමක් මේ වැරැද්ද කරනවා කියලා. එහෙම තමයි බාහිර කෙනාට පේන හැටි.

හැබැයි අදාළ යෝගාවචරයාට තේරෙනවා මගේ අතින් වැරැද්ද වෙනවා තමයි. හැබැයි කලින්ට වැඩිය මං ඒ ගැන තියෙන දැනුම් තේරුම් ගතිය වැටහීම දැනෙන ගතිය එන්න එන්න වැඩිවෙනවා. ඒ කියන්නෙ වරදට තියෙන කෑදරකම ටික ටික අඩුවෙනවා. කෙලෙස් ගති ටික ටික අඩුවෙනවා කියලා එයාට තේරෙනවා. මේක චීස් කෑල්ල කැපුවා වගේ එක පාරින් කපන්න පුලුවන් තත්වයක් නෙවෙයි තියෙන්නෙ. එහෙම අය හිටියා බුදුරජාණන් වහන්සේ ජීවමාන කාලෙ. ඒ නිසා අපි දැනට දැනගන්න ඕනෙ අවංකව අපේ මානසිකත්වය අපි දැනගන්න ඕනෙ ටිකෙන් ටික ටිකෙන් ටික මගේ මේ ක්ලේශය කැඩෙන්නෙ කියලා දැනෙනවා නම් එහෙනම් අපි ඉන්නෙ හරි track එකේ. හරි පාරෙ. එහෙනම් ඒ ගැන බයවෙන්න දෙයක් නැහැ. අපිට තියෙන්නෙ විශ්වාසයෙන් සති

සම්පජඤ්ඤ දෙකත් එක්ක ඉස්සරහට යන්න විතරයි. ඉතින් අර කලින් කිව්වා වගේ ආයති සංවරය කියලා එකක් අපිට දීලා තියෙන්නෙ මේ නිසයි බුදුරජාණන් වහන්සේ. ඇයි බුදුරජාණන් වහන්සේ අපිට ආයති සංවරය කියලා එකක් දුන්නෙ, සිල්පද බිඳෙනවා කියලා උන්වහන්සේ දැනන් හිටපු නිසා. උන්වහන්සේ ඒක නොදන්නවා නම් ආයති සංවරයක් කියලා එකක් පනවන් නැහැනෙ. නැවත සංවරයකට එන්න අපිට ක්‍රමවේදයක් බුදුරජාණන් වහන්සේ පෙන්වලා දීලා තියෙන්නෙ මේකෙ යනවා එයා අතින් සිල් පද බිඳෙනවා කියලා උන්වහන්සේ දැකපු නිසයි, දන්න නිසයි.

අපි හැබැයි බුදුරජාණන් වහන්සේගේ බුද්ධ වචනයවත් ගණන් ගන්නෙ නැතිව මේකට බැහැපු දවසේ ඉඳලා රහතන් වහන්සේ කෙනෙක් වගේ තමයි ඉන්න හදන්නෙ. ඒක තනිකර මවාපෑමක්, ඒක තනිකර උගුලක්. ඒ නිසා ඔබ මේ පාරට බැස්ස පමණින්ම වැරදි නොවෙනවා කියලා හිතන්න එපා. ඒ දෘෂ්ටියට බහින්න එපා, බැස්සොත් නිකං ආතති අසහන එනවා විතරයි. ඉතින් අපිට වැරදි වෙනවා, වැරදි වෙයි, හැබැයි ඒක දකින්න, මේ මොහොතේ දකින්න. ඊළඟ වතාවෙත් වැරදි වෙයි. හැබැයි ඒ වැරැද්ද වෙන්න මොහොතකට කලින් හරි අපිට ඒක දකින්න පුලුවන් මානසිකත්වය හැදෙනවා. ඉතින් මත්තට වැරදි නොකර සිටීමට හේතුවෙන එකම හේතුව ඔන්න ඔය ක්‍රමය විතරයි. කවදාහරි මත්තට මේ කයින් වෙන වැරදි වලින් වළකින්න හේතුවෙන එකම ක්‍රමය ඕක විතරයි. ඒ නිසා සත්තු මරපු පමණින්, හොරකමක් කරපු පමණින්, කාමයේ වරදවා හැසිරිච්චි පමණින් අපිට දොස් කියන්න බැහැ. ඒ කෙනාගේ ක්ලෙශය බලවත් තරමට තමයි වැරැද්ද සිද්ධ වෙන්නෙ. ක්ලේශයට සමානුපාතිකව තමයි සිල්පද බිඳෙන්නෙ. ඉතින් අපිට සති සම්පජඤ්ඤයෙන් මේක හෙමින් හෙමින් තමයි නවත්වන්න පුලුවන්. සති සම්පජඤ්ඤයට ආපු ගමන් මේ වැරැද්ද නවතින්නෙ නැහැ.

දැන් මට ඊයෙද කොහෙදත් එක්කෙනෙක් කතා කලා, එයාගේ නැන්දම්මා එයාට වෙනස්කම් කරනවා, දොස් කියනවා. ඒවා මතක් වෙනවා. සිහිය තිබ්බට ඒක ආයෙ ආයෙ එනවානෙ මැණියො අහනවා. දැන් මෙයාලා හිතන් ඉන්නෙ මේ සතිය තිබ්බහම රහත් වෙනවා කියලා. මොකද රහතන් වහන්සේටනෙ ඉතින් ඕවා ආයෙ එන්නැත්තෙ. එහෙම වෙන්නෙ නැහැ. මේක නැවත නැවත එනවා, අපි නැවත නැවත නැවත සතිය තියලා සිය දහස් වර, ලක්ෂ කෝටි වර මේක පුහුණු කලාම තමයි අපිට ඇත්ත ඇතිහැටියෙන් පෙනෙන්නෙ. අපි ඒක කරන්නැහැ. අපි මැජික් වලින් වගේ මේ එක මොහොතක් සිහිය තියලා මේක erase කරන්න ඉල්ලනවා. එහෙම ධර්මයක් මේකෙ නැහැ, මං කොහෙවත් එහෙම කියලත් නැහැ, එහෙම ඉල්ලන්නත් එපා. එහෙම දේවල් හම්බවෙන් නැහැ. එතකොට මානසික ආතති අසහන වැඩිවෙන එක විතරයි වෙන්නෙ. ඉතින් යෝනිසොමනසිකාරය කියන එක හැදෙන්නෙත් ඔන්න ඔය ක්‍රමයටයි.

ඉතින් අපිට මෙන්න මේ කියන නිවැරදි දැක්ම, මනසේ තියෙන්න ඕනෙ මේ හරි සුතමය ඥාණය නැති නිසා තමයි අපිට මධ්‍යම ප්‍රතිපදාව කියන එක අල්ලන්න බැරිවෙලා තියෙන්නෙ. අපිට ඒකට යන්න බැරි අපිට ඔලුවේ හදාගෙන තියෙන වැරදි අදහස් නිසා, දෘෂ්ටි නිසා. ඉතින් ඒ නිසා අපිට සම්මා කම්මන්තය කියන්නෙ මොකක්ද, සත්තු මැරීමෙන් හොරකම් කිරීමෙන් කාමයේ වරදවා හැසිරීමෙන් වළකිනවා කියන්නෙ මොකක්ද කියලා අපි දන්නැත්තේ ඒකයි. මධ්‍යම ප්‍රතිපදාව කියන එකට මේක ඇවිල්ලා තියෙන්නෙ කොහොමද කියන එක අපි දන්නැත්තෙ අපිට මේ හරි පාර අහුවෙලා නැහැ. දැනිලා නැහැ. ඒ නිසා මෙතුවක් දුර එන මේ ගමන පටන් ගන්නෙ අර පුංචි බබෙක් වගේ අර එදිනෙදා කරන වැඩවලදි සක්මන පර්යංක වශයෙන් සිහිය තියන්න පුරුදු කරන යෝගාවචරයාට තමයි මෙතෙන්ට එන්න පුලුවන්.

ඉතින් ඒ නිසා අද දේශනය අපි මෙතනින් නතර කරනවා. අපි ඊළඟ දේශනයෙන් මුණගැහෙමු. තෙරුවන් සරණයි!

## 33) ආජීවයේ අපිරිසිදු බව භාවනාවට බලපාන හැටි | right livelihood and mindfulness | @alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අද කතා කරන්නෙ සතිපට්ඨාන සූත්‍ර දේශනා මාලාවේ ඊළඟ දේශනාව. අපි අද කතා කරන්න තියෙන්නෙ සම්මා ආජීව කියන කොටස ගැන ධම්මානුපස්සනා කොටසේ. ඉතින් සම්මා ආජීව කියන කොටස ගැන කතා කරද්දි අපි සාමාන්‍යයෙන් මේ නිවන් මග කියන එක පොතේ තියෙන්නෙ. සීල සමාධි ප්‍රඥා කියන අනුපිළිවෙලක් තමයි පොතේ තියෙන්නෙ. හැබැයි මේක ප්‍රායෝගිකව පුහුණු වෙමින් යද්දි ඒක ප්‍රඥා සීල සමාධි විදියට තමයි සැකසෙන්නෙ. ඒ කියන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ සම්මා දිට්ඨි කියන පිරිසිදු නිවැරදි දැක්මක් එක්ක, සම්මා සංකප්ප කියන නිවැරදි සංකල්පනාවන් සහිතව තමයි ඊළඟට තියෙන සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව කියන සීලමය කොටස සම්පූර්ණ වෙන්නෙ. ඒ කියන්නෙ නිවැරදි දැක්මක්, නිවැරදි සංකල්පනාවක් තියෙන කෙනෙක් ඒක සාක්ෂාත් කිරීම තමයි මේ සීල කොටසින් සිද්ධ වෙන්නෙ. ඉතින් මෙහෙම වෙද්දි මේ සම්මා දිට්ඨිය කියන කොටසින් තමන්ගේ දෘෂ්ටිය ඍජු වෙන්නත් අපිට සුතමය ඥාණය කියන එක අවශ්‍ය වෙනවා. ඒ හරහා ක්‍රියාවත් වීමෙන් තමයි මේ දෘෂ්ටිය කියන එක පිරිසිදු වෙන්නෙ. ඒකෙන් තමයි අපිට ඉස්සරහ මාර්ග අංග වලට යන්න පුලුවන් වෙන්නෙ.

ඉතින් මේ සම්මා දිට්ඨි, සම්මා සංකප්ප දෙකෙන් යුක්ත වුනු මනසක් තියෙන කෙනෙකුට තමයි සීලය කියන එක හරියටම පරිපූර්ණ වෙන්නෙ. සීලයේ ඇතුලාන්තයට කිඳා බහින්නෙ. සීලය කල් අල්ලන සීලයක් බවට පත්වෙන්නෙ. ඉතින් සම්මා දිට්ඨි, සම්මා සංකප්ප දෙකෙන් තොරව අපි සීලයකට ආවහම ඒක එච්චර කල් අල්ලන්නෙ නැහැ, ඒකෙ ලොකු ගැඹුරක් නැහැ, නිකං මතුපිටින් තමයි යන්නෙ. මේ සම්මා දිට්ඨි සම්මා සංකප්ප දෙක සහිතව ඊළඟට සීලමය කොටස අපි සම්පූර්ණ කරනවා නම් අන්න එතකොට සීලය කියන එක තහවුරු වෙන්න පටන් ගන්නවා. ඉතින් අද අපිට කතා කරන්න තියෙන්නෙ සම්මා ආජීව කොටසනෙ. එතකොට මේ සම්මා ආජීවය කියන එක සරලව කිව්වොත් ධාර්මිකව සිව්පසය හොයාගන්නෙ කොහොමද කියන එක තමයි මේ කතා කරන්නෙ. ජීවය පවත්වන්නෙ කොහොමද කියන එක, පැවිදි අයට නම් සිව්පසය හොයාගන්න විදිය, ගිහි අයට නම් සිව්පසයම තමයි ඒගොල්ලන්ටත් ප්‍රධාන අවශ්‍යතා ටික සපයාගන්නෙ මොන විදියටද කියන එක තමයි මේකෙන් කතා කරන්නෙ. ඉතින් මේ මට්ටමට මේ සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සහිතව සම්මා වාචා, සම්මා කම්මන්ත සහ මේ ඊළඟ කොටසට ආපු නැති කෙනෙකුට මිත්‍යා ආජීවය සහ සම්මා ආජීවය වෙනස පෙන්නලා දෙන්න අමාරුයි. ගොඩක් වෙලාවට මිත්‍යා ආජීවය ගැන කරුණු පෙන්නලා දෙන්න අමාරුයි, ඒගොල්ලො ඒක භාරගන්න කැමැති නැහැ. ඉතින් මේ සම්මා ආජීවය සහ මිත්‍යා ආජීවය මේකෙ වෙනස්කම් මේක හරියටම කොහොමද කියලා තේරුම් ගන්නත් සෑහෙන්න අපිට කල් යනවා.

ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ සඳහන් කරනවා අද වර්තමාන ලෝකයේ ගිහි පැවිදි දෙගොල්ලොම භාවනා කරන්න පටන් අරන් තියෙනවා. පැවිද්දො විතරක් නෙවෙයි ගිහියොත් භාවනා කරනවා. ඉතින් ලොකු ස්වාමීන් වහන්සේ සඳහන් කරන්නෙ මේ දෙපිරිස අතරින් වර්තමානයේ පැවිද්දන්ගේ භාවනාවට වැඩිය ගිහි අයගේ භාවනාව

වේගයෙන් වැඩෙනවා, දියුණු වෙනවා, සාර්ථක වෙනවා කියලා උන්වහන්සේ දේශනා කරනවා, ඒකට හේතු උන්වහන්සේ පෙන්වන්නෙ පැවිද්දන්ගේ මනසේ කුකුස් වැඩියි. හේතුව ගිහියෙකුට සාපේක්ෂව පැවිද්දෙකුට තියෙන සීලමය පැත්ත අධිකයි. චතුපාරිශුද්ධ සීලය කියලා එකක් පැවිද්දන්ට උපසම්පදා භික්ෂුවට පවතිනවා ප්‍රාතිමෝක්ෂ සංවර සීලය, ඉන්ද්‍රිය සංවර සීලය, ආජීව පාරිශුද්ධි සීලය සහ ප්‍රත්‍ය සන්නිශ්‍රිත සීලය කියලා. ඉතින් මේ ගිහියන්ට මෙච්චර සීලයක් නැහැ. ගිහියන්ට එක්කො පන්සිල්, එක්කො අටසිල්, සමහර දවසට දස සිල් ඔය වගේ තැනක ඉඳන් වැඩ කරන්න පුලුවන්.

එතකොට මේ පැවිද්දන්ට කුකුස් වැඩිවෙන්න හේතුව තමයි යම්කිසි විදියකට ප්‍රාතිමෝක්ෂ සංවර සීලය හෝ ඉන්ද්‍රිය සංවර සීලය හෝ ආජීව පාරිශුද්ධ සීලය හේ ප්‍රත්‍ය සන්නිශ්‍රිත සීලය මොකක්හරි පුංචි හරි පළුද්දක් වෙච්චි ගමන් පැවිද්දට ඒක ගැන සැක පහළ වෙනවා, පසුතැවීම් එනවා, කුකුස් එනවා. ඉතින් ඒක භාවනා කරන්න ගියාම ඒක අනිවාර්යයෙන්ම බලපානවා ඒ කුකුස් සහිත හිත. එතකොට මෙහෙම වෙන්න හේතුව තමයි කැඩුනම පිළියම් යොදන්න පුලුවන්, කැඩුනම ශික්ෂාපදයක් පලුදු වුනහම පිළියම් කළ හැකි බව හිතට තහවුරු වෙලා මදි. ඒක මදි හිතට. ඉතින් ලොකු ස්වාමීන් වහන්සේ සාමාන්‍යයෙන් දේශනා කරන්නෙ අපිට ප්‍රාතිමෝක්ෂය කියන එක ආරක්ෂිතව තියාගෙන, ප්‍රාතිමෝක්ෂ සංවර සීලයත් බරපතල තත්ව තියෙනවා ශික්ෂාපද බිඳෙන. අපි ඒ මට්ටමට නොයා ආරක්ෂිතව තියාගෙන මේ ඉන්ද්‍රිය සංවර සීලය, ප්‍රත්‍ය සන්නිශ්‍රිත සීලය සහ ආජීව පාරිශුද්ධ සීලය පුංචි පුංචි පළුදු වුනාට අපිට ඒවට පිළියම් කරගෙන ඉස්සරහට යන්න පුලුවන්.

අන්න ඒක උපමා කරනවා මේ ඉන්ද්‍රිය සංවර සීලයයි, ආජීව පාරිශුද්ධ සීලයයි, ප්‍රත්‍ය සන්නිශ්‍රිත සීලයයි හරියට අපේ ශරීරයේ අතක් පයක් කැඩෙනවා වගේ, වෙන් වෙනවා වගේ ඒකට පිළියම් යොදාගෙන ඉස්සරහට යන්න පුලුවන්. නමුත් ප්‍රාතිමෝක්ෂ සංවර සීලය කියන්නෙ හිස වගේ. හිස කඳින් වෙන් වුනොත් ආයෙ ජීවයක් පවත්වන්න බැහැ. එතකොට පැවිද්දාට මේ ඉන්ද්‍රිය සංවර සීලය, ආජීව පාරිශුද්ධ සීලය, ප්‍රත්‍ය සන්නිශ්‍රිත සීලය කියන මේ දේවල් ගැන පුංචි පුංචි පළුදු තිබුනත් ඒකට පිළියම් යොදන්න පුලුවන්, ඒ පිළියම් යොදාගෙන ඉස්සරහට යන්න පුලුවන් කියන එක විශ්වාසයෙන් මනසට තිබුනොත් කකුස් අඩුයි. ඒක නැතිවුනාම කුකුස් වැඩියි. එතකොට ඒක භාවනාවට ඍජුවම බලපානවා. නමුත් ගිහියන්ට මේක එච්චරටම බලපාන් නැහැ. ඒ නිසා සාපේක්ෂව මේ නිසා තමයි පැවිද්දන්ට භාවනාව දියුණු කරගන්න ගොඩාක් වෙලාවට අපහසු වෙලා තියෙන්නෙ.

ඉතින් සාමාන්‍යයෙන් උපසම්පදා සීලයට අදාළ විනයේ සඳහන් වෙන්නෙ යම්කිසි උපසම්පදා භික්ෂුවක් වැරදි ආජීවයෙන් යම් කිසි දෙයක් උපයා ගත්තොත් ඒක පාවිච්චි කරන වාරයක් ගානෙ ඒ භික්ෂුවට ඇවැත් වෙනවා. නමුත් ගිහියෙකුට වැරදි ආජීවයකින් උපයාගත්තු දෙයක් ඒක නැවත නැවත පාවිච්චි කලා කියලා පව් වෙනවා කියලා එකක් නැහැ. ඒ නිසා අර නැවත නැවත පාවිච්චියේදී භික්ෂුවට ඇවැත් වෙන නිසා හිතට කුකුස් එනවා, පසුතැවීම් එනවා වැඩියි. ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ මේක ගිහියෙකුට ලෙඩක්, පැවිද්දෙකුට බෝවෙන ලෙඩක් කියලා. ඒක ඉස්සරහට ඉස්සරහට යනවා. ඔය නිසා තමයි කුකුස් කියන එක ඇතිවෙන්නෙ. ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ උපසම්පදා භික්ෂුවට දේශනා කරලා තියෙනවා, මේකෙන් රැකෙන්න, මේකෙන් ආරක්ෂා වෙන්න ආරක්ෂිත ක්‍රමයක්, ඒ තමයි මේ ආජීව පාරිශුද්ධ සීලයට අදාළව මේ ආජීවයට සම්බන්ධ වෙන්නෙ මේ ලාභ සත්කාර සම්මාන සිලෝකනෙ. ඒකෙන්නෙ මේ ආජීව, ඒ කියන්නෙ සිව්පසය පිණ්ඩපාත සේනාසන ගිලන්පස කියන මේවා හරහානෙ මේ ලාභ සත්කාර

හරහා ගිහින්නෙ මේ ප්‍රශ්න ඇතිවෙන්නෙ. ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ පැහැදිලිවම දේශනා කරලා තියෙනවා තමන්ගේ ගුණ හෙළි කරන්න යන්න එපා කියලා. ඒ නිසා තමයි ගුණවත් පැවිද්දො තමන් ලබලා තියෙන භාවනාවෙන් දියුණු මානසිකත්ව, උත්තරීය මනුෂ්‍ය ධර්ම, මාර්ගඵල හෙළි කරන්න යන්නෙ නැත්තෙ.

ඒක බුදුරජාණන් වහන්සේ එපා කිව්වෙ ඔන්න ඔය සියුම් කාරණය මනසට බලපාන නිසා. තමන් ළඟ තියෙන ගුණයක්වත් හෙළි කරන්න යන්න එපා කියනවා, මොකද ඒවා හෙළි කලහම ඒවා පෙන්නුවාහම මිනිස්සු සාමාන්‍යයෙන් ඕවානෙ ඉල්ලගෙන එන්නෙ. මිනිස්සු පහදිනවා, පහදපුවාම භික්ෂුවට ලාභ සත්කාර ලැබෙනවා. එතකොට වැරදි ක්‍රමයකට මේ ලාභ සත්කාර වලට ගොදුරු වෙලා වැරදි ක්‍රමයකට ලාභ සත්කාර උපයන්න ගියොත් ඒක මිත්‍යා ආජීවයට වැටෙනවා. එතකොට ඒක කුකුස් උපදවන්න හේතුවෙන්න පුලුවන්, යම්කිසි දවසක භාවනා කරන්න ගියාම. ඉතින් මේකට දීලා තියෙන මේ උපමාව තමයි ස්ත්‍රියක් තමන්ගේ ස්ත්‍රී ලිංගය ප්‍රසිද්ධියේ පෙන්නුවොත් ආයේ ඒ කාන්තාවගේ ගන්න දෙයක් නෑ, ඇති වැඩක් නෑ, අන්න ඒ වගේ තමයි කියනවා උපසම්පදා භික්ෂුව තමන්ගේ ගුණ හෙළිකිරීම මේ ස්ත්‍රියක් තමන්ගේ ලිංගයක් ප්‍රසිද්ධියේ පෙන්නනවා වගේ වැඩක් කියලා. ඊටපස්සෙ ලේසි නෑ ඒ සිද්ධ වෙන හානියෙන් වළකින්න.

ඉතින් මේක හරිම සියුම් කාරණයක්. මේ කියන ප්‍රශ්නය ගිහි අයටයි, අනුක සම්පන්න අයටයි මේක බලපාන්නෙ නැහැ. මොකද ඒ දෙගොල්ලන්ටම ඇවැත් කියලා දෙයක් වෙන්නෙ නැහැ. ඇවැත් කියන දේ සිද්ධ වෙන්නෙ උපසම්පදා භික්ෂූන් වහන්සේලාට. ඉතින් ඒ නිසා තමයි කුකුස් වැඩිවෙන්නෙ. ඉතින් මේ ගිහි අයටයි, අනුකසම්පන්න අයටයි එහෙම ඇවැත් කියලා දෙයක් නැති නිසා කුකුස් එන්නෙ නැහැ. ඒ නිසා ඒ අයට පහසුවෙන් භාවනාව ගොඩක් වෙලාවට වැඩෙනවා අර උපසම්පදා පැවිදි අයට වැඩිය. ඒගොල්ලන්ට කුකුස් අධික නිසා තමයි මේ ප්‍රශ්නය එන්නෙ. ඉතින් මේ නිසා තමයි භික්ෂුව ධාර්මිකව තමන්ගේ ජීවිකාව පැවැත්විය යුත්තේ. ඒ සඳහා විශාල ශික්ෂාපද ප්‍රමාණයක් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙනවා.

ඉතින් ඔන්න ඔය ඇවැත් වලට, ඔය ශික්ෂාපද වලට අහුනොවෙන්නත්, මේ ලාභ සත්කාර උපයන ක්‍රම ටිකක්, උපයන විදි ටිකක් මානවයාගේ මනස හැසිරෙන ක්‍රම ටිකක් භාග්‍යවතුන් වහන්සේ පෙන්නලා දීලා තියෙනවා. ඒ තමයි කුහනා ලපනා නියමිත්තිකතා නිප්පේසිකතා ලාබේන ලාභං නිජිගිංසනතා කියලා. ඔය  ටිකෙන් ලාභ සත්කාර සම්මාන සිලෝක හොයන්න පුලුවන්. හැබැයි ඇවැත් වෙන්නෙ නැහැ. හැබැයි ඇවැත් වුනේ නැති වුනාට මිත්‍යා ආජීවයට තමයි වැටෙන්නෙ. ලාභ සත්කාර සම්මාන සිලෝක ලබාගන්න තමයි මේ ටික කරන්නෙ. ඉතින් මේවා අර හරියටම චාටුවැඩ වගේ. ඉතින් මේකෙ කුහනා කියන්නෙ කුහක කම් කියන එක. ඒ කියන්නෙ තමන් රහත් වෙලා නැතිව රහත් වෙලා වගේ පෙන්නනවා. රහත් වෙලා වගේ මවාපානවා, රඟපානවා, ඒ විදියට හැසිරීම් පවත්වනවා, වචනයෙන් කියන් නැහැ, හැසිරීම් පවත්වනවා තමන් රහත් කෙනෙක් වගේ, තමන් ශ්‍රේෂ්ට කෙනෙක් වගේ මවාපාන්න එහෙම දේවල් කරනවා. එතකොට ඒකෙන් ලාභ සත්කාර සම්මාන සිලෝක ලැබෙනවා. ගිහියො ඒවට පහදිනවා, නැවෙනවා, ඒකෙන් ඔන්න ආජීවයට කැළලක් වෙනවා.

එතකොට අපි හිතමු උදාහරණයක් විදියට දැන් භාවනා කරන යෝගවචරයෙක් ඉන්නවා කියලා. එතකොට ඒ යෝගාවචරයා කතා බහෙන් තොරව සිහිය පවත්වගන්න සක්මන් කරද්දි බොහොම හිමින් සක්මන් කරනවා වෙන්න පුලුවන්. කතාබහ නැතිව බිම බලාගෙන තමන්ගේ වැඩේ කරනවා වෙන්න පුලුවන්. එතකොට සමහරවිට මේ

යෝගාවචරයාට සැකයක් එන්න පුලුවන්, භාග්‍යවතුන් වහන්සේ මෙහෙම කුහනා කියලා එකක් දේශනා කරලා තියෙනවා. මං මේ ඒකට අහුවෙලාද ඉන්නෙ. ඒ නිසාද මෙහෙම කරන්නෙ කියලා සැක එන්න පුලුවන්. නමුත් එතන තියෙන්නෙ මේ ධර්මානුකූලව මේ භාග්‍යවතුන් වහන්සේගේ ඉගැන්වීමට අනුව අහිංසක වෑයමක් යොදනවා නිවන් මඟට. ඉතින් මේක හොයාගන්න මේ කුහක කම නිසා මෙහෙම කරනවද, අවංකවම නිවන් මඟ වඩන්න එහෙම කරනවාද කියලා හොයාගන්න තියෙන හොඳම ක්‍රමය තමයි මේ කුහනා කියන ගතිය තියෙන අය මේක මිනිස්සු ඉන්න තැන්වල විතරයි මේ විදියට රඟපාන්නෙ. මේ විදියට හැසිරීම් පවත්වන්නෙ. ඇත්තම යෝගාවචරයෙකුට මිනිස්සු ඇති තැනත්, නැති තැනත් මේ විදියට ඉරියව් පවත්වනවා.

ඉතින් යෝගාවචරයා ඒ කියන කුහනා කියන වැරදි පැත්තට යොමුවෙලාද නැද්ද කියලා හොයාගන්න ඔන්න ඕක තමයි වඩාම වැදගත් වෙන්නෙ. ඉතින් මේ ටික තේරුම් ගන්න, ඒ යෝගාවචරයාට ඒ අදාළ කෙනාට සම්මා දිට්ඨිය සහ සම්මා සංකප්පය හොඳින් හැදිලා තියෙන්න ඕනෙ. හොඳ දැක්මක් සහ නිවැරදි සංකල්පනා තියෙන්න ඕනෙ. ඒ හරහා හැකි සංඥාවෙන් තමයි මේ යෝගාවචරයාට මේ අහිංසක වෑයමක් යොදන්න පුලුවන් වෙන්නෙ, භාවනාවක් කියන එකක් පුහුණුවක් කියන එකක් කරගෙන යන්න පුලුවන් වෙන්නෙ. එතකොට තමන්ගේ හිත විමසලා බලන්න පුලුවන් මං මේ අනිත් අයව රවටන්නද මේක කරන්නෙ. එහෙම නැත්නම් මං මේ අවංකවම මේ නිවන පිණිස අහිංසක වෑයමක් හැකි සංඥාවෙන් අහිංසක වෑයමක් යොදනවාද කියන එක හොයාගන්න පුලුවන් වෙනවා. ඒක සෙවිය යුතුයි. ඉතින් සාමාන්‍යයෙන් ශ්‍රේෂ්ට ගුරුවරු මේ කියන ලාභ සත්කාර සම්මාන සිලෝක වලට අහුවෙලා මේ ඉරියව් පවත්වන එකට අහුවුනු අයට උපදෙස් දෙන්න යන්නෙ නැහැ, හදන්න යන්නෙ නැහැ. මොකද ඒක හදන්න බැහැ. ඒගොල්ලො ඒක බාරගන්න ලැහැස්ති නැහැ. හරිම අමාරුයි ඒක හදන්න.

ඉතින් මේ වගේ උගුල් වලට අහුවෙන්නෙ නැතිවෙන්න තමයි සෑම වර්ෂයකම වස් සමාදන් වෙලා භික්ෂූන් වහන්සේලා වස් පවාරණය කරනවා කියලා දෙයක් කරන්නෙ. ඉතින් වස් පවාරණය කරනවා කිව්වට ගොඩක් අය දන්නෙ නැහැ එතනදි කරන්නෙ මොකක්ද කියලා. එතනදි කරන්නෙ සෑම භික්ෂූන් වහන්සෙ කෙනෙක්ම ඒ සේනාසනයේ වැඩ හිඳපු ස්වාමීන් වහන්සේලා සීමාවට රැස්වෙලා එක එක භික්ෂුව එක එක ස්වාමීන් වහන්සේලා, නැතිනම් සංඝයා ඉදිරියේ පැවරීමක් කරනවා ඔබවහන්සේලා සමඟ මම මේ වස් තුන් මාසයේ මෙහෙම වාසය කලා එකට. එතකොට මගේ සිතින් කයින් වචනයෙන් මොකක් හරි වැරැද්දක් වෙනවා ඔබවහන්සේලා දැක්කා නම් ඔබවහන්සේලාට අහන්න ලැබුනා නම්, නැත්නම් ඔබවහන්සේලාට සැකයක් තියෙනවා නම් මෙන්න මේ කාරණා තුනෙන් එකකට මගේ වරදක් දැනිලා තියෙනවා නම් ඒක මට පෙන්වා දෙන්න මට සකස් කරගන්න කියලා පවරනවා සංඝයාට තමන්ගේ වැරදි පෙන්නලා දෙන්න කියලා. ඉතින් මේ වගේ ශ්‍රේෂ්ට ක්‍රමයක් තියෙන්නෙ භාග්‍යවතුන් වහන්සේගේ ඉගැන්වීමක විතරයි. තමන්ගේ වරද පෙන්නලා දෙන්න කියලා ඉල්ලන එකක්, ආරාධනා කරන එකක්. ඕක තමයි පස් පවාරණය කරනවා කියලා කියන්නෙ. ඉතින් මෙහෙම දේවල් හැදිලා තියෙන්නෙ භික්ෂුවගේ මනස මේ මිත්‍යා ආජීවයෙන් ගලවලා සම්මා ආජීවයට ගන්න පුලුවන් වෙන්න අර උගුල් වලට ලාභ සත්කාර සම්මාන සිලෝක වැනි උගුල් වලට අහුනොවී පවත්වගන්නයි. ඉතින් ඒ වගේ ක්‍රම සහ විධි හැදිලා තියෙන්නෙ. ඉතින් ඕක තමයි කුහනා කියන්නෙ. ඒකෙන් ඇවැත් වෙන්නෙ නැහැ. හැබැයි අර කියන කපටිකම් වලින්, ලාභ සත්කාර උපයන්න පුලුවන්.

ඊටපස්සේ ලපනා කියලා එකක් තියෙනවා. ඒක අරක වගේ, දැන් අරක වගේ කුහනා එකේ තියෙන්නෙ ක්‍රියාවෙන් රඟපානවා, මේකෙ වචන. ඒ කියන්නෙ ආටෝප සාටෝප වචන දාලා හුරතල් කිරීම් දාලා, නළවලා, පහදින වචන දාලා කතා කරනවා. අරමුණ ලාභ සත්කාර සම්මාන සිලෝක ඉපයීම. මිනිස්සු ඉතින් ඒකට පහදිනවා. මේ නිසා තමයි භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ උන්වහන්සේගේ ධර්මයවත් කවි තාල විදියට එකතු කරලා මේ ලයාන්විතව තාල දාලා කියන්න එපා කියන්නෙ ඔන්න ඔය නිසයි. මොකද මිනිස්සු ඒවට පහදිනවා. මිනිස්සු කාම ලෝකෙ ඉන්න අයනෙ. එතකොට අර ලස්සන සුරතල් වචන දාලා කතා කලාම මිනිස්සු අහුවෙනවා. ඒකෙන් ලාභ සත්කාර ඉපයෙනවා. එතකොට යම්කිසි කෙනෙකුට ලාභ සත්කාර උපයා ගැනීමේ අරමුණින් එහෙම වචන දානවා නම් ඒක මිත්‍යා ආජීවයට වැටෙනවා. ඇවැත් නැහැ. හැබැයි ඒ කෙනා උගුලකට අහුවෙලා ඉන්නෙ.

ඊළඟට නියමිත්තිකතා කියලා කියන්නෙ, ඒ අදාළ කෙනාට ඉල්ලන දේ නොදී ඉන්න බැරි තැනට එන විදියට කතා කරනවා. ඒ කියන්නෙ ඒකට ඕන තරම් කතා තියෙනවා විශුද්ධි මාර්ගයේ ගිහිල්ලා බැලුවොත් මං ඒවා මෙතන කියන්නෙ නැහැ. ඒ කියන්නෙ අවට වටපිටාවෙ තියෙන මොනවහරි නිමිති අරගෙන, මොනවහරි සළකුනු අරගෙන ඒවා දාලා ගලපලා කතන්දර කියනවා, එතකොට අර අහගෙන ඉන්න කෙනාට නොදී ඉන්න බැරි තැනටම එයාගේ මනස බලෙන් ඇදලා ගන්න තැනට කතාව අරගෙන එනවා. ඔය සම්මාදමේ යන අය වගේ ගොඩක් වෙලාවට ඔය දේ කරනවා. ඉතින් නියමිත්තිකතා කියන්නෙ එහෙමයි, මොකක් හරි නිමිත්තක් උළුප්පලා අරගෙන ඒකෙන් කතාවක් කරනවා අර මනුස්සයාට කරන්න දෙයක් නැහැ කතාව අහලා ඉවරවෙනකොට දෙන්න වෙන තැනට මනස අරන් එනවා. ඒ ලාභ සත්කාර සම්මාන සිලෝක පිණිස තමයි ඒ විදියට කටයුතු කරන්නෙ. ඒකත් මිත්‍යා ආජීවයට වැටෙන්නෙ.

ඊටපස්සෙ නිප්පේසිකතා කියන්නෙ මේ කියන කුහනා ලපනා නියමිත්තිකතා කියන ක්‍රමවලට කවුරුහරි මිත්‍යා ආජීවයෙන් ජීවිතය පවත්වනවා නම් ලාභ සත්කාර සම්මාන සිලෝක වැරදි විදියට උපයනවා නම් කවුරුහරි කෙනෙක් ඒක පෙන්නලා දුන්නොත් ඒ කෙනා ඒක බාරගන්නෙ නැහැ. ඒක වාදයක් කරගන්නවා. ඒක බාරගන්න කැමැති නැහැ, මෙහෙම ලාභ සත්කාර සම්මාන සිලෝක වලට අහුවෙලා ඉන්නවා කියන එක. ඉතින් ඒ වාදය ඇත්තටම නිවන පිණිස හේතුවෙන වාදයක් නෙවෙයි. ඉතින් සාමාන්‍යයෙන් අපේ ලොකු ස්වාමීන් වහන්සේ නම් සඳහන් කරන්නෙ එහෙම අය හදන්න යන්නෙ නැහැ සාමාන්‍යයෙන් ගුරුවරු එහෙම අයට උපදෙස් දෙන්න යන්නෙ නැහැ. ඒක කරන්න බැහැ. බාරගන්න කැමැති නැහැ. මොකද ඒගොල්ලො මුල ඉඳලම ඇවිල්ලා තියෙන්නෙ ලාභ සත්කාර ලබාගැනීම පිණිස. ඒ නිසා ඒක දැන් මනසට හරියට programme වෙලා වගේ ඒක එතකොට පෙන්නලා දෙන්න අමාරුයි.

ඊළඟට ලාභේන ලාභං නිජිකිංචනතා කියලා කියන්නෙ පැවිද්දො තමන්ට ලැබෙන එක එක බඩු ගිහියන්ට දෙනවා. ඒගොල්ලො සතුටු කරන්න ගිහියන්ට දෙනවා. ගිහියන්ට දුන්නහම මිනිස්සු ඉතින් ඕවට පහදිනවානෙ අනේ මේ ස්වාමීන් වහන්සේගේ කිසිම ලෝභීකමක් නැහැ, නිර්ලෝභීව මේවා දෙනවානෙ කියලා, ඉතින් ඒ මිනිස්සු හිතනවා අනේ මුන්නාන්සේලා අපිට මෙහෙම උදව් කරන එකේ අපිත් මොනවහරි උදව් කරන්න ඕනනෙ කියලා ඔන්න යෝජනාවක් ගේනවා ඔබවහන්සේට මොනවහරි අවශ්‍ය දෙයක් තියෙනවා නම් කියන්න කියලා. එතකොට ඉතින් මේ පැවිද්දො මේකට අහුවෙච්චි පැවිද්දො අර මිනිස්සුන්ට උහුලගන්නවත් බැරි හොඳම එකක් කියනවා, රත්තරන් වලින් අරවා හරි මොනවහරි එකක් කියනවා. එතකොට මිනිස්සු ඉතින් අහුවෙලා ඉවරයි. ඒ තැනට ඒ

මනුස්සයාගේ මනස ගන්න තමයි අර තමන් ළඟ තියෙන පොඩි පොඩි දේවල් ඒගොල්ලන්ට දෙන්නෙ. ඒ නිසා තමයි භාග්‍යවතුන් වහන්සේ භික්ෂුවට, පැවිද්දන්ට දේශනා කරලා තියෙන්නෙ තමන්ට ලැබෙන සිව්පසය, පරිෂ්කාර දෙන්න පුලුවන් අය ඉන්නෙ අම්මා තාත්තා ඔය වගේ බොහොම සීමිත පිරිසකට විතරයි, වෙන අයට දෙන්න එපා කියනවා. මේ කියන උගුලට අහුවෙන නිසා.

නමුත් අපේ මිනිස්සු හිතන් ඉන්නෙ ඒක කුහක කමට තණ්හාවට දෙන්නෙ නැහැ කියලා දෙන්නෙ නැති අය. ඉතින් අපේ ලෝකු ස්වාමීන් වහන්සේගේ ගුණයක් මං මේ වෙලාවේ විස්තර කරනවා, මට අහන්න ලැබුනු දෙයක් උන්වහන්සේගේ කතාවක්. ඉතින් එක වරක් උන්වහන්සේ ආරණ්‍යයේ වැඩ ඉද්දි ඒ අහළ පහළ මනුස්සයෙක්, දුප්පත් මනුස්සයෙක් ආවලු එයාට අසනීප වෙලා බෙහෙත් ගන්නවත් මුදලක් හොයාගන්න නැතිව ආවලු උන්වහන්සේගේ ලොකු ස්වාමීන් වහන්සේගේ ආරණ්‍යයට ඇවිල්ලා උන්වහන්සේට ලැබෙන මොනවහරි පිරිකර තියෙනවා නම් ඉල්ලුවලු ඒවා විකුණලා ලැබෙන මුදලින් බෙහෙත් ගන්න. එහෙම ආවලු. දැන් සාමාන්‍යයෙන් අපිට බැලූ බැල්මට පේන්නෙ අනේ ඉතින් මේක සෑහෙන අනුකම්පා කළ යුතු කරුණාව ඉපදවිය යුතු, මෛත්‍රිය පැතිරවිය යුතු උපකාර කළ යුතු අවස්ථාවක් විදියටනෙ අපි හිතන්නෙ. හැබැයි ලොකු ස්වාමීන් වහන්සේ කිව්වලු දෙන්න බැහැ කියලා. දෙන්න බැරි කමට නෙවෙයි, තියෙනවා, නමුත් දෙන්න බැහැ කිව්වලු. ඒ මනුස්සයා තරහා වෙලා ගිහින් තියෙන්නෙ. මොකද ලොකු ස්වාමීන් වහන්සේ සඳහන් කලාලු ඒ මනුස්සයා පෙර කරපු අකුසල කර්මයකට තමයි දැන් මේ විදියට මේ නැතිව මේ විදියට දුක් විඳින්නෙ. දැන් මේ සංඝයාට ලැබෙන දේවල් අරන් ගිහිල්ලා විකුණලා ලැබෙන දේවල් ගන්න ගිහිල්ලා ඒ මනුස්සයා තවත් අකුසල් පුරව ගන්නවා ශාසනය කෙරෙහි, භික්ෂූන් කෙරෙහි, පැවිද්දන් කෙරෙහි ශ්‍රද්ධාව නැතිව අගෞරව මනසක් හදාගෙන තවත් පව් පුරවගන්නවා. ඒ පාපයෙන් තවත් සසර දුක් උපදවන්න මං කැමැති නැහැ, ඒ නිසා දෙන්න බැහැ කිව්වලු.

ඉතින් සාමාන්‍යයෙන් මේ බොහොම පුංචි මානසිකත්ව කරුණා මෛත්‍රිය තුළ හිරවෙලා ඉන්න මිනිස්සුන්ට පේන්නෙ මේක මහා දුෂ්ටකමක් විදියට. හැබැයි ලොකු ස්වාමීන් වහන්සේ ඊට වඩා දුර බලලා තමයි එතන වැඩ කරලා තියෙන්නෙ. ඉතින් අපි හිතනවා අපි මේ තියෙන දෙයක් දෙන එක ප්‍රශ්නයක් නැහැ කියලා. නමුත් මේවා හරිම සියුම් කාරණා. හෙමින් හෙමින් තමයි මේවා අපිව උගුලට ඇදලා දාන්නෙ. අන්තිමේදී භාවනා කරන්න ගියාම ඕවා විතර්ක විදියට ඇවිල්ලා අපිව භාවනා කරන්න බැරිව යනවා. භාවනාව සාර්ථක වෙන්නෙ නැහැ, දියුණු වෙන්නෙ නැහැ. ඉතින් මේවායින් ඇවැත් වුනේ නැති වුනාට මේවයින් අපේ නිවන් මග ඇහිරෙනවා, ආජීවය අපිරිසිදු වෙන නිසා. ඉතින් මෙන්න මේ විදියේ වැඩ කරන අයට, මේ කුහනා ලපනා ආදි මේ වැඩ කරන අයට මනසේ විතර්ක වැඩියි, කුකුස් වැඩියි. ඒ නිසා තමයි මේගොල්ලන්ට සමාධි මාත්‍රයක් උපදවාගන්න බැරිවෙන්නෙ. භාවනා කරන්න ගියාට හිත එකළස් කරගන්න බැරිවෙනවා. ඉතින් ඒ අයට විපස්සනාවක් කොහොමවත් කරගන්න වෙන්නෙ නැහැ. ඉතින් මෙන්න මේ නිසා තමයි අපි සීල කොටසට එන්න කලින් දිට්ඨි, සම්මා දිට්ඨිය සහ සම්මා සංකප්පය සකස් කරගෙන ඉන්න ඕනෙ කියන්නෙ. එතකොට තමයි සීලය තහවුරු වෙලා සකස් වෙන්නෙ.

ඉතින් මේවා ගිහියන්ට බලපාන් නැත්තෙ නැහැ. අද ගිහියොත් ඉන්නවා මේවට අහුවෙලා ඉන්න. නමුත් ප්‍රධාන වශයෙන් පැවිද්දා මේකට අහුවෙන්න තියෙන ඉඩකඩ වැඩියි. ඉතින් පැවිද්දට තේරෙන්න ඕනෙ මේ ලාභ සත්කාර උපයන පාර එකක්, නිවන් මඟ එකක්. මේ දෙක පාරවල් පැහැදිලි පාරවල් දෙකක්. ඉතින් මේක තේරුම් ගත්තු පැවිද්දාට කුකුස් එන්නෙ නැහැ වැඩේ කරගෙන යන්න පුලුවන්. ගිහියන්ටත් මේකෙ උගුල අඩුයි. නමුත්

සමහර ගිහියො මේකට අහුවෙනවා ගොඩක් වෙලාවට. ඉතින් ඒ නිසා අපේ ලොකු ස්වාමීන් වහන්සේ සඳහන් කරන්නෙ යම්කිසි විදියකට යම්කිසි පැවිද්දෙකුට, යම්කිසි කෙනෙකුට ගිහියෙක් හරි යෝගාවචරයෙකුට හරි ලාභ සත්කාර වැඩිවෙනවා නම් එයාගේ නිවන් මඟ දුරස් ෙවන්න තියෙන ඉඩකඩ බොහෝම වැඩියි කියලා. ඒ නිසා අපිට දැන් මේ විදියට අපි සීලයක ඉද්දි මේ සීලය අපි හිතමු දැන් කයින් වචනයෙන් වෙන වැරදි වලින් වැළකෙන එකනෙ. ඒ සිද්ධියක් වෙන වෙලාවට අපි එළඹ සිටි සිහිය පවත්වගන්න පුලුවන් වුනොත් අපිට දැකගන්න පුලුවන් වෙනවා එතන සිද්ධ වෙන මානුෂීය පෙරළිය, එතන සිද්ධ වෙන යථාර්තය, එතන මනස ක්ලේශයකට අහුවෙන හැටි පේනවා සිහියෙන් හිටියොත්. ඒක පෙනුනහම ඔන්න අපේ දෘෂ්ටිය ඍජු වෙනවා. සම්මා දිට්ඨිය නිවැරදි දෘෂ්ටිය එතනදි හටගන්නවා. මොකද එයාගේ දෝෂ පේනවානෙ. සීලයේ දෝෂ පේන්න ගන්නවා, ඒවා ආවෙ කොහොමද කියලා පේන්න ගන්නවා සිහියෙන් ඉන්නකොට.

එතකොට එයාට වැරැද්ද නිවැරැද්ද දැකීමෙන් එයාගේ දෘෂ්ටිය ඍජු වෙනවා පිරිසිදු වෙනවා. ඒ නිවැරදි දෘෂ්ටිය ආවට පස්සෙ ඒක හේතු වෙනවා නැවත සීලය ශක්තිමත් කරගන්න. උසස් කරගන්න, උත්කෘෂ්ට කරගන්න. ඒ විදියට සීලය උසස් වුනාට පස්සෙ ඒ සීලය සහිතව ජීවිතය පවත්වද්දි නැවත සතිමත් වෙනකොට තවත් මොනවහරි පුංචි පුංචි දෝෂ තියෙනවා නම් ඒවා පේන්න ගන්නවා, ඒවායේ හේතු පේන්න ගන්නවා. ඒවා සකස් කරනකොට දෘෂ්ටිය නැවත ඍජු වෙනවා. ඒක හරහා නැවත සීලය උසස් වෙනවා. මේ විදියට තමයි මේ සම්මා දිට්ඨි සම්මා සංකප්ප මාර්ග අංග දෙක ප්‍රඥා කොටසට අයිති සම්මා වාචා සම්මා කම්මන්ත සම්මා ආජීව තුන සීල කොටසට අයිති. මේ නිසා තමයි සීලයයි ප්‍රඥාවයි දෙක කවදාවත් වෙන් කරන්න බැහැ කියන්නෙ. ප්‍රඥාව සීලයට අනුග්ගහිතයි, සීලය ප්‍රඥාවට අනුග්ගහිතයි. මේ දෙන්නා එකිනෙකට අන්‍යොන්‍ය උපකාරයෙන් තමයි වැඩෙන්නෙ. ඉස්සරහට යන්නෙ. එතකොට මේ මාර්ග අංග ධර්ම වල ඒක හරි ලස්සනට පෙන්නලා තියෙනවා. සතිය ඉස්සරහින් තියාගෙන විපස්සනා භාවනාවක සතිපට්ඨාන භාවනාවක යෙදෙන යෝගාවචරයාට මේක අත්දැකීමෙන් අත්විඳින්න පුලුවන්කම ලැබෙනවා. ඉතින් ඔය කියන සම්මා ආජීවය අපිට අවශ්‍ය වෙනවා මේ ගමන ඉස්සරහට යද්දි, ඒක ඔන්න ඔය ආකාරයට තමයි සැකසෙන්නෙ සිහිය ඉස්සරහින් තියාගෙන යන යෝගාවචරයෙකුට.

ඉතින් අද මට කතා කරන්න ඕනෙ වුනේ ඒ සම්බන්ධයෙන්. අපි ඊළඟ වීඩියෝ එකේදී නැවත මුණගැහෙමු. තෙරුවන් සරණයි!

## 34) සම්මා වායාමය පරිණාමය වෙන ධර්මතාවයක් | Right effort and Mindfulness | @alokaalighttolife

තෙරුවන් සරණයි! අද අපි කතා කරන්නෙ සතර සතිපට්ඨාන සූත්‍රයේ දේශනාවක්. අපි මේ වෙනකොට ඉන්නෙ ධම්මානුපස්සනා කාණ්ඩයේ සච්ච පබ්බයේ මේ මාර්ග අංග සම්බන්ධයෙන් තමයි කතා කරගෙන එන්නෙ. අපිට අද කතා කරන්න තියෙන්නෙ සම්මා වායාම කියන මාර්ග අංගය ගැන. ඉතින් විශේෂයෙන් දැනගන්න ඕනෙ මේ සම්මා වායාම කියන කොටසේදී ප්‍රධාන වශයෙන් උලුප්පලා කතා කරන්නෙ සතර සම්‍යප්‍රදාන වීර්යය සම්බන්ධයෙන්. ඒක මේ සතිය කියන ගුණය ඉස්සරහින් තියාගෙන ප්‍රායෝගිකව පුහුණු වෙද්දි කොහොමද මේක සම්බන්ධ වෙන්නෙ කියන එක. ඉතින් අපි මුලින්ම තේරුම් ගන්න ඕනෙ සතිපට්ඨානය කියන එක පුරුදු කරගෙන එද්දි මේ සතිපට්ඨාන භාවනාවේදී යෝගාවචරයාට කායානුපස්සනා කොටසේ ඉඳලා ධම්මානුපස්සනා කොටස දක්වා

එතකොට යෝගාවචරයා වීර්යය කියන එක අත්දකින්නෙ වෙනස් විදියකට. ඒ කියන්නෙ වීර්යය කියන්නෙ පරිණාමය වෙන දෙයක්. භාවනා ක්‍රම, සතිපට්ඨාන භාවනා ක්‍රමයේ මුලදි අත්දකින වීර්යය නෙවෙයි මැදදි අත්දකින්න වෙන්නෙ ඊටවැඩිය හාත්පසින් වෙනස් විදියකට අගදි අත්දකින්න වෙන්නෙ.

එතකොට සමහරවිට මේක විස්තර කරද්දි භාග්‍යවතුන් වහන්සේ වුනත්, කර්මස්ථානාචාර්‍යවරු වුනත් වෙනස් වෙනස් විදියකට එක එක තැන්වල දේශනා කරන්නෙ මෙන්න මේ හේතුව නිසා, එක එක තැන්වලදි යෝගාවචරයා අත්දකින්නෙ එක එක විදියකට. එතකොට මේක සුතමය වශයෙන්වත් අඩුගානෙ මේ ගැන හරියට වැටහීමක් නැති අයට මේක තේරුම් ගන්න බැහැ. ඒගොල්ලො මේක පටලවගන්නවා. ඉතින් අර සාමාන්‍ය සම්ප්‍රදායානුකූල පොතේ දැනුමක් තියෙන කෙනෙකුටත් මේක තේරුම් ගන්න ලේසි නැහැ. එතකොට අපි මේ ගැන මුලින්ම විස්තරයක් සතිපට්ඨාන දේශනා මාලාව ආරම්භ කරද්දි ආතාපි ගුණය විස්තර කරන තැනත් යම්කිසි විස්තරයක් සඳහන් කරලා තියෙනවා. ඔබට ඒ දේශනාව ඇහුවොත් ඒ විස්තර ටික ලබාගන්න පුලුවන්. ඉතින් භාග්‍යවතුන් වහන්සේගේ මේ නිවන් මඟ හෙලිකිරීමේදී සත්තිස් බෝධිපාක්ෂික ධර්ම කියලා දෙයක් අපි අහලා තියෙනවා පොතේ. එතකොට සත්තිස් බෝධිපාක්ෂික ධර්ම වල වැඩිම වාර ගණනක් යෙදිලා තියෙන චෛතසිකය තමයි මේ වීර්යය. ඒක සතර සම්‍යප්‍රදාන වීර්යය වල තියෙනවා. ඊටපස්සෙ ඍද්ධිපාද ධර්ම වල තියෙනවා. ඉන්ද්‍රිය ධර්ම වල, බල ධර්ම වල, බොජ්ඣංග මාර්ග අංග වල වශයෙන් සඳහන් වෙනවා. ඉතින් ලොකු ස්වාමීන් වහන්සේ මේක හරි ලස්සනට පහදලා දෙනවා, ඉන්ද්‍රිය ධර්මවල ගත්තත් වීර්යයට ඉස්සරහින් තියෙන්නෙ ශ්‍රද්ධාව, පිටිපස්සෙන් තියෙන්නෙ සතිය.

එතකොට වීර්යය කියන එක හටගන්න අපිට මුලින්ම ශ්‍රද්ධාව අවශයයි. එතකොට වීර්යයට පස්සෙ තමයි අපිට සතිය කියන එක ඔප්නංවගන්න පුලුවන්, සතිය කියන එක ක්‍රියාවත් කරන්න පුලුවන් වෙන්නෙ අන්න ඊටපස්සෙ. එතකොට මේ සතිපට්ඨාන භාවනා ක්‍රමයේදී මේ ධම්මානුපස්සනා කොටස මේ අවසාන මාර්ග අංග කොටස දක්වා එනකම්ම වීර්යය කියන එක මෙච්චර කීපතැන්පලකම යෙදිලා තියෙන වීර්යය එයාගේ මුහුනු වෙනස් කරමින්, වෙස් මුහුණු වෙනස් කරමින් අයින් කරමින් මේ නිවන් මඟ යන යෝගාවචරයාට උදව් කරනවා. ඒ කියන්නෙ මේක පරිණාමයක්. වීර්යය කියන චෛතසිකය පරිණාමයට ලක්වෙනවා. එතකොට අපි කිව්වානෙ මේ වීර්යය ගැන කතා කරද්දි අපිට සතර සම්‍යප්‍රදාන වීර්යය ගැන තමයි කතා කරන්න තියෙන්නෙ කියලා.

එතකොට ඒ සතර සම්‍යප්‍රදාන වීර්යය වල පළවෙනියටම තියෙන්නෙ **අනුප්පන්නානං පාපකානං අකුසලානං ධම්මානං අනුප්පාදාය ඡන්දං ජනෙති වායමති විරියං ආරබති චිත්තං පග්ගන්හාති පදහති** කියලා. එතකොට මේකෙ සඳහන් වෙන්නෙ ඉපදුනේ නැති, දැනටමත් හටනොගෙන තියෙන අකුසල චෛතසික අකුසලයන් සම්බන්ධයෙන් තමයි කතා කරන්නෙ. දැනටමත් හටනොගෙන තියෙන අකුසලයක් හටනොගෙනම තියාගන්න නම් අපි ඒකට කැමැත්තක් ඇති කරගන්න ඕනෙ. ඡන්දං ජනේති, මේ කැමැත්ත කියන එක කුසල ඡන්දයක්. ඒ කියන්නෙ භාවනා කරන්න කලින් මේ යෝගාවචරයාට සුතමය වශයෙන් මේ ගැන යම්කිසි වැටහීමක් එන්න ඕනෙ. ඉතින් ඒ වගේම මේ වගේ වැඩක් කරන්න කැමැත්තක් තියෙන පිරිසක් ආශ්‍රය කරන්නත් ඕනෙ. එහෙම නැත්නම් මේකට කැමැත්ත එන්නෙ නැහැ. කැමැත්ත එන්න පැහැදිලි දේශනයක්, පැහැදිලි වශයෙන් සුතමය ඥාණයක් අපිට එන්න ඕනෙ. මේ කම්මැලිකම ඇතිවෙන දේශනයක් නෙවෙයි අහන්න ඕනෙ, වීර්යය ඇතිවෙන දේශනයක් තමයි අපි සාමාන්‍යයෙන් අහන්න ඕනෙ. අපිට සාමාන්‍යයෙන් අහන්න ලැබෙන්නෙ වීර්යය උපදින දේශනා නෙවෙයි.

අපිව කම්මැලිකමට අරගෙන යන, සංසාරයට ඇදගෙන යන වීර්යයක් උපද්දන්න හිතෙන්නෙ නැති මේ shape න්‍යායෙන් නිවන් දකින්න යන බණ තමයි අපිට අහන්න ලැබෙන්නෙ.

ඉතින් මේ වීර්යයක් හටගන්න වීර්යය කළ යුතුයි දේකට කියන හැඟීම ඇතිවෙන දේශනා අහන්න ලැබෙන්නෙ අපිට ඉතාම කලාතුරකින්. නැත්නම් අපිට මේ සංසාර ගමනට යන්න, මේ නිවන කියන එක මේ ජීවිතේ බැහැ, මතු ජීවිතයක තමයි මේක සාක්ෂාත් කරන්න පුලුවන් කියලා මේක කල් දාන්න පුලුවන් බණක් තමයි අපි ගොඩාක් වෙලාවට අහන්නෙ. ජනප්‍රිය බණ තමයි එව්වා. එහෙම ඇහුවාට අපිට මේ වීර්යය එන්නෙ නැහැ. ඒ නිසා අපිට වීර්යය එන්න කැමැත්ත ඇතිවෙන්නෙ නැහැ. මේ ඡන්දං ජනේති කියන කොටසනෙ අපි කතා කරන්නෙ. කැමැත්ත හටගන්න ඕනෙ මුලින්ම වීර්යය කරන්න ඕනෙ මම මේක මේ ජීවිතේ සාක්ෂාත් කරන්න පුලුවන් දෙයක් කියන විශ්වාසය, ඒ කියන දැක්ම වෙනස් වෙන විදියේ දේශනාවක් අපි අහන්න ඕනෙ. ඇහුවොත් ඔන්න අපිට මේක කරන්න පුලුවන් කියන විශ්වාසයත් එක්ක ඔන්න එයාට වීර්යයක් කරන්න කැමැත්තක් ඇතිවෙනවා.

ඊළඟට තියෙන්නෙ වායමති කියන කොටස. ඉතින් අර ඡන්දය කියන එක හටගත්තට පස්සෙ තමයි අපිට වෑයම් කරන්න කැමැත්තක් එන්නෙ. මොකක්හරි උත්සාහයක් ගන්න හිතෙන්නෙ. ඉතින් මේකට ලොකු ස්වාමීන් වහන්සේ හරි ලස්සන උපමාවක් කියනවා, මේ වාහනයක් පදවන මනුස්සයෙකුට එයා වාහනේ අරන් යද්දි පාරෙන් පිට පැනලා වැරදි පාරකට වාහනය ගත්තොත් එයාට අවස්ථාව තියෙනවා, එයාට නිදහස තියෙනවා සියයට සීයක් හරිපාරට වාහනය ගන්න. එයාට ඒ අවස්ථාව සියයට සීයක්ම තියෙනවා. ඒක කරන්න පුලුවන් දෙයක්. ඒ වගේ තමයි අපිට මේ ඡන්දය හටගන්න කැමැත්ත ඇතිවෙන දේශනාවක් අහනකොට සමහරවිට අපේ track එක වැරදි වෙන්න පුලුවන්. අපි යන්නෙ වැරදි පාරක වෙන්න පුලුවන්. අපි දැනට අනුගමනය කරන්නෙ වැරදි ක්‍රමවේදයක් වෙන්න පුලුවන්. අපිට තාම හරිපාර අහුවෙලා නැතිවෙන්න පුලුවන්. නමුත් මේක ඇහුවට පස්සෙ අපි අහනකනුත් අපි පව් කරන මිනිස්සු වෙන්න පුලුවන්. අපි අකුසල් කරන මිනිස්සු වෙන්න පුලුවන්, අපි වැරදි කරන මිනිස්සු වෙන්න පුලුවන්. හැබැයි අපිට ඇහුවට පස්සෙ කැමැත්තක් ඇතිවුනොත් විශ්වාසයක් ආවොත් අපි යන වාහනේ හරිපාරට අපිට ගන්න පුලුවන්, ඒකට උත්සාහයක් ඕනෙ. ඒකට අපි අරගෙන ඉන්න වැරදි පාරෙන් අපිට අයින් වෙන්න පුලුවන්. සෑම කෙනෙකුටම ඒ අවස්තාව තියෙනවා, එහෙම නැති එකක් නැහැ.

ඉතින් අපිට සාමාන්‍යයෙන් අපිට මේ සතිය කියන එක නැති හැමවෙලාවකම අපි සාමාන්‍යයෙන් ඉන්නෙ මත්වෙලා වැරදි පාරවල් වල. ඉතින් මේ සතිය කියන එක ගන්න තමයි මේ වීර්යය ඕනෙ. ඉතින් සතිය සඳහා වීර්යයක් යොදන හැමවෙලාවකම අපි ඒ මරනින්දෙන් අයින් වෙනවා. සිහිය නැති හැම වෙලාවෙම අපි ඉන්නෙ මර නින්දක, මත්වෙලා ඉන්නෙ. මේ සතිය යොදන්න වීර්යය ඕනෙ. ඉතින් මේ වීර්යයත් එක්ක සතිය යෙදුවහම අපි අර නින්ද ගිහින් ඉන්න මරනින්දෙන් අවදි වෙනවා, මත් බවින් අවදි වෙනවා. ඉතින් ඔය කියන වෑයම අවශ්‍යයි. ඉතින් සාමාන්‍යයෙන් මට මතකයි ලොකු ස්වාමීන් වහන්සේ ගොඩක් තැන්වල හරි ලස්සන වාක්‍යයක් කියනවා. මේ ගොඩක් අය එන්නෙ නම් භාවනා මධ්‍යස්ථානවලට බුදුවෙන්න කියලා හිතාගෙන. හැබැයි වැඩිවෙලා යන්න කලින් ඒගොල්ලො බුදියනවා. ඒ කියන්නෙ මේ බුදියන්න හෝ බුදුවෙන්න බලපාන්නෙ එක චෛතසිකයයි, ඒ තමයි වීර්යය චෛතසිකය. වීර්යය කියන එක නැති හැමවෙලාවකම අපි බුදියගන්න තමයි යන්නෙ. හැබැයි ඒක එක චිත්තක්ෂණයකින් මේක බුදුවෙන පැත්තට මනස ප්‍රබුද්ධ කරන පැත්තට, මනස අවදි කරන පැත්තට හරවන්න පුලුවන් වීර්යය කියන

චෛතසිකයට හරවපු ගමන්. ඉතින් ඒ කියන වෑයම අපිට අවශ්‍යයි, මේ කියන වැඬේ ඉස්සරහට කරගෙන යන්න.

අන්න ඒ වෑයම ගත්තට පස්සෙ තමයි විරියං ආරබති කියන ගුණය එන්නෙ. ඒ කියන්නෙ ආරම්භ ධාතු වීර්යය කියලා වීර්යයේ විවිධ ක්‍රම භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙනවා. මේ අරඹන ලද වීර්යය කියන එක එන්නෙ ඔන්න එතකොට. හරි පාරට වාහනය දාගත්තට පස්සෙ අපිට මේක දිග ගමනක් අරගෙන යන්න සිද්ධ වෙනවා. වීර්යය කරන්න සිද්ධ වෙනවා මේක අතනැර ඉස්සරහට යන්න මේ ආපු පාර දිගේ. ඉතින් ඒ පාර යද්දි වැරදි වැරදි තමයි අපිට යන්න තියෙන්නෙ. වැරදෙනවා. හැබැයි වැරදෙන හැම මොහොතකම නැවත යෝගාවචරයාට නැගිටින්න පුලුවන් ධෛර්යය එනවා. ධෛර්යය ගන්න නැවත නැවත අර සූතමය වශයෙන් දේශනා අහන්න ඕනෙ. මේ ගමන යන වීර්යය සහිත පිරිසක් ආශ්‍රය කරන්න ඕනෙ. මොකද යෝගාවචරයා හරියට මේ ලෝක දෙකක් අතර, ලෝක දෙකක් එක්ක දෝලනය වෙන සටනක තමයි ඉන්නෙ. ලෞකික ලෝකෙන් ලෝකෝත්තර ලෝකයට shift එක ගන්න, මාරුවෙන සටනක ඉන්නෙ යෝගාවචරයා. එතකොට මේ වරෙක ලෞකික ලෝකෙට ආයෙ වැටෙනවා, ආයේ ලෝකෝත්තර පාරක වැටෙනවා, ආයෙ ලෞකික පාරට වැටෙනවා, එහෙම ගමනක් මේකෙ තියෙන්නෙ.

නමුත් ගොඩාක් අය හිතනවා අපි මේ භාවනා කරන්න පටන් ගත්තහම ගත්තු තැනම රහත් වෙන්න ඕනෙ කියලා. එහෙම ප්‍රශ්න අහනවා සමහරු. ඒ මේ සූතමය ඥාණය ගැනවත් හරියට මේ පාර අතපත ගාලාවත් නෑ. නමුත් මේක පටන් ගන්නකොටම රහත් වෙන මනසක් ඉල්ලන්න එපා, එහෙම එන් නැහැ. ඒවා මේ possible නැහැ, ඒවා සුරංගනා කතා. ඒ වගේ දේවල්. ඒවා මිනිස්සු අර ශ්‍රද්ධාවෙන් හදාගත්තු දේවල්. මිනිස්සු හිතනවා භාවනා කරන්න පටන් ගත්තහම ආයෙ ක්ලේශයක් එන්නම බැහැ. එහෙම එකක් ප්‍රායෝගික මාර්ගයේ නැහැ. ඒ නිසා අපි මේක පටන් ගත්තු පමණින් නිවන් දකින් නැහැ. කෙලෙස් නැතිවෙන් නැහැ. නැවත නැවත කෙලෙස් උපදිනවා. ඒ කියන්නෙ නිවන තියෙන්නෙම කෙලෙස් තියෙන තැනක. භාවනාව කියන්නෙම කෙලෙස් එක්ක කරන ගණුදෙනුවක්. අපේ අය හිතන් ඉන්නවා ක්ලේශයක් නැති තැනක භාවනාවක් තියෙන්නෙ කියලා. ජේනවාද එතකොට දෘෂ්ටියම කොච්චර වැරදි ද කියලා. භාවනාව නම් කෙලෙස් තමා, කෙලෙස් නම් භාවනාව තමයි. එච්චරයි, එතනින් එහාට දෙයක් නැහැ අපි හිතුවට. ඒ නිසා මේකට බැස්ස ගමන්ම මේක කෙළවර වෙන්නෙ නැහැ. එතකොට මේක වැටි වැටී යන ගමනක්, වැරදි වැරදි යන ගමනක්.

එතකොට මේකට මේ යෝගාවචරයා මේ තනිව මේ දේශනයක් අහලා ඡන්දයක් පහළ කරගෙන වෑයමක් කරගෙන තමයි මේ ආරම්භක වීර්යයක් පටන් ගත්තෙ. ඇති ඉතින් මෙහෙම කරගෙන යද්දි එයාට වැටෙන වෙලාවකට උදව්වක් කරනවා නම් උදව්වක් වෙන්නෙ මේ පාරට බැහැපු කෙනෙක්ගෙන් විතරයි. ඒ වගේ අය ඇසුරු කරන්න ඕනෙ කියන්නෙ අන්න ඒ නිසයි. මොකද ඒගොල්ලන්ගේ පිහිට අපිට අනිවාර්යයෙන්ම අවශ්‍යයි, එහෙම නැත්නම් අපිට වෙන අනවශ්‍ය අයගේ ආශ්‍රයට ගියොත් අපිට මේ ගත්තු උත්සාහයත් අතරමග නතර වෙන උපදෙසක් තමයි ලැබෙන්නෙ. එහෙම ඒවා තමයි වර්තමානයේ ගොඩක් තියෙන්නේ. මොකද මිනිස්සු තමන් මේ ප්‍රායෝගික පුහුණුවට ආවට පස්සෙ ඒකෙ මොකක්හරි වැරැද්දක් වුනොත් උපදෙස් ගන්නෙ කිසිම ප්‍රායෝගික අත්දැකීමක් නැති මිනිස්සුන්ගෙන්. අරගෙන වැරදි තැනින් උපදෙස් ගන්න ගිහිල්ලා අන්තිමට තමන් ගත්තු උත්සාහයත් අතරමග අතහරින උපදෙසක් තමයි අන්තිමට ඒගොල්ලන්ගෙන් එන්නෙ. කුකුසක් පහළ වෙන උපදෙසක් තමයි අන්තිමට එන්නෙ. ඒ

නිසා අපි ආශ්‍රය කරන්න ඕනෙ මේ විදියේ සැබෑ වීර්යයකට බැහැපු පිරිසක්. එතකොට අපිට අමාරුවේ වැටිච්ච වෙලාවකට ඒගොල්ලන්ගේ උදව්වක් උපකාරයක් අපිට ලැබෙනවා.

ඉතින් මේ අරඹන ලද වීර්යය කියන එක, මේ නූපන් අකුසල් නූපදවා ඉන්න යන මෙහෙයුමේදී අරඹන ලද වීර්යය කියන එකට ආවට පස්සේ ඒක ඒ තැනට අපේ මනස ගත්තට පස්සෙ අපිට සිද්ධ වෙනවා එහෙම පිරිසක් ආශ්‍රය කරන්න සහ නැවත නැවත වැටි වැටී යන ගමනක් තියෙන්නෙ කියන එක දැනගෙන විශ්වාසයෙන් ඉස්සරහට යන්න. එතකොට අපි දැනගන්න ඕනෙ මේ වීර්යය සම්බන්ධ අදාළ කතා, විරියාරම්භක කතා කියන ඒවා භාවනා කරන්නෙ නැති අයට කිසිම රහක් නැහැ. ඒ ගොල්ලො ඒ දේශනා අහන්නවත් කැමැති නැහැ. ඔබ වුනත් නිකමට බලන්න අන්තර්ජාලය කියන එක අද ඕනතරම් ප්‍රසිද්ධයි. මේ ප්‍රායෝගික පුහුණුවට අදාළව මේ ජීවිතේදීම මේක ඉවර කරන්න පුලුවන් කියන ප්‍රායෝගික පැත්ත පෙන්නලා දෙන වීර්යය කළ යුතු පැත්තක් පෙන්නලා දෙන දේශනා අහනවද කියලා මිනිස්සු. ඒවා අහන්න කැමැති නැහැ. බලන්න මේ විර්යය කරන්නෙ නැතිව අර shape න්‍යායෙන් නිවන් දකින්න කියන දේශනා අහන්න කීදෙනෙක් ඉන්නවද කියලා. ඒ නිසා අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියනවා මේ ලෝකෙ අති බහුතරය මැද්දේ අරඹන ලද වීර්යයක් සහිතව මේ නිවන් මග මේ ජීවිතේදිම කෙළවර කරන්න ඕනෙ කියලා මේ වීර්යය අතට අරගෙන මේ ගමන යන්නෙ ඉතාම සුළු පිරිසයි. ගොඩක් අය යන්නෙ නැහැ. ඒ නිසා අපි දැනගන්න ඕනෙ, එහෙම පිරිස අල්පයි, බොහොම සුළු පිරිසයි ඉන්නෙ. ඒ භාවනා කරන්නෙ නැති අයට ඒ දේශනා රහක් නැහැ. අර වැඩකුත් නැහැ. නමුත් භාවනා කරන කෙනෙකුට මේ පාරට බැහැපු කෙනෙකුට විරියාරම්භ කතා නැතිව බැරිව යනවා. ඒගොල්ලන්ට ඒවා අත්‍යවශ්‍ය වෙනවා මේ මනස නැවත නැවත උත්සාහවත් කරගෙන ඉස්සරහට යන්න.

ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ හරි ලස්සන වාක්‍යයක් දේශනා කරනවා මොකද බුදුරජාණන් වහන්සේ කියන්නෙ පාරමී පුරන කාලෙ ශ්‍රේෂ්ට වීර්යයක් තිබුනු උත්තමයන් වහන්සේ කෙනෙක්. තමන්ගේ ජීවිතෙන්ම ඒක ඔප්පු කරලා පෙන්නුවා. අදටත් මේ අවුරුදු දෙදහස් හයසිය ගාණක් ගිහිල්ලත් ඒ භාග්‍යවතුන් වහන්සේ උගන්නපු මග යන්න වීර්යය කරන බහුතරයක් පිරිස ඉන්නවා. එතකොට අවුරුදු දෙදහස් හයසිය ගාණක් ගිහිල්ලත් මිනිස්සුන්ගේ හිතට මේ තරම් ධෛර්යයක් මේක කරන්න ඕනෙ කියලා වීර්යයක් ඇතිවෙන්න තරමටම භාග්‍යවතුන් වහන්සේගේ ජීවිතයෙන් ආදර්ශයෙන් උන්වහන්සේ වීර්යය ගැන පෙන්නලත් උන්වහන්සේ දේශනා කරලා තියෙනවා, ඒ විශ්වාසනීය වචනයට, ඒ වීර්යය කුළුගන්වන දේශන ශෛලයක් තිබුනු නිසා තමයි අදටත් මෙච්චර කාලයක් ගිහිල්ලත් මිනිස්සුන්ට පිරිසකට හරි වීර්යය ඇතිවෙන්නෙ මේක කරන්න. ඉතින් ඒකෙන් අපි තේරුම් ගන්න ඕනෙ කවදාවත් කම්මැලියෙකුට ශාක්‍ය පුත්‍රයෙක් වෙන්න බැහැ කියන එක. ශාක්‍ය පුත්‍රයෙක්, ශාක්‍ය දුහිතෘවක් වෙන්න නම් අපිට මේ අරඹන ලද වීර්යය තියෙන්න ඕන. අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ බුබ්බඩකම තියෙන මිනිස්සුන්ට, කම්මැලිකම තියෙන මිනිස්සුන්ට කවදාවත් ශාක්‍ය පුත්‍රයෙක්, ශාක්‍ය දුහිතෘවක් වෙන්න බැහැ කියලා. ඉතින් ඒ නිසා අපි මේ වැටි වැටි යන ගමනේදි නැවත නැවත නැගිටගෙන නැගිටගෙන ඉස්සරහට යන්න අපිට වීරියාරම්භ කතා කියන එක අපිට නැවත නැවත ආශ්‍රය කරන්න සිද්ධ වෙනවා. එහෙම චරිත ආශ්‍රය කරන්න සිද්ධ වෙනවා.

ඊළඟට චිත්තං පග්ගන්හාති කියන වචනය. ඒ කියන්නෙ අපි දැන් මේ වැඩක් අතට අරගෙනනෙ තියෙන්නෙ කරගෙන යන්න ඉස්සරහට ආරම්භක වීර්යයෙන්. මේ ගත්තු වැඩේ අතනෑර අරන් යන එක තමයි මේ චිත්තං පග්ගන්හාති කියන ගුණයෙන් මනසේ ඇතිවෙන ගුණයෙන් සිද්ධවෙන්නෙ. ඒ කියන්නෙ මේ ගත්තු වැඬේ අතරමගදි බාධක

හමුවේ අතහරින්නෙ නැතිව දිගට අරගෙන යෑම තමයි කරන්න ඕනෙ. ඒක කරගෙන යනවා නම් අතරමගදි කුසීතකම් එනවා, කම්මැලිකම් එනවා. මේක අතහරින්න ඕනෙ කියලා හිතෙන වාර අනන්තයි. මොකද ඒ තරම් බාධක තියෙන්නෙ. හැබැයි ඒ තැනකදි ඒ සිතුවිල්ල අපි අඳුනගන්න ඕනෙ. ඒ කුසීතකම මේක අතහරින්න ඕනෙ කියලා එන හැඟීම මේක දැක දැක දැන දැන තමයි අපි මේ ගමන යන්න ඕනෙ. අන්න ඒ නිසයි අපිට ගුරුවරයෙක් ඕනෙ. එතකොට ගුරුවරයාට අපි වාර්තා කළ යුතුයි ඒ නිසා නැවත නැවත කමටහන. මේ විදියට කුසීතකමින් හිත පහුබහිද්දි මේ වැඩේ අතහරින්න ඕනෙ කියලා, මේ ගමන යන්න බැහැ දැන් ඇති කියලා මේක අතහරින්න හිතෙද්දි අපිට මේකෙ වීර්යය ඇතිකරගන්න ගුරුවරයෙක් ඕනෙ.

ඉතින් මට එක සමහරු එවලා තියෙනවා ප්‍රශ්න. ඒගොල්ලො අහලා තියෙනවා මේ භාවනා කරන්න ආධ්‍යාත්මික මගට බැස්සහම කරදර සෑහෙන්න වැඩියි, දැන් මට මේ භාවනා මාර්ගය ආධ්‍යාත්මික මාර්ගය ගැන විශ්වාසයත් නැතිවෙලා, ඒ නිසා මට අතහරින්න හිතෙනවා මෙහෙණින් වහන්ස. ඒ නිසා මට ආශිර්වාද කරන්න මේ කරදර ටික නැතිවෙන්න කියලා. ඉතින් හිතාගන්න බැහැ මේ මිනිස්සු මේ නිවන් මග යනවා කියලා හිතාගෙන ඉන්නෙ මොකක්ද කියලා. ඒගොල්ලො හිතනවා නිවන් මගට බැස්සහම කරදර නැතිවෙන්න ඕනෙ කියලා. ඒගොල්ලො හිතනවා ආශිර්වාදයක් කලහම මේක ඉවරවෙයි කියලා. එහෙම ඒ තරම්ම ළඳ බොළඳ සිතක් තියෙන කෙනෙකුට මේක ලේසි නැහැ කරන්න. මේක කවදාවත් කරදර නැති පාරක් නෙවෙයි පිරිනිවන් පාන තුරුම අපිට බාධක තියෙනවා, කරදර තියෙනවා, මේක පහුබහින්න හිතෙන වාර තියෙනවා. නමුත් මේක අතහරින්න හිතෙන්නෙ මිනිස්සු මැජික් උත්තර බලාපොරොත්තු වෙනවා. මිනිස්සු හිතනවා මේ magical world එකක්, සුරංගනා ලෝකයක් නිර්මාණය වෙයි ආධ්‍යාත්මික මගට ආවහම, ඉතින් ඒක නැත්නම් මොකටද මේ නිවන් මග කියලා අතහරිනවා. ඒ කියන්නෙ මේකට බැහැලා තියෙන්නෙම ලෞකික පරමාර්තයෙන්. මිනිස්සු මේකට බැහැලා තියෙන්නෙම මොකක් හරි දෙයක් බලාගෙන. ඒ කියන්නෙ හුදු ගණුදෙනුවක් කරන්නෙ. ඒගොල්ලො මේ දේවල් අතහරින්න ආවා නෙවෙයි, දේවල් ළඟා කරගන්න ඇවිල්ලා තියෙන්නෙ. එතකොට තමයි අර මානසිකත්වය එන්නෙ.

ඉතින් ඒ නිසා මේ අපි ගුරුවරයෙක් ආශ්‍රය කරන්න ඕනෙ. අර කුසීත හිත එනකොට නැවත ඒක උත්සාහවත් කරගත යුතුයි. විශේෂයෙන්ම උත්සාහවත් කරගන්නවාට වැඩිය මෙතනදි ගුරුවරයා ගාවට යන්න කලින් එයාට කරන්න දෙයක් තියෙනවා, ඒ තමයි කුසීත හිත එයා හඳුනගන්න ඕනෙ. කම්මැලි හිත ථීනමිද්ධ හිත එයා අඳුනගන්න ඕනෙ. ඒක ගැන ධම්මානුපස්සනා කොටසේ නීවරණ පබ්බයේ දේශනයක් කරලා තියෙනවා, ඔන්න ඔයගොල්ලන්ට ඒක අහන්න පුලුවන්, කොහොමද මේ ථීනමිද්ධය කියන එක අඳුනගන්නෙ, කොහොමද ඒකත් එක්ක ගණුදෙනු කරන්නෙ කියලා. ඊළඟට තමයි පදහනි කියන එක. ඒ කියන්නෙ ජය කණුව පෙනි පෙනී ඉන්න යෝගාවචරයෙක්. එයාට පෙනෙනවා, නමුත් අතහරින්නත් හිතෙනවා වෙන්න පුලුවන්. නමුත් අවසානය දක්වා එක්කො ජීවිතය, එක්කො මරණය, එක්කො නිවන එක්කො මරණය කියලා අර ජයකණුව පෙනි පෙනී ඉස්සරහට යන්න එන ගැම්ම, ඉස්සරහට යන්න එන ධෛර්යය, උත්සාහය, උනන්දුව, මොන දේ වුනත් මේක අවසානය දක්වා අරගෙන යනවා කියන පදං වීර්යය තමයි මෙතනදි පදහනි කියන තැනට එන්නෙ.

ඉතින් එතකොට තේරෙනවා ඇති මේ කාරණා ටිකේදීම වීර්යය කොච්චර වෙස් ගන්නවද කියලා, පරිණාමය වෙනවද කියලා, මේ ක්‍රමයට මනස වැඩ කරනකොට තමයි නූපන් අකුසල් නූපදවා තියාගන්න පුලුවන් මනසක් හැදෙන්නෙ. ඒ කියන්නෙ මේ වීර්යයත් එක්ක

තමයි සතිය කියන එක වැඩ කරන්න පටන් ගන්නෙ. එතකොට නූපන් අකුසල් නූපදවාගෙන ඉන්න තැනට මනස ගන්න එකේදි හරි ලේසියි ආපු අකුසලයක් අයින් කරනවාට වැඩිය එන්න කලින්ම මේක පරිස්සම් කරගන්න එක හොඳයි, නමුත් ලේසි නැහැ. මේක කරන්න පුලුවන් සමහර වෙලාවල් එනවා. භාවනා කරන අය දන්නවා ඇති, සමහර දවස් තියෙනවා සමහර පර්යංක තියෙනවා, සමහර පර්යංක තියෙනවා හරි ලස්සනට පෙළගැහිලා යනවා. එතකොට ලොකු ස්වාමීන් වහන්සේ කියනවා අන්න ඒ වෙලාවට අනුග්‍රහ කරන්න අනිත් සියල්ල පාවා දෙන්න ඕනෙ ඒ මොහොත වෙනුවෙන්. මොකද ඒ වගේ අවස්ථා කලාතුරකින් එන්නෙ. එහෙම ඒකට හේතු තියෙනවා. හේතු තමයි ධාතු ගුණ බලපානවා, දේශගුණය බලපානවා, ආහාර ප්‍රශ්න බලපානවා, මනසේ තිබුනු තත්ව බලපානවා. ඉතින් ඔය ඔක්කොම හරියට සමබර වුනු මොහොතවල් එනවා. එතකොට අපි දැනගන්න ඕනෙ මේ වෙන මොකවත් වෙනුවෙන් අර ලස්සනට පෙළගැහිලා එන මොහොත පාවා දෙන්නෙ නැතිව අනිත් සියලු දේවල් පාවා දෙන්න දැනගන්න ඕනෙ මේ මොහොත වෙනුවෙන්. මොකද එහෙම අවස්ථා ලැබෙන්නෙ කලාතුරකින්. එතකොට එහෙම අවස්ථාවක් ආවහම අපි ඒකට කාලය දීලා ඒකට කැපවෙලා වැඩ කරන්න ඕනෙ. එතකොට ඉපදිච්චි අකුසලයක් අයින් කරන්න යනවාට වැඩිය නූපන් අකුසල් නූපදවා තියාගන්න උත්සාහ ගන්න එක හරි සාර්ථකයි. ඒකට අපි කියන්නෙ හෙදකම, වෙදකමක් කරන්න යනවට වැඩිය හෙදකම ලේසියි, හොඳයි.

ඉතින් මේ පදහති කියන මට්ටමට වීර්යය වැඩිලා තියෙන යෝගාවචරයාට තේරෙනවා ඒ මට්ටමට ආවහම මේ කිසිම වීර්යයක් උත්සාහයක් නොගෙන ඔහේ කාමයටම කාලය මිඩංගු කරන මිනිසුන් තමන්ට ලැබුනු මනුෂ්‍ය ආත්මය නිකාං විනාශ කරගෙන නිස්කාරණේ ගෙවන මිනිසුන් හිස් මිනිසුන්වගේ දැනෙන්න පටන් ගන්නවා. නමුත් ඒගොල්ලන්ට කියලා වැඩක් නැහැ, තේරුම් ගන්න බැහැ. ඉතින් මේ වගේ මට්ටමකට වීර්යවන්ත මනසක් හදාගත්ත යෝගාවචරයාට සසර ගමනේදී බෝසත්වරු පවා දෙවිවරු බ්‍රහ්මයො පවා නමස්කාර කරනවා. නමුත් අපේ ලොකු ස්වාමීන් වහන්සේ සඳහන් කරලා තියෙනවා ගොඩක් තැන්වල උන්වහන්සේගේ ලොකු ස්වාමීන් වහන්සේ දේශනා කරලා තියෙනවා උන්වහන්සේ ලියපු පොතකත් උන්වහන්සේ රචනා කරලා තියෙනවා, ඒ කාලෙ ඒ කියන්නෙ මගේ ලොකු ස්වාමීන් වහන්සෙගෙත් ලොකු ස්වාමීන් වහන්සේගේ කාලෙ අපි ඉ පදිලාවත් නැහැ, ඒ කාලෙ උන්වහන්සේ කියලා තියෙනවා ඒ පොතේ අද කාලෙ මෙච්චර දිව්හිමියෙන් දිවි පරදුවට තියලා භාවනා කරන යෝගාවචරයාට මේ සාමාන්‍ය මිනිස්සු කෙළ පිරිච්චි පඩික්කමකට තරම්වත් සළකන් නැහැ කියලා. ඒ මේ අපි ඉපදෙන්නත් කලින් සෑහෙන කාලෙකට කලින් කියලා තියෙන්නෙ.

එතකොට අද, අදත් එහෙම තමයි. එහෙම සැළකිලි ලැබෙන් නැහැ. හිතන්න එපා අගය කරයි කියලා. මොකද බහුතරය ඉන්නෙ අන්ධ වෙලා. බහුතරය ඉන්නෙ කුසීත කමින්. බහුතරය ඉන්නෙ බුබ්බඩකමින්. බහුතරය ඉන්නෙ shape න්‍යායෙන් නිවන් දකින්න. එහෙම අය නැහැ. එතකොට නමුත් මේ කියන මට්ටම දක්වා මේ වීර්යයෙන් ඉස්සරහට යන යෝගාවචරයාට පෙනෙන හිස් මිනිසුන්ට වැඩිය නොපෙනෙන බොහෝ අය නමස්කාර කරනවා, වන්දනා කරනවා, අනුග්‍රහ කරනවා. නමුත් මේ වගේ මට්ටමකට වීර්යය තියෙන යෝගාවචරයාටත් ලේසියෙන් නෙවෙයි ඔහු ගමන යන්නෙ. ඔහු කෙලෙස් ජේනවා වැඩියි. මේ යෝගාවචරයාට සිහියත් එක්කනෙ දැන් ඉස්සරහට යන්නෙ. කලින්ට වැඩිය තමන්ගේ කෙලෙස් ජේනවා වැඩියි, ප්‍රහාණය වෙලා නැහැ. ජේනවා වැඩියි. සමහරවිට ඒවා නිසා නැවත නැවත වැරදි වෙනවා, ඒත් වැඩ ටික අතහරින් නැහැ. ගමන යනවා. කොච්චර කෙලෙස් තියෙනවා දැක්කත් කොච්චර අත්වැරදීම් තියෙනවා දැක්කත්

එයා දිගටම වැඩ. අන්න එහෙම යෝගාවචරයාට අතනැර මේක ඉස්සරහට යන යෝගාවචරයාට තමයි මේක නිමා කරන්න පුලුවන් වෙන්නෙ.

කඳුතින් මේ කියන දේ, මෙහෙම පදන් වීර්යයක් කරලා මේක මේ ජීවිතේ ඉවර කරන්න බැහැ කියලා කියන්නෙ ඇත්තටම සතිපට්ඨාන භාවනාව කියන එක අහුනොවෙච්චි බුබ්බඩ කම්මැලි පිරිසක්. ඒගොල්ලන්ට මේක අහුවෙලා නැහැ, ඒ නිසා මේගොල්ලො කෑකෝගහනවා මේක හරියන්නෙ නැහැ. මේවා මේ ජීවිතේ කරන්න පුලුවන්ද කියලා. භාග්‍යවතුන් වහන්සේගේ බුදු මුවින්ම දේශනා කරපු සතිපට්ඨාන සූත්‍රයක් කියලා එකක් තියෙනවා කියලාවත් දන්නෙ නැති මිනිස්සු, අහුවුන අය දන්නවා මේක කරන්න පුලුවන් දෙයක් කියලා. සතිපට්ඨානය කියන එක අහුවුනු අය දන්නවා මේක කරන්න පුලුවන් දෙයක් කියලා. නමුත් ගොඩාක් වෙලාවට යෝගාවචරයාට මෙහෙම වීර්යය කරගෙන යනද්දි හරියටම මේ කියන වීර්යයත් එක්ක මේ ගමන යද්දි සත්පුරුෂ ආශ්‍රයත් එක්ක තමන්ට හරියට balance කරගන්න බැරිවුනොත් මේ වීර්යය කියන එක තමන්ගේ හදපතුලෙන්ම ආවෙ නැත්නම් ඇතුලතින්ම ආවෙ නැත්නම් ගොඩාක් වෙලාවට බාහිර බාධක ළඟදි නතර වෙනවා. අර මං කලින් කියපු චරිතය වගේ තමයි. ඒගොල්ලන්ගේ වීර්යය ඇවිල්ලා තියෙනවා හැබැයි පපුවට කිඳා බැහැලා නෙවෙයි ඇවිල්ලා තියෙන්නෙ. ඒ නිසා ඒ ගොල්ලො බාහිර බාධක හමුවේ නතර වෙනවා.

බාධා කියන දේවල් කරදර බාධා කියන දේවල් නිසා තමයි අපිට සංවේග ධර්ම පහළ වෙන්නෙ. එතකොට තමයි වීර්යය උපදින්නෙ. ඒක වීර්යයට උදව් වෙනවා සංවේග ධර්ම. ඉතින් සංවේග එන්නෙ කරදර හමුවේ, බාධා හමුවේ. ඉතින් අපේ මිනිස්සු මේ බාධා නැති කරන්න ආශිර්වාද කරන්න කියනවා. මගෙනුත් ගොඩක් අය අහලා තිබුනා ආශිර්වාද කරන්න කියලා. මං කිව්වා කිසිම දවසක මගේ ආශිර්වාදයක් ලැබෙන් නැහැ. මේක තමන් තනිව ඉස්සරහට යා යුතු ගමනක් බාධක හමුවේ. බාධක නැති තැන අපි බුදියනවා හොඳට. ඒ නිසා අපිට සංවේගය, සංසාර භය කියන එක ඇතිවෙන්නෙම කරදර බාධක හමුවේ. එතනින් තමයි අපිට වීර්යය කියන එක උපදින්නෙ. එතකොට මේ වීර්යය කියන එක නැතිව අපිට ඉස්සරහට යන්න බැහැ. එතකොට ඒ නිසා මේ බාධක නැති කරන්න තමයි මේ ජනප්‍රිය බණ, ජනප්‍රිය බුද්ධාගම වැඩ කරන්නෙ. බාධක නැති කරන්න බෝධිපූජා තියයි ආශිර්වාද තියයි, පින්කම් කරයි, මොනවටද මේ? කරදර වලට බයේ. ඒ ගොල්ලො හිතනවා ඒවා මේ විදියට නොපෙනෙන බලවේගයකට පවරපුවාම අපිට කරදර ටික අයින් කරලා සල්මල් ඉහපු පාරවල් හදලා තියයි නිවන් යන්න කියලා. එහෙම ලැබෙන්නෙ නැහැ. ඒවගේ මානසිකත්වයකින් කවදාවත් ඒගොල්ලන්ට වීර්යයක් එන්නෙ නැහැ මේක මේ ජීවිතේ ඉවර කරන්න ඕනෙ කියලා.

ඉතින් ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ වීර්යයට ආසන්නම කාරණය දුක. වීර්යය හටගන්න ආසන්නම කාරණය දුක. ඉතින් අපි මොකක්ද කරන්නෙ, අපි දුකට පැලැස්තර ගගහා යනවා. ඒකයි අපිට මේ වීර්යය නැත්තෙ. නමුත් වීර්යයට ආසන්නම කාරණය දුක වුනත් මේක වැරදි විදියට තේරුම් අරගෙන ඔබ මෝඩ වෙන්න එපා, අනිත් මිනිස්සුන්ගේ ජීවිත වලට දුක් දෙන්න. හිතන්නවත් එපා ඒක වෙනම එකක්. මේ අපිට අනුන්ට දුක් නොදුන්නට ඕනම කෙනෙකුට ස්වභාවිකව ඕන තරම් දුක් තියෙනවා මොකද සංසාරෙ ලෝකෙ ගිනි තියලා තියෙන තරමට. අපි හැමෝම ලෝකෙ ගිනි තියලා ආපු පිරිසක්. මේ ජීවිතේ අපි ශුද්ධවන්ත වෙන්න පුලුවන්. හැබැයි සසර ගමනෙදි අපි නොකරපු පාපයක් නැහැ. ඒවයේ return එක එනවා, ඒවා අපිට නවත්වන්න බැහැ. එහෙම මේ හිතන්න එපා ඒවා නැතිව ලෝකෙට ගිනි තියලා අපිට අතපිහදාගෙන

හඳුනගන්න ඊළඟ ලක්ෂණය තමයි උෂ්ණයට විරුද්ධ ගතිය, ඒ කියන්නෙ සීතල ගතිය. මේ එකිනෙකට විරුද්ධ ගති තමයි මේ ධාතුවක තියෙන්නෙ. ධාතු හතරේම එහෙමයි. එතකොට අපේ හිත වරෙක තේජෝ ධාතුවේ උෂ්ණ ගතියට මනාපයක් ඇතිවෙනවා, වරෙක සීතල ගතියට මනාපයක් ඇතිවෙනවා. මේ මනාපය ඇතිවෙච්චි එකට ඊළඟ මොහොතේ අමනාපයක් ඇතිවෙනවා.

ඔය විදියට මේ හිතේ හටගන්න මේ දෙබිඩි ස්වරූපය, යෝගාවචරයාට දකින්න පුලුවන් වෙනවා. අරමුණේ මේ දේවල් දකිමින් අරමුණේ නිමග්න වෙනකොට යෝගාවචරයාට තේරෙනවා, මේ අරමුණක් කියලා කියන්නෙ මේ විදියට වේගයෙන් වෙනස් වෙන ගති තියෙන්නෙ, හුස්මේ පවා වරෙක රස්නෙයි, වරෙක සීතලයි. වරෙක තද ගති පෙන්වෙනවා, වරෙක වායෝ ගති පෙන්නනවා, යමක ආපෝ ගති පෙන්වනව. වරින් වර වෙනස් වෙවී යන ධාතු ස්වරූපයක් තියෙන්නෙ වේගයෙන් මේ වෙනස් වෙන ගති තියෙන දෙයක් තමයි මේ හුස්ම කියන්නෙ. එහෙම රූපයක් විතරයි. හුස්ම කියන්නෙ මේ වේගයෙන් වෙනස් වෙන ධාතු ගති තියෙන රූපයක් විතරයි කියන එක යෝගාවචරයාට දැනෙන්න ඇත්ත. පටන් ගන්නවා, ඒ වෙනස්කම දැකගන්න ගතිය ඒ වෙනස්කම් දැකගන්න මන්සේ ස්වභාවයක් තියෙනවා. ඒ වෙනස් කම් හඳුනාගන්න මනසේ ගතියක් තියෙන එක තමයි නාම කොටස. මේ විදියට තමයි යෝගාවචරයාට මේ පළවෙනි වතාවට මේ නාමරූප දෙක වෙන් කරලා දැකගන්න පුලුවන් අවස්ථාව මුලින්ම හටගන්නෙ ඔන්න ඔතනදි. මුලින්ම නාම රූප දෙක වෙන් කරලා හඳුනගන්නෙ ඔතනදි. අපි මේ රූපයෙන් තමයි බැහැගත්තෙ. රූපය ඉස්සරහින් තියාගෙන බැහැගත්තෙ. ඒ රූපයත් එක්ක ටික ටික මනස කිමිදෙන්න පටන් ගන්නකොට තමයි නාම කොටස් යෝගාවචරයාට වැටහෙන්නෙ ඒ දෙක වෙන් කරලා දැකගන්න ප්‍රථම පියවර එන්නෙ මෙන්න මෙතනදි.

ඉතින් යෝගාවචරයෙකුට මුලින්ම උපදෙස් දෙන්නෙ අරමුණක් ඉස්සරහින් තියාගෙන මේකෙ සටහන් හා ආකාර දැකගන්න. ඒවා තමයි අපි මුල ඉඳලා කියාගෙන ආවෙ ආශ්වාසය ප්‍රශ්වාසය හඳුනගන්නවා. ඒකෙන් සිච්බවාය ස්වභාව, දැනෙන්නෙ මොනවද කියලා මේකෙ සටහන් හා ආකාර දැනගන්නා අදහසින් තමයි අපි මේ පර්යංකයකට බැහැගන්නෙ. භාවනාවට බැහැගන්නෙ. එතකොට මුලින්ම මේ සටහන් හා ආකාර වෙනම හඳුනාගද්දි අපිට නැවත නැවත මනසින් ළංවෙවී බලනකොට ඒවා වේගයෙවන් වෙනස් වෙන ස්වභාව කියලා යෝගාවචරයාට දැනෙන්න ගන්නවා. ඒවා කොච්චර වේගවත් ද කියලා කියනවා නම් ඒ සටහන් හා ආකාර හඳුනගන්න බැරි තත්වයක් එනවා. එයා වෙන් කරලා හඳුනගන්න බැහැ. මේක වෙන්නෙ අරමුණට ගොඩාක් මනසින් කිට්ටුෙ වාල, ළංවෙලා බලද්දි. මේ සටහන් හා ආකාර වෙන් කරලා හඳුනගන්න බැරිවෙලා යනවා. ඔන්න ඔය මට්ටමේදී නිකං ඔය සටහන් හා ආකාර වෙන්කරලා හඳුනාගන්න බැරිවුනාට මනසේඒකාග්‍ර බවක් තියෙනවා කියලා යෝගාවචරයාට තේරෙනවා. හිත පිට ගිහිල්ලා නෑ කියලා හේතුවෙනවා. ඔන්න ඔය මට්ටමේ තමයි අපි විපස්සනා සමාධිය කියලා කියන්නෙ. හැබැයි මේක ධ්‍යාන මට්ටමක් නෙවෙයි. අර සමථ කොටසේ කිව්වා වගේ පැය ගණන් එක අරමුණක කිඳා බැහැලා ඉන්න, සමථ ධ්‍යාන මට්ටමක් නෙවෙයි. ධ්‍යාන සමාධියක් නෙවෙයි මේක මේක විපස්සනා සමාධියක්. මේක නැතුව විපස්සනා කරන්න බැහැ.

ඉතින් අපේ ගොඩක් අය විපස්සනා කරනවා කියලා සමථයත් එක්ක හැප්පුනාට ඇත්තටම ලෝකෙ කිසිම භාවනාවක්, යම්කිසි හෝ ඒකාග්‍ර මනසක් නැතිව සමාධි මනසක් නැතිව කරන්න බැහැ. ඒ නිසා තමයි ශුෂ්ක විදර්ශනා භාවනාව කලා වුනත් මනසේ යම්කිසි ඒකාග්‍ර බවක් ඕන, සමථ බවක් ඕන, සමාධි මට්ටමක් ඕන, ඒක අර සමථයේ තියෙනවා වගේ ධ්‍යාන මට්ටම් දක්වා ගිය සමාධියක් නෙවෙයි. මේ වගේ උපචාර

සමාධි මට්ටමක් - බණ පොතේ වචනයෙන් කියනවා නම් ඕකට කියන්නෙ උපචාර සමාධි මට්ටමක්. අර්පණා සමාධිය ඒ කියන්නෙ ධ්‍යාන සමාධි මට්ටමක් නෙවෙයි. මෙහෙම යම්කිසි සමාධියක් ඕනෙ. මේ සමථයේදී වෙන්නෙ අපි අරමුණේ ගිලෙනවා. ඒකෙ කිඳා බහිනවා. විපස්සනා සමාධියේදී වෙන්නෙ අරමුණේ ගිලෙන්නෙ නැහැ, කිඳාබහින්නෙ නැහැ, අරමුණේ යථා ස්වභාවය දකිනවා. අරමුණේ ඇත්ත පේන්න පටන් ගන්නවා විපස්සනා සමාධියේදී. සමථ සමාධියේදී අපි අරමුණේ ගිලිලා කිමිදිලා මේ දිට්ඨ ධම්ම සුඛයක්, ඒ මොහොතේ සැපයක් අත්විඳිනවා නම් විතරයි අරමුණේ යථාර්තය පේන්නෙ නැහැ. ඉතින් මේ විපස්සනා සමාධියේදී අර ධ්‍යාන සමාධියක් නැති නිසා මේ විපස්සනා සමාධියට නමක් කියනවා, ක්ෂණික සමාධිය කියලා. අරමුණේ යථා ස්වභාවය පෙන්වන සමාධිය.

ඉතින් මේ මට්ටමට එනකොට යෝගාවචරයාට මේ නාමරූප දෙක වෙන් කරලා හඳුනගන්න පුලුවන් මානසිකත්වයක්, ළදරු අවස්ථාව ඇවිල්ලා තියෙන්නෙ. මේ මට්ටමෙන් එහාට, මේ මට්ටමේ තමයි නාමරූප පරිච්ඡේද ඥාණය කියන එක හටගන්න පටන් ගන්නෙ. මේ ළදරු අවස්ථාව, විපස්සනා ඥාණ පැත්තෙන් බැලුවොත් එහෙම. ඉතින් සක්මනේදීත් මේ නාමරූප දෙක වෙන්වෙලා දකින්න පුලුවන්කම යෝගාවචරයාට අතනැර භාවනා කරනවා නම්. එදිනෙදා ජීවිතේ වැඩ කරද්දී වුනත් මේක පෙනෙන්න පටන් ගන්න පුලුවන්. දැනෙන්න පටන් ගන්න පුලුවන්. එතකොට මේ තට්ටු එක්ක යෝගාවචරයා දිගටම ඉස්සරහට යනකොට මේ තත්ව එක්ක යෝගාවචරයා දිගටම ඉස්සරහට යනකොට මේ යෝගාවචරයාට මේ නාමරූප දෙක පිහිටලා තියෙන තැන පේන්න පටන් ගන්නවා. ඒ කියන්නෙ නාමරූප දෙක හටගන්නෙ හේතුවෙන්නෙ මොකක්ද කියන එක පිළිගන්නවා, යෝගාවචරයාට. ඒ හිතට ඕනම දේක, වේදනා ශබ්ද සිතුවිලි හැම එකකම හේතු සහිතව මේ අරමුණ හටගත් විදිය, අරමුණ හටගන්න හේතු ටික හේතු සහිතව හටගත්තු අරමුණක් බව යෝගාවචරයාට පේන්න පටන් ගන්නවා. මේ මට්මේදී අරමුණේ සටහන් හා ආකාර බලන එක නිකන්ම හැලෙන්න පටන් ගන්නව. ඒක හැලෙන්න පටන් ගත්තට පස්සෙ යෝගාවචරයාට කලබල වෙන එක තමයි වෙන්නෙ. එයා ආයෙත් මුලට ගිහිල්ලා මේකෙ අස්තර විස්තර ඒ දැනෙන්නෙ මොනවද කියලා බලන්න යනවා. මේ විදියට මේ හේතුව පේන්න පටන් ගන්නෙ යෝගාවචරයාට අරමුණ මෙහෙම හොඳට තොරතුරු සහිතව පේන්න ගත්තහම ගුරුවරයා උපෙදස් දෙනවා, නැත්නම් සමහරවිට ස්වභාවිකම යෝගාවචරයාට තමය අරමුණු ගෙවෙන හැටි පෙන්වලා අරමුණේ හටගැනීම පේන්න පටන් ගන්නවා. එතකොට අරමුණේ මුල, මැද, අග දකින්න යනවා කියලා එකක් බණ පොතේ සඳහන් වෙන්නෙ ඔන්න ඔය මට්ටමේදී. එතකොට යෝගාවචරයාට උපදෙස් ලැබෙනවා අරමුණේ මුල බලන්න කියලා. අරමුණේ මුල බලන්න කියලා කිව්වට යෝගාවචරයාට අරමුණේ මුල පේන්නෙ නැහැ අරමුණේ අග පේන්නෙ නැතිව. අරමුණේ ගෙවී යාම, බිඳී යාම දැකලම තමයි අරමුණෙ මුල පෙනෙන්නෙ නැහැ. මේ අරමුණේ මුල බලනවා කියන එක තමයි මේ හේතු අරමුණ හටගන්න හේතුව පෙනෙන්න ගන්නවා මුලට මුලට හොඳ දැඩි අවධානයකින් සිහියකින් බලන් හිටියොත් අරමුණේ මුල්ම හටගැන්ම දකිනකොට මේකෙ හේතුව පේන්න පටන් ගන්නවා. එතකොට මේ දැන් අරමුණේ හටගැන්ම බිඳීම මේ ටික පේන නිසා මේ අරමුණේ සටහන් හා ආකාර බලන එක හැලෙන්නෙ අන්න ඒ නිසා. මොකද වේගයෙන් බිඳි බිඳී යන හැටි, ඒ බිඳි බිඳී යෑම නිසා දුක හටගන්න හැටි, ඇතිවෙවී නැතිවෙවී යන හැටි, යෝගාවචරයාට පේන්න පටන් ගන්නවා. එතකොට අරමුණ පේන්නෙ නැහැ, අරමුණේ සටහන් හා ආකාර ලක්ෂණ පේන්නෙ නැහැ, හැබැයි සිහිය තියෙනවා. මේ වෙලාවේදී මම කිව්වානෙ යෝගාවචරයා බය වෙලා සැක වෙලා ආයෙත් යනවා අරමුණ බලන්න, අරමුණේ සටහන් හා ආකාර බලන්න. ඒවා

පේන්නෙ නැති නිසා. නමුත් ඒක නොකළ යුතු දෙයක්. එහෙම වුනොත් වෙන්නෙ මේක හෝද හෝද මඬේ දානවා වගේ දෙයක්.

මෙතනදි මේ සටහන් හා ආකාර බලන එක හැලෙනවා කියන එකේ තේරුම තමයි විතක්ක විචාර දෙක හැලෙනවා කියන එක. අරමුණට නැවත නැවත හිත නැංවීම සහ අරමුණේ තොරතුරු බලන විතක්ක විචාර කියන ධ්‍යානාංග දෙක තමයි මේ හැලෙන්නෙ. එතකොට මෙතනදි ඒ දෙක හැලුනට සතිය සමාධිය තියෙනවා. එතකොට අරමුණ නොපෙනුනාට ඒක ප්‍රශ්නයක් නැහැ. ආපස්සට ගිහිල්ලා අපිට අවශ්‍යතාවයක් වුනොත් අරමුණ බලන්න පුලුවන්. හැබැයි එහෙම ඕන නැහැ, අපිට ආපස්සට ගිහින් අරමුණ බලන්න වෙන්නෙ නැහැ. නමුත් සති සමාධි තියෙනවා, ඒකාග්‍ර මනසක් තියෙනවා. මේ තොරතුරු නොපෙනෙන යම්කිසි හිස් බවක මනස රැඳෙනවා. ඒ හිස් බවකට වෙලා ඉන්න පුලුවන් මේක සමථ පැත්තෙන් විතක්ක විචාර දෙක හැලුනු දෙවෙනි ධ්‍යානය විදියට ගන්නවා. ඉතින් විපස්සනාවෙත් මේක දෙවෙනි ධ්‍යානය තමයි, විතක්ක විචාර දෙක හැලිලා. හැබැයි අර ධ්‍යාන සමාධියක් නෙවෙයි, විතක්ක විචාර නැති පීති සුඛ ඒකාග්ගතා සහිත දෙවෙනි ධ්‍යානයට ආවා කියන්නෙ ඔන්න ඔය විදියට තමයි.

ඉතින් මෙතනදි යෝගාවචරයාට අරමුණ වේගයෙන් ඇතිවෙන නැතිවෙන එක පේන්න පටන් ගන්නවා. වේගයෙන් බිඳි බිඳී යන හැටි යෝගාවචරයාට පේන්න පටන් ගන්නවා. මේ මට්ටමට එන්න කලින් නිකං අපි පිට ඉඳලා අරමුණ දිහා බැලුවා වගේ, පිට ඉඳලා මූල කර්මස්ථානය දිහා බැලුවා වගේ එකක් තමයි කලින්. දැන් මේ වෙලාවේදී අරමුණ ඇතුලට ගිහිල්ලා අරමුණ ඇතුලේ ඉඳලා එළිය බලනවා, පිට බලනවා වගේ වැඩක් තමයි මෙතනදි මනසේ හටගන්නෙ. මේ වෙලාවට අපිට මූල කර්මස්ථානය සෑහෙන විවේකීව බලන්න පුලුවන්, ඒකෙ අර සටහන් හා ආකාර නැහැ. ඒක සාමකාමී තත්වයක් විදියට විතරයි එයාට ඒක දැනෙන්න පටන් ගන්නෙ. ගොඩාක් වෙලාවට භාවනා යෝගීන් මේ තත්ව වලදී මාර්ගඵල ප්‍රකාශ කරනවා. මං සෝවාන් වුනා කියයි, මං සකදාගාමී වුනා කියයි, මං අනාගාමී කියයි, රහත් කියයි සැකයක් තියෙන්න පුලුවන් ඒ නිසා රහත් කියන් නැහැ. ඉන් මෙහා මාර්ග ඵල කියාගෙන ඉන්නවා. ඉතින් මේ ප්‍රීතිය. මනසේ මේ වෙලාවේ හටගන්න දැන් විතක්ක විචාර වල අර ධරත ගතිය නැහැ, නැවත නැව අරමුණට හිත අරන් ගිහිල්ලා අරමුණේ තොරතුරු බලන වෙහෙස නැහැ. ඒක වෙහෙසක්. ඒ වෙහෙස නැහැ.

පීති සුඛ ඒකාග්ගතා මේ ප්‍රීතිය කියන එක නිසා මනසේ ඇතිවෙන සහනය නිසා තමයි යෝගාවචරයො ගොඩාක් වෙලාවට මාර්ගඵල ප්‍රකාශ කරන්න පටන් ගන්නෙ. හැබැයි තවම මේ මට්ටමේදී මාර්ගඵල ප්‍රකාශ කලාට තාම අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියනවා විපස්සනාව පටන් ගත්තෙවත් නෑ හරියට මේ මට්ටමට එද්දි. විපස්සනාවට නිකං පාදම හදනවා වගේ වැඩක් තමයි මේ තියෙන්නෙ. ඉතින් අපි ඒ වුනාට හදිස්සි වෙනවා මාර්ගඵල කියන්න. පාදම හදනවා වගේ වැඩක් මෙතන තියෙන්නෙ. Base එක හදනවා. ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ සඳහන් කරනවා, ලොකු ස්වාමීන් වහන්සේ විතරක් නෙවෙයි විපස්සනා ගුරුවරු සඳහන් කරනවා මේ මට්ටමේදී විපස්සනා උපක්කිලේශ කියලා දෙයක් තියෙනවා. ඒවා දහයක් තියෙනවා, මෙන්න මේ විපස්සනා උපක්ලේශ පහළ වෙන්න පටන් ගන්නවා, ඒවා දස ආකාරයි. මේ උපක්ලේශ නිසා තමයි යෝගාවචරයො රැවටෙන්නේ මේ මට්ටමේදී මං මාර්ගඵල ලැබුවා, මම අධිගම ලැබුවා, මම රහත් වුනා කියලා රැවටෙන්නේ මේ උපක්ලේශ නිසා.

ඉතින් මෙච්චර අමාරුවෙන්, මෙතනට ලේසියෙන් එන්න බැහැ. මෙච්චර අමාරුවෙන් මෙතෙන්ට ආවහම මේ ප්‍රීතිය ආදී මේ ධර්මතා නිසා අපි රැවටෙනවා, අපිට මතක

නැතිවෙනවා මේ ප්‍රීති සුඛ ඒකාග්ගතා කියන ධර්මතාත් මාර පාක්ෂිකයි කියලා. හැබැයි ඒක තේරුම් ගන්න එක ලේසි නැහැ. මොකද මේ වලේ හැම කෙනාම හැම යෝගාවචරයාම වැටෙනවා. අන්න ඒ නිසා තමයි මේ වලක වැටුනා කියලා තේරුම්ගන්නවත් මේ මට්ටමේදී අඩුගානෙ අපිට ගුරුවරයෙක් ඕන කියන්නෙ ඒ නිසයි. මං ඉන්නෙ වලක කියලා තේරෙන්නෙ නැහැ. සමහර විපස්සනා ගුරුවරු ප්‍රකාශ කරනවා මේ මට්ටමේදී ගුරුවරයා කිව්වත් සමහර යෝගාවචරයො බාරගන්නෙ නැහැ තමන් ඉන්නෙ වළක කියලා. නමුත් මේ මට්ටමට වැටිලා තමයි අද ගොඩාක් යෝගාවචරයො ඉන්නෙ, මේකෙන් ගොඩ ආපු අය සෑහෙන්න අඩුයි. මොකද මේකෙන් ගොඩ එන්න ලේසි නැහැ, එච්චරටම මේකට වසඟ වෙනවා. ඉතින් මේකෙන් ගොඩ එන්න නම් ප්‍රීතිය අතහරින්න ඕන. ප්‍රීතිය අතහැරියොත් විතරයි යෝගාවචරයාට ඊළඟ කොටසට යන්න පුලුවන් වෙන්නෙ. මේ වලෙන් ගොඩඑන්න පුලුවන් වෙන්නෙ. ප්‍රීතිය කියන්නෙත් මාරපාක්ෂික දෙයක් කියලා යෝගාවචරයාට දැනෙන්න ඕන. ඉතින් සමථ යෝගාවචරයා මේ ධ්‍යාන මට්ටමේදී, මේ දුතියධ්‍යානය තියෙන්නෙ මේ සමථ මට්ටමේදී. මේ ධ්‍යාන මට්ටමේදී සැප වැඩි හන්දා අහුවෙන්න තියෙන ඉඩකඩ වැඩියි. මොකද කාම ලෝකෙ මෙහෙම සැපයක් ලැබෙන් නැහැ. ඒ නිසා අහුවෙනවා. විපස්සනා යෝගාවචරයාට මේක නැවත නැවත අලුත් කරමින් යන්න ඕන. නැවත නැවත එයා මේක උපයනවා. නැවත නැවත මේක ප්‍රගුණ නොකළොත්, ඉපයුවේ නැත්නම්, අතහැරියොත් ආයෙත් මුලටම වැටෙනවා, මුල ඉඳලම යෝගාවචරයාට යන්න සිද්ධ වෙනවා. යන්න වෙනවා. සමථ යෝගියා පැයක් දෙකක් විතර දීර්ඝ කාලීනව මේකෙ ඉන්නවානෙ බැහැගෙන. ඒ නිසා එයා අහුවෙනවා මං ඉන්නෙ හරි මාර්ග ඵල ලබලා කියලා. විපස්සනා යෝගාවචරයාට පැය ගණන් ඉන්න එකක් නෙවෙයි, ක්ෂණමාත්‍ර සමාධියකින් තමයි මේක උපයන්නෙ. නමුත් එයාගේ සංසාර පින් අනුව මේක වැඩි වෙලාවක් පවත්වන්න පුලුවන් වුනොත් අහුවෙනවා.

ඉතින් නැවත නැවත අලුත් කරමින් උපයාගෙන යන්න ඕන. ඉතින් සම්මා සමාධි කතාවේ අද දේශනය මෙතනින් නතර කරනවා, මෙතනින් එහාට උපක්ලේශ ටික ගැන තමයි හිමින් හිමින් කතා කරන්නෙ. ඒ නිසා මේ වීඩියෝ මාලාව ටිකක් දිග වෙයි, ඉවසීමෙන් අහන්න. අපි කොහොමද මේ උපක්ලේශයකට අහුවෙන්නෙ. මොකද හැම යෝගාවචරයාම මේකට අහුවෙනවා. ඒ නිසා අපි ඊළඟ වීඩියෝ එකේදී උපක්ලේශ වලින් මුණගැහෙමු. තෙරුවන් සරණයි!

37) භාවනා කරන අය මාර්ගඵල ලැබුවා කියා රැවටෙන හැටි | විපස්සනා උපක්ලේෂ -1 | eightfold path

තෙරුවන් සරණයි! අද අපි අරගෙන එන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනය. අපි සතිපට්ඨාන දේශනා සම්බන්ධ කලින් වීඩියෝ එකේදී ඉදිරිපත් කලා උපක්ලේශ කියලා දෙයක් පහළ වෙනවා යෝගියාගේ මනසේ, ඒ සම්බන්ධයෙන් වීඩියෝ අරන් එනවා කියලා. ඉතින් අපි මේ ඉන්නෙ ධම්මානුපස්සනා කොටසේ අන්තිම හරියේ, චතුරාර්ය සත්‍යය සම්බන්ධයෙන් කතා කරන ආර්ය අෂ්ටාංගික මාර්ග කොටසට අයිති තැනක තමයි අපි ඉන්නෙ. ඉතින් අනුපිළිවෙලින් වීඩියෝස් බැලුවොත් ඔබට තේරුම් ගන්න පුලුවන්, එහෙම නැතිවුනොත් මේ මැද්දෙන් මැද්දෙන් එකක් බැලුවට මේ ගොනුව ඕගොල්ලන්ට තේරුම් ගන්න බැරිවෙයි.

ඉතින් උපක්ලේශ ගැනනෙ අපිට කතා කරන්න තියෙන්නෙ. ඉතින් අපි කලින් වීඩියෝ එකේදි භාවනාට ආපු යෝගාවචරයෙක්ගේ මනස වැඩ කරන යම්කිසි විදියක්

ගැන කතා කලා. එතකොට ඔය කියන මට්ටමේදී යෝගාවචරයාගේ මනසේ නීවරණ ධර්ම යටපත් වෙලා තියෙන්නෙ. අපි නීවරණ වලට කියන්නෙ පරිදුට්ඨාන කෙලෙස් කියලානෙ, වීතික්කම කෙලෙස් අයින් කරලා රූප කර්මස්ථානයක හිත බැඳගෙන, රූප කර්මස්ථානයක හිත තියාගෙන සිහියත් එක්ක ඉස්සරහට යන යෝගාවචරයාගේ මනසේ නීවරණ ධර්ම ක්‍රමයෙන් යටපත් වෙන්න ගන්නවා. එතකොට තාවකාලික විශුද්ධියක් යෝගාවචරයාගේ මනසේ ඇතිවෙන්න පටන් ගන්නවා. හිත තැන්පත් වෙන්න පටන් ගන්නවා. මේ නීවරණ ක්‍රමයෙන් අඩුවෙලා යනවා කියන එකේ තේරුම තමයි කියන්නෙ නීවරණ කියන්නෙ මේ හිත කාම අරමුණු ද්වේෂ අරමුණු නිදිමත උද්දච්ඡ කුක්කුච්ඡ, විසිරෙන සැක සංකා සහිත  අරමුණු වලට හිත විසිරෙන එක ටික ටික අඩුවෙනවා කියන එක. ඒ අඩුවෙනවා කියලා කියන්නෙ අපි ඉස්සරහින් තියාගත්තු අරමුණේ හිත පිහිටනවා කියන එක. මූල කර්මස්ථානයේ හිත පිහිටලයි තියෙන්න. ඒ කියන්නෙ මේ අරමුණේ හිත පිහිටනවා කියන්නෙ මේ සති සම්පජඤ්ඤ ධර්මතා හොඳින් වැඩ කරන්න පටන් අරන් කියන එක.

මෙන්න මේ වගේ වෙලාවකදි තමයි යෝගාවචරයාගේ මනසේ මේ උපක්ලේශ ධර්ම හටගන්නෙ. ඒ කියන්නෙ ක්ලේශයක්. හැබැයි මේක බැලූ බැල්මට ක්ලේශයක්, මේක මර උගුලක්, මේක වැරැද්දක් විදියට පේන් නැහැ. හරිම හොඳ දේවල් විදියට පේන්නෙ. ඉතින් යෝගාවචරයෙකුට මේ දහයම ඇතිවෙනවා කියන්න බැහැ. මේ දහයම අනුපිළිවෙලින් ඇතිවෙනවා කියන්නත් බැහැ. පළවෙනි එක ඇතිවෙලා තමයි දෙවෙනි එක ඇතිවෙන්න කියන්නත් බැහැ. ඒ කෙනා ගෙනාපු චරිත ස්වභාව අනුව, ඒ ඒ කෙනාගේ මනසේ තියෙන කෙලෙස් ඉන්ද්‍රිය ධර්ම වල ස්වභාවය අනුව තමයි මේ උපක්ලේශය ඒ ඒ කෙනාගේ මනසේ හටගන්නෙ. සමහර වෙලාවට මේවා පහළ නොවීම තියෙන්නෙ නැහැ, එකක් දෙකක් හරි යෝගාවචරයෙකුගේ මනසේ ඇතිවෙනවා. ඉතින් ගොඩාක් වෙලාවට ඒ හැම යෝගාවචරයෙක්ම මේ කියන උපක්ලේශ වලට අහුවෙනවා, යටවෙනවා.

ඉතින් මේ කියන උපක්ලේශ ධර්ම මනසක හටගත්තට පස්සෙ යෝගාවචරයා ගැන ගුරුවරයා හැසිරෙන්නෙ යෝගාවචරයො හිතන් ඉන්න විදියට නෙවෙයි. දැන් ගොඩක් අය හිතන් ඉන්නවානෙ මේ කර්මස්ථානාචාර්‍යවරු වුනහම කරුණාව වැක්කෙරෙන අය වෙන්න ඕනෙ, මෛත්‍රිය වැක්කෙරෙන අය වෙන්න ඕනෙ, සැරෙන් කතා කරන්න බැහැ, පැණි බේරෙන වචන කතා කරන්න ඕන, හුරතල් කරන්න ඕනෙ, නළවන්න ඕනෙ එහෙම තමයි යෝගාවචරයො හිතන් ඉන්නෙ. එහෙම නැහැ. මේ උපක්ලේශ පහළ වෙන මට්ටමේදී ගුරුවරයා බොහෝම දැඩිව තමයි ඉන්නෙ. මොකද යෝගාවචරයාට තේරෙන් නැහැ මේක උපක්ලේශයක් කියලා. ගොඩාක් වෙලාවට යෝගාවචරයෝ මේ මට්ටමේදී ගුරුවරයා දැඩිව ඉන්නකොට යෝගාවචරයො හිතනවා මේ ගුරුවරයාට මං ගැන ඉරිසියාවක් ඇවිල්ලා, මේ මගේ ගුරුවරයාට මේ තරම් හොඳට දියුණුවක් ඇවිල්ලා නැහැ, ඒ නිසා තමයි මට මේක ගැන මෙහෙම අවධානය දෙන්න එපා. මේකට සැරෙන් කතා කරන්නෙ. එහෙම කියලා ගොඩාක් අය මේ ගුරුවරයාට ඇති දියුණුවක් නෑ, මේ ගුරුවරයාගේ කොහොමද භාවනාව දියුණු වෙන්නෙ මෙහෙම සැරෙන් කතා කරනවා නම්, එහෙම කියලා ගුරුවරයා අතහැර යනවා, එක්කො භාවනා මධ්‍යස්ථානය අතහැර යනවා, එක්කො භාවනා ක්‍රමය නවත්වනවා. එහෙම නැත්නම් ගොඩාක් වෙලාවට තමන්ගේ භාවනාව පිරිහවාගන්නවා මොනවාහරි උගුල් වලට අහුවෙලා.

ඉතින් මේ වගේ වෙලාවල් වලදි මේ උපක්ලේශයක් පහළ වුනා කියලා යෝගාවචරයාට කිව්වට පස්සෙ ගොඩාක් වෙලාවට ගුරුවරයා ඒකට ලොකු උනන්දුව දක්වනවා කියලා පෙන්වන්නෙ නැහැ. ගුරුවරයා දන්නවා හැබැයි යෝගාවචරයාගේ අවධානය කමටහනට

යොමුවෙලා තියෙන්නෙ. සාර්ථකත්වයක් වෙලා තියෙන්නෙ. හැබැයි ඒ බව ලොකුවට උලුප්පලා කියන්නෙ නැහැ, හේතුව තමයි මේ උපක්ලේශය වර්ණනා කරලා ගුරුවරයා කතා කලොත් යෝගාවචරයා ඒ උගුලට අහුවෙනවා. ඒ නිසා ඒ වෙලාවෙදි ගොඩාක් වෙලාවට ගුරුවරයා උපදෙස් දෙන්නෙ අනිත් යෝගීන් එක්ක කතා කරන්න යන්න එපා, දිගටම කාලසටහන නොකඩවා තමන් කරගෙන ආපු කාලසටහන ඒ විදියට පවත්වන්න, සිහිය දිගටම තව තහවුරුව පවත්වගන්න කියලා මේ සිහිය නැවතම තියාගන්න, නැවත නැවත සිහිය හොඳින් පවත්වගන්න තමයි අවවාද දෙන්නෙ.

ඉතින් ඒ විදියට ක්‍රමානුකූලව මේ සිහිය ඇති කරගන්න යෝගාවචරයාට උනන්දුව ඇති කිරීමෙන් යෝගාවචරයා තව තව සතිපට්ඨාන භාවනාවට වැටෙනවා. සතිපට්ඨාන භාවනාව තව තව කරන්න හිතෙනවා එයාගේ වීර්යය හොඳට ඇතිවෙනවා. ශ්‍රද්ධාව හොඳට ඇතිවෙනවා. එයාගේ භාවනාව ගැන හොඳ සතුටක් හිතේ ඇති කරගෙන මේ ටික කරගෙන යන්න පුලුවන් වෙනවා. ඉතින් මෙහෙම එකක්  තමයි උපක්ලේශ ගැන තියෙන සාමාන්‍ය කාරණා. ඉතින් උපක්ලේශ දහයක් ඇතිවෙනවා. අපේ හිතක උපක්ලේශ දහයක් ඇතිවෙන්න පුලුවන් මේ යෝගාවචරයාට. ඒවයෙන් විපස්සනා භාවනා කරද්දි ඇතිවෙන උපක්ලේශ දහයක් ගැන අපි මේ කතා කරන්නෙ.

ඉතින් මම මුලින්ම දහය නම් වශයෙන් කියලා අපි හිමින් හිමින් ඒ දහය කතා කරමු. පළවෙනි එක ආලෝක. මේ ආලෝක කියන එකේ කොටස් දෙකක් තියෙනවා; ඕභාස සහ ආලෝක කියලා. ඉතින් පළවෙනි එක ආලෝක, දෙක ප්‍රීති, තුන පස්සද්ධි, හතර අධිමොක්ක, පහ පග්ගහ, හය සුඛය, හත ඥාණය, අට මුපට්ඨානය, නවය උපෙක්ඛාව, දහය නෙඛන්තිය. නික්ඛන්තිය කියලා කියන්නෙ ඉතින්. මේවා බැලූ බැල්මට හොඳයි වගේ තමයි යෝගාවචරයාට පේන්නෙ. ඒ නිසා තමයි මේවා උපක්ලේශ කියන්නෙ. බැලූ බැල්මට හොඳයි, හැබැයි ඇතුලේ උගුලක්.

ඉතින් අපි කතා කරමු පළවෙනි විපස්සනා උපක්ලේශය ගැන. ඒ තමයි ආලෝක. මේ ආලෝක පේන්න ගත්තහම යෝගාවචරයන්ට නිල් පාට, කහ පාට, දම් පාට ඔය වගේ එක එක පාට වර්ග එයාට පේන්න ගන්නවා. කහ, දම්, නිල්, රතු, සුදු ඔය වගේ ඒවා පේන්න ගන්නවා. ඉතින් මෙහෙම ආලෝකයක් පෙනුනහම සාමාන්‍යයෙන් යෝගාවචරයාගේ හිත ඒකෙ ඇලෙන්න ගන්නවා, ඒකෙ කිඳාබහින්න ගන්නවා. ඒකට ප්‍රේම කරන්න පටන් ගන්නවා. ඒකත් එක්කම ඔහේ ඉන්නවා. සමහර වෙලාවට දවස් ගණන් ඉන්න පුලුවන් යෝගාවචරයො ඉන්නවා, පැය ගණන් ඉන්න පුලුවන් යෝගාවචරයො ඉන්නවා, එතකොට එයාට මේ පැයක් තිස්සේ මේ ආලෝකයක ඉන්නවා කියන එක එයාට හරීම සතුටක්. එයාට හරීම ප්‍රීතියක් ගෙනල්ලා දෙන්නෙ. ඉතින් එයා ගොඩාක් වෙලාවට මේකට ඇලෙන එක තමයි වෙන්නෙ. මේකට ගිලෙන එක තමයි වෙන්නෙ. ඉතින් මම අහලා තියෙනවා විපස්සනා ගුරුවරු, ලෝකෙ ඉන්න ශ්‍රේෂ්ට විපස්සනා ගුරුවරු සඳහන් කරනවා මේ ආලෝක වලින් කොළ පාට ආලෝකය පේන එක නම් හොඳ දෙයක් නෙවෙයි කියලා. මම ඒක ගැන මට ඒක පෙනිලා නැති හින්දා මට ඒක හිතාගන්න බැහැ, හැබැයි නමුත් ගුරුවරයා කියන එක මම විශ්වාස කරනවා. කොළ පාට ආලෝක පේන්නෙ ගොඩක් වෙලාවට යෝගාවචරයාට මානසික රෝගයක් තියෙනවා නම් තමයි කියනවා කොළ පාට එළි ආලෝක තියෙන්නෙ. ඒක පේන්න ගන්නවා කියන්නෙ, කොළ පාට ආලෝකයක් පේන්න පටන් ගන්නවා කියන්නෙ මානසික ලෙඩක් හැදෙන්න ආසන්නයි කියන එක කියලා විපස්සනා ගුරුවරු සඳහන් කරනවා, එහි සත්‍යතාවයක් ඇති කියලා මම හිතනවා.

ඉතින් සමහර මේ පේන ආලෝක, සමහර ඒවා ගොඩාක් ඈතින් තියෙනවා පේනවා. සමහර ඒවා ගොඩාක් ළඟින් තියෙනවා පේනවා. සමහර ආලෝක වෙනස් වෙවී පේන්න ගන්නවා. ඒ කියන්නෙ පාට පරිවර්තනය වෙනවා. නිල් පාටට පෙනිච්ච එක තව ටිකකින් කහපාට වෙනවා. තව ටිකකින් රතු වෙනවා, තව ටිකකින් සුදු වෙනවා, ඔහොම වෙනවා. ඉතින් ඔහොම ඔන්න ඔහොම පේන ආලෝකයට වර්තමානයේ ඉන්න සමහර ගුරුවරුත් කියනවා මේක තමයි භාවනා නිමිත්ත කියලා. එහෙම කියලා කියලා දෙනවා. මේක භාවනාවේ දියුණුවක් කියලා කියලා දෙනවා. ඇත්තටම නම් ඒක වැරදි දෙයක්. ඒක උපක්ලේශ ගොඩක් තියෙන්නෙ. ඒක ඇවිල්ලා තියෙන්නෙ මනස යම්කිසි විදියකට ඒකාග්‍ර බවකට ඇවිල්ලා නිසා. යම්කිසි සමාධි මට්ටමක් ආපු නිසා තමයි ඒක ඇවිල්ලා තියෙන්නෙ. නමුත් ඒක අර විදියේ වැරදි අර්ථකතනයක් දීපුවාම ඉතින් යෝගාවචරයාට ලණුව කනවා.

ඉතින් මේ විදියේ සමහර ආලෝක නිසා ඇඟට රස්නෙ දැනෙන්න පවා ඉඩකඩ තියෙනවා කියනවා. සමහර වෙලාවට තමන්ගේ ඇඟ පිච්චෙනවා වගේ දැනෙන්න ඉඩකඩ තියෙනවා, මූණ දැවිල්ල හැදෙන්න පුලුවන්. ඇස් ඇරලා බලන්න හිතෙනවා, අතගාන්න හිතෙනවා. ඔය වගේ දේවල් යෝගාවචරයාට හිතෙනවා. ඉතින් මෙහෙම දැනෙන මේ ආලෝකයකට යෝගාවචරයා රැවටුනොත් එයා හැමදාම මේකත් එක්ක සෙල්ලම් කර කර ඉන්නවා, එකම තැන තමයි එයා ඉන්නෙ. මේක නිමිත්තක්, මේක දියුණුවක් කියලා එයාගේ ඔළුවට වැටිලා තියෙනවා. ඒ නිසා එයා එතෙන්ටම වෙලා ඉන්නවා. සමහර අය හිතනවා මෙහෙම ආලෝකයක් ඇවිල්ලා තමන්ට රස්නයක් වගේ දැනුනහම මගේ කෙලෙස් ඔක්කොම මෙහෙම පිච්චිලා ගියා ආලෝකයට කියලා ඔහොම අර්ථකතන දීලා මේ උපක්ලේශය කියන්නෙ මොකක්ද කියලා හඳුනගන්න බැරිව අරවගේ අර්ථකතන දීලා ඉතින් මාර්ගඵල පවා ප්‍රකාශ කරන තැනට යෝගාවචරයො යනවා. ඉතින් ගුරුවරයා දැනගන්න ඕනෙ මේ ආලෝක කියන්නෙ මොකක්ද, මෙතනදි එයාගේ මනසට වෙලා තියෙන්නෙ මොකක්ද මේ උගුලට අහුවෙන්නෙ නැතිව යෝගාවචරයාට උපදෙස් දෙන්න ගුරුවරයා දක්ෂ වෙන්න ඕනෙ.

දැන් මේ ආලෝක කියන එකේ ඕභාස කියලා කෑල්ලකුත් තියෙනවා කියලා කිව්වානෙ. එතකොට මේ ඕභාස කියලා කියන එකට හඳුන්වන්නෙ අර ආලෝක වලට වැඩිය වෙනස් වෙන්නෙ ඒවා නිකං ඇඟෙන් එළියට පිටවෙනවා වගේ තමයි යෝගාවචරයාට දැනෙන්නෙ. තමන්ගේ ඇඟෙන් නිකං කිරණ විහිදෙනවා වගේ. එක එක එළි විහිදෙනවා වගේ යෝගාවචරයාට දැනෙන්න පටන් ගන්නවා කියනවා. ඉතින් ගොඩක් අයට ඇඟේ කොටස් කෑලි වලින් පිටවෙන්න පටන් ගන්නවා. නළලෙන් ආලෝක විහිදෙනවා වගේ පේන්න පටන් ගන්නවා ඊතලයක් වගේ. ඉතින් මෙන්න මේ ඇඟෙන් ආලෝකයක් එළියට විහිදෙනවා වගේ මේක පෙනෙන එකෙන් ගොඩාක් වෙලාවට යෝගාවචරයන්ට ඒ ආලෝකය විහිදෙන ප්‍රදේශයේ තියෙන දේවල් දකින්න පුලුවන් මට්ටමට මනස දියුණු කරගන්න පුලුවන් වෙන්නෙ ඔන්න ඔය ඕභාස කියන තත්වයෙන් කියලා කියනවා. හැබැයි ඒකත් මුල් කාලෙදි යෝගාවචරයාට පහළ වෙන එක උපක්ලේශයක් වෙන්න පුලුවන්. අර ආලෝක කියන එකටත් වඩා මේ ඕභාස කියන එක බරපතල වැඩියි කියලා තමයි කියන්නෙ. දරුණු දේවල් මේකට රැවටෙනවා වැඩියි, මොකද දැන් අර ආලෝක වලට වැඩිය මේකෙ තියෙන සිලිලාරය වැඩියිනෙ. මේකෙ ගොඩක් දේවල් පේන්න ගන්නවානෙ. ඉතින් ගුරුවරයා දක්ෂ වෙන්න ඕනෙ මේක කඩලා අයින් කරන්න යෝගාවචරයාගේ මනසින්.

ඉතින් මෙතනදිත් මානසික රෝගයක් සම්බන්ධයෙන් කාරණා කියනවා විපස්සනා ගුරුවරු සඳහන් කරනවා. ඉතින් මේ මම ආශ්‍රය කරපු ගුරුවරුන්ගෙන් මම දැනගත්තු දේවල්, උන්වහන්සේලා කියනවා මේ ඇඟෙන් එළියට විහිදෙනවා වගේ කියලා හිතෙන මේ

ආලෝක කදම්භ ඕභාස කියන ඒවා එළියට ගිය එක පිටවෙච්චි ආලෝකය ආයෙ ඇඟ ඇතුලට ආවා වගේ දැනුනොත් වහාම භාවනා කරන එක නතර කරන්න ඕනෙ කියනවා, මොකද ඒක මානසික රෝගයක් හැදෙන්නයි යන්නෙ කියන එක සඳහන් කරනවා උන්වහන්සේලා. ඉතින් උන්වහන්සේලාට මොනවහරි හොඳ අත්දැකීම් තියෙන නිසා තමයි, පරිණත අත්දැකීම් තියෙන නිසා තමයි එහෙම උන්වහන්සේලා සඳහන් කරන්නෙ. මේ නිසයි කියන්නෙ අපිට අනිවාර්යයෙන්ම ගුරුවරයෙක් අවශ්‍යයි, ගුරුවරයාට අවනත වෙන්න දැනගන්න ඕනෙ, ගුරුවරයාට යටත් වෙන්න දැනගන්න ඕනෙ කියලා කියන්නෙ ඒ නිසයි.

ඉතින් මේ වගේ මට්ටකදි ගුරුවරයෙක් හැසිරෙන්නෙ තඹ සතයකට යෝගාවචරයාව ගණන් ගන්නෑ කියනවා, තුට්ටුවකටවත් ගණන් ගන්නැහැල්ලු, එතකොට තමයි මේ යෝගාවචරයන්ට හිතෙන්නෙ ගුරුවරයා ඊර්ෂ්‍යාකාරයෙක්, තරහකාරයෙක්, ඒ වෙලාවල් වලදි මේ වැරැද්ද පෙන්නලා දුන්නහම, බාරගන්නෙ නැතිවහම ගුරුවරු සැර වෙනවා, සැරෙන් තමයි කතා කරන්නෙ. භාවනා කරනවා නම් කරන්න, ඔය දේවල් කරනවා නම් මෙහෙම භාවනා කරන්න එපා කියලා සමහරවිට centre එකෙන් එළවන්න වුනත් ඉඩකඩ තියෙනවා ගුරුවරයා. ඇත්තටම යෝගාවචරයා හිතන්නෙ මේක ගුරුවරයාගේ නරක දෙයක් නිසා කියලා. ඇත්තටම යෝගාවචරයාට ආදරේ නිසා තමයි ගුරුවරයා මෙහෙම කරන්නෙ. ඒ මොකද ගෝලයාව හදාගන්න ඕනෙ හින්දා. මේ උගුලේ වැටුනොත් ගලවන්න ලේසි නැති නිසා.

හැබැයි දැන් ඉන්න ගොඩාක් අය මේ වගේ ආලෝකයක්, ඕභාසයක් ආවහම දැන් ඉන්න ගොඩාක් ගුරුවරු ගෝලයාට මේක මහා ලොකු දෙයක් හැටියට තමයි කියන්නෙ. එතකොට ඉතින් යෝගාවචරයාගේ ගමන ඉවරයි. මොකද ඒක ලුණුව කනවා. කාලා එයාගේ බෙල්ල මුලින්ම කැපිලා යනවා එයාගේ යෝග කර්මය. ඉතින් මේකට මම අමතර කාරණයක් මේ ඉදිරිපත් කරන්නෙ. මේ දේවල් ගැන. ලංකාවේ ප්‍රසිද්ධ වුනා කාලයකදි එක්තරා පොතක්, තායිලන්ත සිල් මාතාවකගේ ජීවන චරිතය ගැන කතා පොතක්. මන්භූරිදත්ත ස්වාමීන් වහන්සේගෙන් උපදෙස් අරගෙන භාවනා කරලා රහත් වුනු සිල් මාතාවක් ගැන. මං හිතනවා මං කිව්වහම කවුද කියලා තේරෙනවා ඇති කියලා. මේ සිල් මාතාවට මන්භූරිදත්ත ස්වාමීන් වහන්සේ හමුවේදී මාර්ගඵල ලබන්න වෙන්නෙ නැහැ, මන්භූරිදත්ත ස්වාමීන් වහන්සේ පිරිනිවන් පානවා.

ඊටපස්සෙ භූරිදත්ත ස්වාමීන් වහන්සේගේ හොඳම ගෝලයා තමයි මේ සිල්මාතාවට ඊළඟට කමටහන් දෙන්න පටන් ගන්නෙ. ඉතින් මේ ස්වාමීන් වහන්සේගෙන් කමටහන් ගන්නකොට කායි සිල් මාතාවට ඔන්න ඔය කියන උපක්ලේශ වලින් මනස සෑහෙන වැහිලා තිබිලා තියෙන්නෙ. එතුමිය සමාධියේ සෑහෙන ප්‍රදේශ ස්පර්ශ කරපු චරිතයක්, සසර පිනට. ඉතින් කොච්චර කමටහන ශුද්ධ කලත් ඔය සමාධියෙන් ගිහිල්ලා කරන දේවල් නෙවෙයි වෙන්න ඕන යෝගාවචරයෙකුට නිවන් දකින කෙනෙකුට, මෙන්න මේකයි වෙන්න ඕනෙ කියලා කොච්චර කිව්වත් එතුමිය ඇහුම්කන් දෙන්නෑ. අන්තිමේ දවසක් මේ ස්වාමින් වහන්සේ එතුමියට බැනලා එළවගත්තලු ආයෙ කිසි දවසක මගෙන් කමටහන් ගන්න එපා, මෙතනින් පිටවෙලා යන්න කියලා. ඉතින් පොතේ ඔය ලස්සනට තිබ්බට බනින්න ගියාම ඔහොම නෙවෙයි. මොකද මම එහෙම centre වල ඉඳලා තියෙනවා. ඒවයේ ගුරුවරු බනින හැටි මගේ කන් දෙකට මම අහලා තියෙනවා.

එතකොට සිල් මාතා කායි අඬ අඬා යනවා. ඉතින් එන්නෙ නැහැ. දැන් බැනලා එළෙව්වානෙ. හැබැයි ඒ ගිහිල්ලවත් අර ගුරුවරයා දීපු උපදෙස එතුමිය පිළිගන්නෑ. එතුමිය

කොච්චර මේ උපක්ලේශයට යටවෙලා ඉන්නවාද කියනවා නම් එතුමියට අවුරුදු දෙකක් ගියාට පස්සෙ කල්පනා වුනාලු, ඇයි මට මේ ගුරුවරයා කියන එක පොඩ්ඩක් අහන්න බැරි. ඇයි මට මේ ගුරුවරයා කියන එක චුට්ටක් හිතන්න බැරි, ඇයි මට මේ ගුරුවරයා කියන එක චුට්ටක් කරලා බලන්න බැරි කියලා අවුරුදු දෙකක් ගියාට පස්සෙලු එතුමියට හිතුනෙ. එතකල්ම හිතිලා නැහැ. ඊටපස්සෙ අවුරුදු දෙකක් ගියාට පස්සෙ මේක හිතුනට පස්සෙ තමයි ඒ ස්වාමීන් වහන්සේ දීපු උපදෙස් අනුව එතුමිය පොඩ්ඩක් භාවනා කරන්න පටන් අරන් තියෙන්නෙ. අන්න එතකොට තමයි එතුමියට තේරිලා තියෙන්නෙ තමන් මෙච්චර කල් හිටියේ කොච්චර වැරදි පාරකද කියලා. ඉතින් මේක තේරුනාට පස්සෙ එතුමියට ආපු සතුටට එතුමිය ගියාලු ගුරුවරයාගෙන් සමාව අරගන්න. වැඳලා සමාව අරගන්න උන්වහන්සේ ඉන්න ආරණ්‍යයට යනකොට ඈත තියාම මේ සිල්මාතාව එනවා පේනකොට හඩනගලා කෑගහලා බැනලා එලෙව්වලු ඇයි එන්නෙ, මම තමුන්ට එන්න එපා කියලානෙ කිව්වෙ, ඇයි එන්නෙ. ඒත් මෙතුමිය අඬ අඬා දෙකට නැමීගෙන වැඳගෙන දණගාගෙන ගිහිල්ලා වැඳලා සමාව අරගෙන කිව්වලු ස්වාමීන් වහන්ස, මට දැන් තමයි වැරැද්ද තේරුනේ. මං වැරැද්ද පිළිගත්තා, මට ඒක තේරුනා, මම ඒක හොයාගත්තා. මම මෙන්න මෙහෙම භාවනා කරා ඊයෙ, මට මෙහෙම වුනා කියලා කියලා තියෙනවා. එතකොට තමයි උන්වහන්සේ සමාව දීලා නැවත කමටහන ශුද්ධ කරලා තියෙන්නෙ.

එතකොට මේ අවුරුදු දෙකක් ගිහිල්ලත් තමන්ගේ ගුරුවරයාගේ වචනයට අවනත වෙන්න හිතෙන්නෙ නැහැ. එතකොට මේ අපේ රටේ ඉන්න මේ පොඩ්ඩක් දහම් දැනුම හදාගෙන කෑගහන මිනිස්සු ගැන ආයෙ කවර කතාද. මේ පොඩ්ඩක් ධර්ම දැනුම අල්ලගෙන, සමහරවිට ප්‍රායෝගික පුහුණුවට ගිහිල්ලත් නැහැ, මේ දත කාගෙන කෑගහනවා. ඉතින් ඒ තරම්ම සියුම් තැනක් මේක. ගුරුවරයෙක් නැතිව මේක කරන්න බෑ කියන්නෙ ඒ නිසයි. ඒ තරම්ම මේ උපක්ලේශ බලවත්. අහුවුනාම ගලවන්න බැහැ. ඉතින් මේ විදියට ආලෝක කියන ඕභාස කියන උපක්ලේශයක් යෝගාවචරයාගේ මනසේ හටගන්නවා. ඒක ගැන මේ විදියට ගුරුවරයා ගොඩාක් වෙලාවට ලකුණු දෙන්නෑ, අර වගේ සැරට තමයි යෝගාවචරයාට තරවටු කරලා බොහොම තදින් තමයි කතා කරන්නෙ, මොකද මේ යෝගාවචරයාව බේරගන්න ඕන නිසා.

ඉතින් මෙන්න මේ කියන ආලෝක සහ ඕභාස කියන මේ දෙකටම යෝගාවචරයො ගොඩාක් වෙලාවට රැවටෙනවා. එතනදි ඕභාස කියන එකට තමයි රැවටෙන්නෙ ගොඩාක්ම බරපතල විදියට කියලා කියන්නෙ. මොකද ඒක එච්චරටම මුලා කරවන සුලුයි. ආලෝක වලට රැවටෙන්නෙ අඩුවෙන්. නමුත් මේ ඕභාස කියන එක කලාතුරකින් යෝගියෙකුට තමයි එන්නෙ. මේ හිතන්න එපා මේ ටවුන් වල මේ ප්‍රසිද්ධ තැනක හතරමන් හන්දියක බණ කියනකොට දාහක් දෙනා ඇවිල්ලා ඉඳගෙන බණ අහලා මාර්ගඵල දෙනවා වගේ සූගාලා පිරිසකට මේක එනවා කියලා නම් හිතන්න එපා. මේක එන්නෙ දහසකින් බර ගාණකින් එක්කෙනෙකුට වගේ තමයි ඕභාස කියන එක පහළ වෙනවා කියලා කියන්නෙ. ආලෝක කියන එක සාමාන්‍යයෙන් ටික දෙනෙකුට ආවත් ඕභාස ලේසියෙන් පහළ වෙන්නෙ නැහැ, පහළ වුනොත් ඒකට අහුවුනොත් යෝගාවචරයා ඒකට ප්‍රබල විදියට අහුවෙනවා ඒකට. හරිම අමාරුයි ගලවගන්න.

ඉතින් මේ ආලෝක සම්බන්ධයෙන් මානසික ලෙඩ සහිතව එන යෝගාවචරයෙකුට මානසික ලෙඩක් වගේ හැදුනොත් ඒ කෙනා ගැන ගුරුවරයා වෙනම විදියකට තමයි කටයුතු කරන්න වෙන්නෙ. ලේසි නැහැ. ඉතින් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරානෙ සබ්බේ පුතග්ජනා උම්මත්තකා වියරිස්සන්ති කියලා. ඒක තමයි දැන් ඔය සබ්බේ පුතග්ජනා උම්මත්තකා කියලා කෙටි කරලා හදාගෙන තියෙන්නෙ. ඒ කියන්නෙ හැම

පෘථග්ජන මනුස්සයෙකුගේම ළඟ මානසික රෝගයක් තියෙනවා, ලෙඩක් තියෙනවා. ඉතින් එතකොට මේ වගේ තැනකදි ඉන්න යෝගාවචරයෙක් කෙරෙහි දක්ෂ හොඳ පළපුරුදු ගුරුවරයෙක් තමයි කටයුතු කරන්න ඕනෙ, බොහෝම හෙමින් හෙමින් උත්සාහ කරන්න ඕනෙ, යෝගාවචරයා ඒ වලෙන් ගොඩ ගන්න. මානසික රෝගයක් දක්වා යන තත්වය ගලවලා ගන්න ගුරුවරයා ගොඩක් දක්ෂ වෙන්න ඕන. ඉතින් අපිටත් අපි හැමොටම තියෙනවා මානසික ලෙඩක්. ඉතින් අපේ මානසික ලෙඩේ අපිට පෙනෙන්නෙ නැහැ. ඉතින් අර යෝගාවචරයාගේ එක පේන්න පටන් අරගෙන. එළිබැහැලා තියෙන්නෙ. එතකොට ඒ නිසා හිතන්න එපා අපිට නැහැ එයාලට විතරයි තියෙන්නෙ කියලා. නෑ අපි හැමෝටම යම්කිසි මානසික ලෙඩක් තියෙනවා, ඒක දැනගෙන තමයි අපි වැඩ කරන්න ඕනෙ.

ඉතින් පොඩි ළමයෙක් එක්ක ගණුදෙනු කරනවා වගේ තමයි ඒ මානසික රෝගයක් හැදෙන තත්වෙකට ආපු යෝගාවචරයෙක් එක්ක ගණුදෙනු කරන්න ඕනෙ, ඒක ලේසි නැහැ. බොහෝම හෙමින් ඒ යෝගාවචරයාට එක්ක ගුරුවරයෙක් කටයුතු කරන්න ඕනෙ. ඉතින් මේ නිසා තමයි කියන්නෙ භාවනා කරද්දි අනිවාර්යයෙන්ම ගුරුවරයෙක් අපිට අවශ්‍යයි. ගුරුවරයාට අවනත වෙන්න දැනගන්න ඕනෙ. ගුරුවරයාට ජීවිතේ පූජා කරනවා කියන්නෙ ඔන්න ඕකට තමයි. ගුරුවරයා පොල්ලක් කඩාගෙන ගැහුවත් අපිට පුලුවන් වෙන්න ඕනෙ ඔළුව පාත් කරගෙන ගුරුවරයා කියන දේ අහන්න. එහෙම නැති යෝගාවචරයෙකුට කවදාවත් ඉස්සරහට යන්න හම්බෙන්නෙ නැහැ. මොකද අපි ගුරුවරයෙක් කියලා තෝරගන්න කෙනාට ජීවිතේ දෙන්න ඕනෙ. ජීවිත පූජාව කරන්න ඕනෙ. ජීවිතේ දෙනවා කියන්නෙ මේ කටින් මම ජීවිතේ පූජා කරනවා කියන එක නෙවෙයි. අන්න අර වගේ තැනකදි මනස හැසිරෙන විදියෙන් තමයි තේරෙන්නෙ, යෝගාවචරයා ගුරාට ජීවිතේ පූජා කරලාද කියලා.

ඉතින් හැබැයි අද ඉන්න යෝගාවචරයො ගුරුවරයො හොයාගෙන යන්නෙ ගුරුවරයා බාරගන්න නෙවෙයි, තමන්ගේ ඔළුවේ concept එකක් දාගෙන ඒ concept එකට ගුරුවරයා දාන්න පුලුවන්ද කියලා බලන්න තමයි අද ඉන්න අය යන්නෙ. ගුරුවරයෙක් කියන්නෙ මෙන්න මෙහෙම කෙනෙක් කියලා හදාගෙන ගිහිල්ලා අර ගුරුවරයාගේ ඇදකුද හොයන්න තමයි අද ඉන්න අය යන්නෙ. අඩුපාඩු හොයන්න. කිසිදවසක භාවනාව දියුනු වෙන්නෑ. එහෙම අයට දියුනු වෙන්නෑ, එක තැන කැරකි කැරකි ඉන්න පුලුවන්. ඉතින් ගුරුවරයෙක් වුනහම, ගුරුවරයා අපි තෝරගත්තහම අපිට පුලුවන් වෙන්න ඕන ගුරුවරයාට හිස නමාගෙන කණ හරහා ගැහුවත් ඒ ගහන්නෙ මොනවහරි දන්න හින්දා. මට තේරෙන්නැති දෙයක් ගුරුවරයාට තේරෙන හින්දානෙ මට බනින්නෙ මට ගහන්නෙ මාව එළවන්නෙ, මට දකින්න බැරි දෙයක් දැකලා තියෙන හින්දා. ඒකට තමයි ශ්‍රද්ධාව කියන එක ඕනෙ. ඒකට තමයි අදහාගන්න පුලුවන් ගතිය ඕන. ඒක නැතිව මේක කරන්න බැහැ. ඉතින් මම ඒක දැකලා තියෙනවා. මම බුරුමෙ ඉඳලා තියෙනවා කාලයක්. එහෙ ගුරුවරු ගාවට යනකොට සමහර යෝගාවචරයො වෙව්ලනවා. ගැහෙනවා, ඇඬෙනවා, අපි පවා එහෙමයි. පුදුම බයක් තියෙන්නෙ. එච්චර තදින් ඉන්නෙ. හේතුවක් තියෙනවා එහෙම ඉන්න. ඉතින් අපි කියනවා නම් මේගොල්ලො ගාවට යන්නත් බෑ බය හිතෙනවා ගැහෙනවා මොන භාවනාවක්ද මේක කියලා, ඉතින් කමක් නෑ යන්න පුලුවන්. අතහැරලා ගිහිල්ලා තමන් හුරතල් කරන තමන් නළවන මේ වගේ ආලෝකයක් දැක්කහමත් උඩින් තියන, පුම්බලා කතා කරන ගුරුවරයො ඉන්නවා ඕන තරම් ලංකාවෙ වැහි වැහැලා යන්න පුලුවන්. ඒකෙ කිසි ප්‍රශ්නයක් නැහැ.

ඉතින් මේ ආලෝක කියන එකේ ඕභාස සහ ආලෝක කියන කොටස තමයි අද කතා කරන්නෙ. වීඩියෝ එක දිග වෙන නිසා අපි ඊළඟ උපක්ලේශය ගැන ඊළඟ වීඩියෝ එකෙන් කතා කරමු. තෙරුවන් සරණයි!

### 38) භාවනා කරද්දි ප්‍රීතියේ ගොදුරක් වීම | විපස්සනා උපක්ලේෂ -2 | right concentration |@alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අද කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනය. අපි මේ වෙනකොට කතා කරමින් ඉන්නෙ විපස්සනා උපක්ලේශ ගැන. ඉතින් මේ දේශනා ධම්මානුපස්සනා කොටසේ ගොඩක් එහාට ගිය දේශනා. ඉතින් අලුතෙන්ම මේවා අහන යෝගියෙකුට මොකක්ද මේ කියලා හිතාගන්න බැරිවෙයි. අපභ්‍රංශ වගේ දැනෙයි. මොකක්ද මේ කියලා තේරුම් ගන්න නම් සතිපට්ඨාන සූත්‍ර දේශනා මාලාවේ මුල ඉඳලා අහගෙන එන්න. අපි සම්පූර්ණ සතිපට්ඨාන සූත්‍රය මුල ඉඳලාම විස්තර කරගෙන දේශනා කරලා ඇවිල්ලා තියෙනවා මේ ප්‍රායෝගිකව පුහුණු වෙන කෙනෙකුට ගැලපෙන විදියට. නිකං දැනුමක් ගන්න කෙනෙකුට නෙවෙයි. ඉතින් අද අපි ඉන්නෙ ධම්මානුපස්සනා කොටසේ මේ විපස්සනා උපක්ලේශ සම්බන්ධ කතා කරන කොටසේ. අපි කලින් සඳහන් කලා විපස්සනා උපක්ලේශ දහයක් තියෙනවා. යෝගාවචරයො මේකට අහුවෙනවා, උපක්ලේශ කියලා දන්නෙ නැතිව. ඉතින් අපි කලින් වීඩියෝ එකේ පළවෙනි උපක්ලේශය, ආලෝක කියන එක ගැන කතා කලා. භාවනා කරද්දි මේ ආලෝක පේන එක සම්බන්ධයෙන්. දෙවෙනි උපක්ලේශය තමයි අද කතා කරන්නෙ, ඒ තමයි ප්‍රීතිය.

අපිට යෝගාවචරයෙකුට භාවනා කරද්දි ප්‍රීතිය කියලා එකක් එනවා. මේක එන්නෙ භාවනා කරද්දි භාවනා අරමුණේ හොඳින් හිත පිහිටන වෙලාවල් එනවා. දැන් අපි කියලා තියෙන්නෙ පර්යංකයේ නම් හුස්ම, පිම්බීම හැකිලීම, නැත්නම් සක්මන, නැත්නම් එදිනෙදා වැඩක් කරද්දි මේ අරමුණත් එක්ක හොඳට හිත බඳලා අල්ලන වෙලාවල් එනවා. අරමුණත් එක්ක අතනැර හිත පිට යන්නෙ නැතිව එක දිගට හිත පිහිටන වෙලාවල් එනවා. එතකොට තමයි මේ ප්‍රීතිය කියන එක එළියට එන්නෙ. හැබැයි මේ ප්‍රීතිය අර කලින් කියපු උපක්ලේශය ඒ කියන්නෙ ආලෝකයක් පහළ වීම නිසා එන එකක් නෙවෙයි මේ. ආලෝකය නිසා ඇතිවෙන දෙයක් නෙවෙයි. භාවනා කරනකොට හිත බොහොම සතුටින් ප්‍රබෝධමත්ව භාවනා අරමුණේ හිත අලල්ලා තියනවා, හිත කිඳා බැහැලා තියනවා, ඒක හිතේ ස්වභාවයක්. නැවත නැවත, නැවත නැවත අපි මේ පෙරහුරුව කරගෙන යනකොට භාවනා කරද්දි හිත හුරුවෙනවා ටික ටික හුරුවෙනවා අරමුණත් එක්ක ඉන්න. එතකොට මේ අරමුණත් එක්ක ඉද්දිදී තමයි මේ ප්‍රීතිය කියන එක එන්නෙ.

ඒක ආවට පස්සෙ යෝගාවචරයාට මේක දැනෙන විදියක් තියෙනවා. සමහර කෙනෙකුට ඇස් වලින් කඳුළු පනිනවා, කඳුළු වැක්කෙරෙන්න ගන්නවා, තොල් වෙව්ලනවා, ඇස් පිහාටු හෙල්ලෙනවා, ඇඟ හෙල්ලෙන්න සමහර වෙලාවට ඉඩතියෙනවා. ඉතින් සමහර අය කමටහන් වාර්තා යොමු කරද්දි සමහර අය එහෙම යොමු කරලත් තිබුනා මට පහුගිය දවස්වලත්. මේවා මේ ස්වභාවයන් හටගන්නේ මේ ප්‍රීතිය කියන ස්වභාවය නිසා. එතකොට ප්‍රීතිය නිසා දැන් මේ ප්‍රීතිය ආවට පස්සෙ ගොඩාක් යෝගාවචරයො මේකට රැවටෙනවා. මේ කියන්නෙ මේ ප්‍රීතිය වැරදියි කියන එක නෙවෙයි. ඒ ප්‍රීතියට රැවටෙන එක තමයි උපක්ලේශය. එතකොට හිතනවා යෝගාවචරයා මම දැන් හොඳට දියුණු වෙලා ඉන්නෙ. මට හොඳ සමාධියක් තියෙනවා, මට හොඳ ධ්‍යානයක් ඇවිල්ලා තියෙනවා කියලා මේක අල්ලනවා තණ්හා දිට්ඨි මාන වලින්. ඉතින් අපි කලින් කිව්වා වගේ මේ උපක්ලේශ

දහය එක පිළිවෙලට අනුපිළිවෙලට එන්නෙත් නැහැ. දැන් අපි කලින් කියපු ආලෝකය, ප්‍රීතිය මේ දෙක සමහර වෙලාවට දෙකින් එකක් එන්න පුලුවන්. ආලෝකය අඩුවෙන්න පුලුවන්, ප්‍රීතිය වැඩිවෙන්න පුලුවන්. එහෙම මේක අපිට කියන්න බැහැ නිශ්චිත වශයෙන් මෙහෙම තමයි වෙන්නෙ කියලා. කොහොම වුනත් භාවනා කරන යෝගාවචරයන්ට මේ ප්‍රීතිය කියන එක එනවා.

එතකොට මේ ප්‍රීතිය කියන එක, විපස්සනා උපක්ලේශයක් වුනු ප්‍රීතිය කියන එක එන්න පර්යංක භාවනාවටම යන්න ඕනෙ නැහැ. සමහරුන්ට සක්මන් භාවනාවේදිත් මේක එනවා. සක්මන් කරද්දි ආවහම එක දිගටම සක්මන අතනැර කරගෙන යන්න හිතෙනවා, එයාට ඉඳගන්න පර්යංකයට යන්න හිතෙන් නැහැ. පර්යංකයේ ඉද්දි මේ ප්‍රීතිය ආවොත් එහෙම එයාට නැගිටලා සක්මනට යන්න කම්මැලි හිතෙනවා. සමහර යෝගීන් ඉන්නවා එහෙම. මට පර්යංකය තමයි හොඳ කියලා දිගටම පර්යංකයේ ඉන්නවා. නෑ ඒ උපක්ලේශයකට සමහරවිට අහුවෙලා තියෙන්න පුලුවන්. ගුරුවරයා කිව්වට සමහරු පිළිගන්නෙත් නැහැ. මට මතකයි අපේ ලොකු ස්වාමීන් වහන්සේ අපි ඔය සති පාසල් කරන කාලෙ ඔය තලතුනා වෙච්චි මිනිස්සුන්ගේ ඔලුවට මුල් බැහැලා තියෙන්නෙ මූල ධර්මනෙ. ඉතින් ලොකු ස්වාමීන් වහන්සේ සක්මන පැයක්, පර්යංකය පැයක් විදියට කාලසටහන දාන්නෙ. ඉතින් මේ මනුස්සයා ආස නැහැ සක්මන් කරන්න. එයා එක දිගටම පර්යංකයේ. ඉතින් ලොකු ස්වාමීන් වහන්සේගෙන් ඊළඟට කමටහන් ශුද්ධ කරන්න ආවහම ලොකු ස්වාමීන් වහන්සේ හොඳටම දොස් කියලා, කියන දේ අහන් නැති චරිතයක්, ඔය මුරණ්ඩුකම තියාගෙන මේක ඉස්සරහට යන්න බැහැ, ඇයි පර්යංකය කරලා ඉවර වෙලා සක්මන තියෙන වෙලාවෙ සක්මනට නොගියෙ. එතකොට එයා ඒකට නිදහසට කාරණා ගොඩාක් කියනවා. ඒ කියන්නෙ උපක්ලේශයට අහුවෙලා. ගුරුවරයා කියන එක බාරගන්න කැමැති නැහැ.

ඉතින් මේක දැන් මේ භාවනා කරද්දි විතරක් නෙවෙයි, ප්‍රීතිය කියන එක බණක් අහනකොට පිරිත් කියනකොට, පින්කම් කරනකොටත් ඕක එනවා, හැබැයි ගොඩක් වෙලා තියෙන්නෙ නැහැ, බොහොම කෙටි කාලෙකට තමයි ඒක තියෙන්නෙ. ඒක ඇවිල්ලා යනවා. හැබැයි භාවනා කරද්දි මේක පැය ගණන් තියෙනවා. එක දිගට තියෙනවා භාවනා කරද්දි මේ එන ප්‍රීතිය. ඒ නිසා තමයි යෝගාවචරයො මේකට රැවටෙන්නෙ. ඉතින් මේ ප්‍රීතිය වැඩිවුනාට පස්සෙ යෝගාවචරයො මේක ධ්‍යාන තත්වයක්, සමහරු මාර්ගඵල ලබලා කියලා හිතනවා, සමහරවිට ගුරුවරයාත් ඒ විදියට තමයි තල්ලුව දෙන්නෙ, ආ ධ්‍යානයක් ලබලා කියලා. ඉතින් ඇත්තටම නම් මේක ධ්‍යානයක් නෙවෙයි. මේක භාවනා කරනකොට අරමුණේ හිත එකලාස වෙලා, ඒකාග්‍ර වෙලා, ඒකෝදි වෙලා එනකොට ඇතිවෙන තත්වයක් විතරයි. ඉතින් සමහරු මෙහෙම ප්‍රීතියක් ආවා කියලා සමහර වෙලාවට මම හොඳින් සතුටින් භාවනා කරනවා කියලා පෙන්වන්න මූණෙ හිනාවක් තියාගෙන ඉන්නවා, ඒක රඟපෑමක්, ඒක කෘත්‍රිම දෙයක්. එහෙම වෙන්නෙ නැහැ ප්‍රීතියේදී. ප්‍රීතිය හොඳ සෞම්‍ය, හොඳ සාමකාමී තත්වයක්. ඒක භාවනා කරන්න පර්යංකයට ඉඳගත්ත ගමන්ම, සක්මනට ගිය ගමන්ම එන්නෙ නැහැ. ඒක ටිකක් පුහුණු වුනාට පස්සෙ පර්යංකය ටිකක් දුර ගියාට පස්සෙ තමයි එන්නෙ.

මෙහෙම මේ ප්‍රීතිය කියන තත්වය ආවට පස්සෙ යෝගාවචරයාගේ ඇඟේ තියෙන රූප කලාප පවා වෙනස් වෙනවා කියනවා. ඒ නිසා තමයි ඒ යෝගාවචරයා හරි පැහැපත් වෙන්න පටන් ගන්නවා. අනිත් අයට ඒ යෝගාවචරයා දකින්න කැමැත්තක් එනවා. කලින්ට වැඩිය ප්‍රසන්න රූපයක්, බාහිර රූපයේ ප්‍රසන්න වෙනවා. ඉතින් එතකොට සමහර වෙලාවට අනිත් අය මේ යෝගාවචරයාට මේක කියන්නත් පුලුවන්. එතකොට

සමහර වෙලාවට තවත් මේ ලණුව කනවා මේ යෝගාවචරයා. ඉතින් ඒ ප්‍රීතිය තිබ්බ පලියටම මේක ධ්‍යානයක් වෙන්නෙ නැහැ. ඒක විපස්සනා උපක්ලේශයක්. සමථ උපක්ලේශයක් නෙවෙයි, විපස්සනා උපක්ලේශයක්. විපස්සනා ගුරුවරු, භාවනා ගුරුවරු ප්‍රකාශ කරන්නෙ මේ විපස්සනා උපක්ලේශ වලට වැඩිය සමථ උපක්ලේශ ඉතාම භයානකයි, ඉතාම දරුණුයි. එහෙම කියන්න හේතුව තමයි විපස්සනා උපක්ලේශයක් ආවහම ගුරුවරයාට පුලුවන් ගෝලයාට කෑගහලා ඒක නැතිකරලා දාන්න. බැනලා දොස් කියලා නැති කරලා දාන්න. හැබැයි සමථ උපක්ලේශ ආවහම එහෙම කරන්න බැහැ. ඒවා ලේසියෙන් අයින් කරන්න බැරි දේවල් කියලා තමයි ගුරුවරු සඳහන් කරන්නෙ.

ඉතින් මේ ප්‍රීතිය කියන උපක්ලේශය ආවට පස්සෙ අපි හිතමු යෝගාවචරයාට මේක පර්යංකයේදී ආවෙ කියලා. එතකොට යෝගාවචරයාට නිතර නිතර පර්යංකයට යන්න හිතෙනවා, ආස හිතෙනවා. සක්මන මගහරිනවා. සක්මනේදී ආවා නම් සක්මන තමයි දිගටම කරන්නෙ. මේක දෙකේදිම එනවා නම් එයා එක දිගටම කාලසටහන අතනැර කරන්න යනවා. එතකොට එයාගේ වටේ ඉන්න අනිත් අයත් එක්ක හැප්පෙන්න යන්නෙ නැහැ. ගැටෙන්න යන්නෙ නැහැ. පුලුවන් තරම් පාඩුවේ මේ යෝගාවචරයා ඉන්න බලනවා. සාමාන්‍යයෙන් භාවනා මධ්‍යස්ථාන වලට ගිහින් භාවනා කරපු යෝගාවචරයො දන්නවා යෝගාවචරයො නිතරෝම ගැටෙනවා අනිත් යෝගීන් එක්ක. පොඩි දේකටත් ගැටෙනවා. ඉතින් හැබැයි මේ ප්‍රීතිය කියන තත්වය ආවට පස්සෙ යෝගාවචරයා ගොඩාක් මගහැරිලා ඉන්නෙ අනිත් අයගෙන්. මොකද එයා කැමැති නැහැ මේ ප්‍රීති තත්වය, මේ එයා අත්විඳින සාමකාමී තත්වය නැතිකරගන්න. ඒ නිසා එයා ගොඩාක් වෙලාවට පාඩුවේ පැත්තකට වෙලා කාලසටහන අනුගමනය කරගෙන ඉන්නවා.

හැබැයි මේ ප්‍රීතිය කියන උපක්ලේශය නැතිවුනාට පස්සෙ එයා ගැටෙනවා. එයාට අනිත් අයත් එක්ක හැප්පෙන්න යනවා, මොකද මේ ප්‍රීතිය කියන එකත් හැමතිස්සෙම තියෙන දෙයක් නෙවෙයි. මේකෙ ස්වභාවය තමයි ස්ථිර නැතිකම. අනිත්‍යයි. ප්‍රීතිය පවා වෙනස් වෙනවා. හැබැයි මේකට කොච්චර අහුවෙනවාද කියනවා නම් යෝගාවචරයා, එයාට ඒක මතක නැහැ. ඒ නිසාඉ එයා මේ ප්‍රීතිය නැතිවෙලා ගියාට පස්සෙ කියනවා මගේ භාවනාව අරයා හින්දා කැඩුනා, මෙයා හින්දා කැඩුනා, මෙහෙම වුනා කියලා. ඇත්තටම එහෙම වෙනවා නෙවෙයි. ප්‍රීතිය කියන්නෙත් වෙනස් වෙන දෙයක්. මානසික පෙරළියක්නෙ මේ යන්නෙ ඉස්සරහට. එතකොට මනසේ ස්වභාවයන් වෙනස් වෙනකොට ප්‍රීතිය කියන එකත් නැතිවෙලා යනවා. එතකොට යෝගාවචරයා මේ කමටහන හරියට ශුද්ධ වුන් නැතිවුනාම එයා හිතනවා මේ ප්‍රීතිය අඩුවෙලා ගියේ අනිත් කෙනාගේ වරදක් නිසා කියලා. ඇත්තටම එහෙම නෙවෙයි, ඒක ස්වභාවික දෙයක්. මේක හැමතිස්සෙම තියෙන එකක් නෙවෙයි. ඒක තමයි උපක්ලේශ වල ස්වභාවය. ඒක ස්ථිරව තියෙන්නෙ නැහැ, ඒක ඇවිල්ලා යනවා. හැබැයි ඒ උපක්ලේශයේ, ඒ ප්‍රීතියේ ඉන්න ඕනෙ කියලා හිතන එක, ඒක හොඳයි කියලා හිතන එක තමයි වැරැද්ද. ඒක නිතරම තියෙයි කියලා හිතන එක තමයි වැරැද්ද. එහෙම නැතිව මේ ප්‍රීතියේ වැරැද්දක් වත්, ආලෝකයේ වත්, අපි කලින් කියපු ආලෝක වලවත්, ඕභාස වල වත් ඒවයේ වත් නෙවෙයි මේ වැරැද්ද. මේක ස්ථිරව තියෙයි, මේක හොඳයි, මේක මම වශයෙන් මගේ වශයෙන් මගේ ආත්මය වශයෙන් අල්ලන එක තමයි උපක්ලේශය. ඒක තමයි දෝෂය, ඒක තමයි ක්ලේශය.

අපිට මේ ආලෝක, ඕභාස එහෙම නැත්නම් මේ ප්‍රීති මේ උපක්ලේශ එන්නෙ අපේ හරියට සති සම්පජඤ්ඤ දෙක හරියට වැඩ කරලා තියෙන නිසා. හොඳට සිහිය පිහිටලා තියෙනවා, මනසිකාරය හොඳට තිබිලා තියෙනවා, සම්පජඤ්ඤය හොඳට දියුණු වෙලා තියෙනවා. ඒවායේ හේතුවක් විදියට තමයි මේ ආලෝක, ප්‍රීති කියන දේවල් එන්නෙ. ඒවා

නිකං එනවා නෙවෙයි. ඉතින් ඒක එන එක වැරැද්දක් නෙවෙයි. හැබැයි අපි ඒකට ලකුණු දෙන එක තමයි වැරැද්ද. අපි ඒකට ආසාවක් ඇති කරගන්නවා. මට අද දවස පුරාම මේක තියෙනවා නම් හොඳයි, එහෙම කියලා බලාපොරොත්තු හදාගන්නවා. සමහරවිට එයා ආයෙ ආයෙ භාවනා කරන්න එන්නෙ ඒ ආලෝකය ඉල්ලගෙන, ඒ ප්‍රීතිය ඉල්ලගෙන. එහෙම හිතුවොත් එයා මේ උපක්ලේශයට අහුවෙලා ඉවරයි. මේ උපක්ලේශය නිසා මගේ භාවනාව දියුණුයි කියලා හිතලා, තමන් උඩින් තියාගෙන තමන් චරිතයක් කරගන්න හදන එක තමයි ලොකුම භයානකම තැන. ඒ කියන්නෙ මේ දේවල් හටගන්නෙ භාවනාවේ දියුණුවක් නිසා. අපි ඒක අල්ලන විදිය අනුව, ඒකට ලකුණු දීම තමයි මෙතන තියෙන දෝෂය, වැරැද්ද. ඒක තමයි උපක්ලේශය කියලා කියන්නෙ.

ඉතින් සාමාන්‍ය විදියට ජීවත් වෙන අයට මේ උපක්ලේශ මට්ටමට එන ප්‍රීතිය එන් නැහැ. ඒ කියන්නෙ අපි සාමාන්‍යයෙන් බණ අහනකොටත් ප්‍රීතියක් එනවා, ඒක තාවකාලිකයි, ඒවා ප්‍රබල නැහැ. ඒවා එවෙලෙ ඇතිවුනා, නැතිව ගියා. ඒක සාමාන්‍යයෙන් මේ බණක් අහනකොට ප්‍රීතියක් එන්න, දේශනයක් අහනකොට ප්‍රීතියක් එන්න ඒකට ආගමක් ඕනෙ නැහැ. ආගමක් අවශ්‍ය නැහැ ඒ ප්‍රීතිය එන්න. මේ ගස් කොළන් දැකලා මේ ස්වභාවිකත්වය දැකලා පරිසරය දැකලා, කඳුකර දැකලා, මුහුද දැකලා මේ පරිසරයේ දේවල් දැකලා ඕනම කෙනෙකුට ප්‍රීතියක් එන්න පුලුවන්. ඒවා කාමාවචර, කම්සැපත් එක්ක හටගත්තු ප්‍රීතිය. හැබැයි උපක්ලේශ මට්ටමේ ප්‍රීතිය එහෙම නෙවෙයි, ඊට වඩා විදීමත් වැඩියි, ඒකට හේතුව තමයි අරවා කෙලෙස් නිසා  හටගන්න දේවල්. කෙලෙස් එක්කම තමයි හටගන්නෙ. හැබැයි මේ උපක්ලේශ මට්ටමේ ප්‍රීතිය කෙලෙස් නැති කරන්න ගිහිල්ලා තමයි හටගන්නෙ. ඒ කියන්නෙ අපි  ඉස්සරහින් තියාගත්තු මූල කර්මස්ථානයේ නැවත නැවත හිත පවත්වනකොට අර නීවරණ ධර්ම යට යනවා, ඒවා පේන්නෙ නැහැ. ඒවා යට ගියාම තමයි මේ උපක්ලේශ කියන මේ ආලෝක, මේ ප්‍රීති කියන දේවල් හටගන්නෙ. හැබැයි මේ කෙලෙස් නැති කරන්න ගිහිල්ලා මේක හටගත්තට, ඒකෙත් තවත් කෙලෙස් ටිකක් තියෙනවා, සියුම් කෙලෙස් ටිකක්. ඒවා තමයි ඒ උපක්ලේශ වලට ඇලෙන එක. ප්‍රීතියට ඇලෙන එක, ප්‍රීතිය හොඳයි කියලා හිතන එක, මේක තමයි නිවන කියලා හිතන එක, මේක ධ්‍යාන කියලා හිතන එක, මේක හරි කියලා හිතන එක, මං හෙව්වේ මේක තමයි කියලා හිතන එක, මේක හැමදාම තියෙනවා නම් කියලා හිතන එක, මට ප්‍රීතිය තියෙනවා අරයට නෑ, මට ආලෝක තියෙනවා අරයාට නෑ, මේ තමයි කෙලෙස් ටික උපක්ලේශ වල තියෙන. ඒ තමයි මේකෙ තියෙන එකම ප්‍රශ්නෙ.

ඉතින් උපක්ලේශයක් කියන්නෙ මේ කෙලෙස් නැති කරන්න ගිහිල්ලා ඇතිවුනු මානසික තත්වයක්නෙ. හැබැයි එහෙමයි කියලා ඒ පුද්ගලයාට කෙලෙස් ඉවරවෙලා ගිහිල්ලා නැහැ. තාම කෙලෙස් තියෙනවා. ඒ නිසා තමයි එයා ඒකට ඇලෙන්නෙ. ඒක තණ්හා දිට්ඨි මාන වශයෙන් අල්ලන්නෙ ඒ නිසයි. නමුත් ගොඩාක් අය හිතනවා මේ ප්‍රීතියේදී එයා මාර්ග ඵල ලැබුවා කියලා. සමහර ගුරුවරු ගෝලයාට ඒ විදියටම කියලත් දෙනවා. ඉතින් එහෙම වුනොත් ගෝලයත් උගුලකට අහුවෙලා ඉන්නෙ. ගුරුවරයාත් උගුලකට අහුවෙලා ඉන්නෙ. දෙන්නම උගුලක ඉන්නෙ. ඒක තේරුම් ගන්න බැහැනෙ ඉතින්. ගෝලයා ගුරුවරයා අදහාගෙන ඉන්නකොට ඉතින් ඒ ගෝලයාට වෙන කෙනෙක් කියලා දුන්නත් ඒක පිළිගන්නෙ නැහැ. මොකද එයා ගුරුවරයා කියලා හිතන් ඉන්න කෙනත් ඒකම කියන නිසා. ඉතින් දෙන්නම බොරු වලකට වැටිලා.

ඉතින් සමහර වෙලාවල් වලදී මේ ප්‍රීතිය කියන තත්වය බලවත් තත්වයට ආවට පස්සෙ යෝගාවචරයන්ගේ තොල් ගැහෙන්න වෙව්ලන්න පටන් ගන්නවා, රෝම කූප නළියන්න පටන් ගන්නවා. ඒවා කෙලින් වෙනවා, රෝම කූප. සමහරුන්ට ශරීරයේ ගොඩාක්

ඉන්ද්‍රියන් තියෙන තැන් සෙලවෙන්න පවා පටන් ගන්නවා. ගොඩාක් තැන් ගැහෙන්න පටන් ගන්නවා, නළියන්න පටන් ගන්නවා මේ බලවත් ප්‍රීතිය ආවට පස්සෙ. ඉතින් ගොඩක් යෝගාවචරයන්ට ඔය ත්‍රිපිටකයේ තියෙන උදාන පාලි වගේ උදාන වාක්‍යය, ප්‍රීතිය සහිත ත්‍රිවිධඉ රත්නය කෙරෙහි ශ්‍රද්ධාවෙන් ගෞරවයෙන් අදහස් පහළ වෙන්න පවා පටන් ගන්නවා මේ බලවත් ප්‍රීතිය ආවහම. එතකොට ඒගොල්ලන්ගේ හිතේ ත්‍රිවිධ රත්නය කෙරෙහි ලොකු විශ්වාසයක් ඇතිවෙනවා. තමන් කරගෙන යන භාවනා ක්‍රමය ගැන හොඳ විශ්වාසයක් එනවා. එහෙම ඉස්සරහට කරගෙන යන්න පුලුවන් යෝගාවචරයාට. යෝගාවචරයාට ගුරුවරයාගෙන් හොඳ මඟපෙන්වීමක් ඕනෙ එතනදි. මේ ප්‍රීතිය කියන එක ධ්‍යානයක්, මාර්ගඵලයක් කියලා වැරදි පාරට දාලා දුන් නැත්නම් මේක උපක්ලේශයක් කියන මේ උපක්ලේශය කඩලා දුන්නොත් යෝගාවචරයාට ඒ විදියට විශ්වාසයෙන් ඉස්සරහට යන්න පුලුවන්කම ලැබෙනවා. ඒ නිසා මේ තත්ව මේ ධ්‍යානවත් මාර්ගඵලවත් නෙවෙයි. අපි උගුලකට අහුවෙන්න තියෙන බොරු වලකට වැටෙන්න තියෙන එක කඩුල්ලක්. ඉතින් ඒක දැනගෙන යන්න ඕනෙ. එහෙම නැත්නම් ගුරුවරයාට නොවලහා තමන්ගේ තත්වයන් හෙළි කරන්න ඕනෙ. ගුරුවරයා කියලා දෙන දේ සැර කලත්, බැන්නත් ඒක පිළිගන්න පුලුවන් වෙන්න ඕනෙ.

ඉතින් මම දැක්කා කලින් වීඩියෝ එකෙන් පස්සෙ ගොඩක් අය comment කරලා තිබුනා, මෙහෙම දොස් කියනවා නම් ගුරුවරයෙක් වෙන්න පුලුවන්ද, එයාගේ මෛත්‍රියක් තියෙනවාද, මතක තියාගන්න මේ සාමාන්‍ය සම්ප්‍රදායානුකූල ධර්මය ඉගෙන ගෙන ඒකෙ මේ කියලා දෙන මෛත්‍රිය වගේ එකක් නෙවෙයි ගුරුවරු ගාව තියෙන්නෙ. භාවනාව දියුණු වෙච්චි අය ගාව තියෙන්නෙ. මිනිස්සු භාවනාවක් කියන එකට බහින්නෙවත් නැතිව භාවනාවක් කියන්නෙ මොකක්ද, හිතක් හදන එකක් මොකක්ද කියලා දන්නෙවත් නැති අය තමයි මේ භාවනා කරන අය ගැන විවේචන අදහස් ප්‍රකාශ කරන්න පටන් ගන්නෙ. හොඳට මතක තියාගන්න තමන් රැස් කරගන්න කර්මය එසේ මෙසේ එකක් එහෙම නෙවෙයි. මේ ලෝකෙ අපි කරන බලවත් කර්ම තියෙනවා, ගරු කර්ම තමයි බලවත්ම. ආනන්තර්ය කර්ම ගණයට අයිතියි. ඒකෙ මේ බණ භාවනා කරන විශේෂයෙන් හිතක් හදන්න යන කෙනෙකුට කිසිවක් නොදැන විවේචනය කරන එක තමයි මම දකින ලොකුම බලවත්ම කර්මය තමන් හිතක් හදන්න ගිය දවසට ලේසි වෙන්නැහැ කියන එක හොඳට මතක තියාගන්න. මොකද මේ අද සමාජ මාධ්‍යය නිසා ඕන අතකට දිවට ඇටකටු නැහැනෙ. දිව නැවෙන නැවෙන පැත්තට කතා කරනවා, ගොඩාක් අය බලන්නෙම අනුන්ගේ වැරැද්දක් හොයන අදහසින් තමයි අද බණ අහන්නෙත් මිනිස්සු. තමන් මේ පදනමක ඉඳලා නෙවෙයි විවේචනය කරන්න යන්නෙ.

ඒ නිසා තමන් යම් ක්ෂේත්‍රයක් ගැන විවේචනය කරන්න හෝ අදහස් පහළ කරන්න හෝ යනවා නම් ඊට කලින් තමන් ඒ ක්ෂේත්‍රය අත්දැකලා ඉන්න. අත්හදා බලලා ඉන්න. ඒ ක්ෂේත්‍රය පරිශීලනය කරලා ඉන්න. අපි අත්නොදැකපු විෂයක්, අපි ඉගෙන ගත්තු නැති විෂයක්, අපි ප්‍රායෝගිකව අත්නොදැකපු විෂයක් ගැන අපි කොහොමද අදහස් පහළ කරන්නෙ. ඉතින් ඒක මේ භාවනාව ගැන ඕනෙ නැහැ, නිකං මේ ලෞකික ජීවිතේ අපි ස්කෝලෙ යන කාලෙ අපි ඉගෙන ගන්න විෂයන් තියෙනවා. විශේෂයෙන් අපි උසස් පෙළදි අපිට විෂය ධාරාවන් තියෙනවා තෝරගන්න. එතකොට අපි හිතමු bio-science කරපු කෙනෙක් ඉගෙනගත්තු එයාගේ දැනුම ගැන commerce කරපු කෙනෙක් කොහොමද අදහස් ප්‍රකාශ කරන්නෙ. මොකද එයා bio-science ගැන දන්නෙම නැහැ. අන්න ඒ වගේ දෙයක් තමයි මේ අද වෙලා තියෙන්නෙ. දවසකට එක විනාඩි පහක් භාවනා කරන්නැහැ. හැබැයි භාවනා ගුරුවරු ගැන තමයි විවේචනය කරන්න යන්නෙ. අදහස් ප්‍රකාශ කරන්න

යන්නෙ. ඒ නිසා තමන් ඉස්සෙල්ලා ඒ දේ කරලා ඉන්න. එහෙම නැත්නම් තමන්ට රැස් වෙන කර්මය ගෙවාගන්න ලේසි වෙන්නැහැ. ඒක හොඳට මතක තියාගන්න.

අපි මේ විපස්සනා භාවනාවක් කියලා කලාට අද භාවනා කලාට මේවයේ රැස් වෙන කර්ම වලට ඒ අදාළ ගුරුවරුන්ගෙන් සමාව නොගන්නා තාක් කල් තමන්ගේ වරද පිළිනොගන්නා තාක් කල් තමන්ට ඒ කර්මය ගෙවන්න වෙනවා. ඒ නිසා බොහොම පරිස්සමින් විවේචනය කරන්න, අදහස් ප්‍රකාශ කරන්න. දන්නෙ නැති ක්ෂේත්‍ර ගැන අදහස් ප්‍රකාශ කරන්න යන්න එපා. දන්නැත්නම් අදහස් ප්‍රකාශ කරන එක පැත්තකින් තියලා තමන් ඒ ක්ෂේත්‍රය අධ්‍යයනය කරන්න. ඒකට බැහැගන්න. ඒක පුහුණු වෙන්න. ඊටපස්සෙ ඔයාලට තේරෙයි මොකක්ද මේ කියන්නෙ, ඊටපස්සෙ සුහදව මේ ගැන අදහස් හුවමාරු කරගන්න පුලුවන්. එහෙම නැතිව මේ මතුපිටින් බලලා පොතේ දැනුමත් කරේ තියාගෙන, සමහරවිට හරියට පොතේ දැනුමත් නැහැ. එහෙම තියාගෙන මේවා ගැන විවේචනය කරන්න එපා, ඔයගොල්ලන්ට රැස්වෙන කර්මය ඔයගොල්ලන්ට ගෙවාගන්න ලේසි වෙන්නෙ නැහැ. ඒකත් හොඳින් මතක තියාගන්න.

ඉතින් අද අපි මේ ප්‍රීතිය ගැන කතා කලේ. අපි ඊළඟ උපක්ලේශය ගැන ඊළඟ වීඩියෝ එකෙන් කතා කරමු. තෙරුවන් සරණයි!

39) [විපස්සනා උපක්ලේෂ- පස්සද්ධිය | සම්මා සමාධිය | right concentration | @alokaalighttolife]

තෙරුවන් සරණයි! අද අපි කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනය ගැන. අපි මේ වෙනකොට කතා කරගෙන එන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයට අදාළ සම්මා සමාධියේ දේශනා ටිකක්. ඒ කියන්නෙ විපස්සනා උපක්ලේශ ගැන. අපි මේ වෙනකොට විපස්සනා උපක්ලේශ දෙකක් ගැන කතා කරලා තියෙනවා. අද තියෙන්නෙ තුන්වෙනි එක, ඒ තමයි පස්සද්ධිය කියන උපක්ලේශය. මේක ගැන ටිකක් තේරුම්ගන්න ටිකක් අපහසුයි. මොකද මේ පස්සද්ධියයි, මීට කලින් අපි කතා කරපු ප්‍රීතියයි මේ දෙක නිකන් එකක් වගෙයි දැනෙන්නෙ. සමාන ගති ලක්ෂණ වගේ තියෙන්නෙ. නමුත් මේකෙ වෙනස්කම් තියෙනවා. අපි චුට්ටක් බලමු උපමාවක් අරගෙන. අපි හිතමු ඔයා ගොඩාක් දුර ගමනක් ගිහිල්ලා තියෙනවා අව්වේ හෙවනකුත් නැහැ, කුඩේකුත් නැතිව අව්වේ ලොකු ගමනක් ගිහිල්ලා තියෙනවා. ඉතින් මේ අව්වෙ ගිහිල්ලා දැන් වතුර තිබහකුත් තියෙනවා. එතකොට දැන් ඔයාට වතුරත් ඕනෙ, හෙවණකට යන්නත් ඕනෙ, මෙහෙම මානසිකත්වයකින් යද්දි හෙවණක් දකිනවා. ඒ කියන්නෙ ගහක් හරි මොකක්හරි හෙවණක් දකිනවා. ඒක දකිනකොටම මොන වගේ හැඟීමක්ද තමන්ගේ හිතේ ඇතිවෙන්නෙ කියලා බලන්න. එතකොට ඇතිවෙනවා හිතේ හරි ප්‍රමුදිත ගතියක්. පාමොජ්ජය කියලා කියන්නෙ ඒකට. ඒ හිතට හරි සහනයක් වගේ දැනෙනවා. ඊටපස්සෙ මේ හෙවණට ඇතුල් වෙනවාත් එක්කම එතන ලොකු ප්‍රීතියක් එනවා, ඒක ප්‍රීතිය. ලොකු සතුටක් එනවා, ශරීරය නිමෙන්න ගන්නවා. හරි සැපයක් ඇතිවෙනවා. එතකොට ඒ ප්‍රීතිය ඒ හෙවණට ඇතුල් වෙනකොටම තමයි ඒක එන්නෙ. ඊටපස්සෙ ඒ හෙවණෙ ටිකක් වෙලා ඉන්නකොට වතුරත් බීලා පවස නිවාගෙන ඉන්නකොට ප්‍රීතිය වැඩිවෙනාවා, එතකොට එනවා පස්සද්ධිය කියලා එකක්. ප්‍රීතියේ තියෙන්නෙ හරි පිබිදෙන මානසිකත්වයක්. නමුත් මේ පස්සද්ධිය කියන එක ප්‍රීතියට වඩා වැඩි තත්වයක්.

එතකොට පස්සද්ධිය කියන මේ මානසික තත්වය ආවට පස්සෙ චෛතසික, සිත, කය මේවා හරියට සැහැල්ලු වෙනවා. හරිම මෘදුයි. සිතේ ඇතිවෙන මේ මානසික ස්වභාවය අපේ කයටත් බලපානවා, ඒක හිතටත් බලපානවා මේ චෛතසික ස්වභාවය නිසා. එතකොට ගොඩාක් අය මේක වරදවා තේරුම් ගන්නවා මේ අභිධර්මයේ තියෙනවානෙ කාය පස්සද්ධි, චිත්ත පස්සද්ධි කියලා චෛතසික දෙකක්. එතකොට මේ කාය පස්සද්ධි කිව්වහම ගොඩක් අය හිතන් ඉන්නෙ ශරීරයේ ඇතිවෙන සැහැල්ලුවක් කියලා. නෑ ඒක එහෙම එකක් නෙවෙයි, කාය පස්සද්ධි කියන්නෙත් චිත්ත පස්සද්ධි කියන්නෙත් චෛතසික ධර්ම දෙකක්, ඒවා ඇතිවෙන්නෙ මනසේ මිසක් ඒවා කයට අදාළ දේවල් නෙවෙයි. හැබැයි මනසේ හටගන්න මේ පස්සද්ධිය නිසා ඒක කයටත් දැනෙන්න පුලුවන්. හිතේ ඇතිවෙන මේ සැහැල්ලු ගතිය නිසා තමයි ශරීරය සැහැල්ලු වෙන්නෙ.

එතකොට මෙතනදි ඔබ දැනගන්න ඕනෙ විශේෂ දෙයක් තියෙනවා. අමතර කාරණයක් විදියට මම මේක ඉදිරිපත් කරන්නෙ. හිතේ ඇතිවෙන ස්වභාවයක් විදියටනෙ අපි මේ උපක්ලේශ මේ චෛතසික ධර්ම හඳුන්වන්නෙ. මේවා හිතේ ඇතිවෙන ස්වභාව. එතකොට මේවට කියන්නෙ හිතේ ඇතිවෙන ගති. එතකොට මේ හිතේ ඇතිවෙන ස්වභාවයන් සහ හිත කියන්නෙ දෙකක්. එතකොට මේ හිතේ ඇතිවෙන ස්වභාවයන් හිතේ ඇතිවෙන ගති, හිතේ ඇතිවෙන එක්තරා ස්වභාව මොනවද ඒවට තමයි අපි ඔය චෛතසික ධර්ම කියන්නෙ ශ්‍රද්ධාව, වීර්යය, ඉවසීම, ප්‍රීතිය, උපෙක්ෂාව, මෛත්‍රිය මේ දේවල් හිතේ ඇතිවෙන ගති. එතකොට ඒ ගති ටිකක් එකට එකතු වෙලා තමයි හිත කියන එක නිර්මාණය වෙන්නෙ. අපි මේකට උපමාවක් අරගෙන බලමු. දැන් අපි තේ එකක් හදනවානෙ, තේ බොනවානෙ. එතකොට මේ තේ එක හදන්න තේ කොළ ඕනෙ, සීනි ඕනෙ, උණුවතුර ඕනෙ, තැම්බෙන්න අරින්න ඕනෙ ඒකට තමයි අපි තේ එක කියලා කියන්නෙ. එතකොට අපි තේ එක හදද්දි ඒක හදන්න භාජනකුත් ඕනෙ, ඒක දාන්න කෝප්පෙකුත් ඕනෙ. දැන් අපි හිතමු මේ තේ එක කෝප්පෙකට දාලා තියෙනවා කියලා. කෝප්පෙ හිත නම්, මේ තේ එක කියන තේ කෝප්පෙ කියන එක හිත නම් චෛතසික ටික තමයි මේ කෝප්පෙට දාන දේවල් ටික. චෛතසික ටික වෙනම එකක්, කෝප්පෙ වෙනම එකක්, හැබැයි තේ එක කියන එක වෙන් කරන්න බැහැ. කොප්පෙ වෙන් කලත් තේ එකක් වෙන්නෙ නැහැ. අර තේ කියලා දාපු තේ කොළ, සීනි, වතුර ටික වෙන් කලත් තේ එකක් වෙන්නෙ නැහැ. තේ එකක් වෙන්න නම් කෝප්පෙකුත් ඕනෙ, ඒකට මේ තියෙන කළමනා ටික දාන්නත් ඕනෙ. එතකොට තමයි ඒක තේ එක වෙන්නෙ.

අපි තව උපමාවක් අරගෙන බලමු. අපි හිතමු පිරිසිදු වතුර වීදුරුවක් තියෙනවා. ඒ වීදුරුවට වතුර හොඳටම පුරවලා තියලා තියෙනවා. පිරිසිදු වීදුරුවක්, ඉතාම පිරිසිදුයි, වතුරත් ඉතාම පිරිසිදුයි. මේ දෙකම පිරිසිදු වුනාම අපිට වතුර හරියට පැහැදිලිව පේන්නෙ නැහැනෙ. එතකොට හිත කියන්නෙ මේ වීදුරුව වගේ නම් ඒ වීදුරුව ඇතුලේ තියෙන වතුර ටික තමයි හිතේ ස්වභාවයන්, හිතේ ගති. එතකොට මේ හිතේ ගතියක් අපිට පේන්නෙ නැහැ. එකපාරට පේන්නෙ නෑ, සිත කියන එක අපිට පේන්නෙ නැහැ, පේන්න නම් සිතේ ගතියක් එළියට එන්න ඕනෙ. හිතේ ගති එළියට ගන්න නම් ඒකට අරමුණක් එන්න ඕනෙ. සිතේ ගති එළියට ගන්න පුලුවන් වෙන්නෙ අරමුණක් ආවම. ඒ කියන්නෙ මේ වතුර තියෙනවා කියලා පේන්න හරියට නිකං මේකට පාට වර්ග මොනවහරි දාන්න ඕන වගේ. දම්පාට හරි මොනවහරි දැම්මොත් ඒක දම් පාට වෙනවා. රතුපාට දැම්මොත් රතුපාට වෙනවා. ඒ වගේ තමයි අපේ හිත පේන්න ගන්නේ ඔය ගතියක් හිතට වැටෙනකොට. මොකක්හරි ස්වභාවයක් හිතට වැටෙනකොට. එතකොට ඒ සිතේ ගතිය එතන හටගන්නකොට ඒකට අපි හිත කියලා කියනවා, හිත පේන්නෙ එහෙමයි. එහෙම හිතේ

ස්වභාවයක් ගතියක් එළියට ආවෙ නැත්නම් අපිට හිත කියන එක පේන්නෙ නැහැ. අපි හිතමු නිකං අපිට රාගයක් ආවා කියලා. රාගය කියන එක නිකං එන්නෙ නැහැනෙ. ඒකට අරමුණක් ඕනෙ. එතකොට මොකක්හරි අරමුණක් ආපු ගමන් අරමුණක් ගැටිච්ච ගමන් තමා අර හිත නිකං පාට කලා වගේ, වතුර එක පාට කලා වගේ ඒක පේන්න ගන්නෙ. ඒ වගේ හිත එළියට එන්නෙ ඒ රාගය හටගන්න හේතුවුනු අරමුණ හරහා රාගය එනවා, එතකොට තමයි හිත කියන එක අපිට පේන්න ගන්නෙ.

ඉතින් අන්න ඒ වගේ දේවල් තමයි මේ පස්සද්ධිය ප්‍රීතිය කියන්නෙ, සිතේ ස්වභාවයන්. ඒ සිතේ හටගන්න ස්වභාව අනුව කයේ සහනයක් දැනෙන්න පුලුවන්. ඒ නිසා මේ කාය පස්සද්ධිය කියන්නෙ කයේ සැහැල්ලුව නෙවෙයි. ඒකෙ තියෙනවා ගොඩාක් ගැඹුරු අර්ථකතන. එතකොට මේ පස්සද්ධිය කියලා කියන්නෙ ප්‍රීතිය නිසා හටගන්න තත්වයක්, චෛතසික ස්වභාවයක්. ප්‍රීතියේ ප්‍රතිඵලයක් කියලා කිව්වත් ඒක වැරදි නැහැ. මොකද ඒක ප්‍රීතියට වඩා ගොඩක් වැඩියි. එතකොට මේ අපි හිතමු කාගෙහරි විපස්සනා යෝගාවචරයෙකුගේ හිතේ ප්‍රීතිය උපක්ලේශයක් විදියට ආවා කියලා. සමහර වෙලාවට ප්‍රීතිය උපක්ලේශයක් විදියට ආවොත් එයාට පස්සද්ධිය උපක්ලේශයක් වශයෙන් එන්නෙ නැතිවෙන්න පුලුවන්. එතකොට එයා ප්‍රීතියට රැවටුන් නැත්නම් සමහරවිට පස්සද්ධියට රැවටෙන්න පුලුවන්. එතකොට යෝගාවචරයා වෙන විදියකට රැවටෙනවා. ඒකටත් රැවටුන් නැත්නම් තව ඉස්සරහට තවත් උපක්ලේශ තියෙනවා, ඒ මොකකින් හරි රැවටෙනවා. එතකොට මේ පස්සද්ධිය කියන මානසික ස්වභාවය නිසා ඇත්තටම කයේ සැහැල්ලුවක් දැනෙනවා. කය හරියට, සමහර යෝගීන් කියන්නෙ පාවෙනවා වගේ දැනුනා, පුළුන් වගේ වුනා ඔව් ඒ වගේ සැහැල්ලු ස්වභාවයක් දැනෙනවා.

මේ පස්සද්ධිය කියන මානසිකත්වය ආවට පස්සෙ අපි දැන් බිම ඉඳගෙන හිටියාම අපි දැන් බිම ඉඳගෙන ඉන්නවා කියලාවත් තේරෙන් නැහැ. ඒ කියන්නෙ අපේ කය පොළොවේ ස්පර්ශ වෙලා තියෙනවා කියලා තේරෙන් නැහැ. හැබැයි ස්පර්ශ වෙලා තියෙන්නෙ. ඒ වුනාට කය කොච්චර සැහැල්ලුද කියනවා නම් ඒක දැනෙන්නෙ නැහැ. ඉතින් මේක ප්‍රීතියටත් වැඩිය උසස් දෙයක් නිසා, කියන්නෙ හොඳට දැනෙන දෙයක් නිසා ප්‍රීතියටත් වඩා වැඩියෙන් දැනෙන නිසා මේ පස්සද්ධිය ආවහම ගොඩාක් යෝගීන් කියනවා, හිතනවා තමන් ධ්‍යානයක් ලැබුවා නැත්නම් මාර්ග ඵලයක් ලැබුවා කියලා. නැත්නම් සමහර අය කියනවා මේ පස්සද්ධිය කියන එක මෙහෙම නම් මාර්ගඵල ලැබුවහම කොහොම වෙයිද කියලා, ඔය වගේ කටමැත දොඩවන අවස්ථාත් තියෙනවා.

එතකොට සමහර යෝගීන් කියනවා මට නාමරූප ගැන හොඳ වැටහීමක් ආවා, අවබෝධයක් ආවා, මේ වගේ කටමැත දොඩාගෙන එනකොට හොඳ ගුරුවරයා නම් කරන්නෙ මේවා ගැන තේරුමක් තියෙන ගුරුවරයා නම් කරන්නෙ හොඳ කණේ පාරවල් ටිකක් ගහලා, හොඳ පොලු පාරවල් ටිකක් දීලා යෝගියාට මේ ඉන්න තත්වෙන් පහළට ගන්න ඕනෙ. ඒ කියන්නෙ අතින් ගහනවා කියනවා එක නෙවෙයි, කණ හරහා අතින් ගහනවා කියන එක නෙවෙයි. එයාගෙ ඒ අදහස් ටික කැඩිලා යන විදියට යෝගියාට කතා කරන්න යෝගියාට උපදෙස් දෙන්න එයා හරි කමටහන ශුද්ධ කරලා දෙන්න දක්ෂ ගුරුවරයා දැනගන්න ඕනෙ. හැබැයි වර්තමාන කාලෙ ගොඩාක් ගුරුවරු මේකට හොඳට පොහොර දාලා එයාව උඩින් තියනවා, ඉතින් යෝගාවචරයා මේ අහුවෙලා ඉන්න උගුල හොඳ දෙයක්, ඇත්තක් විදියට කියනවා. යෝගියාට හොඳ තැනක් දෙනවා. ඉතින් භාවනා පන්තිවල ඔක දුනහම අන්තිමේදී ගුරුවරයාත් අමාරුවෙ වැටිලා ගෝලයත් අමාරුවෙ වැටිලා. හැබැයි මේ උපක්ලේශ මට්ටමට ආවහම යෝගාවචරයෙක් ගුරුවරයා සෑහෙන තදින් ඉන්න ඕන, මොකද තදින් හිටියේ නැත්නම් යෝගාවචරයා මේක පිළිගන්නෙ නැහැ.

බොළඳ ගුරුවරුන්ට මේක කරන්න බැහැ. බොළඳ ගුරුවරු මේකට ගොඩාක් අහුවෙනවා. සම්ප්‍රදායට යටවෙලා ඉන්න, සම්ප්‍රදායානුකූල විදියට ගුරුවරයෙක් කියන්නෙ කවුද, මාර්ගඵල ලාභියෙක් කියන්නෙ කවුද කියලා හිතාගෙන ඉන්න කෙනෙකුට මේක කරන්න බැහැ.

එතකොට මොනවා හරි තමන්ට ලාභ සත්කාර සම්මාන ගන්න කැමැති ගුරුවරයෙකුට නම් මේවා තමයි හොඳම ආයුධ. මොකද මේකට හොඳට උඩින් තියලා මුරුංගා අත්තෙ තියලා කතා කරපු ගමන් මිනිස්සුන්ටත් ඕනෙ මෙහෙම දේවල්නෙ. එහෙම එකක් බලාගෙනනෙ ගොඩක් අය භාවනා කරන්නෙ, මොකක් හරි certificate එකක් ගන්න. මොකක් හරි හොඳ දෙයක් බලාගෙනනෙ. ඉතින් මේකට හොඳට පොහොර දාලා කතා කරාම හොඳට ඉතින් ලාභ සත්කාර සම්මාන හම්බෙනවා, වැඳගෙන එනවා පුදගෙන එනවා. මේක හොඳ ආහාරයක් එහෙම ගුරුවරුන්ට ලාභ සත්කාර පිණිස. හැබැයි දක්ෂ නියම ගුරුවරයෙක් කවදාවත් එහෙම කරන්නෙ නැහැ. හැම වෙලේම හතර අතින් කණ හරහා දීලා මේවයේ තියෙන දරුණුකම කියාදීලා මේවයින් යෝගාවචරයා ගලවගන්න උත්සාහ කරනවා.

ඉතින් මේ ප්‍රීති පස්සද්ධි කියන ඒවා ඇත්තටම ගොඩක් දරුණුයි. අපි මීට කලින් කතා කරපු ඒවට වැඩිය. මොකද අපේ මනසට මේ දෙක දැනුනහම ඒක කයටත් දැනෙන්න ගන්නවා. ඒ සහනයට යෝගාවචරයො සෑහෙන්න ආස කරනවා. ඒක සෑහෙන්න සහනයක් නිසා. මීට පස්සෙ එන, මේකෙන් පස්සෙ එන උපක්ලේශ මීටත් වඩා බරපතලයි, දරුණුයි. ඉතින් සමහර භාවනා පොත් වල මේවා විපස්සනා ධ්‍යාන විදියටත් කියලා දෙනවා. එහෙම විපස්සනා ධ්‍යාන නෙවෙයි මේවා. ඒක නියම මාර්ගයත් නෙවෙයි. හැබැයි මේක තේරෙන්නෙ නැහැ, ගුරුවරයාට තේරෙන්නෙත් නැහැ, සමහරවිට යෝගාවචරයාට තේරෙන්නෙත් නැහැ. ඉතින් ගොඩක් අයට මේකට රැවටිලා ඉන්න කෙනා මේක කැඩෙනවානෙ, උපක්ලේශ කියන එක හැමවෙලේම තියෙන්නෙ නැහැ, ප්‍රීතිය පස්සද්ධිය කියන එක හැමවෙලේම තියෙන්නෙ නැහැ, මේක අනිත්‍ය ධර්මතාවයක්, ඒක නැතිවෙලා යනවා. එතකොට තමයි මේ යෝගාවරයාට තේරෙන්නෙ, දැන් මේකට රැවටිලා හිටපු කෙනාට මේක පිළිගත්තෙ නැති කෙනාට තේරෙනවා ප්‍රීතිය පස්සද්ධිය නැතිවෙලා ගියහම තේරෙනවා, හැබැයි ලැජ්ජාවට මේක භාරගන්නෙ නැහැ. එතකොට මාන්නක්කාරකම නිසා උඩින් තියාගෙන පුම්බගෙනනෙ හිටියෙ. ඒ නිසා දැන් බාරගන්නත් ලැජ්ජයි, ආ මේක උපක්ලේශයක්, තමන් මෙහෙම පල්ලෙහා තැනකට වැටුනා කියලා. ඇත්තටම මේක තියෙන්නෙ නැහැ වැඩි වෙලාවක්. වැඩිවෙලාවක් කියන්නෙ කාලයක් සමහරවිට තියෙන්න පුලුවන් තමන්ගේ භාවනාවේ පෙරහුරුවත් එක්ක කාලයක් තියෙන්න පුලුවන් හැබැයි ස්ථිරව තියෙන් නැහැ. මේවා ඔක්කොම වෙනස් වෙලා යනවා. පල්ලෙහාට වැටෙනවා. එතකොට අර තමන් නමක් හදාගෙන හිටියොත් ඒ වෙනකොට මේකට රැවටිලා හිටියොත් වැටුනට පස්සෙ සෑහෙන මානසිකව පල්ලෙහාට වැටෙනවා, මාන්නක්කාර කම නිසා පුම්බගෙන හිටපු නිසා බාරගන්නෙත් නැහැ. ඉතින් එතනින් එහාට එයාගේ සම්පූර්ණ යෝගාවචර ජීවිතේ වරදිනවා. හරි පාරෙ නෙවෙයි යන්නෙ.

සමහර යෝගාවචරයන්ට මේ පස්සද්ධි මට්ටමේ තමන් නිකන් අහසේ පාවෙනවා වගේ, අහසේ ඉන්නවා වගේ දැනෙනවා. සමහර යෝගාවචරයො එහෙම කියනවා. එතකොටත් ගොඩක් අය හිතනවා ඒක දැනෙන්නෙ ධ්‍යානයක් මාර්ග ඵලයක් ලබපු හින්දා කියනවා. ඇත්තටම නම් ධ්‍යාන මාර්ගඵල ලබපුවාම එහෙම දේවල් වෙන්නෙ නැහැ. ඒවා හරි වෙනස් මානසික තත්ව, අපේ ඔළුවට ඒවා දාගෙන තියෙනවානෙ අපි. ධ්‍යානයක් මාර්ගඵලයක්

ලැබුවහම මෙන්න මෙහෙම වෙන්න ඕනෙ කියලා. ඉතින් ඒක බලාගෙන යන්නෙ, ඉතින් ඒක ලැබුවහම හිතනවා ගොඩක් අය හරි එහෙනම් මම ගොඩ ගියා තමයි කියලා. මේ වගේ තැන්වල මේ වගේ මානසික තත්වයකට ආපු යෝගාවචරයා සම්පූර්ණයෙන්ම නොමග යනවා ඒ වගේ අදහස් තියෙන අය. මොකද එයාලා කලින් ඔළුවට දාපු concept එක තමයි දැන් වෙලා තියෙන්නෙ. ඉතින් එයාලා label එකක් ගහගන්නවා හරි කියලා.

හැබැයි මතක තියාගන්න මේ මානසික තත්ව හටගන්නෙ ඇත්තටම එයා නිවැරදිව භාවනා පුහුණුව කරපු හින්දයි. Practically එයා හරියට වැඩේ කරලා තියෙනවා. සතිපට්ඨානය හරියට වැඩිලා තියෙනවා, විපස්සනාව හරියට වැඩිලා තියෙනවා. ඒ නිසා තමයි මේවා හටගන්නෙ. මෙතනින් එහාට තමයි එයා වරද්ද ගන්නෙ. ඒ නිසා ගුරුවරයා දැනගන්න ඕනෙ, ගෝලයාව ඒ උපක්ලේශවලින් අයින් කරවන්න. හැබැයි දැන් ඉන්න ගොඩාක් ගුරුවරු කලින් කිව්වා වගේ මේක ස්ථිර කරලා දෙනවා, මේක තහවුරු කරලා දෙනවා, මේක ගොඩාක් කල් අවුරුදු ගණන් සමහර වෙලාවට මේ තත්ව තියෙන්නත් පුලුවන්. හැබැයි යෝගාවචරයාත් ගුරුවරයා මේක දැඩිව කියලා දුන්නොත්, මේක තදින් කියලා දුන්නොත් යෝගාවරයාටත් කලින් සුතමය ඥාණය තිබ්බොත් තමයි ගුරුවරයා මේ තදින් කියලා දෙන දේ තේරෙන්නෙ. නැත්නම් යෝගාවචරයා හිතනවා මේ ගුරුවරයා මට තියෙන ඊර්ෂ්‍යාවට තරහට තමයි මේක කරලා තියෙන්නෙ, මේ කියන්නෙ මෙච්චර සැර කරන්නෙ මගේ ගුරුවරයා මෙහෙම තැනකට ගිහිල්ලා නැහැ, ඒ නිසා වෙන තැනකට යන එක හොඳයි කියලා ඒ ගෝලයා නොමඟ යනවා.

ඒ නිසා මේ විපස්සනා ගුරුවරු ඇත්තටම තදයි. මේ ලෝකෙ ඉන්න ඕනෙ විපස්සනා ගුරුවරයෙක් ඕනම කෙනෙකුට මම අභියෝග කරනවා ගිහිල්ලා ඕනෙම විපස්සනා ගුරුවරයෙක් මුණගැහිලා ආශ්‍රය කරලා බලන්න, හැම විපස්සනා ගුරුවරයෙක්ම ඉතා දැඩි චරිත, තද චරිත. ඇයි ඒ? යෝගාවචරයෙකුට හරි පාර පෙන්නලා දෙන්න බැහැ ඒ දැඩි ගතිය නැත්නම්. හැමතැනම එයා උගුල්වලට අහුවෙනවා, කණ හරහා ගහලා තමයි හරි පාරට ඇදලා ගන්න ඕනෙ. මොකද ගොඩක් අය වර්තමානයේ සියයට අනූනවයක්ම භාවනා කරන්න එන්නෙ අර වගේ සැපදායී දේවල් හොයාගෙනනෙ. ඉතින් ඒක හම්බ වුනාම ඒගොල්ලො රැවටෙනවා. එයාලා හිතනවා ඒක තමයි හරි තැන. ආ මේ තමයි කෙලවර. නෑ ඒක නෙවෙයි, ඒක තමයි ඔක්කොටම වැඩිය මරුගුලක්. ඉතින් ඒ නිසා විපස්සනා ගුරුවරු තදයි, සැරයි. එතකොට ගුරුවරයා එහෙම තදින් ඉදලා ගෝලයාව, යෝගාවචරයාව හරි පාරට ඇදලා ගන්න ඕනෙ.

මේ වගේ මානසික තත්ව අවුරුදු ගණන් තහවුරු වෙලා තිබුනොත් එහෙම, එයා හිතනවා නම් මම ධ්‍යානයක් ලබලා මාර්ගඵලයක් ලබලා කියලා ඊටපස්සෙ ඔන්න අනිත් අයට භාවනා උපදෙස් දෙන්න පටන් ගන්නවා, ඊටපස්සෙ centre එකක් දාගන්නවා. ඊටපස්සෙ එයත් ඉවරයි, එතෙන්ට එන අයත් ඉවරයි. මොකද එතෙන්ට අන අයත් මේ ප්‍රීතිය හෝ පස්සද්ධිය කියන උපක්ලේශයකට අහුවුනාට පස්සෙ ඉතින් මේ ගුරුවරයා label ගහලා දෙන්නෙ සෝවාන් වුනා කියයි, සකදාගාමී වුනා කියයි, අනාගාමී වුනා කියයි, රහත් වුනා කියයි, ධ්‍යාන ලැබුවා කියයි, අද අපේ රටේ වැහි වැහැලා ඉන්නවානෙ එහෙම අය. ඒ වගේ දේවල් තමයි ඔය වෙලා තියෙන්නෙ. ඉතින් අපි අද කතා කලේ පස්සද්ධිය කියන විපස්සනා උපක්ලේශය ගැන. අපි ඊළඟ වීඩියෝ එකෙන් ඊළඟ උපක්ලේශය ගැන කතා කරමු. තෙරුවන් සරණයි!

40) සම්මා සමාධිය තුළ සැඟවුණ කෙලෙස් | විපස්සනා උපක්ලේශ - 4 | Mindfulness meditation |@alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අද කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනය. අපි මේ වෙනකොට කතා කරගෙන එමින් ඉන්නෙ විපස්සනා උපක්ලේශ ගැන. විපස්සනා උපක්ලේශ දහයක් තියෙනවා කියලා අපි කලින් සඳහන් කලා. ඉතින් අද තියෙන්නෙ අපිට ඒ විපස්සනා උපක්ලේශ පාඩමේ ඊළඟ එක, ඒක තමයි අධිමොක්කය කියලා කියන්නෙ. අධිමොක්කය කියලා කියන්නෙ මේ තමන් කරන භාවනාව ගැන ගුරුවරයා ගැන ඇතිවෙන බලවත් විශ්වාසය. හෙමින් ඉවසීමෙන් අහගෙන යන්න. මේක උපක්ලේශයක් බවට පත්වෙන්නෙ කොතනදිද කියලාඉ අපි දැනගන්න ඕනෙ. මේක ආවට පස්සෙ මේක කඩන්න හරිම අමාරු තත්වයකට වැටෙනවා මොකද අධික විශ්වාසයක් එක්ක මේක යන්නෙ. එතකොට හිතෙනවා මම කරන විපස්සනාව තමයි හරියටම හරි. මගේ ගුරුවරයා තමයි හරියටම හරි. ඒ හින්දා මමත් හරිම පාරෙ තමයි යන්නෙ. මේක හැර වෙන කිසිම එකක් ඇත්තෙ නැහැ කියලා අර තමන් කරන ක්‍රමය ගැන ගුරුවරයා ගැන තමන් ගැන ඇතිවෙන අධික විශ්වාසයට තමයි මේ උපක්ලේශය කියලා කියන්නෙ. එතකොට මෙතනදි හිතනවා මේ යෝගාවචරයා මේ අධිමොක්කය නිසා තමන්ගේ ධර්ම දැනුම, තමන්ගේ ගුරුවරයා, තමන්ගේ භාවනා ක්‍රමය මේ භාවනා ක්‍රමය කරන අය ඒගොල්ලො තමයි සියයට සීයක්ම හරි, අනිත් ගුරුවරුත් වැරදියි, අනිත් භාවනා ක්‍රමත් වැරදියි කියලා ඒවා සියල්ලම පහත් කරලා තමයි කතා කරන්නෙ. ඒවා ගැන ඒවායේ හරි බවක් නිවැරදි බවක් තියෙන්න විදියක් නෑ කියන තැන ඉඳගෙන තමයි කතා කරන්නෙ.

එතකොට මේ අධිමොක්කය කියන උපක්ලේශය ඇත්තටම කඩන්න ඉතාම අපහසු උපක්ලේශයක්. මොකක් හරි ලොකු කලබලයක්, ලොකු කලබැගෑනියක්, ඇවිස්සිල්ලක් වෙලා තමයි ගොඩක් වෙලාවට මේක කැඩිලා යන්නෙ. මොකද ඒ කලබලය ඇවිස්සිල්ල ආවෙ නැත්නම් එයාට තේරෙන්නෙ නැහැ එයා ඉන්නෙ උගුලක කියලා. මේ යෝගාවචරයාට හිතෙනවා මම හරියටම මෙනෙහි කරනවා, මම හරියටම මේ ගමන ය නවා, මට නාමරූප ටික හරියටම පේනවා ඔය වගේ දේවල් එයාගේ හිතේ වැඩ කරනවා. එයාගේ ගුරුවරයාත් එයා අල්ලගෙන ඉන්නෙ, ඒ භාවනා ක්‍රමයත් අල්ලගෙන ඉන්නෙ, ඒකට විරුද්ධව කවුරුහරි කතා කලොත් එයා ඒකට වහාම කිපිලා එනවා, හරියට කියන්නෙ පූසෙක් වගේ කියලා. පූසෙක් සාමාන්‍යයෙන් එයා ඉන්න විදියට පහර දෙයි කියලා හිතන්න බැහැනෙ. එයා ඉන්න විදියට ටක් ගාලා ගහනවානෙ. ඒ වගේ තමයි අධිමොක්කයට එයාගේ මේ විශ්වාසයට විරුද්ධව යමක් එහෙ මෙහෙ වුනොත් එතනදි එයා අධික වශයෙන් ඒකට විරුද්ධව කටයුතු කරනවා, ඉතින් ඒ නිසා තමයි මේක සෑහෙන භයානක උපක්ලේශයක් කියලා කි යන්නෙ. ඉතාම දැඩිව බලවත්ව විශ්වාස කරනවා තමන් මේ කරන ක්‍රමය තමයි හරි, ඒක විතරයි හරි කියලා.

එතකොට සමහර අය හිතනවා මේ තත්වය තමයි සප්ත විශුද්ධි වල මග්ගා මග්ග ඥාණ දස්සන විශුද්ධිය කියන්නෙ කියල සමහරු හිතනවා. එතනදි එයා සෑහෙන බරපතල විදියට රැවටෙනවා. එයා දන්නෙත් නැහැ සමහර වෙලාවට මග්ගා මග්ග ඥාණ දස්සන විශුද්ධිය කියන්නෙ මොකක්ද කියලා,සමහර වෙලාවට ගුරුවරයා ඒක දන්නෙත් නැහැ. දැන් ගෝලයා දන්නෙත් නැහැ. එතකොට මේ අධිමොක්කය කියන එක ආවට පස්සෙ ශ්‍රද්ධාව කියන එක නැතිව යනවා. ඒගොල්ලන්ට බුද්ධ වන්දනාව කරන්න හිතෙන් නැහැ. ගාථා කියන්න හිතෙන්නෙ නැහැ. යම්කිසි දවසක ඒගොල්ලන්ට බුද්ධ වන්දනාව කරන්න, ගාථා සජ්ඣායනා කරන්න වගේ දේකට යන්න හිතෙන්නෙ අධිමොක්කය ටිකක් අඩුවෙලා ගියාට පස්සෙ. එතකොට මේ අධිමොක්කය එන්න කලින් ආපු උපක්ලේශ ටික

තමයි පීති පස්සද්ධි කියන්නෙ. ඒවා සාමාන්‍යයෙන් කඩන්න ලේසියි මේකත් එක්ක බලපුවාම. නමුත් මේක ලේසි නැහැ, මේ උපක්ලේශයට අහුවොල අවුරුදු ගාණක් වුනත් යෝගාවචරයෙක් ඉන්න පුලුවන් සමහර විට ජීවිතාන්තය දක්වාම ඉන්න පුලුවන්.

එතකොට මේ අධිමොක්කය කියලා කියන්නෙ මොකක්ද, මේකට උපක්ලේශය බවට මේක හැරෙන්නෙ කොහොමද කියලා අපි බලන්න ඕනෙ කියලා මං කිව්වානෙ. ඇත්තටම මේ අධිමොක්කය කියන එක එන්නෙ තමන් මේ කරගෙන යන භාවනා ක්‍රමයේ මොකක්හරි හොඳක් තියෙනවා කියලා එයාට දැනෙනවා ඉස්සෙල්ලාම. මේක හරි කියලා එයාට දැනෙනවා ඇත්තටම. මේ අධිමොක්කය කියන එක එන්නෙ ඇත්තටම නිවැරදි භාවනා ක්‍රමයකින් විතරයි. වැරදි භාවනා ක්‍රමයකින් එන්නෑ. එයාට දැනෙනවා මේ තමන් කරගෙන යන පුහුණුවේ හොඳක් තියෙනවා කියලා, ඒක නිවැරදියි කියලා. අන්න ඒ දැනීමට මමත්වය දැම්මහම තමයි, මම කියන එක දැම්මහම තමයි, මමයා දාලා මම මේක හරියටම දැනගත්තා, මට තමයි හරියටම ඒක අහුවුනේ කියලා මමත්වය දාලා හිතන්න පටන් ගත්තහම තමයි ඒක වරදින්නෙ. ඒක තමයි මේ ක්ලේශය බවට පත්වෙන්නෙ. උපක්ලේශය බවට පත්වෙන්නෙ. එතකොට ලේසි නැහැ ගලවන්න. ඇත්තටම මෙයා මේ කරන භාවනා ක්‍රමයේ වරදක් නැහැ. මොකක් හරි මේ කරපු භාවනා ක්‍රමය නිවැරදි එකක්. එතකොට මේක මේ නිවැරදි භාවනා ක්‍රමය අර දැඩිව ගැනීම තමයි, මමත්වය දාලා ගැනීම, ඒකට තමයි අධිමොක්කය කියන්නෙ. ඒක තමයි මෙතන වැරදිච්චි තැන. එහෙම නැතිව මේ කරන භාවනා ක්‍රමය වැරදියි කියලා කියනවා නෙවෙයි මේ. මොකක් වුනත් භාවනා ක්‍රමය හරි, ඒ නිසා එයයි මෙතෙන්ට නිකං ඇවිල්ලා තියෙන්නෙ. හරිගියාට පස්සෙ ඒකට මමත්වය දාලා ඒ ගුරුවරයාට භාවනා ක්‍රමයට අත්දැකීම් වලට මමත්වය දාලා දැඩිව ගැනීම තමයි අධිමොක්කය කියලා කියන්නෙ.

ඉතින් සාමාන්‍යයෙන් අපි බැලුවොත් ලෝකෙ තියෙන ඕනම විපස්සනා භාවනා ක්‍රමයක් ඇතුලේ තියෙන්න සතර සතිපට්ඨානය තමයි. කායානුපස්සනා, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව, ධම්මානුපස්සනාව තමයි තියෙන්නෙ. ඒ නිසා ඒකෙ භාවනා ක්‍රමයේ වැරැද්දක් නැහැ. හැබැයි යෝගියා ඒ භාවනා අත්දැකීම් ගන්නේ වැරදි විදියට. මමත්වය දාලා තමයි ගන්නෙ. අපි හිතමු දැන් ලෝකෙ ප්‍රසිද්ධ භාවනා ක්‍රම තියෙනවා ගොයෙන්කා ක්‍රමය තියෙනවා, මහාසී ක්‍රමය තියෙනවා, වේච්යේසියාසී ස්වාමීන් වහන්සේගේ ක්‍රමය තියෙනවා, අජාන් චා වහන්සේගේ ක්‍රමය තියෙනවා ඔහොම ඕන තරම් භාවනා ක්‍රම තියෙනවා. මේ ඕනම ක්‍රමයකට කෙනෙකුට භාවනා කරන්න පුලුවන් ඒකෙ කිසිම වැරැද්දක් නැහැ. ඔය හැම එකක් අස්සෙම තියෙන්නෙ සතර සතිපට්ඨානය. නමුත් මේ මොන ක්‍රමය කලත්, ඒ මොන ක්‍රමය පුරුදු වුනත් එයා ඒ භාවනා ක්‍රමය දැඩි මමත්වය දාලා අල්ලන එක තමයි මේ අධිමොක්ක උපක්ලේශය කියලා කියන්නෙ.

එතකොට යෝගාවචරයාගේ මේ තත්වය හඳුනගන්න ගුරුවරයා හඳුනගෙන ඉන්න ඕනෙ යෝගියා රැවටෙන්නෙ කොතනදිද කියලා හඳුනගන්න, එයා රැවටෙන්නෙ අපි මීට කලින් කතා කරපු උපක්ලේශ වලටද, නැත්නම් අධිමොක්කයටද රැවටිලා ඉන්නෙ කියලා තේරුම් ගන්න ගුරුවරයාට පුලුවන් වෙන්න ඕනෙ. එතකොට එයාව ගොඩ ගන්න, එයාට අවවාද දීලා, එයාට දැඩිව ඉඳලා එයාව ඒකෙන් ගලවගන්න උත්සාහ කරන්න ඕනෙ ගුරුවරයා. එතකොට මේ තත්ව වලට අහුවෙනවා. ඉතින් අහුවුනාට පස්සේ ඒගොල්ලො දන්නෙ නැහැ ඒගොල්ලන්ට මොකක්ද වෙන්නෙ කියන්න. ඉතින් අර කලින් කිව්වා වගේ සමහර වෙලාවට ගුරුවරයාටත් ගලවගන්න බැරි තැන් එන්න පුලුවන්. යෝගාවචරයාගේ ස්වභාවයන් එක්ක. එතකොට ඉතින් ජීවිතාන්තය දක්වාම හරි, තමන්ගේම හොම්බ

ඇනිලා ලොකු කලබලයක් වුනාට පස්සෙ තමයි එයාට තේරෙන්නෙ ආ, මෙතන තමයි මං මේ ඉඳලා තියෙන්නෙ කියලා.

ඒ නිසා මේ ලෝකෙ භාවනා ක්‍රම, නිවැරදි භාවනා ක්‍රමයක් නම් අනුගමනය කලේ අනිවාර්යයෙන් යෝගාවචරයා මෙතෙන්ට ආවා නම් ඒ කියන්නෙ එයා අනුගමනය කරලා තියෙන භාවනා ක්‍රමය නිවැරදියි. එතකොට ඒ භාවනා ක්‍රමය නිවැරදි නිසා තමයි එයාට මේ උපක්ලේශය හටගන්නෙ ඒ නිසා මේ වගේ නිවැරදි භාවනා ක්‍රම ලෝකෙ ඕන තරම් තියෙනවා, විපස්සනා භාවනා ක්‍රම. එතකොට ඒ භාවනා ක්‍රමයක් ඒ තමන් කරන එකමයි හරි අනිත් ඒවා වැරදියි කියන තැනට මමත්වය, සක්කායදිට්ඨිය කියන ක්ලේශයේ බලවත් කම තමයි මේ ඉස්මතු වෙන්නෙ. එතකොට අපි දැන් මේ යන්නෙ සක්කාය දිට්ඨිය ප්‍රහාණය කරන්නෙ. එතකොට මේක එළියට එන අවස්ථාව අඳුනගන්න අපි දැනගෙන ඉන්න ඕනෙ. මොකද ක්ලේශයක් අයින් කරන්න බැහැ ක්ලේශයක් දකින්නෙ නැතිව. එතකොට මේ තමයි ඒ මමත්වය, සක්කායදිට්ඨිය බලවත්ව එළියට ආපු අවස්ථාවල් මේ. අධිමොක්කය විදියට එන්නෙ, උපක්ලේශයක් විදියට එන්නෙ. ඉතින් ඒක හඳුනගන්න පුලුවන් වෙන්න ඕනෙ. මම මේ අහුවෙලා ඉන්නෙ මමත්වයට සක්කායදිට්ඨියට කියලා. ඒක දැනගත්තොත් තමයි එයාට ඒක ප්‍රහාණය කරන තැනට මනස අරගෙන යන්න පුලුවන්කම ලැබෙන්නෙ. ඉතින් අපි මේ කතා කලේ හතරවෙනි උපක්ලේශය, විපස්සනා උපක්ලේශය, යෝගාවචරයෙක්ගේ මනසට එන්න පුලුවන්. අපි ඊළඟ වීඩියෝ එකෙන් පස්වෙනි උපක්ලේශය ගැන කතා කරමු. තෙරුවන් සරණයි!

## 41) වීර්යය සමබර කළ යුතු තැන | විපස්සනා උපක්ලේෂ -05 | Mindfulness practice | @alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අද කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනය, අපි මේ වෙනකොට කතා කරගෙන යමින් ඉන්නෙ විපස්සනා උපක්ලේශ ගැන. ධම්මානුපස්සනා කොටසට අයිති කොටසක්. අද කතා කරන්නෙ පස්වෙනි උපක්ලේශය ගැන. ඒ කියන්නෙ මේ විපස්සනා භාවනාව කරන යෝගාවචරයන්ට භාවනාව හරි ගියාම වැටෙන වලවල් ටිකක්. ඒගොල්ලො අහුවෙන උගුල් ටිකක්. ඒගොල්ලො මේ හොඳ දේම ක්ලේශයකින් අල්ලන්න ගියාම සිද්ධ වෙන දේවල් ටිකක්. මේවා අර සාමාන්‍ය රාග, ද්වේෂ, මෝහ වගේ නෙවෙයි හරිම සියුම් විදියට තමයි අහුවෙන්නෙ. ඉතින් අද අපිට තියෙන්නෙ පස්වෙනි උපක්ලේශය කතා කරන්න. ඒක තමයි පග්ගහ කියලා අපි කියන්නෙ.

පග්ගහ කියලා කියන්නෙ වෙන මොකුත් නෙවෙයි, අමුතු දෙයක් නෙවෙයි, වීර්යය තමයි මේ උපක්ලේශයක් හැටියට ආවහම ඒක පග්ගහ කියලා කියනවා. වීර්යයමයි. එතකොට මේ යෝගාවචරයාගේ වැඩේ සක්මන් කරන එකයි පර්යංකයයි විතරයි. වෙන දෙයක් එයා කරන්න කැමැති නැහැ දවසේම එයා සක්මන පර්යංක, සක්මන පර්යංක විතරයි. යම්කිසි විදියකින් කාලසටහනක් තියෙනවා නම් කාලසටහන පවා අතික්‍රමණය කරනවා. ඒ නිසාම එයාට මානසික වශයෙන් ලොකු පීඩාවක් ඇතිවෙනවා, හැබැයි ඒක වරදක් විදියට දකින්නෙ නැහැ මේ යෝගාවචරයා. මේකත් එක්තරා චෛතසිකයක්. එතකොට සමහර විපස්සනා කරන යෝගාවචරයො සහ සමහර ගුරුවරු ඉන්නවා පැය ගණන් ඉඳගෙන ඉන්න පුලුවන්, පැය දෙක ඉඳගෙන ඉන්න පුලුවන්, දෙක, තුන, හතර, පහ සමහර ගුරුවරු මම දන්න අය ඉන්නවා විපස්සනා ගුරුවරු උදේ ඉඳගත්තහම උදේ දානෙන් පස්සෙ ඉඳගත්තහම හවස තමයි පර්යංකයෙන් නැගිටින්නෙ. මේක හැබැයි පග්ගහ නෙවෙයි මේ,

කය හුරු කලාට පස්සෙ කය මෙහෙම පර්යංකයට හුරු කලාම ඉන්න පුලුවන්කමක් තමයි මේක. පැය ගණන් ඉන්න පුලුවන් විදියට කය හුරු කරලා තියෙන්නෙ.

පග්ගහ කියලා කියන්නෙ මේක නෙවෙයි, සක්මන පර්යංක, සක්මන පර්යංක වශයෙන් අතනෑරම දිනපතාම පවත්වන එක. මේවගේ ඉඳලා හිටලා පැය ගාණක් පර්යංකයේ ඉන්න එක ඒක පග්ගහ නෙවෙයි. ඒක ඒ අවස්ථාවේ යෝගාවචරයාට පුලුවන් කියලා හිතුනොත් ඉස්සරහට ඉන්නවා. සමහර යෝගාවචරයො ඉන්නවා මාන්නය සහ උද්දච්ඡය නිසාත් මෙහෙම පර්යංකය අදිනවා. අනිත් යෝගීන් එක්ක තරඟයක් නිසා ඒ වගේ දේවල් නිසා, අනිත් යෝගීන්ට වඩා ඉහළට යන්න ඒ වගේ දේවල් තියෙන වෙලාවලුත් තියෙනවා යෝගාවචරයො එහෙමත් අහුවෙනවා. හැබැයි මේ පග්ගහ කියන එක නෙවෙයි. එයා ඉන්නෙ වෙනම ක්ලේශයක. සමහරු ඉන්නවා එහෙම ක්ලේශයක් ඇත්තෙ නැහැ, හොඳට කය මනස දෙක සමපාත වෙලා සමබර වුනු වෙලාවල් වලට හැකියාව තියෙනවා නම් පර්යංකය පැය දෙක තුන හතර පහ, සමහර වෙලාවට උදේ ඉඳගත්ම හවස් වෙනකනුත් පර්යංකය අදින්න පුලුවන් යෝගාවචරයො ඉන්නවා. ඒක පග්ගහ නෙවෙයි.

පග්ගහ කියලා කියන්නෙ එයා දින ගණන් මාස ගණන් එක විදියටම සක්මන පර්යංක, සක්මන පර්යංක විතරයි. එතනින් එහා දේකට යන්න එයාගෙ මනස කැමැති නැහැ. මේක මේ වීර්යයේම කෑල්ලක්. වීර්යයම තමයි මේ පග්ගය බවට පත්වෙන්නෙ. මේක වෙන්නෙ යෝගාවචරයා හිතනවා මට දැන් හොඳ වීර්යයක් ඇවිල්ලා තියෙන්නෙ, මේකම තමයි එකම ක්‍රමය, මේකම තමයි දැන් කරන්න ඕනෙ කියන විදියට දැඩිව ඒක මමත්වයෙන් කෙලෙස් වලින් අල්ලන එක තමයි මේ උපක්ලේශයක් බවට පත්වෙන්නෙ. එතකොට මේ පග්ගහ කියන උපක්ලේශයයි, සම්මා වායාමයයි දෙක පටලවා ගන්න හොඳ නැහැ. සමහර යෝගාවචරයො ඉන්නවා සමහර ස්වාමීන් වහන්සේලාත් ඉන්නවා පැය පහ හය සක්මන් කරනවා. ඒක එක දිගටම කරනවා නෙවෙයි, හැමදාම කරනවා නෙවෙයි. අර හොඳට තමන්ගේ මනසයි කයයි හොඳට සමපාත වෙලා ආවහම සමහර යෝගාවචරයො ඉන්නවා එළිවෙනකල්ම සක්මන් කරන ස්වාමීන් වහන්සේලා ඉන්නවා යෝගාවචරයො ඉන්නවා.

සමහර ස්වාමීන් වහන්සේලා ඉන්නවා බුරුමෙ එහෙම ඉන්නවා කියලා මම අහලා තියෙනවා. දවස දෙක එක දිගට පර්යංකයේ ඉන්නවා පිළිම වගේ. ඒක පග්ගහ නෙවෙයි, ඒක සම්මා වායාමය. මේ දෙක වෙන් කරලා හඳුනගන්න තියෙන ස්වභාවය තමයි අර වගේ පැය ගණන් එක දිගට ඉන්නෙ කලාතුරකින් තමයි සම්මා වායාමය තියෙන යෝගාවචරයො. නිතරම කරන්න බැහැ ඒක. ඒ ඉන්ද්‍රිය ධර්ම සමපාත වෙලා, කයේ ධාතු ස්වභාවයන්, කයේ තුන්දොස් එහෙම සමබර වෙලා හොඳට මේ කය හිත දෙක සමපාත වුනු වෙලාවල් වලදි විතරයි එහෙම එකදිගට භාවනාව ඇදගෙන යන්න පුලුවන් වෙන්නෙ. එහෙම බැරිවෙන අවස්ථා එනවා යෝගාවචරයාට. එතකොට සම්මා වායාමය තියෙන කෙනා ඒ පුලුවන් වෙලාවට උපරිමයෙන් කැපවෙලා කරනවා, තමන්ගේ කය සහ සිත හරියට සමපාත වෙච්චි නැති වෙලාවට සාමාන්‍ය විදියට දින චර්යාව කරගෙන යනවා.

නමුත් මේ පග්ගහ කියන ක්ලේශය තියෙන කෙනා අව්ව තිබ්බත් එකයි, වැස්ස තිබ්බත් එකයි, ලෙඩ වුනත් එකයි, නිදිමත වුනත් එකයි, අනිත් අය මොනවා කලත් එකයි, ගුරුවරයා ලෙඩ වුනත් එකයි, වතපිළිවෙත තිබ්බත් එකයි එයා ඒවා ගැන සැළකිලිමත් වෙන්නෙ නැහැ. එයා කරන්නෙ සක්මනයි, පර්යංකයයි. සක්මනයි පර්යංකයයි. මොනවා වුනත් ඒ දෙකේ විතරයි. වෙන කිසි දෙයක් ගැන අවධානය තියන් නැහැ. අන්න ඒක තමයි පග්ගහ කියලා කියන්නෙ. ඒ කියන්නෙ මේක වෙන්නෙ මේක ඇත්තටම හොඳ එකක්. මේ

වීර්යය නිසානෙ මේක එන්නෙ. වීර්යයම තමයි මේ. ඒක හොඳයි එයා අර වැරදි මතයකින් වැරදි දෘෂ්ටියකින් ඒක අල්ලලා නැතිනම්. එයා රැවටිලා තියෙන්නෙ ඒකට මම හොඳයි, මම හොඳ පැත්තක ඉන්නෙ, මම දැන් දියුණු වෙලා ඉන්නෙ කියන එක තමයි මේ යෝගාවචරයා හිතාගෙන ඉන්නෙ. මේකම තමයි දැන් කරන්න තියෙන්නෙ, වෙන කිසිවක් කරලා හරියන් නැහැ කියන එක තමයි මේ යෝගාවචරයා හිතන් ඉන්නෙ. ඒ කියන්නෙ මේ සමබර වීර්යය නෙවෙයි මෙයා මේ අරගෙන යන්නෙ, ඒක අතික්‍රමණය කරනවා.

ඉතින් ගුරුවරයෙක් ළඟ ඉන්නම ඕනෙ මේ යෝගාවචරයාට මෙයා මේ අහුවෙලා තියෙන ගැටේ පෙන්වලා දෙන්න. මොකද සාමාන්‍යයෙන් යෝගාවචරයෙකුට මේක තනියෙන් තේරුම් ගන්න අමාරුයි. හොඳ සුතමය ඥාණයක් තියෙන හොඳ චින්තාමය ඥාණයක් තියෙන ගුරුවරයා දක්ෂව ගුරුවරයාගෙන් කමටහන් ශුද්ධ කරගන්නවා නම් සමහර විට ඉඩකඩ තියෙනවා මේක තේරුම් ගන්න. නමුත් ගුරුවරයා අනිවාර්යයෙන්ම ළඟ ඉන්න ඕනෙ යෝගාවචරයාට මේ වරද පෙන්නලා දෙන්න. මේ යෝගාවචරයා අනිත් අයත් එක්ක තමන්ව සන්සන්දනය කරන්න යන්නෙ නැහැ. එයා හිතන්නෙ නැහැ මම තමයි හරියට සක්මන් කරන්නෙ, අනිත් අය සක්මන් කරන්නෙ නැහැ. ඒ වගේ විතර්ක සිතුවිලි මේ වෙලාවේ යෝගාවචරයාගේ මනසේ නැහැ. ඒ කියන්නෙ මෙයා හොඳ කුසල මට්ටමක, හොඳ මනස දියුණු මට්ටමක ඉන්නෙ. මෙයාට ප්‍රශ්නයක් වෙලා තියෙන්නෙ දැන් මට හොඳ වීර්යයක් තියෙනවා, මේකම තමයි හරි, මේකම තමයි කරන්න ඕනෙ කියලා එයා තනියෙන් තමන් වැඩේ කරගෙන යනවා. ඒ කියන්නෙ දිනචර්යාව සමපාත නැහැ, සමබර නැහැ. අනිත් දේවල් වලට අවධානය තියන්නෙ නැහැ. ඒකෙම දුවනවා දුවනවා දුවනවා. අන්තිමට එයාට ලොකු වෙහෙසක් වෙනවා ඒක, පීඩාවක් වෙනවා. මනසේ සමතුලිත භාවය බිඳිලා යනවා.

ඉතින් මේ කුසල චෛතසිකය දැඩිව අල්ලා ගැනීම, ඒක නිත්‍ය සංඥාවෙන් දැඩිව, ආත්ම සංඥාවෙන් දැඩිව එකදිගට පවත්වන්න හදන එක තමයි මෙයාගේ උගුල. එතකොට බලන්න කොච්චර සියුම්ද මේක හඳුනගන්න මේ ක්ලේශය හඳුනගන්න, ඒක සෑහෙන අමාරුයි හඳුනගන්න. සාමාන්‍යයෙන් මේක ගැම්ම කාලා, හිත කය දෙක ගැම්ම කාලා ඇවිල්ලා තියෙන්නෙ. යෝගාවචරයාට එකම වේගයකට දැන් ගැම්ම අරගෙන තියෙන්නෙ. එයාටවත් තේරෙන්නෙ නැහැ එයාට මොකක්ද වෙන්නෙ කියලා. එයා හිතාගෙන ඉන්නෙ සක්මන් කරන එකයි, ඉඳගෙන ඉන්න එකයි විතරයි මම දැන් කරන්න ඕනෙ, වෙන මොකුත් කරන්න ඕනෙ නැහැ. කන්න ඕනෙත් නැහැ, බොන්න ඕනෙත් නැහැ, තෙමුනත් එකයි, වැස්සත් එකයි, ලෙඩ වුනත් එකයි එහෙම තමයි හිතන් ඉන්නෙ. ඒක හරි සියුම්. ඒ නිසා මේ යෝගාවචරයාට මෙතනදි ගුරුවරයාගේ පිහිට ඕනෙ.

මේකට තමයි පග්ගහ කියලා කියන්නෙ, මේක විපස්සනා උපක්ලේශයක්. ඉතින් මේක තමයි පස්වෙනි විපස්සනා උපක්ලේශය, අපි ඊළඟ වීඩියෝ එකෙන් හයවෙනි උපක්ලේශය ගැන කතා කරමු. තෙරුවන් සරණයි!

## 42) භාවනාව අතරමග නතර කරවන "සුඛය" | විපස්සනා උපක්ලේෂ -06 | Right concentration | @alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අද කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනය. අපි මේ වෙනකොට ඉන්නෙ ධම්මානුපස්සනා කොටසේ අගභාගයේ. ඉතින් අපි මේ වෙනකොට කතා කරමින් යන්නෙ දසවිධ විපස්සනා උපක්ලේශ ගැන. ඉතින් අපි මේ

වෙනකොට විපස්සනා උපක්ලේශ පහක් කතා කරලා තියෙනවා, අද අපි කතා කරන්නෙ හයවෙනි උපක්ලේශය. ඒක තමයි සුඛය. එතකොට සාමාන්‍යයෙන් මේ භාවනා කරද්දි මේ සුඛය කියන මට්ටමට යෝගාවචරයාගේ මනස ආවහම මේක කිසිම පඤ්චකාම සම්පත්තියකින් එන්නෙ නැති සැපයක් සුඛයක්. ඉතින් ලෝකෙ තියෙන පඤ්චකාමයන්, පස්කම් සැප කියන ඒවා අතිසුඛෝපභෝගී විදියට නිර්මාණය කරලා තියෙනවා. ඒවා විස්තර කරන්න යන්නෙ නැහැ මං මේ වෙලාවේ. නමුත් ඒ වගේ නෙවෙයි, මේ භාවනා කරද්දි මේ සුඛය කියන මට්ටමට ආවට පස්සෙ යෝගාවචරයාට දැනෙන්නෙ අර කාම සැපතට වැඩිය සිය ගුණයකින්, දහස් ගුණයකින්, දස දහස් ගුණයකින් වැඩිවෙලා මේක දැනෙනවා. මේ සුඛය කියන එක කායිකව සහ මානසිකව කියන අංශ දෙකෙන්ම යෝගියාට දැනෙන්න ගන්නවා. අන්න ඒ නිසා තමයි යෝගාවචරයා මේ සුඛය කියන එකට රැවටෙන්නෙ.

එතනින් එහාට යන්න එයාට කැමැත්තක් ඇතිවෙන්නෙ නැහැ. මොකද මෙතුවක් කල් විඳලා තියෙන කායික මානසික දුක් එක්ක බලද්දි, මෙතුවක් කල් විඳලා තියෙන සැප එක්ක බලද්දි එයාට මේක නිවනටත් එහා ගිය දෙයක් වගේ තමයි දැනෙන්නෙ. ඒ නිසා එයා හරි කැමැතියි නැවත නැවත මේ සැපය තියාගන්න. ඒකට තමයි එයා කල්පනා කරන්නෙ. නැවත නැවත ඒක අත්විඳින්න තමයි එයා පර්යංකයට සක්මනට යන්නෙ. නැවත නැවත ඒක රැකගෙන තියාගන්න පුලුවන් බලාපොරොත්තුවකින් තමයි එයා හැමදෙයක්ම කරන්නෙ. ඒ නිසා හැමදාම එයා පර්යංකයට සක්මනට යන්නෙ මේක බලාගෙන. එන දේට මුහුණ දෙන්න නෙවෙයි යන්නෙ. මොකද එයා මේකට ගොදුරු වෙලා. කොහොමද ගොදුරු වෙලා තියෙන්නෙ. මමත්වයෙන් ඒක බලනවා, දකිනවා. මම කියන පුද්ගලානුරූපීව පුද්ගලයෙක් සහිතව තමයි එයා මේක දැන් මෙතනින් එහාට භුක්ති විඳින්නෙ. මට මෙච්චර සැපයක් ලැබිලා තියෙනවා. මගේ භාවනාවෙන් මට මෙච්චර සැපයක් විඳිනවා. මම ජීවිතේ කවදාවත් මේ වගේ සැපයක් ලැබුවෙ නැහැ, මේක මම හැමදාම තියාගන්න ඕනෙ කියලා අර නිත්‍ය සුඛ ආත්ම සංඥා වලින් දැඩිව මේක අල්ලනවා. හැබැයි ඒ යෝගාවචරයාට මේක තේරෙන්නෙ නැහැ. එයා ඒකට බැහැගෙන ඉන්නෙ.

ඊටපස්සෙ එයා බණක් කියන්න ගියත්, කෙනෙක් එක්ක කතා කරන්න ගියත් ඒකෙ ගුණ හරියට කතා කරනවා. මෙහෙම තැනක් තියෙනවා, මේක මෙහෙමයි, මෙහෙම කරන්න පුලුවන් කියලා ඒ තත්වයට එනවා, ඔය කියන මානසිකත්වයට වැටෙනවා, එතකොට මේ විපස්සනා උපක්ලේශ ගැන ගුරුවරු කතා කරද්දි ගුරුවරු සඳහන් කරනවා මේ උපක්ලේශ වලින් යෝගාවචරයාට සෑහෙන දරුණු විදියට බලපාන්නෙ මේ දැන් කතා කරන සුඛය කියන එක. අපි මීට කලින් කතා කලා පග්ගහ සහ අධිමෝක්ඛ කියලා දෙකක්. ඒ දෙක සහ අපිට ඉස්සරහට කතා කරන්න තියෙනවා ඥාණය කියලා උපක්ලේශයක්. මෙන්න මේ ටික තමයි ඉතාම දරුණු විදියට යෝගාවචරයාට බලපාන්නෙ කියලා ගුරුවරු සඳහන් කරනවා. එතකොට මේ පග්ගහ අධිමෝක්ඛ කියන දෙකටත් වැඩිය මේ සුඛය කියන එකට වැටිච්චි යෝගාවචරයා ඒකෙන් ගලවන්න අමාරුයි. මොකද ඒක හරි සහනයක්, සැපයක්, ඒක ධ්‍යාන සැපයක් වගේ තමයි සාමාන්‍යයෙන් දැනෙන්නෙ. ඒ නිසා ඒකෙන් එහාට යන්න යෝගාවචරයා කැමැති නැති වෙනවා. සමහර වෙලාවට මාස ගණන් අවුරුදු ගණන් සමහරවිට ජීවිතාන්තය දක්වාම ඉන්න පුලුවන්.

එතකොට ඔබට තේරෙනවාද අර භාග්‍යවතුන් වහන්සේ හොයාගෙන ගුරුවරු තාපසවරු ආලාරකාලාම, උද්දකරාම පුත්ත වැනි අය අරූප ධ්‍යානයෙන් ගැලවෙන්න බැරුවනෙ ඒගොල්ලො මරණින් මත්තෙ අරූප ලෝක වලට යන්නෙ. ඒ කියන්නෙ ඒක වශී වෙලා, ඒක ගලවන්න බැහැ. එතකොට ඔබට හිතාගන්න පුලුවන්ද ඒක මොනතරම් සහනයක්ද

කියලා. හිතලවත් ගලවන්න බැහැ. ඒ තරම් ඒකට දැඩිව බැඳෙනවා. ඒ නිසා තමයි ඒ අය අරූප ලෝකෙ අනිවාර්යයෙන් උපදිනවා මියගියාට පස්සෙ. දැන් මේ අරූප ධ්‍යානයකට ගිහිල්ලත් නෙවෙයි. ඒ වගේ අති ප්‍රබල සුඛයක් මේකෙ දැනෙන්න ගන්නවා. ඒ නිසා යෝගාවචරයාට මේ තමන්ගේ භාවනා අත්දැකීම භාවනා පුහුණුව ගැන ලොකු මාන්නයක් සහ මමත්වයෙන් දැඩිව අල්ලන ස්වභාවයක් එයාගේ මනසට එනවා.

හැබැයි යෝගාවචරයා අපායට යන්නෑ. එක්කෙනෙක් කලින් වීඩියෝ එකේ ප්‍රශ්නයක් අහලා තිබුනා පව් නේද රැස් කරගන්නෙ කියලා. නැහැ මේක සියුම් ක්ලේශයක් මේ තියෙන්නෙ. සියුම් කිච්චට තියුණු ක්ලේශයක්. මෙය අපායගාමී ක්ලේශයකට නෙවෙයි මේ අහුවෙලා තියෙන්නෙ. එයා සුගතියට යනවා. මොකද මැරෙනකල්ම ඉන්නෙ මේ කුසලාරම්මණයක. එයා ඉන්නෙ භාවනා ආරම්මණයක ඉන්නෙ, ඒ නිසා සුගතියට යනවා. මේක සුඛයයි පස්සද්ධියයි දෙක පටලව ගන්න එපා. පස්සද්ධියට වැඩිය සෑහෙන්න ප්‍රබල මට්ටමක තියෙන එකක් මේ සුඛය කියන එක. ඒක කියන්නෙ මේ අපි දන්න භාෂාවෙන් හෙලි කරන්න පුලුවන් දෙයක් නෙවෙයි. එතකොට මේ සුඛය කියන මට්ටමට යෝගාවචරයා ඇවිල්ලා කියලා ගුරුවරයා දැනගන්නෙ යෝගාවචරයාගේ කටින් එළිවෙන වචන වලින්. එයාට ඒ සුඛය කියන මට්ටමට ගියාට පස්සෙ එයාට දැනිච්ච දේවල් අත්දැකපු දේවල් එයා හෙලිකරනකොට එයාගේ මනසට ඇතිවෙලා තියෙන සිතුවිලි එයා අවංකව හෙලි කලොත් ගුරුවරයා දන්නවා මෙයා මේ ඉන්නෙ සුඛය කියන උපක්ලේශයට අහුවෙලා කියලා ඒ ගුරුවරයා දැනගන්නවා.

එතකොට මේ මට්ටමේදී නීවරණ ධර්ම කිසිම දේකුත් නැහැ. කාමච්ඡන්ද ආදී නීවරණ වලින් එයාගේ මනසට කිසිම පීඩාවකුත් නැහැ, ඒ නිසා තමයි මේ යෝගාවචරයා හිතන්නෙ මේක ධ්‍යාන සුඛය කියලා. මේ උපක්ලේශ ගැන නොදන්න, මේ අතරමැදදි ලැබෙන ප්‍රතිඵලවලට අහුවුනු සමහර ගුරුවරුත් මේකට කියලාදෙනවා මේක විපස්සනා ධ්‍යානයක් කියලා, විපස්සනා සැපය කියලා. විපස්සනා සැපයක් තමයි, හැබැයි මේකට අර වගේ label එකක් ගහලා දීපු ගමන් යෝගාවචරයා ඒ ලුණුව කාලා එතන හිරවෙනවා, stuck වෙනවා. ඊටපස්සෙ ඒ යෝගාවචරයා ඔය සුඛය කියන උපක්ලේශයෙන් එළියට ඇදලා ගන්න බැරි මට්ටමකට එනවා. එතකොට සාමාන්‍යයෙන් මේ විපස්සනා උපක්ලේශ වලදි කතා කරන්නෙ මේක දරුණු තත්වයක්, දියුණුවක් තමයි, දරුණු තත්වයක්.

නමුත් මේවා ආවහම දවසක් දෙකක් ඇතුලත කොහොමහරි මේ යෝගාවචරයා මේ උපක්ලේශයෙන් කඩලා ගලවලා එළියට ගන්න ඕනෙ. එහෙම කඩන්න බැලුවොත් එහෙම ගුරුවරයා මේක කඩලා දාන්න උත්සාහ කරපුවාම මේ යෝගාවචරයා මේ සුඛයට අහුවෙලා ඉන්න හින්දා එයා හිතනවා තමන්ගේ ගුරුවරයා මගේ භාවනා අත්දැකීමට, මගේ භාවනා දියුණුවට ඊර්ෂ්‍යායි කියලා. ඊර්ෂ්‍යා හිතලයි මෙහෙම කියන්නෙ කියලා. හැබැයි මේක ඇත්තටම කැඩුනු දවසට යෝගාවචරයාට තේරෙනවා දෙයියනේ මේ සුඛයට වැඩිය වඩා හොඳ පැත්තකට මනස හැරිලනේ නේද කියලා යෝගාවචරයාට තේරෙන්න ගන්නවා. මට මීට අවුරුදු ගාණකට කලින් භාවනා කරන්න ආපු එක්තරා ගැහැණු ළමයෙක් මටත් මේ චෝදනාව කලා. අන්තිමට තරහා වුනා. මෙච්චර ඉහළ මට්ටමකට ගිහිල්ලත් නෙවෙයි, මේ භාවනා කරද්දි අපිට මාන්නය එනවා, ඒකෙන් පරිස්සම් වෙන්න කිව්වහම මේ මැණියො ඊර්ෂ්‍යායි මගේ භාවනාවට. භාවනා කරද්දි කොහොමද මාන්නය එන්නෙ කියලා තරහා වෙලා ගියා. ඉතින් ඒ මේ පහළ level එකක ඉද්දි. ඒ වගේ අවස්ථා එනවා.

එතකොට මේ වගේ මට්ටම් වලට ආවහම ලේසි නැහැ ගුරුවරයෙකුට මෙයාව ගලවගන්නත්. එතකොට මේ දවසින් දෙකින් මේ සුඛය කියන උපක්ලේශය කඩන්න ගුරුවරයා උත්සාහ කරද්දි යෝගාවචරයා ඒකට උනන්දු වෙන් නැත්නම්, ඒකට ඉඩදෙන්නැත්නම් ගුරුවරයා අඩුගානෙ ප්‍රතික්ෂේප කරන්න ඕන කියනවා මේ යෝගාවචරයාව, ආයෙත් මගෙ ළඟට එන්න එපා, මගෙන් උපදෙස් ගන්න ආයෙත් ආපසු එන්න එපා කියලා ප්‍රතික්ෂේප කරන්න කියනවා. ඒ විදියට ගුරුවරයා සැර විය යුතුයි කියනවා මෙතනදි. ගුරුවරයා විදියට දැඩිව ඉන්න ඕනෙ. එතකොට හිතනවා සමහර වෙලාවට යෝගාවචරයා, ගුරුවරයා හරිම නපුරුයි කියලා. ඒ නපුරු හින්දා නෙවෙයි ගුරුවරයා දන්නවා මෙයා මේකට අහුවුනොත් අපරාදි නාස්තියක් වෙන්නෙ, මීට වඩා ඉස්සරහට යන්න පුලුවන්කම තියෙද්දි මෙතන හිරවෙලා ඉන්න එක අපරාදි නිසා තමයි ගුරුවරයා මේ දැඩිව උත්සාහ කරන්නෙ මේකට වැඩිය ලොකු දෙයක් අපි හොයන්නයි ආවෙ, මේ සැපයකට හිරවෙන්න නෙවෙයි අපි ආවෙ, නිවන කියන එක හොයාගෙන. මේක කෙළවර කරන්න. ඒ වගේ දෙයක් වෙනුවෙන් යෝගාවචරයාව අරගෙන යන්න ඕන නිසා තමයි ගුරුවරයා මෙහෙම දැඩි වෙන්නෙ, සැර වෙන්නෙ.

ඉතින් මේ අතරමගදි ලැබෙන මේ ප්‍රතිඵල, මේවා අපිට කොහොමත් පාරෙ යද්දි අතරමගදි ලැබෙන අතුරු ප්‍රතිඵල. ඉතින් භාවනා ලෝකෙ සාමාන්‍ය දෙයක් තමයි භාවනා කරන යෝගාවචරයන්ගෙන් සියයට අනූනවයක්ම මේ අතරමගදි ලැබෙන ප්‍රතිඵල වලට අහුවෙනවා. සමහර වෙලාවට ගුරුවරයා ඒවා ignore කරන විදියට උපදෙස් දුන්නත් ඒගොල්ලො කැමැති නැහැ. ඒගොල්ලො හිතන් ඉන්නෙ මෙච්චර දියුණුවක් ලබලත් මේ ගුරුවරයා මේක වර්ණනා කරන්නෙ නැහැනෙ කියලා තමයි හිතන්නෙ. මේක අගය කරන්නෑ, කිසි ගාණක් නෑ කියලා. මොකද යෝගාවචරයාට මතක නැහැ අපි ආවෙ නිවන් දකින්න කියන එක. අපි භාවනා කරන්න පටන් ගත්තෙ නිවන් දකින්න කියන එක එයාට මතක නැතිවෙනවා මේ අතරමග මම නතරවෙලා ඉන්නෙ. උදාහරණයක් උපමාවක් කිව්වොත්, අපි නුවර ඉඳලා කොළඹ යන්න මගට බැස්සා කියමුකො. ඉතින් ඔය අතරමගදි අපිට වෙහෙස නිවාගන්න, පවස නිවාගන්න, කුසගිනි නිවාගන්න ගොඩාක් දේවල් ප්‍රතිලාභ ලබාගන්න දේවල් ඔය අතරමග තියෙනවා. ඉතින් අපි ඒ තැනකට බැහැලා ඒ තියෙන කාරණාව ඉෂ්ට කරගන්නවා විනා ඉෂ්ට කරගෙන ආපසු ගමන යා යුතු මිසක් එතන නතර වෙනවා නම් අපිට කොළඹට යාගන්න කවදාවත් ලැබෙන් නෑ.

අවාසානාව තමයි යෝගාවචරයන්ට අතමරගදි ලැබෙන මේ තාවකාලික සැප සම්පත් නිසා යෝගාවචරයාට මතක නැතිව යනවා මම ආවෙ කොළඹ යන්න කියලා. එයා එතන නතර වෙනවා. ඒ වගේ දෙයක් මෙතන තියෙන්නෙ. නිවන කරා අපි අර්හත්වය කරා කෙලෙස් ප්‍රහාණය කිරීම කරා යන මේ ගමනේදී අතරමගදි සැහෙන ප්‍රතිලාභ ලැබෙනවා, ලෞකික ලෝකෙට සාපේක්ෂව ඒ නිසා අපිට හොඳ එල්ලයක් තියෙන්න ඕනෙ භාවනා කරන්න ආවහම. මං මොකටද එන්නෙ මේ භාවනා කරන්න, කෙලෙස් ප්‍රහාණයට. ඒක අතරමගදි අපිට සැහෙන ප්‍රතිලාභ ලැබෙන්න පුලුවන්, සමහරවිට අහසින් යන්න පුලුවන් වෙන්න පුලුවන්. ඒ කියන්නෙ අර අභිඥා ඥාණ තියෙන්නෙ, ඒවා වුනත් ලැබෙන්න පුලුවන් සංසාරේ හේතු මත. හැබැයි ඒක නෙවෙයිනෙ අපේ කෙළවර. ඒක මතක තියෙන්න ඕනෙ. එහෙම නැතිවුනොත් වෙන්නෙ ඒ එක තැනක හිරවෙලා අපරාදි මේ කෙළවරක් කරා යන්න තිබුනු ගමන අපි අතරමග හිරකරගන්නවා.

මම හිතන්නෙ මම කලිනුත් වීඩියෝ එකක සඳහන් කලා අර තායිලන්ත සිල් මාතාවකගේ කතාවක්. එතුමියත් රහත් වෙන්න පින තිබිලත්, රහතන් වහන්සේ කෙනෙක්ගෙන් තමයි කමටහන් ගන්නෙත්. ඒත් එතුමියත් මේ ධ්‍යාන මට්ටමක මේ අභිඥා මට්ටමක තිබුනු

එක්තරා ගුණයක් ඇතුලේ එයා හිරවෙලා හිටියා. ගුරුවරයා කොච්චර කිව්වත් ඕක ඔහොම නෙවෙයි කියලා හොඳින්, ඇහුවෙ නැහැ. අන්තිමට එතුමිය අවසානෙට කමටහන් ගත්තු මහභූඥාණසම්පන්නො ස්වාමීන් වහන්සේ, උන්වහන්සේ කියනවා නැවත එන්න එපා මගේ ළඟට, බොහෝම දැඩිව සැර කරලා බනිනවා, එන්න එපා නැවත මගේ ළඟට. දැඩිව එළවගන්නවා ආරණ්‍යයෙන්. ඉතින් ඒ කතාව කලින් කියපු වෙලාවෙත් ගොඩක් අය අහලා තිබුනා රහතන් වහන්සේ කෙනෙකුට මෙහෙම වෙන්න පුලුවන්ද, ඒකයි මම කියන්නෙ මේ මනසක් දියුණු කරපු තැනකට අඩියක්වත් තියපු නැති අය උත්සාහ කරනවා වර්තමානයේ මනසක් දියුණු කරන පාරට ආපු අයගේ මනස විග්‍රහ කරන්න, විවේචනය කරන්න, කරුණාකරලා මතක තියාගන්න, ඔයගොල්ලො හීනෙන්වත් නොහිතන දේවල් ගැන විග්‍රහ කරන්න, විවේචන කරන්න අදහස් ප්‍රකාශ කරන්න යන්නෙපා. ඔබ නොදන්න බරපතල කර්ම ටිකක් ඔබට රැස් වෙනවා.

මොකක් සම්බන්ධයෙන්ද දන්නවද, ඔබ කවදහරි භාවනා කරන්න හිත හදන්න ගිය දවසට කෙළවරක් නැතිව ඔබට කරදර එනවා ඊටපස්සෙ. ඒ නිසා මේ විශේෂයෙන් බොරුවකට භාවනා කරනවා කියන අය ගැන විවේචනය කරන්නෙ නැතිව ඉන්න තරමට හොඳයි. අපි හිතමු ඒගොල්ලො භාවනා කරනවා කියලා කියන්නෙ බොරුවට. ඒක එයාට අදාළ දෙයක්. නමුත් එහෙම අය ගැන අදහස් ප්‍රකාශ කරන්න එපා තමන් ඒකට එන්නෙ නැතිව. අපි දන්නෙ නැහැ. ඒ නිසා මේ මනස ඉහළට ඉහළට ගිය අයගේ මනස වැඩ කරන්නෙ කොහොමද කියලා මේ පල්ලෙහා ඉන්න පුහුදුන් කෙනෙක් කොහොමද දන්නෙ. අපි කවදාවත් නොගිය පාරක ගිය මනුස්සයෙක් ඒ පාරෙ දේවල් කියනකොට අපි කවදාවත් ඒ පාරෙ ගිහින් නැත්නම් අපි කොහොමද අදහස් ප්‍රකාශ කරන්නෙ. අපි විවේචන එල්ල කරනවා නම් අපි කොච්චර මෝඩයොද කියලා තේරෙනවද. අපි හිතමු අපි ඉන්දියාවට ගිහිල්ලා නැහැ. ඉන්දියාවට ගිය කෙනෙක් ඇවිල්ලා ඉන්දියාවේ තොරතුරු අපිට කියනවා. එතකොට අපි විවේචන කරනවා නම්, ප්‍රශ්න කරනවා නම් අපි ඉන්දියාවට යන්නෙ නැතිව අපි කොච්චර මෝඩයොද කියලා තේරෙනවාද. ඒක තේරෙන් නැහැ. ඒ නිසා මේ ගුරුවරයෙක්, භාවනා ගුරුවරයෙක් භාවනා කරන කෙනෙක්ගේ මනස ගැන අර්ථකතන දෙන්න භාවනාවකට අඩිය තියපු නැති කෙනෙකුට සුදුසුකමක් කවදාවත් නැහැ. ඒ නිසා බොහොම පරිස්සම් වෙන්න.

මේ ලංකාවේ බෞද්ධයො කරගන්න මෝඩ වැඩ මේවා. ඇයි අර සම්ප්‍රදායානුකූල බෞද්ධයො නිසා. ඒ නිසා අර සිල් මාතාවට එන්න එපා කියනවා රහතන් වහන්සේ, භූරිදත්ත ස්වාමීන් වහන්සේ. ඊටපස්සෙ එතුමිය දැන් එන්න එපා කියලානෙ. ඒ ගිහිල්ලා අවුරුදු දෙකක් යනකලුත් එයා යන්නෙ එයාගෙ පාරෙ. එයා ඒත් අහන්නෑ. එන්න එපා කිව්වටවත් අනේ මේ ගුරුවරයා මට එන්න එපා කිව්වා, හොඳ නැනෙ මෙහෙම කරන්න කියලා එයාට අවුරුදු දෙකක් යනකල්වත් හිතෙන් නැහැ. තමන්ගේ වැඩේ තමයි කරගෙන යන්නෙ. අවුරුදු දෙකක් ගියාට පස්සෙ තමයි හිතෙන්නෙ ඇයි මට බැරි මගේ ගුරුවරයා කියන දේ පොඩ්ඩක් කරලා බලන්න. කියලා හිතනවා. අන්න එතකොට තමයි එයාට වැරැද්ද තේරුනේ. ඊටපස්සෙ එයා යනවා ගුරුවරයා ගාවට වැඳගෙන. දෙකට නැමීගෙන යන්නෙ. ඈත තියා එනවා දකිනකොට භූදක ස්වාමීන් වහන්සේ හොඳටම බැන්නලු මොකටද තමුන් එන්නෙ මං ගාවට මං එන්න එපා කිව්වා නේද කියලා. ඊටපස්සෙ එතුමිය අඬාගෙන වැඳගෙන ගිහිල්ලා සමාව ගත්තලු, සමාවෙන්න ස්වාමීන් වහන්ස මට දැන් තමයි වරද තේරුනේ කියලා. ඊටපස්සෙ තමයි එතුමියට අර්හත්වය දක්වා කමටහන නැවත දෙන්නෙ.

ඒ නිසා මේ උපක්ලේශ වලට අහුවුනු යෝගාවචරයෙක්ව හොඳින් බේරගන්න බැරිවුනොත් ඒ ගුරුවරයා බොහොම දැඩි විදියට තමයි කතා කරන්නෙ. ඒ නිසා මේ දැඩි විදියට කතා කරනවා කියන්නෙ මනසෙත් ඒ ද්වේෂය තියෙනවා කියලා කියන එක අපිට කියන්න බැහැ. මනසේ ද්වේෂය ඇතිව හෝ නැතිව අපිට දැඩිව කතා කරන්න පුලුවන්. භාග්‍යවතුන් වහන්සේට සම කරන්න බැහැ අපිව. උන්වහන්සේගේ ගුණයකට නියපොත්තකට තරම්වත් අපිට ළංවෙන්න බැහැ. භාග්‍යවතුන් වහන්සේත් තුච්ඡ පුරුෂයා, මෝඝ පුරුෂයා ඒ වගේ දැඩිව කතා කරලා තියෙනවා. සමහර අය වාදයටත් යන්න හදලා තියෙනවා උන්වහන්සේත් එක්ක මේ දැඩි කතාබහ නිසා. ඒ කියන්නේ බුදුරජාණන් වහන්සේත් බුදු වෙලා නැහැ රහත් වෙලා නැහැ කියන එකද ඒ කියන්නෙ. එහෙම දන්නෙ නැතිව අදහස් ප්‍රකාශ කරන්න එන්න එපා. අපිට ප්‍රශ්නයක් නැහැ, ඔබටයි කර්ම රැස් වෙන්නෙ. ඒක ගෙවන්න ගිය දවසට ඔබට ලේසි නැහැ ගෙවන්න. ඒ නිසා පරිස්සමින් අදහස් ප්‍රකාශ කරන්න.

ඒ නිසා මේ සුඛය කියන ක්ලේශයට අහුවුනු යෝගාවචරයා කෙරෙහි ගුරුවරයා දැඩිව ඉඳලා මේකෙන් ගලවගන්න උත්සාහ කරනවා, ගලවගත යුතුයි. එහෙම නැත්නම් අපායට යන්නෑ. මැරෙනකල්ම මේ උපක්ලේශය ඉස්සරහට යන්න පුලුවන්කම තියෙද්දි, සමහරවිට එයාට මාර්ගඵල ලබන්න පිනක් තියෙනවා වෙන්න පුලුවන්. තියෙද්දි එතන හිරවෙලා ඉන්නවා ජීවිත කාලයක්. සමහරවිට එයාට වැරැද්ද තේරෙනකොට ගුරුවරයා අපවත් වෙලා, ගුරුවරයා නැහැ. ඒ වගේ දේවල් වෙන්න පුලුවන්. අපරාදි මේ ක්ෂණ සම්පත්තිය මගහැරෙන්න පුලුවන්. ඒ නිසා යෝගාවචරයාට යුතුකමක් තියෙනවා මතක තියාගන්න මං මොකටද භාවනා කරන්න ආවෙ, නිවන නම් කෙළවර ඒ කෙළවර තමන්ට විශ්වාසය තියෙනවා නම් මම තවම නිවන් දැකලා නැහැ කෙලෙස් ප්‍රහාණය කරලා නැහැ කියලා අතරමගදි මොනතරම් පහසුකම් සැප සම්පත් ප්‍රතිලාභ ලැබුනත් ඒක විදගෙන ඒක නතර නොවී ඉස්සරහට යන්න යෝගාවචරයා මතක තබාගත යුතුයි. ගුරුවරයා අදහාගත යුතුයි. ගුරුවරයා කියන දේ විශ්වාස කරන්න පුලුවන් හැකියාව තියෙන්න ඕනෙ. ඕකට තමයි ගුරුවරයාට ජීවිතේ පූජා කරනවා කියන්නෙ. අපේ භාවනා කරන අය තුණුරුවන්ට සහ ගුරුවරයාට ජීවිතේ පූජා කරනවා කියන්නෙ මොකක්ද කියලාවත් දන්නෙ නැහැ. ඒගොල්ලො හිතන් ඉන්නෙ මගේ බුදුරජාණන් වහන්සේට, ගුරුවරයාට ජීවිතේ පූජා කරමි පූජා වේවා කිව්වහම ඒක කිව්වහම හරි කියලා. නැහැ, ජීවිතේ පූජා කරනවා කියන්නෙ මේ දැන් මොකක්ද කරන්න කියන්නෙ ඒ කියන දේ පිළිගන්නවා, අහනවා, විශ්වාස කරනවා කියන එක. ඉතින් එහෙම ඉස්සරහට ගියොත් මේ උපක්ලේශ වලින් ගැලවිලා යෝගාවචරයාට ඉස්සරහට යන්න පුලුවන්කම තියෙනවා.

ඉතින් අද කතා කලේ සුඛය කියන උපක්ලේශය ගැන. අපි ඊළඟ වීඩියෝ එකෙන් ඊළඟ උපක්ලේශය ගැන කතා කරමු. තෙරුවන් සරණයි!

## 43) ඥාණයම මාරයා බවට පෙරලා ගැනීම | විපස්සනා උපක්ලේෂ _ 07 | Right concentration | @alokaalighttolife

තෙරුවන් සරණයි! අපි අද කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනය. අපි මේ වෙනකොට කතා කරමින් යන්නෙ ඒ සතිපට්ඨාන සූත්‍රයේ අවසාන භාගයේ ධම්මානුපස්සනා කොටසේ ආර්ය අෂ්ටාංගික මාර්ගය ගැන කතා කරගෙන යද්දි සම්මා සමාධි කොටසට අදාළව කතා කරන විපස්සනා උපක්ලේශ ගැන තමයි කතා කරගෙන යන්නෙ. අපි මේ වෙනකොට උපක්ලේශ හයක් ගැන කතා කරලා තියෙනවා. අද අපිට

කතා කරන්න තියෙන්නෙ හත්වෙනි උපක්ලේශය. ඒකට කියන්නෙ ඥාණය. මේක ඉතාම බලවත් උපක්ලේශයක්. මේකට අහුවුනාම ලේසි නැහැ ගලවගන්න. අපි හිමීට බලාගෙන යමු මේක සිද්ධ වෙනහැටි. මේ ඥාණය කියන උපක්ලේශයට ඇත්තටම මෙතෙන්ට එන්නෙ භාවනාව දියුණු කෙනෙකුට. භාවනාව දියුණු වුනාම බොහෝ සෙයින් හොඳට භාවනාව දියුණු අය මෙතෙන්ට එන්නෙ. මේ ඥාණය කියන කොටසට ආවයින් පස්සෙ එයා කතා කරන්නෙ විපස්සනාව ගැන විතරමයි. ඒක ගැන කතා කරන එක නතර කරන්නෙ නැහැ. අහගෙන ඉන්න අයට සමහර වෙලාවට වදයක් වෙන්න පුලුවන්. ඒ තරමට කතා කරන්න දේවල් මෙයාට තේරෙනවා. එච්චරට දැනුමක් වැටහෙනවා එයාට. එයා කතා කරන දේවල් එකක්වත් බොරුත් නෙවෙයි. ඇත්තම ඇත්ත දේවල්, අත්දැකීමෙන් ලබපු දේවල්. හරි පාරෙ ගිය දේවල්මයි කියන්නෙ. දේශනා කරන්න ඉතාම දක්ෂතාවයක් එනවා. හොඳට දේශනා කරනවා. පුදුම විදියට එයාට කාරණා කාරණා ගලපලා කියන්න හැකියාව ලැබෙනවා.

හැබැයි මේ ඥාණය කියන මට්ටමට ඇවිල්ලා ඒක උපක්ලේශයක් බවට පත්වුනාට පස්සෙ එයා එතනම කැරකි කැරකි ඉන්නවා මිසක් එයාට එතනින් එහාට යන්න ලැබෙන්නෙ නැහැ. මමයා කියන එක, මමත්වය නැති එක ගැන එයාට සක්කාය දිට්ඨිය ප්‍රහාණය කිරීම ගැන, සක්කාය දිට්ඨිය ගැන ඒකෙ ස්වභාවය ගැන, මමත්වය ගැන හොඳට එයාට ලස්සනට කතා කරන්න තේරෙනවා. නාමරූප වෙන් වෙන හැටි ගැන, ඒක වෙන් කරලා බලන හැටි ගැන ඒකෙ ස්වභාව ගැන කතා කරන්න පුලුවන් වෙනවා. මේවා එකක්වත් බොරු නෙවෙයි, මේ එයාට තේරිලා තමයි කියන්නෙ. වැටහීමෙන් තමයි කියන්නෙ. සාමාන්‍යයෙන් තියරියක පොතක පතක තියෙනවාට වැඩිය සෑහෙන්න එහාට ගිහිල්ලා කතා කරන්න පුලුවන් හැකියාව තියෙනවා.

තියෙන ප්‍රශ්නෙ තමයි මේක උපක්ලේශයක් වෙන්නෙ කොහොමද එහෙනම්, මේක හරි දේ නම්? ඒක අස්සට මම කියන එක රිංගවලා තියෙන එක තමයි එකම වැරැද්ද. එයා ඒ ගුණය මමත්වයෙන් අල්ලලා තියෙන එක තමයි එකම වැරැද්ද. එයා මමත්වය නැතිව කියනවා නම් එයා උපක්ලේශයට අහුවෙලා නැහැ. එතකොට ඔබ තේරුම් ගන්න ඕනෙ මේ සක්කාය දිට්ඨිය, මමත්වය කියන එක කොයිතරම් බලවත් ක්ලේශයක්ද කියලා. ඒ නිසයි අපි කියන්නෙ අපේ මිනිස්සු භාවනා කරන්න ආවත්, සාමාන්‍ය ජීවිතෙත් මේ රාගයයි ද්වේෂයයි අල්ලගෙන තමයි නටන්නෙ. ඇත්තටම ඔය රාගයයි ද්වේෂයයි එක්ක නෙවෙයි අපිට ප්‍රශ්නෙ තියෙන්නෙ. මමත්වය එක්ක, සක්කාය දිට්ඨිය එක්ක. ඔය රාග ද්වේෂ වලටත් පණ ගහලා එන්නෙ මමත්වය නිසා. රාග, ද්වේෂ දෙක ප්‍රහාණය වෙන්නෙත් අනාගාමී මාර්ග ඥාණයෙන්. ඉතින් මේ සෝවාන් වෙන්නෙවත් නැතිව මේ අනාගාමී මාර්ග ඥාණයෙන් ප්‍රහාණය වෙන ක්ලේශයක් ගැන අල්ලගෙන දඟලලා වැඩක් නැහැ. ඒ ඇයි අපේ මිනිස්සුන්ගේ ඔළුවට සමාජය විසින් ආගම විසින් දැම්මෙ රාග, ද්වේෂ දෙක මහා බරපතල සාප කළ යුතු කෙලෙස් කියලා. ආගම විසින් සංස්කෘතිය විසින්, සමාජය විසින් අපිට කියලා දුන්නෙ නැහැ ඊට වැඩිය බලවත් ක්ලේශයක් තියෙනවා අපිට ලේසියෙන් ප්‍රහාණය කරන්න අමාරු, ඒක තමයි සක්කාය දිට්ඨිය කියලා කියලා දුන් නැහැ. ඒ නිසා මෙතනදි අපි කතා කරන්න ඕනෙ ඒ ගැන. භාවනා කරන කෙනෙක් focus කරන්න ඕනෙ රාග, ද්වේෂ අයින් කරන්න නෙවෙයි, මමත්වය ගැනයි.

ඉතින් මෙතන මේ යෝගාවචරයාට වෙලා තියෙන්නෙත් ඒක. එයාගේ භාවනාව හොඳ මට්ටමකට ඇවිල්ලා. හැබැයි ඒක මමත්වයට යට කරලා තමයි එයා ඒක දකින්නෙ. ඒක experience කරන්නෙ. බැරිවෙලාහරි එයාට මේ උපක්ලේශය අඩුවුනා කියලා හිතමු අපි. ඒක ගලවගත්තා කියලා හිතමු, කඩාගත්තා කියලා හිතමු. එතකොට එයා හිතනවා

එයාට හරියටම තේරුන් නැත්නම් උපක්ලේශය කැඩුනා කියලා, එහෙම නැත්නම් එයා දන්නෙම නැතිව උපක්ලේශය නැතිවෙලා ගියා කියලා හිතමු. එයා දන්නෑ උපක්ලේශය නැතිවුනා කියන්න. මම උපක්ලේශයකට අහුවෙලා ඉඳලා ඒක නැතිවුනා කියන්න දන්නැත්නම් එයා හිතනවා මගේ අවබෝධය නැතිවෙලා ගියා කියලා. ඊටපස්සෙ එයා ඒක ආයෙ ගන්න දඟලනවා. භාවනා කරන්නෙ අර නැතිවෙච්චි එක ගන්න. එතකොට ලේසි නෑ මේ උපාදාන තත්වයක මෙයා ඉන්නෙ. උපාදාන තත්ව වලත් එක්ක තමයි මේ ගැටයට අහුවෙන්නෙ.

මේ කියන උපක්ලේශයට මමත් අහුවෙලා හිටියා. මම හිතනවා දේශනාව මේ දක්වාම මේක අහපු අයට හිතෙන්න ඇති ආ මෑණියොත් අහුවෙලානෙ ඉන්නෙ කියලා. ඔව් මම අහුවෙලා හිටියා ඒකට. එතකොට සමහර අයට හිතෙනවා මේකට අහුවුනාම තමන්ගේ ගුරුවරයාටත් වැඩිය මට ඥාණය තියෙනවානෙ තේරෙනවානෙ කියලා. නමුත් මට එහෙම හිතුනෙ නැහැ, මගේ ගුරුවරයාට වැඩිය මට ඥාණය තියෙනවා කියලා. මට හිතුනෙ ලොකු ස්වාමීන් වහන්සේ කියන හැමදේම එකක්වත් නැතිව මට තේරෙනවනෙ, අනිත් අයට තේරෙන්නෑ හැබැයි මට තේරෙනවානෙ. මම සමහර වෙලාවට උන්වහන්සේගේ දේශනා වල තියෙන ඔක්කොම experience කරලා නැහැ. Experience කරලා තියෙන මට දැනෙන්නෙ ගොඩක් දේවල් මම experience කරලා තියෙනවා, අනිත් ඒවා මං experience නොකලට මේ අත්දැකලා තියෙන වපසරියෙන් උන්වහන්සේ කියන ටික මට හොඳට තේරෙනවානෙ. උන්වහන්සේ කියන එකක්වත් මට තේරෙන් නැත්තෙ නැහැනෙ. මම අහුවුනේ එහෙම. මම එහෙම කියලත් තියෙනවා අපේ මෙහෙණින් වහන්සේලාට.

සමහර අයට හිතෙන්නේ මගේ ගුරුවරයාටත් වඩා මම දැන් ඉහළට ගිහිල්ලා තියෙනවා කියලා සමහර වෙලාවට ගුරුවරයා අතහරින්නත් ඉඩකඩ තියෙනවා. මේ ගුරුවරයාගෙන් දැන් මට ගන්න දෙයක් නෑ කියලා අතහරින්න ඉඩකඩ තිබේ. එහෙම වෙනවා. ගුරුවරයාටත් වඩා දන්නවානෙ කියලා හිතෙනවා. මොකද එහෙම දැනීමක් එයාට දැනෙනවා. මොකද මේ කවදාවත් අත්නොදැකපු කවදාවත් නොතේරුනු කවදාවත් හිතුවෙවත් නැති විදියේ වැටහීමක් එයාට ඇවිල්ලා තියෙන්නෙ. අවබෝධයක් ඇවිදිල්ලා තියෙන්නෙ. ඒක වැරදි නැහැ, භාවනාව දියුණු වෙලා තියෙන්නෙ. එතකොට මේ ඥාණ මට්ටමට ආවට පස්සෙ එයාට සියුම් විදියට නාමරූප පටිච්ච සමුප්පාදය, උප්පාද ඨිති භංග, සමුදය ගැන, අජ්ජත්ත බහිද්ධා ධර්මතා ගැන, චතුරාර්ය සත්‍යය ගැන මේ හැම එකක් ගැනම ඉතාම සියුම්ව වැටහෙනවා, ඉතාම සියුම් විදියට එයාට කතා කරන්න පුලුවන් හැකියාව ලැබෙනවා. ඒ කොච්චර දක්ෂව කතා කරනවාද කියනවා නම් අහන ඕනම කෙනෙක් එයාට යටවෙනවා, දමනය වෙනවා. එයා කියන්නෙ ඇත්ත කියලා තේරුම් ගන්න හිතෙනවා, එච්චරටම කතා කරන්න පුලුවන්.

හැබැයි තියෙන ප්‍රශ්නෙ තමයි එයා අපරාදි ක්ලේශයකට යටවෙලා ඉන්නෙ. මමයට යටවෙලා ඉන්නෙ. අහන කෙනා සමහර වෙලාවට ප්‍රයෝජනයක් ගන්න පුලුවන්. එයාට විපස්සනා ඥාණය ගැන හොඳට කියලා දෙන්න පුලුවන්. සමහරවිට විපස්සනා ඥාණය එයාට හැදිලා නැතිවෙන්නත් පුලුවන්. ඒකයි මං කිව්වෙ අර කලින් ලොකු ස්වාමීන් වහන්සේ දේශනා කරලා තියෙන ධර්මවල අත්දැකලා තියෙන ටික තේරෙනවා, අත්දැකපු නැති ටිකත් මේ අත්දැකලා තියෙන වපසරියෙන් ඒක හරිනෙ කියලා වැටහෙනවා හොඳට. ඒ වගේ සමහරවිට මේ යෝගාවචරයා විපස්සනා ඥාණ ලබලා නැතිවෙන්න පුලුවන්. හැබැයි ඒ ගැන හොඳට කතා කරන්න එයාට දක්ෂතාවය තියෙනවා. එයාට වැටහෙනවා. ධර්මය ගැන එයාට පොත පත වුනත් ලියන්න පුලුවන් ඕන තරම්. අහගෙන ඉන්න කෙනාට වශීවෙලා අහගෙන ඉන්න හිතෙනවා. එච්චරට එයාට කතා කිරීමේ දක්ෂතාවය

හැදෙනවා. එච්චර දැනුමක් තියෙනවා. සාමාන්‍ය මනුස්සයෙක් වගේ නෙවෙයි එයා. සාමාන්‍ය චරිතයක් නෙවෙයි ඇත්තටම මේ මට්ටමට ආවා කියන්නෙ. එයාගේ මනස සෑහෙන පෙර තියෙනවා, එයා සෑහෙන මනස දියුණු කරලා තියෙන කෙනෙක්. මනස දියුණු වෙලා තියෙන්නෙ ඇත්තටම. එයාට මේ උපක්ලේශයෙන් අයින් වෙලා අයින් වෙන්න පුලුවන් වුනොත්, එයාට තේරුණොත් ගුරුවරයාගේ පිහිටෙන් මම අහුවෙලා ඉන්නෙ උපක්ලේශයකට කියලා එතකොට එයාට ඒ උපක්ලේශයෙන් අයින් වෙලා මේ තමන්ගේ අවබෝධය කියන්න පුලුවන්කම තියෙනවා නම් ඒ මනුස්සයා ශ්‍රේෂ්ට පුද්ගලයෙක්. ලේසි නෑ ඒ තැනට එනවා කියන එක.

මේ විපස්සනා උපක්ලේශ වල තව එකක් එනවා ඉස්සරහින් නිකන්තිය කියලා. අන්න ඒකයි මේකයි එකට ගැටගැහිලා තමයි මේ දෙක වැඩ කරන්න පටන් ගන්නෙ. එයා නිසා තමයි මේ ඥාණය ළඟදි මෙයා මෙච්චර උගුල් වලට අහුවෙන්නෙ. මේ යෝගාවචරයා හිතනවා මම කියන දේ තමයි හරියටම හරි, හැබැයි එයා ඇත්ත, එයා කියන එක හරි. හැබැයි එතනින් එහාට එයා ගිහිල්ලත් නෑ එයා මේ ලබලා තියෙන දේ මමත්වයෙන් දැඩිව ආත්මදෘෂ්ටියෙන් ගත්තු එක තමයි එකම වැරැද්ද. එයාට මේ උපක්ලේශයෙන් අයින් වෙනකල් එතනින් එහාට යන්න ලැබෙන් නැහැ. ඉතින් මේ මට්ටමට එනකල් එයාට භාවනා කරන්න යෝගාවචරයන්ට උපදෙස් දෙන්නත් පුලුවන්. කිසිම ප්‍රශ්නයක් නැහැ, එයාට ඒක කියලා දෙන්න පුලුවන්කම තියෙනවා. හැම ධර්ම කොට්ඨාශයක් ගැනම, සාමාන්‍ය කෙනෙකුට නොතේරෙන මට්ටමින් පඤ්චස්කන්ධ, පඤ්චුපාදානස්කන්ධ, සලායතන මේ හැම දෙයක් ගැනම කතා කරන්න පුලුවන් කතා කරනවා නම්.

ඉතින් එයාට හිතෙන්න පුලුවන් සමහර වෙලාවට අපි හිතමු මෙයා දන්නෙ නැහැ උපක්ලේශයකට අහුවෙලා ඉන්නෙ කියලා. එයා නොදැනම උපක්ලේශය අඩුවෙලා ගියා කියලා හිතමු. එතකොට හිතනවා මෙයා මට කලින් නම් හොඳට අවබෝධය තිබුනා, දැන් ඒක නැතිවෙලානෙ. මට කලින් හොඳට නාමරූප එහෙම තේරෙන්න පටන් අරගෙන තිබුනා දැන් මට ඒක වැටහෙන් නෑනෙ. ඇයි මට දැන් ඒ තේරෙන්නෙ නැත්තෙ, ඇයි මට කලින් වගේ දේවල් වැටහෙන්නෙ නැත්තෙ කියලා හිතනවා. මෙතනදි තියෙන ප්‍රශ්නෙ තමයි මේ යෝගාවචරයාට අනිත්‍යයි, අනාත්මයි කියන ධර්මතා දෙක තේරිලා නැහැ. ඒ නිසා දැනටත් සමහර අය භාවනා කමටහන් එවද්දි ඒගොල්ලන්ට මේ අනිත්‍යයි අනාත්මයයි මේ දෙක භාවනාව පටන් ගන්නකොට යෝගාවචරයාට පෙන්නුම් කරනවා. හැබැයි යෝගාවචරයා ඒක භාරගන්න කැමැති නැහැ. ඉතින් මේ උපක්ලේශය මට්ටමට ආපු යෝගාවචරයාටත් අනාත්ම ස්වභාවය සහ අනිත්‍ය ස්වභාවය වැටහිලා නැති නිසා එයා අර කලින් ලබපු අවබෝධය ආයෙත් හොයාගෙන යනවා. එතකොට එයාට හිතුනොත් එහෙම මේ මගේ ගුරුවරයාට වැඩිය මට දැන් ඥාණය ඇවිල්ලා තිබුනේ, එයාට තව තේරෙන් නැහැ කියලා ඉතින් තව භාවනා මධ්‍යස්ථාන හොය හොයා යනවා ඊටපස්සෙ භාවනා කරන්න.

ඉතින් මේ යෝගාවචරයා මේ උපක්ලේශය අයින් කරගත්තෙ නැත්නම් එයාගේ භාවනා පුහුණුව එතනින් ඉස්සරහට යන්නෙ නැහැ. හැබැයි හොඳ ශ්‍රද්ධාවක් හැදිලා තියෙනවා. එයාට දැන් විශ්වාසයි මේකම තමයි පාර කියලා. ඒ නිසා තුණුරුවන් කෙරෙහි තියෙන විශ්වාසය එයාට හොඳට තියෙනවා. ඒ නිසා කවදාවත් භාවනා පුහුණුව අතහරින්නෙ නැහැ. ඒ නිසා දිගටම භාවනා කරනවා. හැබැයි එයා දැනට මේ එයාට මුණගැහිලා ඉන්න ගුරුවරයා ඇත්තටම ඇති එයාට මේ වැඩේ ඉවර කරන්න. හැබැයි අර උපක්ලේශය නිසා එයාව මේ රට වටේ කරකවනවා, හැමතැනම කරකවනවා. හැබැයි එහෙමයි කියලා මේ යෝගාවචරයා අපායට යන්නෙ නැහැ. මරණින් මත්තෙ එයා සුගතියකට යනවා. හැබැයි

නිවන කියන එක මගහැරෙනවා. එතකොට යම්කිසි විදියකට දැන් අපි මේ කියන ඥාණය කියන උපක්ලේශයට කලින් කතා කලේ සුඛය කියන උපක්ලේශය. මේ සුඛයයි ඥාණයයි කියන දෙක එකවර යෝගාවචරයෙකුගේ මනසේ හටගත්තොත් එයා හිතන්නෙම එයා මගඵලයක් ලැබුවා කියලා. අනිවාර්යයෙන් ඒ ලණුව කනවාම තමයි. මං ඉන්නෙ මාර්ගඵලයක කියලා හිතනවා. කොච්චර කිව්වත් එයා පිළිගන්නෙ නැහැ. කියන එක්කෙනා භාවනාව ගැන දන්නෙ නැහැ කියලා තමයි එයා හිතන් ඉන්නෙ.

දැන් ඔබට තේරෙනවද භාවනා කරනවා කියන එකට කොච්චර දක්ෂ ගුරුවරයෙක් ඕනෙද, ගුරුවරයෙක් හිටියත් අපේ තියෙන ඔළුමොළ ගති ඉස්සරහට ආවොත් ගුරුවරයා කියන එකත් අපි පිළිගන්නෙ නැහැ. මේක ඒ තරමටම ඔළුව බිම ඔබාගෙන දණගහගෙන යා යුතු ගමනක්. මාන්නක්කාරකම් තිබුනොත් තමන්ට තත්ව හදාගන්න මේකට ආවොත් නිවන් දකින්නත් භාවනා කරන්නත් මිනිස්සු එන්නෙ තත්ව හදාගන්නනෙ. එහෙම ආවොත් එහෙම ඉවරයි. සමහරවිට එයාට මේ ජීවිතේ මාර්ගඵල ලබන්න පින තියෙනවා, හැබැයි මේ කියන අනිත්‍ය, අනාත්ම කියන ලක්ෂණ වැටහෙන් නැති නිසා, අධික මමත්වය නිසා ඒ යෝගාවචරයා පාරෙන් පිට පනිනවා. ඉතින් මෙයා දන්නෙම නැතිව මේ උපක්ලේශය අයින් වෙලා ගියත් එයා හිතන්නෙ නැහැ එයා මේ උපක්ලේශයකට රැවටිලා හිටියෙ කියලා මෙච්චර වෙලා. ඉතින් ඒ නිසා එයා අර කලින් තිබුනු මානසිකත්වය ගන්නම තමයි ආයෙ ආයෙ භාවනා කරන්න පටන් ගන්නෙ. ඉතින් අර කලින් තිබිච්චි දෙයක් ආයෙ ගන්න භාවනා කරන හින්දා එයාගේ භාවනාවත් හරිම දුෂ්කර වෙනවා, කටුක වෙනවා, කරෝසන වෙනවා. ලේසි නැහැ, ඇයි මේ කලින් දෙයක් ගන්නනෙ මේ ආත්ම දෘෂ්ටියේ ඉඳගෙනනෙ වැඩ කරන්නෙ. කලින් වෙච්චි දේවල් එතන එතන බිඳිලා ඉවරයි. දැන් ආයෙ අපිට ඒක ගන්න බැහැ. මොකද එක චිත්තක්ෂණයක් එකසැරයක් එකවරකට විතරයි ඇතිවෙන්නෙ. ආයෙ එන්නෙ නැහැ. අපි නැවත නැවත හේතු සම්පාදනය කිරීමෙන් තමයි ඒ මානසික මට්ටම් නැවත නැවත එන්නෙ.

ඉතින් හරිම අපහසු වෙනවා. මොකද එයාගේ මනස පැටතිලා තියෙන්නෙ අර කලින් තිබුනු තත්වය ගන්න නිසා, ඒ උපක්ලේශ මට්ටම ගන්න නිසා එයාගේ භාවනාව සෑහෙන අමාරු වෙනවා. ඉතින් කැඩුනට පස්සෙ කලින් තිබුනු සමාධිය, කලින් තිබුනු නුවණ, ඒවා ගන්න එයා ඉතින් තකහනියෙ භාවනා කරනවා. අනිත් අය එක්ක කතා කරන්නැහැ. අනිත් අය භාවනා කලත් එකයි නැතත් එකයි කියලා එයා ගිහිල්ලා එයාගේ වැඩ ටික කරගන්නවා. වතපිළිවෙත කරන්නැහැ. ඉක්මණට ගිහිල්ලා සක්මන් කරනවා, පර්යංකයට යනවා. ඔහොම ඔහොම කර කර ඉන්නවා. ඇයි මෙයාගේ මේ බලාපොරොත්තුව කලින් තිබුනු මානසිකත්වයට නැවත ඒම තමයි මෙයාගේ තියෙන දැන් බලාපොරොත්තුව.

ඒ නිසා මේ මට්ටමේදී යෝගාවචරයා තමන්ගේ ගුරුවරයා අදහාගෙන වැඩ කරන්න දැනගන්න ඕනෙ. ඒ මට්ටම එන්න ඕනෙ සුතමය ඥාණය නැවත නැවත ගන්න ඕනෙ. සුතමය ඥාණය කියන්නෙ මේ විකාර බණ නෙවෙයි, මේ කරගෙන යන පුහුණුව සම්බන්ධව ඊට අදාළ දේශනා අහන්න ඕනෙ. සමහරවෙලාවට ගුරුවරයා ඊට අදාළ දේශනා තියෙන තැනක්, පොතපතක් තියෙනවා නම් යෝගාවචරයාට කියනවා මෙන්න මේ පොතේ අහවල් පිටුව කියවලා බලන්න. මෙන්න මේක කියවලා බලන්න, මේක අහලාබලන්න කියලා. ඒ දෙන්නෙ එයාගෙ අර point එකට අදාළ කාරණාව. එතකොට අපිට අදහාගන්න පුලුවන් වෙන්න ඕනෙ. ඕක තමයි ගුරුවරයාට ජීවිතය දෙනවා කියන්නෙ. ගුරුරවයා කියන එක සියයට සීයක් විශ්වාස කරගෙන යන්නෙ. මොකද වෙන පිහිටක් පිළිසරණක් නැහැ. එහෙම කලොත් යෝගාවචරයාට තේරුම් ගන්න පුලුවන් ආ මම අහුවෙලා ඉන්නෙ මෙහෙම එකකට. මේ මට ලැබුනු වැටහීම අවබෝධය මම දැඩිව

මමත්වයෙන් අල්ලලා නේද ඉන්නෙ කියන එක එයාට තේරුම්ගන්න පුලුවන් වෙනවා. ඊටපස්සෙ මමත්ව සිත එයාට දකින්න තමයි සිද්ධ වෙන්නෙ. ඉතින් ඒ නිසා ඒ මට්ටමේදී යෝගාවචරයා අනිවාර්යයෙන් ගුරුවරයා ළඟ ඉන්න ඕනෙ. ඒ ගුරුවරයාගේ පිහිට හොඳටම ඇති එයාට වැඩ කරගෙන යන්න. මමත්වය නැතිව මේ ඥාණයෙන් එයා වැඩ කරනවා නම්, භාවනාව ඉස්සරහට දියුණු වෙන්න පටන් ගන්නවා. නැත්නම් එතනම තමයි. නමුත් එයාට හානියක් නැහැ, ස්වර්ගයට යන්න, කියන්නෙ සුගතියට යන්න හානියක් නැහැ. නිවන ඇහිරෙනවා. මේ ජීවිතේ නිවන ලබාගන්න බැරිවෙනවා.

ඉතින් ඕක තමයි අපිට කතා කරන්න තියෙන හත්වෙනි උපක්ලේශය. අපි ඊළඟ උපක්ලේශයෙන් ඊළඟ වීඩියෝ එකේදී හමුවෙමු. තෙරුවන් සරණයි!

## 44) උපේක්ෂාව උපක්ලේෂයක් වෙන තැන | විපස්සනා උපක්ලේෂ- 8/9 | Right concentration & Upakkilesa

තෙරුවන් සරණයි! අද අපි කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනය. අපි මේ වෙනකොට කතා කරමින් ඉන්නෙ විපස්සනා උපක්ලේශ ගැන. ඉතින් ඊළඟට අපි කතා කරන්න තියෙන උපක්ලේශය තමයි මුපට්ඨානය. ඒ කියන්නෙ අරමුණු සිහි කරලා දෙන එක. සිහිය නෙවෙයි මේ කියන්නෙ, සතිය නෙවෙයි. අරමුණ මතක් කරලා දෙන එක. සිහිපත් කරලා දෙන එක. ඒකට තමයි මුපට්ඨානය කියන්නෙ. ඒ කියන්නෙ එයාට හිතෙන්න පුලුවන්, මම ඊයෙ නම් භාවනාවේදි අරමුණ හරියට මෙනෙහි කලේ නැහැ. නැතිනම් ඊයෙ නම් අරමුණ හරියට මෙනෙහි කලා. ඒ විදියටම මම අදත් මෙනෙහි කරන්න ඕනෙ. එහෙම නැත්නම් මට ඊයෙ අරමුණ මෙනෙහි කරන්න බැරිවුනා, අද නම් මම හරියටම ටක්කෙටම අරමුණ හොයාගෙන ඒක මෙනෙහි කරන්න ඕනෙ. එහෙම නැත්නම් එයාට හිතෙන්න පුලුවන් අරමුණට හොඳට හිත යනවා නම් ආ මට දැන් හරියට මෙනෙහි කරන්න පුලුවන්. හරියටම අරමුණ අනිත් ඒවයින් වෙන් කරලා මට අරමුණ මෙනෙහි කරගන්න පුලුවන්, ඉස්සෙල්ලාට වැඩිය දැන් ඒක හොඳට දියුණු වෙලා.

දැන් කමටහන් වාර්තා ශුද්ධ කරන්න ගියාට පස්සෙ අනිත් අයගේ කමටහන් එක්ක සන්සන්දනය කරලා හිතනවා මට වැඩිය හොඳට අරමුණ මතක් කරලා මනසට ගෙනල්ලා දෙන්න පුලුවන්. සිහි කරන්න පුලුවන්. අනිත් අයට වැඩිය මට හොඳට අරමුණේ යථා තත්වය තේරුම් ගන්න පුලුවන්. මෙන්න මේ විදියට ඒ තමන්ගේ මනසට අරමුණ සිහි කරලා දෙන ස්වභාවය, ඒකට බැඳෙනවා. ඒක දැඩිව අල්ලනවා. මට හැමදාම මේ විදියටම හැම පර්යංකයකදිම, හැම සක්මනකදිම එදිනෙදා කරන හැම වැඩකදිම අරමුණ සිහිකරගන්න තියෙනවා නම් කොච්චර හොඳයිද කියලා එයා හිතනවා. අන්න ඒකට ඒක හොඳයි කියලා ඒකට බඳෙන එක තමයි, ඒකට උපාදාන වෙන එක තමයි, ඒක දැඩිව අල්ලන එක තමයි, ඒක මමත්වයෙන් ගන්න එක තමයි මෙතන තියෙන ක්ලේශය. එහෙම නැතිව මේ සිහි කරලා දෙන එකේ දෝෂයක් නෙවෙයි. ඒ කියන්නෙ එයාට පර්යංකයට ගියාට පස්සෙ එයාගේ හිත එල්ල කරන්න ඕනෙ අරමුණ ගානට එයාට සිහිපත් කරලා දෙනවා හිත විසින්.

ඒ කියන්නෙ උදාහරණයක් අපි උපමාවක් කියමුකො. අපි හිතමු අපි දාන ශාලාවෙ ඉඳලා තමන්ගේ කුටියට යන්න යනවා. එතකොට එයා මනසට, දානශාලාවේ ඉඳලා කුටියට යද්දී එයාගේ මනසට අධිෂ්ටානයක් ගන්නවා වෙන්න පුලුවන් දානශාලාවේ ඉඳලා කුටියට යනකල් මම හරියටම සිහියෙන් යනවා කියලා. එතකොට සිහියෙන් යන්න නම් එයාට

හරියටම සිහිය පවත්වන්න අවශ්‍ය අරමුණ මනසට ගෙනල්ලා දෙන්න ඕනෙ. එතකොට අපි හිතමු එයා අධිෂ්ටාන කලේ සක්මනක් විදියට යන්න කියලා. එතකොට දකුණු පියවරෙන් වම් පියවරට, වම් පියවරෙන් දකුණට අත නැර එයාගෙ සිහිය හිත පිහිටුවන්න ඕනෙ අරමුණ හරියටම එයාට සිහිපත් කරලා දෙනවා. අපි හිතමු ඒ අතරෙ හරියටම හොඳට ටක්කෙට සිහිය පිහිටියොත් දකුණ වම දෙකේ එයාට ඒ අතරේ අතපය සෙලවෙන එක, ඇහිපිල්ලමක් ගැහෙන එක පවා හොඳට එයාට සිහියට ගන්න පුලුවන්, සිහියට ගන්න සිතට සිහිපත් කරලා දෙන්න ඕනෙ. ඒ තරමටම එයා දක්ෂ විදියට එයාට ඒක දියුණු වෙලා තියෙනවා, එයාට ඒක වැඩිලා තියෙනවා මේ අරමුණ සිහිපත් කරලා දෙන ගතිය. සිහිය පිහිටුවන්න අවශ්‍ය අරමුණ මතක් කරලා දෙන ගතිය. ඒක ඇත්තටම අඩුපාඩුවක් නෙවෙයි ඒක දියුණුවක්. ඒක හොඳ තත්වයක්. තියෙන ප්‍රශ්නෙ තමයි එයා ඒක හොඳයි කියලා එතන නතරවෙලා ඉන්න එක. ඒක උපාදානය කරගෙන ඉන්න එක, ඒක මමත්වයෙන් අල්ලලා ඉන්න එක. එතකොට වෙන්නෙ එයාගේ ඉස්සරහට යන්න තියෙන එයාගෙ භාවනාවේ ඉස්සරහට යන්න තියෙන පියවරවල් ටිකට එයාට යාගන්න බැරිවෙන එක.

එතකොට විපස්සනා ගුරුවරු දේශනා කරනවා මීට කලින් අපි කතා කරපු සුඛයයි, ඥාණයයි කියන එකයි, මේ මුපට්ඨානයයි කියන එකයි එක ළඟ පැමිණුනොත් ඒ යෝගාවචරයා අනිවාර්යයෙන්ම රැවටෙනවා මාර්ගඵලයක් ලැබුවා කියලා. මොකද සුඛයයි ඥාණයයි මනසක වැඩ කරන හැටි අපි කලින් කතා කලා. ඒ දෙකත් එක්ක එකතු වුනහම එතන එතන එන එන අරමුණ එයා හරියටම සිහිපත් කරලා මෙනෙහි කරද්දි මේ අරමුණු වල තියෙන විදීම් එයාට දැනෙන්නෙ නැතිව යනවා. අරමුණක තියෙන වේදනාව නැතිව යනවා. ඒක විඳින්න බැරිව යනවා. එතකොට නිකං එයාට හිතෙන්නෙ අරමුණු අඩුවෙනවා වගේ. මොකද එයාට හිතට කතන්දර ගොතන්න අවශ්‍යතාවයක් එන්නෙ නැහැ. ඉඩක් හැදෙන්නෙ නැහැ. එතන එතන අරමුණ මෙනෙහේ කරනවා එන එන අරමුණත් වේගයෙන් බිඳි බිඳී යනවා, එතකොට එයාට දැනෙන්නෙ නිකං එයාට අරමුණු එන එක අඩුවෙලා, ඒ නිසා සංස්කාර කරන එක අඩුයි වගේ එකක් එයාගේ මනසට දැනෙන්නෙ. දැන් අරමුණක විදීමකුත් දැනෙන්නෙ නැති හන්දා සංඥා කියන එකත් ටිකක් අඩුවෙනවා. එතකොට කෙලෙස් කියන එක සෑහෙන්න අඩුවෙන්න පටන් ගන්නවා මනසක. එතකොට මෙයා නිකම්ම රැවටෙනවා මාර්ගපල ලැබුවා කියලා. සමහරවෙලාවට ගුරුවරයත් මේක දන්නැත්නම් මාර්ගඵල ලැබුවා කියලා කියලාදෙන්න පුලුවන්. ගුරුවරයා දැනගත්තත් සමහරවිට ගෝලයා මේ තමන් විඳින සුවය නිසා තමන්ම මතයක් හදාගන්න පුලුවන් මම මාර්ගඵල ලැබුවා කියලා. ඒ නිසා මේ මුපට්ඨානය කියන එක ළඟදි තමන්ගේ මනස හදාගන්න දක්ෂ ගුරුවරයෙක් ඉන්න ඕනෙ, ඒක උපක්ලේශයක්. මේ හැකියාව හොඳ වුනාට, ඒ හැකියාව මමත්වයෙන් තණ්හා මාන දිට්ඨි වලින් ගන්න එක තමයි මෙතන තියෙන දෝෂෙ.

ඉතින් උපක්ලේශ වල ඊළඟ උපක්ලේශය තමයි උපෙක්ෂාව කියන එක. උපෙක්ඛාව කියන එක. ඉතින් සාමාන්‍යයෙන් මේක භාවනාවක් අතනැර කාලයක් පුහුණු වෙන කෙනෙකුට සාමාන්‍ය විදියට උපෙක්ෂාව එන්නත් පුලුවන්, තමන් හදාගෙන තියෙන සුතමය චින්තාමය ඥාණ වලින් තමන් හදාගෙන තියෙන ගුණධර්ම මේ භාවනාවට අමතරව තමන් ළඟ තියෙන ගුණධර්ම ටික නිසා, යම් යම් මානසික මට්ටම් නිසා ධර්ම කරුණු තේරුම් ගැනීම නිසා උපෙක්ෂාව එන්නත් පුලුවන්. සමහර අවස්ථා තියෙනවා ප්‍රඥාව නැතිව නිකං හේබානවා වගේ උපෙක්ෂාවක් එන ගතියක් තියෙනවා, එතන නුවණින් නෙවෙයි ඒ උපෙක්ෂාව ඇවිල්ලා තියෙන්නෙ, නිකං හේබාන ගතියක්. තව උපෙක්ෂාවක්

තියෙනවා නුවණ නිසා, ප්‍රඥාව වැඩිවීම නිසා හටගන්න උපෙක්ෂාවක්. එතකොට අපි මේ මෙතන විපස්සනා උපක්ලේශ කතාවේදි කතා කරන්නෙ මේ උපෙක්ෂාව, ප්‍රඥාව නිසා හටගන්න එකක්. ඒ කියන්නෙ නුවණ ඇතුව තමයි මේක හටගන්නෙ. ඒ කියන්නෙ තමන්ට භාවනා අරමුණේ හරියට ඉන්න පුලුවන් වුනු නිසා අරමුණට හරියටම මුහුණට මුහුණ දාලා ඉන්න පුලුවන් වුනු නිසා අරමුණේ යථා ස්වභාවය දකින්න පුලුවන් වුනු නිසා තමයි මේ උපෙක්ෂාව එයාට දැන් ඇවිල්ලා තියෙන්නෙ.

එතකොට ඒක ඇත්තටම වැරැද්දක් නෙවෙයි. හැබැයි මේක කොහොමද උපක්ලේශයක් වෙන්නෙ. උපෙක්ඛාව කියන එක කොහොමද උපක්ලේශයක් වෙන්නෙ? එක ක්‍රමයක් තමයි එයා අනිත් යෝගීන් එක්ක සන්සන්දනය කරන්න යන එක. එයා හිතනවා අනිත් අයට උපෙක්ෂාව නැහැ, මට තියෙනවා කියලා. ඒක ක්‍රමයක් මේ උපෙක්ෂාව උපක්ලේශයක් බවට පත්වෙන්න. ඊළඟ එක තමයි වැදගත්ම කාරණය, සාමාන්‍යයෙන් අපි උපෙක්ෂාවට කැමැති නැහැනෙ. සාමාන්‍යයෙන් ඔයගොල්ලො වුනත් මධ්‍යස්ථ වුනහම ඇලීම් ගැටීම් නැතිවුනහම කැමැති නැහැ. අපි ඒකට කියන්නෙ මහා පාළුයි, මුස්පේන්තුයි, එපා කරපු ගතියක් තියෙන්නෙ කියලා. සාමාන්‍යයෙන් අපේ මනස කැමැති නැහැ උපෙක්ෂාවට. ඒ කියන්නෙ හරියටම මේ උපෙක්ෂාව ආපු කෙනාගේ මනසේ උපෙක්ෂාවට කැමැත්තක් එන්නෑ. එතකොට අපි හිතමු එයාට දැන් මේ උපෙක්ෂාවක් කියලා එකක් ඇවිල්ලා කියලා එයා ප්‍රඥාවෙන් මේක තේරුම් බේරුම් කරගෙන තියෙන්නෙ කියලා. දැන් මට මේ උපෙක්ෂාව ඇවිල්ලා තියෙන්නෙ ඒ නිසා තමයි මට මේ අකැමැත්තක් ඇවිල්ලා තියෙන්නෙ කියලා එයා හරියටම නුවණ එතැනට සමපාත කරගත්තොත් අන්න ඒ ප්‍රඥාව සහිතව ආපු උපෙක්ෂාවට කැමැත්තක් එන්නෙත් නැහැ, අකැමැත්තක් එන්නෙත් නැහැ, මධ්‍යස්ථයි. උපෙක්ෂාවටත් මධ්‍යස්ථයි. හැබැයි මේ උපක්ලේශ මට්ටමෙන් ආවහම එයාගේ හිතේ උපෙක්ෂාවට කැමැත්තක් ඇතිවෙනවා. අන්න ඒක තමයි මේක හඳුනගන්න තියෙන හොඳම රහස. එකක් අර අනිත් අයත් එක්ක සන්සන්දනය කරලා තමන් උඩින් තියාගන්නවා. අනික තමයි තමන් මේ ඉන්න උපෙක්ෂාව ගැන සෑහෙන්න පිම්බිලා ඉන්නෙ, සෑහෙන්න තමන්ට සතුටක් තියෙනවා, ඒ කෙනා ලොකු කැමැත්තකින් තමයි ඉන්නෙ ඒ උපෙක්ෂාව තියෙනකොට.

එයාට එතකොට හිතෙනවා මේ උපෙක්ෂාව මට හැමදාම තියාගන්න පුලුවන් නම්. මොකද ඒකෙ දැනෙන සහනය නිසා එයා හිතනවා මේක හැමදාටම සදාකල්ම තියාගන්න පුලුවන්නම් කියලා. ඉතින් යෝගාවචරයෙකුට මේ උපෙක්ෂාව කියන එක නිසා හටගත්තු උපක්ලේශය ගුරුවරයා නිසා අයින් කරගන්න පුලුවන් වුනොත් ඒක නැවත හටගන්නෙ නැහැ කියලා විපස්සනා ගුරුවරු උගන්වනවා. නමුත් යෝගාවචරයාගේ මනසින් මේ උපෙක්ඛාව කියන උපක්ලේශය නැති වුනාට අනිත් උපක්ලේශ ටික වරින් වර එයාගේ මනසේ හටගන්න පුලුවන්, හටගන්නත් ඕනෙ. මොකද ඒවා හොඳ දේවල්. එයාට මේවා ඇවිල්ලා මේ උපේකෂාව කියන එකෙන් ගොඩ ආවට පස්සෙ එයාට තේරෙනවා අර කලින් අර කතා කරපු ආලෝක වගේ ඒ උපක්ලේශ විදියට එන දේවල් ඒවා ඇත්තටම භාවනාවක දියුණුව නිසා එන්න ඕනෙ දේවල්. ප්‍රීති, පස්සද්ධි, වීර්යය මේවා ඔක්කොම භාවනාවේ දියුණුවත් එක්ක එන දේවල්. ඒවා එන්න ඕනෙ. හැබැයි මේවනකොට යෝගාවචරයා දන්නවා මේවා වැරදි විදියට ඇල්ලුවාම තමයි මේක උපකලේශයක් වෙන්නෙ කියලා.

එතකොට යෝගාවචරයා දැනගන්නවා මේක තණ්හා දිට්ඨි මාන වලින් ඇල්ලුවහම තමයි දෝෂ එන්නෙ කියලා. නමුත් ඒවා එන එක ප්‍රශ්නයක් නෙවෙයි. එතකොට සමහර අවස්ථාවන් වලදි යෝගාවචරයා මේ සමහර උපක්ලේශ නිසා සතුටින් ඉන්නවා නම්, සතුටේ රැඳිලා ඉන්නවා නම් ගුරුවරයා කරන්නෙ ඇත්තටම එයාට සැර වෙන එක, සැර

වෙන්න ඕනෙ, පොඩි ළමයෙක් වගේ එයාව හුරතල් කරන්න හොඳ නැහැ, එයාට ලකුණු දෙන්න හොඳ නැහැ. එහෙම කලොත් එයා ඒ උපක්ලේශයේ හිරවෙනවා. නතර වෙනවා. මොකද එයා හිතන් ඉන්නෙ ගුරුවරයා අරහෙම හුරතල් කලහම ගුරුවරයා අනුග්‍රහ කලාම මේ ඉන්න තැන හොඳයි කියලානෙ එයා හිතන් ඉන්නෙ. අපි වුනත් එහෙමනෙ. නිකං මේ භාවනාවක් ඕන නැහැ නිකං තත්වයකදි අපේ ගුරුවරයෙක් මොකක්හරි දේකට අපිට අනුමත වෙන විදියට කතා කලොත් අපි හිතනවා ඒක හරි කියලා, අපි ඒකෙ රැඳෙනවා. හැබැයි සැර කලොත් දන්නවා මොකක් හරි මේකෙ හරි නැහැ කියලා. ඒ නිසා ඒ අවස්ථා වලදි සාමාන්‍යයෙන් විපස්සනා ගුරුවරු කියන්නෙ යෝගාවචරයාට කාරුණික වෙන්න හොඳ නැහැ. කරුණාවන්තව සළකන්න හොඳ නැහැ.

ඇත්තටම නම් කරුණාවක් නිසා තමයි ගුරුවරයා එහෙම කරන්නෙ. මිනිස්සු දකින කරුණාව වෙන එකක්. මිනිස්සු හිතන් ඉන්න විදියේ කරුණාවක් පෙන්වන්න හොඳ නැහැ. නමුත් සමහර වෙලාවට සමහර ගුරුවරු අදකාලෙ වර්තමානයෙ ඕක දැනගෙන හෝ නොදැන යෝගාවචරයන්ට ඔය විදියට ආදරෙන් කරුණාවෙන් සළකනවා, ලකුණු දෙනවා, පුම්බනවා ඉතින් එතනින් ඉවරයි. එහෙම කරන්න හොඳ නැහැ, නමුත් මේවා භාවනා නොකළ නිකං මතුපිටින් ශාසනේ අල්ලගෙන ඉන්න මේ තියරි අල්ලගෙන ඉන්න, මේ භාවනා කරන අය මෙන්න මේ විදියයි කියලා frame එකකට දාගෙන ඉන්නවානෙ අපේ මිනිස්සු. අපේ මිනිස්සු හිතන් ඉන්නෙ භාවනා කරනවා නම් බිම බලාගෙන යන්න ඕනෙ. තණකොළයක්වත් පෑගෙන්න බැහැ, ඇවිදිනකොට සද්දයක්වත් ඇහෙන්න බැහැ. කණට ඇහෙන්න කතා කරන්න හොඳ නැහැ. කොක් හඬලා, ටිකක් සද්දෙ ඇහෙන්න හිනාවෙන්න හොඳ නැහැ, සැරට කතා කරන්නහොඳ නැහැ, ශාන්තදාන්ත තීන්ත කූඩුවක් තමයි භාවනා කරන අය කියලා අපේ මිනිස්සු හිතන් ඉන්නෙ. ඒක තමයි මේ ආගම විසින්, සම්ප්‍රදාය විසින් ඔළුවට දාපු දේ. එහෙම එකක් නෙවෙයි, භාවනාව දියුණු වෙනකොට ඒ මනුස්සයා ස්වභාවික වෙනවා. ස්වභාවිකත්වය කාටවත් හානිකර නැහැ, ඕන නම් හානිකරගන්න පුලුවන්. ස්වභාවික වෙනවා කියන්නෙ ඒ මිනිස්සු හිතන් ඉන්න විදියේ ශාන්ත ශාන්තදාන්ත තීන්ත කූඩුවක් වෙන එක නෙවෙයි. ඉතින් මිනිස්සු හිතන් ඉන්නවානෙ මේ භාවනා දියුණු ගුරුවරයෙක් නම් මේ සැර කරලා හරියනවද, එහෙම එකක්නෙ අපේ මිනිස්සු හිතන් ඉන්නෙ. නෑ ඒවා මේකෙ නැහැ.

ඒ නිසා තමයි මේ ලෝකෙ මිනිස්සු හරි භාවනාවක් කරන්න එනවා අඩු ඒකයි. මිනිස්සු ඔළුවේ තියාගෙන ඉන්නෙ වෙනම concept එකක් භාවනාව ගැන. හරියටම මේක දන්න කෙනා, මේක තේරිච්ච කෙනා ඒ අය විතරයි මේකට ඇවිල්ලා මේ වැඩේ කරන්නෙ. ඒ නිසා දක්ෂ ගුරුවරයා මේ උපක්ලේශයකට යටවෙලා ඉන්න යෝගාවචරයාට ආදරයෙන් කරුණාවෙන් සළකන් නැහැ, හුරතල් කරන්නෙ නැහැ, නළවන්නෙ නැහැ. එයාට හරියටම point එකට ගහලා අදාල තැනදි ටොක්ක අනිනවා එයාට. ඒකෙන් තමයි එයාව බේරෙන්නෙ. යෝගාවචරයාව බේරෙන්නෙ. එතකොට එයාට අදාළ සුතමය ඥාණයත් එතනදි දුන්නහම එයා තේරුම් ගන්නවා මං මේ ක්ලේශයකට අහුවෙලා ඉඳලා තියෙන්නෙ. හොඳ දේත් අල්ලලා ක්ලේශයෙන්. අපි හිතන් ඉන්නෙ හොඳ එකක් ආවහම උඩපනින්න ඕනෙ, party දාන්න ඕනෙ කියලානෙ අපි හිතන් ඉන්නෙ. ඒක ක්ලේශයක්. එයාට එතන හිරවුනාම එයාට ඉස්සරහට ගමනක් නැහැ. ඒ නිසා තමයි ගුරුවරයා අර විදියට කටයුතු කරන්නෙ.

ඉතින් අද අපි උපක්ලේශ දෙකක් ගැනකතා කලා. ඊළඟ වීඩියෝ එකෙන් අන්තිම උපක්ලේශය තමයි බරපතලම උපක්ලේශය, ඒකයි උපක්ලේශ ගැන තව පොඩි කාරණා ටිකක් එක්ක අපි ඊළඟ වීඩියෝ එකෙන් හමුවෙමු. තෙරුවන් සරණයි!

45) බලවත්ම උපක්ලේශය | විපස්සනා උපක්ලේශ - 10 | Right concentration | @alokaalighttolife

තෙරුවන් සරණයි! අපි සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනය. අපි විපස්සනා උපක්ලේශ ගැන කතා කරමින් කරන්නෙ. උපක්ලේශ සම්බන්ධව තියෙන අන්තිම දේශනය. දහවෙනි උපක්ලේශය තමයි අද කතා කරන්න තියෙන්නෙ. ඒකට කියන්නෙ නිඛන්තිය. මේක තමයි ඇත්තටම මේ උපක්ලේශ වල ලොකුම ප්‍රශ්නය. මොකක්ද, මෙයා තමයි අර කලින් කියපු උපක්ලේශ නවය කෙරෙහි ඇතිකරගන්න බලවත් කැමැත්ත තමයි මේ නිඛන්තිය. කෑදර ගතිය ඇති කරගන්න එක. කලින් කියපු උපක්ලේශ නවය සාමාන්‍යයෙන් භාවනාවක් කරගෙන යද්දි භාවනා පුහුණුව කරගෙන යද්දි යෝගියාගේ මනස වැඩෙනකොට සාමාන්‍යයෙන් පහළ වෙන දේවල්. ඒක ප්‍රශ්නයක් නෙවෙයි, ඒක දියුණුවක්. හැබැයි මේ නිඛන්තිය කියන මානසික ස්වභාවය නිසා මේ දේවල් කෙරෙහි යෝගියාට මේවා නැවත නැවත ලැබේවා කියන බලාපොරොත්තුව එනවා, ඒක නිසා තමන් උසස් කරලා අනිත් අය පහත් කරනවා, ඒක මමත්වයෙන් අල්ලගන්නවා, ඒක තියෙන එක හොඳයි කියලා හිතනවා, ඒක කොඩියක් කරගෙන දඟලනවා, කෑගහනවා, ඒක නැතිවෙයි කියන බය තියෙනවා. ඔහොම දේවල් ටිකක් ඇතිවෙනවා. මේකට තමයි නිඛන්තිය කියන්නෙ. එයා තමයි ඇත්තටම ලොකුම වැරැද්ද කරන්නෙ. එයා නිසා තමයි අර කලින් ඇතිවෙන ගුණ නවය සම්බන්ධයෙන් අපි වැරදි වැටහීම් හදාගන්නෙ.

එතකොට මේ භාවනා උපක්ලේශ කියන ඒවා හටගන්නෙ ඇත්තටම භාවනාක යෙදිලා ඉන්න යෝගීන්ට විතරයි. භාවනාවක් නොකරපු සාමාන්‍ය බණ අහපු මනුස්සයන්ට මේක සිද්ධ වෙන්නෙ නැහැ. ඉතින් භාවනාවේ දියුණුවක් විදියට තමයි මේ උපක්ලේශ හටගන්නෙ. එතකොට ඒවා අයින් කරන්න පුලුවන් වෙන්නෙත් භාවනා පුහුණුවෙන්ම පමණයි, වෙන ක්‍රමයක් නැහැ මේවා අයින් කරන්න. මොකද භාවනා කරන්න ගිහිල්ලා පුහුණුව නිසා හටගත්තු දේවල් පුහුණුව නිසාමයි නැති කරන්න ඕනෙ. ඒ වගේම මේ භාවනා පුහුණුව කරන්න ගුරුවරයෙක් ළඟ ඉන්නත් ඕනෙ. ගුරුවරයා ළඟ හිටියාට භාවනා කරන්නැත්නම් ඒත් වැඩකුත් නැහැ. ඒ නිසා එක එක යෝගාවචරයන්ගේ සංසාර ගති පුරුදු අනුව මේ උපක්ලේශ වල ප්‍රමාණය සහ ඒවා ආවත් ඒවායෙ අඩුවැඩිකම් තියෙන්න පුලුවන්. සමහර අයට මේවා තදේට තියෙනවා. සමහර අයට බොහොම පොඩ්ඩයි තියෙන්නෙ. සමහර අයට භාවනාව හොඳට දියුණු කරගන්න පුලුවන් මේවට ලොකුවට අහුවෙන්නෙ නැතිව. මේවයෙන් බලපෑමක් වෙන්නෙ නැතිව ඒගොල්ලන්ට හොඳ සුතමය, චින්තාමය ඥාණයක් තියෙනවා, සංසාර පුරුද්දක් තියෙනවා. ඉතින් ගුරුවරයා මේකට උපදෙසක් දෙන්න කලින්ම සමහර යෝගීන් තමන්ගේ වැරැද්ද හදාගෙන ඉස්සරහට යන්න පුලුවන් හැකියාවක් තියෙනවා. ඒ අය සෑහෙන දක්ෂයි.

ඉතින් මේ උපක්ලේශයෙක් එන්නෙම නැතිව භාවනාව දියුණු වෙනවා නම් ඒ අර භාග්‍යවතුන් වහන්සේ ජීවමාන කාලේ වැඩ හිටියා වගේ උග්ගටිතඤ්ඤූ විප්පටිතඤ්ඤෝ වගේ ශ්‍රේෂ්ට උත්තමයො. ඒ කියන්නෙ අර භාහියදාරුචීරිය රහතන් වහන්සේ, සාරිපුත්ත මහරහතන් වහන්සේ, මුගලන් මහරහතන් වහන්සේ වැනි උත්තමයන්ට මේ උපක්ලේශය එන්න වෙලාවක් නැහැ. හැබැයි ඒ අයට ධර්මය කියනකොටම ධර්මය අවබෝධ වුනා. එහෙම වුනාට ඒගොල්ලො මේ නිකම්ම එතෙන්ට ආවෙ නැහැ. නිකම්ම අවබෝධ වුනා නෙවෙයි. ඒ අය සංසාරයක් පුරා ආත්ම භාව ගණනකදි මේ භාවනා පුහුණුව, මේ උගුල වල වැටි වැටි පුහුණු කරපු ශක්තීන් තමයි මේ අයට බණ පදයක් කියපු ගමන් මේක

අවබෝධ වෙන්නෙ. මෙන්න මේක වැරදියට තේරුම් අරන් තමයි වර්තමානෙ හොඳට මාකට් වෙනවා මේ බණ ඇහුවහම විතරක් ඇති සෝවාන් වෙන්න කියලා. මේ ගැඹුරු අර්ථය දන්නැති අය. ඒගොල්ලො හිතන් ඉන්නවා මේ අපිත් බණ ඇහුවාම ඇති සෝවාන් වෙන්න කියලා. ඒ තත්වය තියෙන්නෙ අර සසර මේක හොඳට පුහුණු කරලා කරලා, අවශ්‍ය ප්‍රමාණයට ඒගොල්ලො තමන්ගේ පාරමී ශක්තිමත් කරගෙන ඉන්නෙ.

උපමාවක් දීලා තියෙන්නෙ භාග්‍යවතුන් වහන්සේ ඉර එළිය වැටෙනකල් වතුර උඩ තියෙන නෙළුම් පොහොට්ටුව වගේ කියලා. ඉර එළිය වැටිච්ච ගමන් ඒක පිපෙනවා. ඒ තැනට යන්න කලින් වතුර යට ඉන්න නෙළුම් පොහොට්ටුවක් ඉර එළිය වැටුනහම අපි පිපෙයි කියලා හිතන් හිටියොත් එහෙම එයා කොච්චර මුලාවකද ඉන්නෙ කියලා තේරෙනවා නේද. ඔය තමයි මාර්ගඵල පිස්සුව තියෙන, නිහතමානිකමක් නැති මාර්ගඵල වලින් කොඩි දාගන්න කැමැති මිනිස්සුන්ගේ කතා. එහෙම එකක් නෑ. ඒ සාරිපුත්ත මහරහතන් වහන්සේලාට එහෙම හේතුඵල ධර්මයේ පේළි හතරක් කියනකොට ධර්මය අවබෝධ වෙලා ඉවරයි. පටාචාරා තෙරණියට නැගණියනි සිහි එළවගන්න කියනකොට එයාලා අදාළ කාරණයට ඒගොල්ලො ඇවිල්ලා ඉවරයි. මාර්ග ඵල ලැබුවෙ පස්සෙ තමයි පටාචාරාව. හැබැයි ඒගොල්ලො ප්‍රීතියක් සහිතව අදාල තැනට ඇවිල්ලා ඉවරයි. හැබැයි ඒකට අහුවෙලා නැහැ. ඒගොල්ලන්ට උපක්ලේශ කතා මේ දේවල් නැහැ. අංගුලිමාල තෙරුන් වහන්සේට මම නතර වෙලා ඉන්නෙ ඔබ නතර වෙන්න කියනකොට ඒගොල්ලන්ට කාරණය තේරිලා ඉවරයි. ඒ නිසා මේ දැන් ඉන්න අය හිතනවා මේ ප්‍රීතියක් ආවහම අර උපක්ලේශ වල මුල් නවය ආවහම මම මාර්ගඵල ලැබුවා කියලා ඒගොල්ලො ලකුණු දාගන්නවා. මේ ලකුණු දාගන්න එක තමයි තියෙන ප්‍රශ්නෙ ඇත්තටම. නැත්නම් ඒ ආලෝක ප්‍රීති ඇතිවෙන එක නෙවෙයි ප්‍රශ්නෙ. ඒකට ලකුණු දාගන්න එක. එතනයි ප්‍රශ්නෙ තියෙන්නෙ.

එතකොට මේ උපක්ලේශ හැමෝටම ඔක්කොම එන්නත් පුලුවන්, නැතිවෙන්නත් පුලුවන්. එකකින් බේරුනාට ඊළඟ එකට අහුවෙන්නත් පුලුවන්. කොහොම වුනත් උපක්ලේශ සම්බන්ධයේදී උපක්ලේශ වලට යෝගියා අහුවුනාම යෝගාවචරයා කෙරෙහි ගුරුවරයා සෑහෙන තදින් ඉන්න ඕනෙ. හොඳ ගුරුවරයෙක් නම් ඇත්තටම තදින් ඉන්නවා. එතකොට තමයි ගෝලයාව මේ වැරදි පාරෙන් අරගෙන හරි මාර්ගයට දාන්න පුලුවන් වෙන්නෙ. එහෙම නැත්නම් ගෝලයත් අමාරුවෙ වැටෙනවා. ඉතින් මේ උපක්ලේශ වල තියෙන ලොකුම ප්‍රශ්නෙ තමයි අපි උපක්ලේශ වලට උපාදාන කරන එක. සමහර ගුරුවරු උපදෙස් දෙන්නෙ උපාදානයක් ඇතිවෙන විදියටමයි. මේ වගේ තත්ව වලදී ඔබට ධ්‍යානයක් ලැබිලා තියෙනවා, ඒක හොඳට පරිස්සම් කරගන්න රැකගන්න වගේ දේවල් කියනවා. කිව්වහම යෝගාවචරයා ඉතින් ඒක තදින් අල්ලනවා. එතකොට මේ යෝගියා හිතන්නෙ මේක ආයෙ ආයෙ මම ලබාගන්න ඕනෙ කියලා.

ඉතින් මේ නැවත නැවත ඒක හොයන මානසිකත්වය තමයි උපාදානය කියලා කියන්නෙ. ගොඩක් යෝගාවචරයො භාවනා කරලා හොඳ තැනකට හොඳට සිහිය පිහිටියාම යෝගාවචරයා ඊළඟ පර්යංකයටත් යන්නෙ අරක හොයාගෙන. ඒක තමයි උපාදාන වෙනවා කියන්නෙ. උපාදාන නොවුනා නම් ඊළඟ පර්යංකයේදී අරක හොයන්නෙ නැහැ. මොකද ඒ යෝගාවචරයා දන්නවා මේ කලින් පර්යංකයේදී දේවල් ලැබුනේ එතනට එතනට ගැලපෙන හේතු සම්පාදනය වුනු නිසා ඊට ගැලපෙන්න ඒක ආවා. ඊළඟ පර්යංකයට අර හේතු ටිකම සම්පාදනය වුනොත් ප්‍රතිඵල එනවා. නැත්නම් නැහැ. ඉතින් මේක නොදන්න යෝගාවචරයාට අරවගේ උපක්ලේශයකට උපාදාන වුනහම එයා හැමදාම භාවනා කරන්න යන්නෙ ඒක හොයාගෙන. එතකොට හොඳ පාරමී ශක්තියක් තියෙන, සසර

හොඳට ඒක පුහුණු වෙලා වෙලා පින තියෙන, හොඳට ප්‍රඥා ආදී පාරමී හොඳට තියෙන අයට මේවට රැවටුනත් වැඩිය රැවටිලා ඉන්නෙ නැතිව තේරුම් අරගෙන වැඩ කටයුතු කරගන්න පුලුවන්.

සමහරවෙලාවට ගුරුවරයා කියලා දෙන පළවෙනි වතාවෙන්ම තේරුම් අරගෙන ඒගොල්ලො හරි පාරට යනවා. ඒ අයට හොඳට පාරමී ශක්තීන් තියෙනවා. ඒක අවශ්‍යයි. පාරමී කියලා කියන්නෙ මේ මිනිස්සු හිතන් ඉන්න දන් දෙන එක නෙවෙයි. දානය විතරක් නෙවෙයිනෙ පාරමී කියන්නෙ. පාරමී දහයක් තියෙනවානෙ. ඒ කියන්නෙ මේ නිවන පිණිස සංසාර සාගරයෙන් එතෙරවීම පිණිස අපිට අවශ්‍ය කරන ගුණධර්ම ටිකට පාරමී කියන්නෙ. ඒක දානය විතරක් නෙවෙයි. එතකොට අනිකුත් පාරමී සහිතව මේ සම්පූර්ණ වෙලා තියෙන ටිකක් පිරිලා තියෙන යෝගාවචරයාට මේවා කඩාගෙන යන්න පුලුවන්. එතකොට ගුරුවරයාටත් අමුතුවෙන් කරන්න දෙයක් නැහැ, යෝගාවචරයා කියන දේ අහගෙන ඉන්න විතරයි ගුරුවරයාට තියෙන්නෙ. වැඩිය උපදෙස් දෙන්න දෙයක් නැහැ. මුලින් අරමුණ අල්ලලා දුන්නහම ඒ යෝගාවචරයා දන්නවා යා යුතු විදිය. කමටහන වාර්තා කරනවා, එච්චරයි. ඉතින් යම්කිසි වෙලාවකදි සංසාරයේ පෙර කරන ලද අකුසල කර්මයකට මොනවහරි වුනොත් හරි, එහෙම නැත්නම් එයාගේ සිහිනුවණට යම්කිසි බාධාවක් වුනොත් හරි අන්න ඒ වගේ තැනකදි පොඩ්ඩක් ඒකට පිළියමක් යොදාගන්න විතරයි ගුරුවරයාගෙන් එතකොට එයාට උදව්වක් ඕන වෙන්නෙ. හැබැයි උදව්වක් එහෙම විතරයි කිව්වට, ගුරුවරයා අතහැරලා යනවා කියන එක නෙවෙයි මේ. එයා කමටහන වාර්තා කරන්න ඕනෙ. ගුරුවරයාට තියෙන්නෙ නිහඬව අහගෙන ඉන්න විතරයි. දිගටම යෝගාවචරයාට තියෙන්නෙ තමන්ගෙ වැඩකටයුතු ටික කරගෙන යන්න.

එතකොට මේ උපක්ලේශ තියෙන අවස්ථාවන්වලදි අපි විපස්සනාවට වැටෙන්නෙ නැහැ. විපස්සනාවට වැටෙන්න නම් උපක්ලේශය අයින් වෙන්න ඕනෙ. උපක්ලේශය අයින් වෙන්නෙ සිහිය පිහිටෙව්වාමයි. එක්කො ඒ වෙලාවේ යෝගාවචරයාගේ මූල කර්මස්ථානය ගෙවිලා තියෙන්න පුලුවන්. එතකොට ඒ ගෙවිලා තියෙන ස්වභාවයට හිස් ස්වභාවයට නැතිනම් තමන් අත්දකින ස්වභාවයට සිහිය පිහිටෙව්වාම තමයි උපක්ලේශයෙන් එයාට අයින් වෙන්න පුලුවන් වෙන්නෙ. අයින් වුනාම තමයි විපස්සනාවට බහින්නෙ. විපස්සනාවට බැස්සහම තමයි ඉස්සරහ විපස්සනා ඥාණ ඒ යෝගාවචරයාට ලැබෙන්නෙ. විපස්සනා ඥාණ සාමාන්‍යයෙන් අටක් තියෙනවා. ඉතින් විපස්සනා ඥාණ ටික පහළ වෙන්නෙ යෝගාවචරයාට උපක්ලේශ වලින් ගැලවුනාම විතරයි. ගැලවෙන්නෙ නැතිතාක් කල් විපස්සනා ඥාණ පහළ වෙන්නෙ නැහැ. ඒ නිසා සතිය තමයි මේකට ඕනෙ. එතකොට ගුරුවරයා අදාළ අවස්ථාවේදී එතනදි සතිය පවත්වන්න ඕනෙ ආකාරය ගැන, සතිය තියන්න ඕන තැන ගැන, යෝගාවචරයාගේ ස්වභාව ගැන ගුරුවරයා ඒක දැනුම් තේරුම් අරගෙන ඒක අයින් කරන්න පුලුවන්ද කියන එක බලලා යෝගාවචරයාගේ අධ්‍යාස බලලා කමටහන දෙනවා. ශුද්ධ කරනවා, කොහොමද මේ සිහිය තියාගෙන යන්නෙ කියන එක ගැන. ඉතින් හොඳ දක්ෂ ගුරුවරයෙකුට තමයි ඒක කරන්න පුලුවන් වෙන්නෙ. බොහොම දැඩිව තදින් හිටියොත් යෝගාවචරයා මේ ඉන්න සතිය පිහිටුවීම සම්බන්ධව මේ කාරණයට ගන්න පුලුවන්. හොඳ බලවත් සතියක් තියෙන්න ඕනෙ. ගුරුවරයා හිටියට තේරුමක් නැහැ. යෝගාවචරයාට සිහිය තියන්න බැරි නම් සිහිය පිහිටුවන්න බැරි නම් අදාළ කාරණයට ගුරුවරයාට ඇත්තට කරන්න පුලුවන් දේකුත් නැහැ.

ඉතින් වර්තමානයේ විපස්සනා ගුරුවරු කියන්නෙ වර්තමානයේ යෝගාවචරයො මේවගෙන් ගලවන්න අමාරුයි, මොකද තැන් තැන්වල ගිහිල්ලා ගිහිල්ලා ලෝකෙම තියෙන බණ ටික ඔක්කොම ඔළුවට දාගෙන දාගෙන ඔක්කොම පටලවගෙන මේක කලවම්

කරගෙන ඉන්නෙ. ඒ නිසා මේ භාවනා නොකරපු අළුත්ම ආධුනික යෝගාවචරයන්ට මේක කියලා දෙන්න හරිම ලේසියි. මොකද ඒගොල්ලො ඔළුවෙ එක එක දේවල් වලින් පුරවගෙන නැහැ. මේ අපේ වර්තමානෙ අය ධර්මය හොයන්න කියලා, නිවන් හොයන්න කියලා ලෝකෙ වටේම කරක් ගහලා අන්තිමට අවුලක් හදාගෙන තමයි එන්නෙ. ඉතින් ඒ අවුල ගලවන්න පුලුවන් අයත් ඉන්නවා, බැරි අයත් ඉන්නවා. ඉතින් අපි කලින් දේශනාවල කියලා තියෙනවා මේ විපස්සනාවෙදි සතිය කියන එක හැව අරිමින් ටික ටික පරිණාමය වෙමින් තමයි යන්නෙ. මුළදි අපි තියන සතිය නෙවෙයි ඊටපස්සෙ ටිකක් බලවත්. එහෙම එහෙම ටික ටික සතිය බලවත් වෙමින් තමයි යන්නෙ. ඒක අපි කලින් කතා කරලා තියෙනවා.

ඉතින් මේ මට්ටමේදී මේ උපක්ලේශ වලට අහුවෙන මට්ටමේදී තියෙන සතියට වැඩිය බලවත් සතියකින් අරමුණට හෝ අරමුණේ ගෙවිලා තියෙන ස්වභාවයට හෝ එහෙම නැත්නම් මේ උපක්ලේශයේ දැනෙන ස්වභාවයට හෝ එහෙම නැත්නම් අරමුණු ඇවිත් බිඳි බිඳි යන ප්‍රවාහයට හෝ එහෙම නැත්නම් ත්‍රිලක්ෂණ එයාට පෙන්නුම් කරනවා වෙන්න පුලුවන්, ඒවාට හෝ හොඳ බලවත්ව සිහිය පිහිටෙව්වොත් සති සම්පජඤ්ඤ දෙකම හරියටම වැඩ කලොත් උපක්ලේශය ගැලවිලා යනවා. ඇත්තටම මේ උපක්ලේශය කියන එක හටගන්නේම මේ මට්ටමේදී හොඳට නාමරූප ධර්ම වලට සිහිය පිහිටනකොට. ඉතින් උපක්ලේශය ගැලවෙන්නේම ඊට වැඩිය බලවත් සිහියකින් මේ අදාළ කාරණයට සිහිය තිබ්බොත් විතරයි. ඉතින් ඒකට ගුරුවරයාගෙන් ඇත්තටම මුහුණට මුහුණ කමටහන් ගන්න ඕනෙ. මෙහෙම දේශනාවකින් ඒ කමටහන ශුද්ධ වෙන්නෙ නැහැ. මේවා පොදුවේ කියන දේශනානෙ. ඒ නිසා comment වලින්, ඒ විදියට බලාපොරොත්තු වෙන්න එපා කමටහන් ශුද්ධ කරන්න. ගුරුවරයා අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ නම් භාවනාව හරියට වැඩෙන්න නම් ගුරුවරයාට මුහුණට මුහුණ මුණ ගැහිලා කමටහන් ශුද්ධ කරන්න ඕනෙ. හරියටම ශුද්ධ වෙන්න නම්. නැත්නම් ශුද්ධ වෙන්නෙ බාගෙට.

ඉතින් දැන් වර්තමානෙ මිනිස්සුන්ට මුණගැහෙන්න වෙලාවක් නැහැ. ඒගොල්ලොත් මේ කාර්යබහුල ජීවිතයක ඉන්නෙ. ඉතින් email එකකින්, වෙන ක්‍රමයකින්, ලිපියකින් කමටහන ශුද්ධ කරගත්තට ඒක එච්චරම සාර්ථක නැහැ. නමුත් නොකර ඉන්නවට වැඩිය හොඳයි. ඉඳලා හිටලා හරි ගුරුවරයා මුහුණට මුහුණ මුණගැහිලා කමටහන ශුද්ධ කරගන්න එක තමයි හොඳ. ඒ නිසා මේ මූණට මුණගැහිලයි මේක ශුද්ධ කරන්න ඕනෙ. අපේ මිනිස්සු මේ ලේසිවට comment වලින් කමටහන් ශුද්ධ කරගන්න එනවා, එහෙම කරන්න බැහැ මේ තැන්වලදි. එතකොට ගුරුවරයාගේ දක්ෂ භාවය අනුව යෝගාවචරයාගේ උපක්ලේශ අයින් වෙලා ඉස්සරහා විපස්සනා ඥාණ වලට එයාගේ මනස වැඩෙනවා.

ඉතින් උපක්ලේශ සම්බන්ධයෙන් මේ ටික තමයි කතා කරන්න තියෙන්නෙ. අපි සතිපට්ඨාන දේශනා මාලාවේ ඊළඟ දේශනාවෙන් ඊළඟ වීඩියෝ එකේදි මුණගැහෙමු. තෙරුවන් සරණයි!

## 46) සම්මා සමාධිය ලැබෙන හැටි | Attaining the Right Concentration | ආර්ය අෂ්ඨාංගික මාර්ගය | සම්මා සමාධිය

තෙරුවන් සරණයි! අද අපි ඉන්නෙ කතා කරන්නෙ සතිපට්ඨාන දේශනා මාලාවේ අවසාන දේශනාවල තමයි අපි මේ ඉන්නෙ. මම හිතන්නෙ මේ දේශනාව සහ තවත් එක්

දේශනාවක් වගේ තමයි අපිට සතිපට්ඨාන සූත්‍රය ඉවර කරන්න අරගෙන එන්න තියෙන්නෙ. ඉතින් අද කතා කරන්නෙ සම්මා සමාධි කොටසේ ඊළඟ තැන ඉඳලා. අපි මේ වෙනකල් කතා කලා දසවිධ විපස්සනා උපක්ලේශ ගැන. ඒ උපක්ලේශ මතුවෙන මට්ටම විදියට අපි කතා කලේ දුතිය ධ්‍යාන මට්ටම. හැබැයි මේ කතා කරන්නෙ විපස්සනා දුතිය ධ්‍යාන මට්ටම, සමථ පැත්තෙන් නෙවෙයි. එතකොට දැන් මේ කට්ටියට හිතෙනවා ඇති මොකක්ද මේකෙ වෙනස කියලා. සමාධියයි සමාපත්තියයි කියන්නෙ දෙකක්. සමාධිය උපදවාගත්තට පස්සෙ ඒ සමාධියට අපිට කැමැති තාක් කාලයක් කැමැති විදියකට පඤ්චවිධ වශීතාවයන්ගෙන් යුක්තව සමවැදිලා ඉන්න පුලුවන් ගතිය සමාපත්තිය. ඒ කියන්නෙ එයාට තියෙන්නෙ දිට්ඨධම්ම සුඛ විහරණයක් විතරයි. ඒ සමාධි සුඛයේ ගිලිලා ඉන්න පුලුවන්. එච්චරයි, එතනින් එහාට දෙයක් වෙන්නෙ නැහැ.

සමාධිය කියන්නෙ මේ මනසක ඇතිකරගත්තු යම්කිසි විදියක ඒකාග්‍ර බවක්, ඒකෝදි බවක්. එතකොට සමථ පැත්තෙන් තමයි සමාධි සමාපත්ති දක්වා අරන් යන්නෙ. ඒක ඇත්තටම time wasting කියලා තමයි කියන්නෙ. මොකද කිසිම දෙයක් වෙන්නේ නැහැ. නුවණ කියන එක එන්නෙ නැහැ. කෙලෙස් කැපෙන් නැහැ. ඒ නිසා විපස්සනාවට බර අය මේ සමාපත්තියට යන්නෙ නැතිව තමන් හදාගත්තු උපදවගත්තු සමාධියේ ඉඳලා විපස්සනාවට මනස හරවගන්න විදිය තමයි උගන්වන්නෙ. එතකොට මේ අපි කතා කරගෙන යන්නෙ ඒ වගේ විපස්සනා සමාධි වල දෙවන ධ්‍යාන මට්ටමේදී ඔන්න විපස්සනා උපක්ලේශ පහළ වෙනවා කියලා අපි උපක්ලේශ දහයක් ගැන කලින් වීඩියෝස් වල කතා කලා. එතකොට භාග්‍යවතුන් වහන්සේ කෙනෙක් ලෝකෙ පහළ වෙලා දේශනා කරන දේශනාවල උත්කෘෂ්ටම දේ තමයි විපස්සනාව කියලා කියන්නෙ. ඉතින් එහෙව් මේ විපස්සනාවටත් සමාධියක් ඕනෙ. ඒක කවුරුහරි කියනවා නම් සමාධියක් නැතිව විපස්සනාව කරන්න පුලුවන් කියලා එහෙම එකක් නැහැ. විපස්සනාවටත් යම්කිසි සමාධි මට්ටමක් ඕනෙ. ඉතින් සමාධියේ තියෙනවා මට්ටම් කිහිපයක්. අර්පනා සමාධි, උපචාර සමාධි, කණමට්ඨඨිතික සමාධිය කියලා - ඒ කියන්නෙ ක්ෂණමාත්‍ර සමාධි. එතකොට අර්පණා සමාධි මට්ටම තමයි අර සමාපත්ති වලට සමවදින තැන. ඉතින් විපස්සනා යෝගාවචරයාට මේ ක්ෂණික සමාධිය අවශ්‍යයි. ඒකත් එක්තරා සමාධි තත්වයක්.

එතකොට අපි කලින් සඳහන් කලා විපස්සනා දෙවන ධ්‍යාන මට්ටමේදී යෝගාවචරයාට අරමුණ හඳුනගන්න බැරි මට්ටමක් එන්නෙ අරමුණ නොදැනී යනවා. අරමුණයි හිතයි දෙකම එකක් වගේ තමයි යෝගාවචරයාට දැනෙන්නෙ. එතකොට මතුවෙන උපක්ලේශ වලට හසුනොවී ඉස්සරහට යන්න නම් යෝගාවචරයාට ඒ අරමුණ ගෙවීම නිසා හටගත්තු දැනීමක් තියෙනවා, හිස් ස්වභාවයක් තියෙනවා. ඒ දැනීමට දැනුවත්ව ඉන්න එක තමයි, ඒ මතම සිහිය තබාගෙන ඉන්න එක තමයි ආරක්ෂාකාරී ක්‍රමය. ඒ නිසා එතනදී අර විතක්ක විචාර කියන අංග දෙක හැලෙන්නෙ අරමුණ පේන්නැති නිසා. විතක්ක විචාර දෙක තියෙනවා කියන්නෙ අරමුණ තව තියෙනවා කියන එක. එතකොට විතක්ක විචාර දෙක හැලුනහම තමයි ප්‍රීති සුඛ ඒකාග්ගතා සහිත දුතිය ධ්‍යාන මට්ටම එන්නෙ. එතකොට දැන් භාග්‍යවතුන් වහන්සේ දේශනා කලානෙ මේ එක තැනක දේශනා කරලා තියෙනවා අහලා තියෙනවාද බාහිරයට අහුවෙලා ගහගෙන යන්නෙක් නැතිව, ඇතුලේ රැඳිලා ගිලෙන්නෙත් නැතිව අපි මේ ඕගය තරණය කරන්න ඕන කියලා එකක්. ලස්සන ගාථාවකින් තියෙනවානෙ.

එතකොට මේකෙදි මේ තියෙන්නෙ ඒ මට්ටම. මේ බාහිරට අහුවෙලා ගහගෙන යනවා කියන්නෙ අර කාමච්ඡන්ද ව්‍යාපාද ආදී නීවරණ වලට අහුවුනොත් අපි බාහිර පිටත ලෝකෙට තමයි අහුවෙලා යන්නෙ. ඒකට අහුවෙනවා. එතකොට අපි ඒ මට්ටම ඉක්මවා, ඒ

මට්ටම ජය අරගෙන තමයි මේ මට්ටමට ඇවිල්ලා තියෙන්නෙ. ඒක එක කඩුල්ලක්, එක කඩඉමක්, අභියෝගයක්, මේක ඊළඟ අභියෝගය. ඒ තමයි මේ උපක්ලේශ මට්ටම. උපක්ලේශ වලට අහුවුනොත් ඇතුලේ එක තැන නතර වෙලා කෙලෙස් වලට අහුවෙලා ගිලෙනවා, නහිනවා. එතකොට මේ දෙකටම අහුවෙන්නෙ නැතිව ඕඝය තරණය කරන එක තමයි භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ. ඉතින් මේ උපක්ලේශ වලට අහුවෙන එක තමයි මේ ඇතුලත ගිලෙනවා කියලා කියන්නෙ. ඉතින් මේ මට්ටමට ආපු යෝගාවචරයා ඔය උපක්ලේශ වලට අහුවෙලා ඇතුලත ගිලෙන්නත් පුලුවන්, සමහරවිට හරියට වැඩේ කරගත්තෙ නැත්නම් නැවත ආපස්සට වැටිලා අර කලින් එකට ඒ කියන්නෙ අර බාහිරට ගහගෙන යන එක, ඒ කියන්නෙ නීවරණ වලට ආයෙත් අහුවෙන්න ඉඩකඩ තියෙනවා, යෝගාවචරයෙක් මේ මට්ටමේදී ඔය උගුල් දෙකටම ආයෙ අහුවෙන්න ඉඩකඩ ඕනැතරම් තියෙනවා. ඒක ස්වභාවිකියි.

ඉතින් මේකෙන් ගැලවෙන්න, මේ උපක්ලේශ වලින් ගැලවෙන්න තියෙන්නෙ, උපක්ලේශය උපක්ලේශය වශයෙන් මෙනෙහි කරලා ඒක අතහැරලා අර මූල කර්මස්ථානය ගෙවීමෙන් හටගත්තු දැනෙන හිස් ස්වභාවයක් තියෙනවා, අන්න ඒ ස්වභාවයට අවධානය දෙන එක තමයි මේකෙන් ගැලවෙන්න තියෙන ක්‍රමය. එතකොට මේවා ඔක්කොම නාමධර්ම. මේ උපක්ලේශ විදියට එන ඒවා ඔක්කොම නාමධර්ම. රූප නෑ මේ වෙලාවේ. එතකොට ඒ නාමධර්මය අපිට දැකගන්න බැරිවුනොත් ඒක මෙනෙහි කරගන්න බැරිවුනොත් යෝගාවචරයා ඇතුලත ගිලීම කියන දේට අහුවෙනවා. එතකොට ලොකු ස්වාමීන් වහන්සේ කියනවා මෙතනදි උන්වහන්සේගේ ලොකු ස්වාමීන් වහන්සේ කියනවාලු සමථ භාවනාව වඩන යෝගාවචරයෙක් නම් මේ දෙවන ධ්‍යාන මට්ටමේදී යෝගාවචරයාට විපස්සනාවට හැරෙන එක හොඳයි කියලා. ඒකට හේතුව තමයි මේ උපක්ලේශ නිසා යෝගාවචරයාට පුදුමාකාර ධෛර්යයක්, උනන්දුවක්, වීර්යයක්, උත්සාහයක් ඇවිල්ලා තියෙන්නෙ. මොකද උපක්ලේශ ගැන අහපු අය දන්නවා ඒවා ඔක්කොම ශ්‍රේෂ්ට ගුණ.

මේ ශක්තිය නිසා යෝගාවචරයාට කන්දක් උනත් උස්සගෙන යන්න පුලුවන් තරම් බලයක් ශක්තියක් දැනෙනවාලු. එතකොට ඒ ගැම්ම විපස්සනාවට හැරෙව්වොත් සෑහෙන දුරක් යෝගාවචරයාට යන්න පුලුවන්. හැබැයි අර ඇතුලත ගිලෙන ස්වභාවයෙන් ගැලවුනොත් තමයි මේක කරන්න පුලුවන් වෙන්නෙ. උපක්ලේශ වලට අහුවුනොත් මේක කරන්න ලේසි නැහැ. එහෙම අහුවුනේ නැතිනම් යෝගාවචරයා විපස්සනා පැත්තෙන් විපස්සනා තුන්වෙනි ධ්‍යානයට යන්න පුලුවන් මෙතනදි. විපස්සනා ඥාණ විදියට කල්පනා කරලා බැලුවොත් මේකට කියන්නෙ බලවඋදයබ්බය ඥාණය කියලා. උදයබ්බය ඥාණය මට්ටමේ ඉහළ බලගැන්වුනු ශක්තිමත් පදනමක් සහිත ශ්‍රේෂ්ට තැනක් එතන, තුන්වෙනි ධ්‍යාන මට්ටමට යනවා කියලා කියන්නෙ. එතකොට මේ මට්ටමේදී යෝගාවචරයාගේ භාවනාව ඉබේම වෙන්න පටන් ගන්නවා. එයාට බලෙන් හුස්මට හෝ මූල කර්මස්ථානයට හිත ගේන්න බලෙන් තටමගෙන කිසි දෙයක් කරන්න දෙයක් නැහැ. අර සිහිය ගැම්ම කාගෙන ලස්සනට ඒක flow වෙන්න පටන් ගන්නවා.

ඉතින් මේ මට්ටමේදී යෝගාවචරයාට එයාට මූල කර්මස්ථානය පෙනුනා හෝ නොපෙනුනා හෝ සිතුවිලි ශබ්ද වේදනා හරි මොනවහරි මේ සියල්ල වෙන එකක් තියා මේක දැකගන්න තමන්ගේ සිතුවිල්ල, තමන්ගේ මනස, මේ සතිමත් සිත පවා වේගයෙන් ඇතිවෙවී නැතිවෙවී යන මේ ප්‍රවාහය යෝගාවචරයාට දැකගන්න පුලුවන් වෙනවා. එයාට පෙනෙන්න පටන් ගන්නවා. ඒ නිසා යෝගාවචරයාට අමතක වෙනවා මම ඉන්නෙ කොහෙද කියලාවත් සමහරවිට යෝගාවචරයාට ඒ අත්දැකීම් ඇති, හිටිගමන් ගැස්සිලා තමයි භාවනා ශාලාවට අවදි වෙන්නෙ. මම හිටියේ කොහෙද, මොකක්ද වෙලා

තියෙන්නෙ, මගේ ඇඟට මොකක්ද වෙලා තියෙන්නෙ කියලාවත් සමහර වෙලාවට යෝගාවචරයාට හොයාගන්න දැනෙන්නෙ නැතිව යනවා. එතනදි විශාල සුඛයක් යෝගාවචරයාට එන්නෙ. මේකට තමයි කියන්නෙ අමානුෂීය රතියක් කියලා. සාමාන්‍ය මනුස්ස මනසකට හිතාගන්නවත් බැරි විදියේ සුඛයක් මෙතනදි දැනෙන්න පටන් ගන්නවා. එතකොට මේ මට්ටමේදි යෝගාවචරයාට පර්යංකය පැයකට වැඩිය අදින්න පුලුවන්. පැය දෙක තුන යෝගාවචරයාට ඉන්න පුලුවන් වෙනවා, අල්ලගෙන යන්න පුලුවන්. හරිම සාමකාමීයි. සක්මන මේ වෙලාවේ නැතිවුනා කියලා ප්‍රශ්නයක් වෙන්නෙ නැහැ.

හැබැයි පටන් ගන්නකොටම යෝගාවචරයො සක්මන අතහැරලා යන්න හදනවා නම් මේ දේවල් අහලා, මේ දේශනා ඇහුවහම යෝගීන් හරියට ලණු කනවා. ඒක හොඳටම දන්නවා. ඒ නිසා තමයි මම මේ සමහර තැන්වල අතරමගදි ටොකු ඇන ඇන යන්නෙ. අපේ මිනිස්සු හරිම කැමැතියිනෙ මේ තානාන්තර වලට. ඉතින් අපිට දේශනාවකින් ඇහුනු පලියට ඒකට හිතට සතුටු ආව පලියට අපිට හිතාමතා ඒවා හලන්න බැහැ. අපිට ඕන විදියට ඒක කරන්න බැහැ. ඒවා අතහැරෙන්නෙ ක්‍රමානුකූළ ප්‍රතිපදාවත් එක්කයි පුහුණුවත් එක්කයි. ඉතින් මේ වෙලාවේදි යෝගාවචරයාට සක්මන නැති වුනා කියලා ප්‍රශ්නයක් නොවෙන්නෙ දැන් යෝගාවචරයා ගොඩක් බරපතල අනතුරු කලාපයෙන් ගැලවිලා ඉන්නෙ. ඒ නිසා පර්යංකය පැය දෙක තුන එයාට අදින්න පුලුවන් පහසුවෙන්ම. එයාට පීඩාවක් නැහැ. එතකොට මෙතනදි ප්‍රීතිය නැහැනෙ දැන්. ප්‍රීතිය හැලිලා ඒ නිසා තමිය සුඛ ඒකාග්ගතා සහිත තුන්වෙනි ධ්‍යාන මට්ටම මේ වෙලාවේ පවතින්නෙ. එතකොට යෝගාවචරයාට කයේ තියෙන සුඛයක් පහසුවක් සහනයක් තමයි දැනෙන්නෙ. එතකොට සාමාන්‍යයෙන් විපස්සනා ගුරුවරු කියන්නෙ විපස්සනාව කියන එක හරියටම පටන් ගන්නෙ මෙන්න මේ මට්ටමේදී කියලා. විපස්සනා තුන්වෙනි ධ්‍යාන මට්ටමේදී.

එතකොට මේ මට්ටමේදී යෝගාවචරයාට දැනෙන විශේෂ දෙයක් තියෙනවා. ඒ තමයි එයාට තමන්ගේ කයේ සටහන දැනෙන්නෙ නැතිව යනවා. ඔයාලට තේරෙන්න කිව්වොත් කයේ frame එක ඒක පේන්නෙ නැතිව යනවා. ඒ කියන්නෙ අපි සාමාන්‍යයෙන් පර්යංකයකට ඉඳගත්තට පස්සෙ අපි කියනවානෙ ඉඳගෙන ඉන්න ඉරියව්වට අවධානය ගන්න කියලා. එතකොට ඉඳගෙන ඉන්න ඉරියව්වට අවධානය ගත්තහම අපිට මේ ඉරියව්ව පේන්න ගන්නවා දැනෙන් ගන්නවා. හිසේ සිට පාදාන්තය දක්වා ඒක දැනෙන්න ගන්නවා. එතකොට මේ මම කියන සංඥාවක් මනසේ වැඩ කරනවා එතන. මම හිතනවා මං මේ කියන එක තේරෙනවා ඇති කියලා. කයට හිත ගත්තහම කයේ ඉරියව්ව මේ කකුල් නැවිලා තියෙන හැටි, කඳ සෘජු වෙලා තියෙන හැටි හිස තියන හැටි, අත් දෙක තියෙන හැටි බලනකොට ඒවට දැනෙන දැනීම් බලනකොට මේ මම කියන සංඥාව දැනෙනවා. ඉතින් මේ මට්ටමේදී යෝගාවචරයාට මේ කයේ frame එක disappear වෙනවා, අතුරුදන් වෙනවා. ඒක දැනෙන් නෑ. ඒ කියන්නෙ මම කියන සීමාව කොතනින්ද තියෙන්නෙ කියලා එයාට හොයන්න බැහැ. මම සහ මම නොවන කියන සීමා දෙක කලවම් වෙනවා. මම සහ මම නොවන කියන සීමා මායිම් බිඳිලා යනවා. එයාට මේකෙ frame එක දැනෙන් නැහැ. කයේ අර මොකක්ද ඒකට කියන්නෙ, structure එක, මම දන්නෑ මට ඒක කියන්න තේරෙන්නෙ නැහැ, මට තේරෙන්නෙ frame කියන වචනය. ඒ කියන්නෙ මේ කයේ හැඩයක් තියෙන්නෙ අපිට දැනෙන්නෙ. ඒක දැනෙන් නෑ. ඒ කියන්නෙ මම කියන සංඥාව පොඩ්ඩ පෙඩ්ඩ ගැලවෙන්න පටන් ගන්නවා.

අපේ මිනිස්සු අහනවා මේ මම, මගෙන් එක්කෙනෙක් අහලා තිබුනා self love පුරුදු කරනකොට මමත්වය වැඩිවෙනවා නේද, එතකොට self-love නැතිව ඉන්නකොට මමත්වය අඩුවෙනවා ඇති. ඒ නිසා මේ මිනිස්සු හිතන් ඉන්න මනස්ගාත විදියට නෙවෙයි

භාවනාව වැඩෙන්නෙ. අපි පටන් ගන්නෙ මමත්වය සහිතව තමයි. ඒක පටන් ගන්නකොටම කැඩෙනවා නම් මේ තමන්ට ආදරය කරන්න පටන් ගන්නවා කියන්නෙ මේ මනස දියුණු කරනවා තමයි. එතකොට මේක පටන් ගන්නකොටම මමත්වය නැතිවෙලා යනවා නම් එහෙනම් ඉතින් මේ ලෝකෙ මිනිස්සු ඉතුරුවෙන් නෑනෙ කිසිම ගුණයක් දහමක් නැතිව එහෙනම් ජීවත් වෙන්න ඕනෙ, ඒගොල්ලො ගාව තමයි මේ මමත්වය නැත්තෙ එහෙනම්. ඒ නිසා මේකට බැහැපුවත් නැති අර ගොඩ ඉඳන් පීනන්න lectures දෙන අය ඉන්නෙ, ගොඩ ඉඳන් අර වතුරෙ බැහැගෙන පීනන අයට guide කරන මිනිස්සු ඉන්නෙ, අන්න ඒ අයගේ කතා ඕවා. ඒ නිසා මේ මට්ටමේදී මමත්වය මම කියන සංඥාව සෑහෙන දුරට ගැලවිලා. එයාට තමන්ගේ frame එක, තමන් කියන මේ සිරුරේ හැඩය හොයාගන්න බැරිව යනවා. අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියන්නෙ මම සහ මගේ නොවන කියන සීමාමරියාදාවල් බිඳෙන්න පටන් ගන්නවා කියලා. තමන් පර්යංකයේ කොච්චර කාලයක් හිටියද කියලවත් යෝගාවචරයාට හිතාගන්න බැරිවෙනවා.

එතකොට මේ මට්ටමේදී යෝගාවචරයාට ඉස්සරහට මේක ආරක්ෂිතව රැකගෙන යන්න තියෙන ක්‍රමය තමයි අපේ මූල කර්මස්ථානය, එහෙම නැත්නම් හුස්ම, එහෙම නැත්නම් පිම්බීම හැකිළීම, මේකනෙ මූල කර්මස්ථානය වුනේ. හුස්ම නම් හුස්ම දැනුනු තැන, පිම්බීම හැකිළීම නම් උදරයේ ඡායාව මත හිත තියාගෙන යන එක තමයි තියෙන ආරක්ෂාකාරීම ක්‍රමය. හුස්ම දැනෙන් නෑ යෝගියාට මේ මට්ටමේදි. හැබැයි හුස්මක් තිබුනානේ කියලා අපි අවධානය තියන් හිටපු තැනක් තියෙනවානෙ. එතනට අරමුණ දැනෙන් නැහැ. හැබැයි අන්න ඒ තැනට අපි පූර්ණ අවධානය තියාගෙන පිම්බීම හැකිළීම දිහා බලනකොටත් අපේ මනස දැනුවත් වෙන තැනක් තියෙනවානෙ, අපි ඇස් දෙකෙන් බලනවා නෙවෙයිනෙ, අන්න ඒ දැනෙන ස්වභාවයට අවධානය තියාගෙන යන්නෙ. මෙතනදි ඉස්සරහට යනකොට පර්යංකයේදී තමයි මේක ඇත්තටම ගොඩක්ම හොඳට කරගන්න පුලුවන් වෙන්නෙ මේ විදියට. එතකොට දැන් යෝගාවචරයා මේ වෙනකොට භයානක අමාරු කඩඉම් දෙකක් පහුකරලා තියෙන්නෙ. ඒ තමයි නීවරණ වලින් ගොඩ එන එක, අනික තමයි උපක්ලේශ වලින් ගොඩ එන එක.

එතකොට යෝගාවචරයා නැවත නැවත, නැවත නැවත මේ තත්වය පර්යංක අතනෑර දිනපතාම භාවනා කරමින් මේ මට්ටමේ දවසට පර්යංක තුනක්වත් අඩුගානෙ අඳින්න ඕනෙ. නැවත නැවත මේක මනසට හුරුපුරුදු කරගත්තෙ නැතිනම් යෝගාවචරයා මේක දවසකට එක පාරක් කරනවා, හෙට කරන්නෙ නැහැ, ආයෙත් කරනවා, ඔහොම කරන්න ගියොත් මුල ඉඳලා, මුල ඉඳලාමයි යෝගාවචරයාට එන්න වෙන්නෙ. නමුත් මේක හරියටම දිනපතා අතනෑර නිසි කාලසටහනකට අනුව වැඩ කරගෙන ගියොත් ඒක යෝගාවචරයාට වශී වෙනවා වගේ වෙනවා. එතකොට සමහර වෙලාවට යෝගාවචරයාට පර්යංකයට යනකොටම පටන් ගන්නෙ ඔතනින් වෙන්නත් පුලුවන්. ඉතින් මේ මට්ටමේදී යෝගාවචරයාට තමන්ගේ ගුරුවරයා අතහැරලා ගිහින් තනියම භාවනා කරන්න පුලුවන් හැකියාව තියෙනවා. හැබැයි, හැබැයි මතක තියාගන්න, යෝගාවචරයා මෙතනදි ගුරුවරයා අතහරින් නැහැ. හේතුව තමයි එයාට පුදුමාකාර ගෞරවයක් තියෙනවා ගුරුවරයා ගැන මේ මට්ටමට එනකොට. එයාට ගුරුවරයා එක්කම ඉස්සරහට රැඳිලා කටයුතු කරන්න තමයි කැමැත්ත තියෙන්නෙ. ශ්‍රද්ධාව වැඩිවෙනවා, විශ්වාසය වැඩිවෙනවා. ඒ නිසා එයාට පුලුවන් වුනා මෙතරම් දුරක් මට මේ අභියෝගය ජයගෙන එන්න ගුරුවරයාගේ උදව් ලැබුනානේ කියලා එයා ගුරුවරයා අතහරින් නැහැ.

මෙතනින් එහාට එන අය සමහරවිට අතහරින්න පුලුවන්. අතහරිනවා නම් ඒ කියන්නෙ උපක්ලේශයකට, ක්ලේශයකට මොකකට හරි අහුවෙලා. ඉතින් මේකට තමයි නිරාමිස

සැපය කියලා කියන්නෙ. මේක ආමිසයකින් ලබන සැපයක් නෙවෙයිනෙ මේ සුඛය. ආමිසයකින් නෙවෙයි මේක ආමිසයක් නැති මනසේ උපදවගත්තු මානසික තත්වයකින් හදාගත්තු සැපයක්. ඒක කාම නිශ්‍රිත නැහැ. ඒ නිසා තමයි මේක නිරාමිස සැපයක් කියලා කියන්නෙ. එතකොට ලොකු ස්වාමීන් වහන්සේ ඔතනදි කියනවා හරි ලස්සන දෙයක්. මෙන්න මේ නිරාමිස සුවය ගැන මනුස්සයො දන්නවා නම් මේක අත්දැකලා තියෙනවා නම් මේ අනුන්ගේ දේවල් කඩාවඩාගන්න යන එක, අනුන්ට උගුල් අදින එක, දිය යටින් ගින්දර අදින එක, අනුන් යට කරලා තමන් නැගිටින්න හදන එක, අනුන්ගේ තත්වයන් විනාශ කරන්න හදන එක, තමන්ගේ තත්වය ආරක්ෂා කරගන්න වටේ ඉන්න අයට ගහන එක, තමන්ගේ දේවල් වලට හානි කරනකොට ඒකට රණ්ඩු කරගෙන යන ගති මෙන්න මේවා අඩුවෙනවා කියනවා. ඇත්තටම නම් ගිහි පැවිදි දෙගොල්ලොම අතරේ මේ චරිත ලක්ෂණ තියෙන අය ඉන්නවා. ඒකෙන් තේරුම් ගන්න මේගොල්ලන්ට මේ නිරාමිස සැපය කියන එක අහුවෙලා නැහැ.තමන්ගේ තැන වඩාගන්න තමන්ගේ තැන රැකගන්න, අනිත් අයව යට කරගෙන, අනිත් අයට උගුල් ඇදගෙන, අනුන්ගේ දේවල් කඩාවඩාගෙන, අනුන්ගේ දක්ෂකම් යටකරගෙන තනිකර දේශපාලන plan තියෙන්නෙ. තමන්ගේ දෙයක් නැතිවෙනකොට ඒකට රණ්ඩු කරගෙන යනවා ඒක තහවුරු කරගන්න. මේ වෙලාවෙදි මේ මට්ටමට ආපු යෝගාවචරයා දීලා දානවා ඉතින් ඇතිනම් තියාගන්න මට වැඩක් නෑ ඊට වැඩ සැපයක මං ඉන්නෙ කියලා.

ඉතින් අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියනවා මේ මට්ටමට යම්කිසි යෝගාවචරයෙකුට එන්න පුලුවන්කම ලැබුනා නම් එයා උත්සාහ කලොත් එයාට මේ ජීවිතේදි මාර්ග ඵල ලබන්න රහත් වෙන්න නිවන් දකින්න තරම් හැකියාව ශක්තිය තියෙනවා, එහෙම තියෙන කෙනෙක් තමයි මෙතෙන්ට එන්නෙ කියලා. උත්සාහ කරොත් යන්න පුලුවන්. ඉතින් මේ මට්ටමට යෝගාවචරයා මේ ආරක්ෂිතව ආවොත් මේ මට්ටමින් යෝගාවචරයා ඉස්සරහට ගියොත් එයාට මේ මට්ටමට රැකිලා ඇවිල්ලා දැන් මේ තුන්වෙනි ධ්‍යාන මට්ටමේනෙ ඉන්නෙ, විපස්සනා තුන්වෙනි ධ්‍යාන මට්ටමේ. එයා ඉස්සරහට ගියොත් එයාට ටිකෙන් ටික යම්කිසි අරමුණක් පේනවා නම්, මොන විදියකට හරි සිතුවිලි හරි, වේදනා හරි, ශබ්ද හරි, මොකක් හරි අරමුණක්, සිතම හරි අර හිස් ස්වභාවය දිහා බලන් ඉන්න තමන්ගේම හිත හරි, මේ ඕනම දෙයක් ඇතිවෙලා පවතිනවා කියන එක පෙනෙන්නෙ නැහැ. නැතිවෙලා යන එක, බිදි බිදී යන එක විතරක් එයාට පේන්න ගන්නවා. එයාට හටගන්න අරමුණේ හටගැනීම සහ පැවතීම පෙනෙන්නෙ නැහැ. එයාට පෙනෙන්නෙ හුදු බිදෙන දෙයක් විතරයි. නිරෝධ වෙලා යන දෙයක් විතරයි, නිරුද්ධ වෙලා යන දෙයක් විතරයි එයාට පේන්න ගන්නෙ.

මේක සක්මන් කරනකොටත් සමහර යෝගාවචරයන්ට දකින්න පුලුවන් වෙනවා. එදිනෙදා ජීවිතේ වැඩ කරද්දිත් යෝගාවචරයන්ට මේ හුදු බිදෙන දෙයක්, ලෝකෙ කැඩි කැඩී බිදි බිදී යන එකක් විතරයි එයාට පෙනෙන්න ගන්නෙ. එතකොට මේ මට්ටමට යෝගාවචරයා ආවොත් යෝගාවචරයාට දැනෙන ස්වභාව ටිකක් තියෙනවා. මේකට හරියට යෝගාවචරයා අහුවෙනවා මේකත් නිකං උගුලක් තමයි. ඊළඟ උගුල මේක. යෝගාවචරයාට ලෝකෙම එපාවෙන්න ගන්නවා. මෙලෝ රහක් නැතිවෙනවා ලෝකෙ ගැන. එයාට කිසිම වැඩක් කරන්න හිතෙන්නෙ නැහැ. භාවනා කරන්න හිතෙන්නෙත් නැහැ, කන්න හිතෙන්නෙත් නැහැ, බොන්න හිතෙන්නෙත් නැහැ, හරි ඔක්කාර ගතියක් තියෙන්නෙ. ඒ කියන්නෙ වමනෙ යන්න එනවා නෙවෙයි, හරි අර මනසින් දෙවල් අපිට, දේවල් වල යථාර්තය දැක්කහම අපිට මනසේ හටගන්නෙ දේවල් කෙරෙහි නොඇලෙන මානසිකත්වයක්, අන්න ඒ වගේ ඔක්කාර ගතියක් දැනෙන්නෙ යෝගාවචරයාට, කොහේ

හරි කමක් නැහැ වැටිලා ඔහේ ඉන්න හිතෙන්නෙ. හැබැයි නිදියන්න නෙවෙයි, එයාට සිහිය තියෙනවා හොඳටම. හැබැයි සම්පූර්ණයෙන්ම දේවල් කෙරෙහි තියෙන රසය සම්පූර්ණයෙන්ම නැතිවෙලා යනවා. කිසිවක්ම කරන්න බැහැ කියලා හිතෙනවා. ඇල්මැරිලා වගේ එකක්. කොහේහරි කමක් නෑ වැටිලා ඉන්න හිතෙන්නෙ. එයාට කිසිම දෙයක්, භාවනා කරන්නවත්, ඉගෙන ගන්නවත්, බණ කියන්නවත්, මොකුත්ම කරන්න හිතෙන්නෙ නැහැ මේ මට්ටමේදී යෝගාවචරයාට. ඉතින් මේකත් අර කලින් වගේම උගුලක්. උපක්ලේශයක්, කඩඉමක්, මරඋගුලක්.

මෙතෙන්දිත් යෝගාවචරයාට මේ දැනෙන දේවල් හරියටම මෙනෙහි කලොත්, මෙනෙහි කිරීම විතරයි ඇත්තටම එයාට කරන්න තියෙන එකම ක්‍රමය. හරියටම මෙනෙහි කලොත් විතරයි එයාට මේකෙන් ගැලවෙන්න පුලුවන්. එයාට මෙනෙහි කරගන්න බැරිවුනොත් අනේ අයියෝ මට මොකක් වෙලාද මේ ඇයි ද දන්නෑ කියලා එයාට ඒක මෙනෙහි කරගන්න බැරිවුනොත් එයා ඒකට අහුවෙනවා. එක්කො එයා කරන්නෙ දිගටම බුදියන්න පටන් ගන්නවා එක්කො මේ මොන මගුලක්ද භාවනාවකින් මෙහෙම වෙනවද කියලා භාවනාව නවත්වනවා, එක්කො මේ ගුරාට කොහෙහරි වැරදිලා කියලා ගුරුවරයා අතහරිනවා, එක්කො එයා මොනවහරි පිස්සු වැඩ ටිකක් කරන්න පටන් ගන්නවා. එක්කො මේ කම්මැලි කමක් තියෙන්නෙ කියලා කම්මැලිකම නැති කරගන්න මොනවහරි දේවල් ටිකක් කරන්න පටන් ගන්නවා ඔන්න ඔය වගේ විකාර ආතඟූත දේවල් කරන්න පටන් ගන්නවා, මේ සිදුවීම මේ දැනෙන දේ එයාට මෙනෙහි කරගන්න බැරිවුනොත්.

ඉතින් ඇත්තටම නම් එයා මේ අර මුලින්ම ආපු අර කඩඉම් දෙකත් එක්ක බලපුවාම මේක සුළු දෙයක් ඇත්තටම. හැබැයි මේක සුළු දෙයක් කියලා හිතලා, එහෙම නැතිනම් මගේ මේ භාවනාව වැරදිලා වෙන්න ඇති, මොකක් හරි වෙලා වෙන්න ඇති කියලා යෝගාවචරයා තමන්ගේ ගුරුවරයාට ලැජ්ජාවෙන් හරි මේ ටික හෙලි නොකලොත් හෙලි කරන්නැතිව හංගගෙන හිටියොත් එහෙම වුනොත් අනිවාර්යයෙන් යෝගාවචරයා අමාරුවෙ වැටෙනවා. මෙන්න මේ තැන්වලට සූදානම් කරන්න තමයි අපි යෝගාවචරයෙක් අර පුංචි මට්ටමේ ඉඳලා හදාගෙන එන්නෙ ගුරුවරයාට කමටහන වාර්තා කරන විදිය. වාර්තා කරන්න ඕනෙ කොහොමද, මොකක්ද කියන්න ඕනෙ කියලා අර පුංචි සන්ධියේ ඉඳලා හදාගෙන එන්නෙ මෙන්න මේ හේතු නිසයි. ඉතින් යෝගාවචරයා මේක ගැන ගුරුවරයාට වාර්තා කරලා ගුරු උපදෙස් සහිතව මේ තත්වය මෙනෙහි කලොත් යෝගාවචරයාගෙ මනසේ හටගන්නෙ උපෙක්ෂාව. සුඛය හැලෙනවා. මොකද දැන් මේ තියෙන තත්වයත් එක්ක එයාට සැපයක් නෙවෙයිනෙ දැනෙන්නෙ. එතකොට ඒ තත්වයත් මෙනෙහි කරලා අතහැරියොත්, මේ තත්ව හටගත්තා කියන්නෙ සුඛය මනසින් අයින් වෙලා කියන එක. සුඛය නෑ කියන එක. එතකොට මේ සුඛයට විරුද්ධ තත්වයක් දැන් තියෙන්නෙ. එතකොට මේක මෙනෙහි කරලා අතහැරියා කියන්නෙ එයාගේ මනස එන්නෙ උපෙක්ෂාවටයි.

ඇයි එහෙම මේ ඔක්කාර ගතියක්, එපා කරපු ගතියක් එන්නෙ. හටගන්න තාක් සංස්කාර වල බිඳීම විතරයි එයාට පේන්නෙ. ලෝකය ගිනිගත්තු තැනක් වගේ එයාට දැනෙන්න ගන්නවා. මේ හටගන්න කිසිවක් ඉතුරු වෙන් නැහැ, බිඳෙනවා විතරයි. හරියට ලෝකෙ තියෙන්නෙ බිඳීමක් විතරයි වගේ තමයි එයාට දැනෙන්නෙ. මේ අඩිය තියන්න තැනක්, මගේ කියලා අල්ලගන්න තැනක් නිත්‍ය දෙයක්, සැප දෙයක් මොකක්වත් නැහැ එයාට දැනෙන්න පෙනෙන්න. ඒ නිසා තමයි එයාට මේ සංස්කාර කෙරෙහි හටගන්න මනසේ කළකිරෙන ස්වභාවයක් මෙතන තියෙන්නෙ. ඉතින් ඒක මෙනෙහි කලොත් මේ දැනෙන ස්වභාවයන් එයාට උපෙක්ෂාව ඉතුරු වෙනවා. නැතිනම් එයා ආයෙ වැරදි පාරක යන්න ඉඩකඩ තියෙනවා. ඉතින් මෙතනදි යෝගාවචරයාට මොන වගේ තත්වයක් ආවත්

මොකක් ආවත් එයාගේ මනසේ පුදුමාකාර උපෙක්ෂාවක් හටගන්නවා, මේක මෙනෙහි කිරීම හරියට කරන්න පුලුවන් වුනොත්. ඕනම දෙයක් ගැන මෙනෙහි කිරීම කරන්න පුලුවන් වුනොත් උපෙක්ෂාව හටගන්නවා. මේකට කියන්නෙ විපස්සනා උපෙක්ෂාව. විපස්සනා උපෙක්ෂාව අටලෝ දහමින් කම්පා නොවෙන ගතිය හාහා පුරා කියලා පටන් ගන්න ආරම්භ වෙන තැන තමයි මේ.

අපි කලින් නරක දේවල්නෙ අතහරින්න try කලේ. දැන් හොඳ දේවලුත් අතහැරගෙන යන්නෙ. හොඳ නරක දෙකටම මධ්‍යස්ථ ගතිය තමයි හරියටම උපෙක්ෂාව. විපස්සනා උපෙක්ෂාව, ඒකට කියන්නෙ අටලෝ දහම. එතකොට මේක එන්නෙ මේ දේවල් වල බිඳීම දැක්කට පස්සෙ තමයි මේක හටගන්නෙ. ඉතින් මේ මට්ටමේදී යෝගාවචරයාගේ මනසේ අපේ මනසේ තියෙනවානෙ මෙන්න මේ දේවල් වේවා, මේවා නොවේවා කියලා අපේ මනසේ හැඟීම්. කැමැති දේ ලැබෙනවාට කැමැතියි, අකැමැති දේ නොලැබෙනවාට කැමැතියි. මේ වේවා නොවේවා කියන මානසික තත්ව මේ හිතාගෙන හිටපු දේවල් යෝගාවචරයාගේ මනසින් ඔක්කොම හැලෙන්න පටන් ගන්නවා. තවදුරටත් එයාගේ මනසේ මට මෙහෙම දේවල් වේවා, මට මෙහෙම දේවල් නොවේවා කියලා පැතුමක් හැඟීමක් එයාගේ මනසේ හටගන්නෙ නැහැ. එහෙම වෙනවා නම් එයා උපෙක්ෂාවට එන්නෙ නැහැ. කියන්නෙ තාම මනාප අමනාප හටගන්නවා කියන එක. ඒ කියන්නෙ කැමැති අකැමැති දේවල් වලට තාම අහුවෙනවා කියන එක. මේ මට්ටමේදී ඒ ටික හැලෙන්න පටන් ගන්නවා.

ඉතින් යෝගාවචරයා මේ පර්යංකයේදී උපයාගත්තු වැටහීම තේරුම් ගැනීම, එයාගේ එදිනෙදා ජීවිතයට ඒ යෝගාවචරයා ගලපගන්න අසමත් වුනොත් අර පර්යංකයේදී ලබාගත්තු වැටහීම අත්දැකීම නිකං හෝද හෝද මඩේ දැම්මා වගේ වැඩක් වෙනවා එදිනෙදා ජීවිතයට ගලපගන්න බැහැ, ආයෙ වැටෙනවා, ආයෙ හදාගන්නවා, ආයෙ වැටෙනවා, ආයෙ හදාගන්නවා කිසිම තේරුමක් නැහැ. ඒ නිසා මේ පර්යංකයේදී මේ දේ අපි උපයාගත්තා නම් අපි දැනගන්න ඕනෙ එදිනෙදා ජීවිතේ පුදුම තරම් පරිස්සම් සහගතව සිහිය තියාගෙන දේවල් වලට මේ තත්වය apply කරගන්න. පර්යංකයේ මම යමක්ද අත්දැක්කේ ඒකම තමයි එදිනෙදා ජීවිතෙත් තියෙන්නෙ. ඉතින් සමථ යෝගියෙක් වුනත්, විපස්සනා කරන්න ඕනෙ නම් ඔන්න ඔය තැනදි ඔය මනාප අමනාප දෙක අත්හරින්න සිද්ධ වෙනවා. පාවා දෙන්න සිද්ධ වෙනවා. කැමැති අකැමැති දේවල් අතහරින්න සිද්ධ වෙනවා, එයාට විපස්සනාවට හැරෙන්න ඕනෙ නම්. කැමැති ටිකක් තියාගෙන අකැමැති ටික තල්ලු කරගෙන මෙතනින් එහාට යන්න බැහැ සමථ යෝගියෙක් වුනත්. උපෙක්ෂාව මෙතනදි එන්න ඕනෙ. උපෙක්ෂාව මෙතනදි හටගන්න ඕනෙ එයාගේ මනසේ.

ඉතින් ඇත්තටම යෝගාවචරයාට මේ දේවල් බිඳෙන එක බල බලා යද්දි යෝගාවචරයාට මෙතන හරි ලස්සන දෙයක් සිද්ධ වෙනවා එයාගේ මනසේ, එයාට මොකක් හරි අරමුණක් ආවොත් අරමුණ පේනවා, අරමුණ මෙනෙහි කරනවා හිතකින්, ඊළඟ හිතෙන් අර අරමුණ මෙනෙහි කරපු හිත පේනවා, ඒ හිතෙන් මනාප අමනාප දෙක හටගත්තා නම්, ඊළඟ හිතෙන් මනාප අමනාප හටගත්තු එක පේනවා, ඒ මනාප අමනාප හටගත්තු එක දැක්ක හිත ඊළඟ හිතෙන් පේනවා, ඒක අතහරින හිත පේනවා, ඔය විදියට හටගන්න හටගන්න හිතක් ඊළඟට හටගන්න හිතෙන් දැකගෙන ඒක බිඳිලා යන හැටි යෝගාවචරයාට මෙතනදි ලස්සනට පේන්න ගන්නවා. අල්ල ගන්න කිසිවක් නෑ කියලා තේරෙනවා. මොකද හැම හිතක්ම බිඳෙන හැටි එයාට පේන්න ගන්නවා ලස්සනට. එයාගේ හිතේ තියෙන හැම ක්ලේශයක්ම වැගිරෙන හැටි, ක්ලේශ කඳු වැගිරෙන හැටි එයාට පේන්න ගන්නවා. ඒවා

බිඳිලා යන හැටි පේන්න ගන්නවා. මේක හරහා මේ බලාසිටීම හරහා එයාගේ සංසාරෙට වැදිලා තිබ්බ්ච් කොකු ටික ටික ටික ගැලවෙන්න පටන් ගන්නවා. මේක සාමකාමීව මේ සිද්ධිය වෙන්නෙ එයාට උපෙක්ෂාව තිබුනොත් තමයි උපෙක්ෂාවෙන් සාමකාමීව මේක දිහා බලන්න පුලුවන් වෙන්නෙ අන්න එතකොටයි.

එතකොට මේ වෙලාවේ ඉතාම දැඩි බලවත් උපෙක්ෂාවක් එයාගේ මනසේ තියෙන්නෙ. හරියට ලෙඩෙක් වගේ තමයි එයා මෙතනදි සාමාන්‍යයෙන් හැසිරෙන්නෙ. කිසිම බලයක් නැති ශක්තියක් නැති මනුස්සයෙක් වගේ බොහෝම මධ්‍යස්ථව ඉන්නෙ. ඕනම දෙයක් දිහා එයාට ඕන තරම් වෙලාවක් මධ්‍යස්ථව බලන් ඉන්න පුලුවන්. කිසිම ප්‍රතිචාරයක්, ප්‍රතික්‍රියාවක් දක්වෙන්නෙ නැතිව. මොකද එයාට දැන් බිඳි බිඳී යන එක තමයි පේන්නෙ. කිසිම මනාපයක් අමනාපයක් නැහැ. දේවල් හට අරගෙන බිඳෙන හැටි එයාට පේන නිසා මේකට මොකක්ද කැමැති හෝ අකැමැති වෙන්න තියෙන්නෙ. කැමැති එකත් බිඳෙනවා, අකැමැති එකත් බිඳෙනවා. මේ තමයි හතරවන ධ්‍යාන මට්ටමට හිත එන හැටි. ඉතින් මේ මට්ටමේදී යෝගාවචරයාට සැප දුක් දෙකම අතහැරලා, හේතු දැනගෙනමයි. හේතු දැකගෙනම  තමයි දේවල් අතහැරිලා තියෙන්නෙ. මේ මට්ටමේදී තියෙන්නෙ අදුක්ඛම සුඛයක්. මේ මට්ටමේ තියෙන්නෙ හොඳ සතියක් සහිතව පිහිටන අදුක්ඛම සුඛ සැපයක් තියෙන්නෙ. එහෙම මානසිකත්වයක් තමයි මේ හතරවෙනි ධ්‍යාන මට්ටමේදී තියෙන්නෙ. ඇත්තටම නම් මේක රහත් හිතම තමයි, හැබැයි තවම සෝවාන් වෙලාවත් නැහැ. මේක තාවකාලික නිසා තමයි අපි තාම කියන්නෙ ස්ථිර රහත් බාවයක් නෑ කියලා. හැබැයි රහත් බවම තමයි මේ මනසේ තියෙන්නෙ. යෝගාවචරයා මේ ආපු මට්ටමට අනුග්‍රහ කලොත් එයාට මගඵල දක්වා ඉස්සරහට යන්න පුලුවන්. අනුග්‍රහ නොකලොත් එක්කො එතන කැරකි කැරකි ඉන්න පුලුවන්. එක්කො පල්ලෙහාට වැටෙන්න පුලුවන්. මෙන්න මේකට තමයි සම්මා සමාධිය කියලා කියන්නෙ.

මං හිතනවා දැන් තේරෙනවා ඇති සම්මා සමාධිය කියන්නෙ මොකක්ද කියලා. අපි හිතන් ඉන්න එකද, නැත්නම් වෙන එකක්ද කියලා. එතකොට මට මෙතනදි අමතර කාරණයක් කියන්න ඕනෙ, අපි අහලා තියෙනවා බණ පොතේ නිවන් දකින පුද්ගල වර්ග හතරක් ඉන්නවා. උග්ගටිතඤ්ඤො, විපඤ්චිතඤ්ඤො, නෙය්‍ය, පදපරම කියලා. උග්ගටිතඤ්ඤ පුද්ගලයො කියන්නෙ අර බණ පදයක මුල් කොටස් දෙක තුන ඇහෙනකොට නිවන් දකින් අය. ඒ උත්තමයන් වහන්සේලාට ගැලපෙන භාවනා ක්‍රමය විදියට සාමාන්‍යයෙන් සළකන්නේ සමථ පූර්වාංගම විපස්සනාව. සමථයෙන් පටන් අරගෙන විපස්සනාවට හැරෙන එක. එතකොට විපඤ්චිතඤ්ඤ පුද්ගලයො කියන්නෙ දේශනාවක් පොඩ්ඩක් විස්තර සහිතව ඇහෙනකොට තමයි නිවන් දකින්නෙ. ඒ අයට හරියන්නෙ යුගනද්ධ භාවනාව. ඒ කියන්නෙ සමථ විපස්සනා දෙක වරින් වර සමථය, ඊළඟට විපස්සනාව, නැවත සමථය, විපස්සනාව වශයෙන් දෙක එකට කරගෙන යන පුහුණුව තමයි මේ පුද්ගලයන්ට හරියන්නෙ කියලා සඳහන් වෙනවා. එතකොට ඒ පුද්ගලයො හිටියේ භාග්‍යවතුන් වහන්සේ ජීවමාන කාලෙ. ඉතින් දැන් ඉන්න අපේ සමහර උගත්තුත් කියනවා දැනුත් බණ අහලා විතරක් සෝවාන් වෙන්න පුලුවන් කියලා. ඒ ඔන්න ඕක පටලවාගෙන. ඒ අය දැන් නැහැ. දැන් ඉන්නෙ නෙය්‍ය පුද්ගලයො සහ පදපරම පුද්ගලයො. නෙය්‍ය පුද්ගලයන්ට ගැලපෙන හොඳම භාවනා ක්‍රමය විදියට සළකන්නෙ විපස්සනා පූර්වාංගම සමථය. විපස්සනාවෙන් පටන් ගෙන සමාධියක් හදාගෙන ඉස්සරහට යන ගමන. පදපරම පුද්ගලයන්ට මේ ජීවිතේ නිවන් දකින්න බැහැ කියලා සඳහන් වෙන්නෙ. ඒකට එක්කො අභව්‍ය හේතු තියෙන්න පුලුවන්. එහෙම නැත්නම් සංසාරගත ප්‍රාර්ථනාවක් වෙන්න පුලුවන්. කොහොම වුනත් ඒ අයට කැමැති විදියක් කරන්න පුලුවන්.

මේ කතා කරන්නෙ මේ ජීවිතේ නිවන් දකින්න අත්‍යවශ්‍යකම තියෙන අයට. විපස්සනා පූර්වාංගම සමථය. එතකොට මේකෙදි අපි විපස්සනා අපි සමථ කියලා රණ්ඩුවක් හදාගන්න ඕනෙ නැහැ. මේ දෙකම අපිට අවශ්‍යයි. හැබැයි අපි මේ කාරණා කාරණා විග්‍රහ කරලා දන්නැති හන්දා තමයි මේ වලිය යන්නෙ. සමථය කියන්නෙ මොකක්ද, විපස්සනාව කියන්නෙ මොකක්ද ඉතින් මේවයේ ඇත්ත නැත්ත මොකක්ද කියලා හොයලා බලාගන්න නම් මේකෙ ප්‍රායෝගිකත්වය මොකක්ද කියලා බලන්න නම් ඇත්තටම ප්‍රායෝගික පුහුණු වෙන්න ඕනෙ. තියරි උස්සගෙන කෑගහන්න එපා. ප්‍රායෝගික පුහුණුවට තමන් බැහැලා බලන්න මොකක්ද වෙන්නෙ කියලා.

අපි මේ බුදුරජාණන් වහන්සේ දේශනා නොකරපු දෙයක් නෙවෙයි මේ කියන්නෙ. ගිහින් බලන්න මජ්ඣිම නිකායේත්, දීඝ නිකායේත් දෙකේම තියෙනවා සතිපට්ඨාන සූත්‍රය කියලා දේශනා දෙකක්, මේ දෙකට පයින් ගහගෙන සමහර මිනිස්සු වැඩ කරන්නෙ. මේ බුද්ධ වචනයට. එහෙනම් ත්‍රිපිටකයම අයින් කරන්න ඒගොල්ලො. ඒ අය අපිට එන්න ඕනෙත් නැහැ අපිත් එක්ක කතා කරන්න. ඉතින් සතිපට්ඨාන සූත්‍රයේ මේ තියෙන කාරණා තමයි අපි ඉදිරිපත් කළේ. මේ සම්මා සමාධිය ගැන කියන කතාව. සම්මා සමාධිය මෙතනින් අවසන්. අපි තව එක දේශනයක් තියනෙවා, ඒ දේශනය ඊළඟ වීඩියෝ එකෙන් අරගෙන එන්නෙ, ඒකෙන් පස්සෙ සතිපට්ඨාන සූත්‍ර දේශනා මාලාව අවසන්. මං හිතනවා සම්මා සමාධිය ගැන ඔබට වැටහීමක් එන්න ඇති කියලා. තෙරුවන් සරණයි!

## 47) සතිපට්ඨාන භාවනා පුහුණුවේ අවසානය | සතිපට්ඨාන භාවනාව | vipassana Meditation | @alokaalighttolife

තෙරුවන් සරණයි! සතිපට්ඨාන දේශනා මාලාවේ අවසාන දේශනය අපි අද අරගෙන එන්නෙ. ඒකෙ මුලින්ම මම සතිපට්ඨාන සූත්‍රයේ ධම්මානුපස්සනා කොටසේ චතුරාර්ය සත්‍යය, නැත්නම් සච්ච පබ්බයට අදාළ වාක්‍යයක් එළියට ගන්නවා කතා කරන්න. මොකද ඒකට ගැලපෙන්න තමයි අද දේශනය යන්නෙ. ඒක තමයි,

**ඉති අජ්ඣත්තං වා ධම්මේසු ධම්මානුපස්සී විහරති බහිද්ධාවා ධම්මේ ධම්මානුපස්සී විහරති අජ්ඣත්ත බහිද්ධාවාදා ධම්මේ ධම්මානුපස්සී විහරති සමුදය ධම්මානුපස්සීවා ධම්මේසු විහරති වයධම්මානුපස්සීවා ධම්මේසු විහරති සමුදය වයධම්මානුපස්සීවා ධම්මේසු විහරති අත්ථි ධම්මාතිවා පනස්ස සති පච්ඡුපට්ඨිතා හෝති යාවදේව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතෝච විහරති නච කිඤ්චි ලෝකෙ උපාධියති එවම්පිකො භික්ඛවෙ භික්ඛු ධම්මේසු ධම්මානුපස්සී විහරති චතූසු අරිය සච්චේසු**.

මේක තමයි ධම්මානුපස්සනා කොටසේ ආර්ය සත්‍යය පබ්බයේ තියෙන අන්තිම හරියේ තියෙන පාළි පාඨයක්. එතකොට මේ ධම්මානුපස්සනා කොටසේ මේ කතා කරන කොටස අපි කතා කරන්න එන්න කලින් අපි සතිපට්ඨාන සූත්‍රය මේ වෙනකල්ම කතා කරගෙන ඇවිල්ලා තියෙනවා මුල ඉදලා අග දක්වා. එතකොට මේ සතිපට්ඨාන සූත්‍රය පෙළගැහෙන්නෙ කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා කියලා කොටස් හතරකින්නෙ. එතකොට ඒවා මොනවද කියලා අපි සරලව විස්තර කරලා තියෙනවා.

ඉතින් අපි සාමාන්‍යයෙන් මේ කය දිහා බලන්නෙ කාමයට රාගයට තණ්හාවට දිට්ඨියට මාන්නයට අදාළ විදියටනෙ. ඒ කියන්නෙ සංසාරයට යන විදියට තමයි අපි කය දිහා

බලන්නෙ. භාග්‍යවතුන් වහන්සේ ඒ වෙනුවට අපිට වෙනම බැල්මක් දුන්නා, වෙනම දැක්මක් දුන්නා, ඔය කය දිහා බලන්න කයේ ඇත්ත මොකක්ද කියලා දැනගන්න පුලුවන් විදියට. කයේ යථා ස්වභාවය මොකක්ද කියලා දැනගන්න පුලුවන් විදියට කය දිහා බලන ක්‍රමයක් දුන්නා ඒක තමයි කායානුපස්සනා කොටසින් දීලා තියෙන්නෙ. කමටහන් විශාල ප්‍රමාණයක් එක්ක දීලා තියෙනවා. වේදනානුපස්සනා කොටසිනුත් එහෙමයි. අපි වේදනාවල් දිහා බලන්නෙ එක්කො වේවා කියලා හිතනවා සමහර වේදනා, නොවේවා කියලා හිතනවා සමහර වේදනා. ඒ ගැන සසරට ගැලපෙන විදියට, සසරට ගැටගැහෙන විදියට තමයි අපි වේදනාව දිහා මෙතුවක් කල් බැලුවේ. හැබැයි භාග්‍යවතුන් වහන්සේ ආරාධනා කරනවා නෑ මේ වේදනාවේ ඇත්ත දැකගන්නා සුලු විදියට වේදනාව දිහා බලන්න එන්න කියලා තමයි ඒකෙන් කියන්නෙ. ඔය විදියටමයි චිත්තානුපස්සනා කොටසින් කියන්නෙ අපේ හිතේ හටගන්න සිතුවිලි. ධම්මානුපස්සනා කොටසින් කියන්නෙත් ධර්මතා ස්වභාවයක්, ධර්මතා ගැන අපිට ඒවා යථා ස්වභාවය දැකගන්න විදියට බලන්න එන්න කියලා තමයි කියන්නෙ.

එතකොට මේ කාය වේදනා චිත්ත ධම්ම කියන දේවල් දිහා එක බැල්මක් තියෙනවා සංසාරෙට යන විදියට බලන්න පුලුවන්, තව බැල්මක් තියෙනවා නිවනට යන විදියට බලන්න පුලුවන්. ඉතින් ඕක තමයි භාග්‍යවතුන් වහන්සේ අපිට දීලා තියෙන දායාදය. ඉතින් ඇත්තටම මේක විප්ලවීය දැක්මක්. විප්ලවීය බැල්මක්. ඉතින් විප්ලවීය දැක්මකට, විප්ලවීය බැල්මකට, විප්ලවීය දර්ශනයකට එන්නෙ සුළු පිරිසක් විතරයි. බහුතරය එන්නෙ නැහැ. ඉතින් ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ මේ දැක්ම හරියට තේරුම් ගන්න තමයි අජ්ඣත්තං වා කියලා මේ තමන් තුළින් මේක පටන් ගන්න කියන්නෙ. තමන් තුළින් ඉස්සරවෙලාම මේක බලන්න. ඒකට කායානුපස්සනා වේදනානුපස්සනා කියලා කොටස් හතරක් තියෙනවා, අපි දැන් මේ පාලි පාඨය ගත්තෙ ධම්මානුපස්සනා කොටසේ. ඉස්සරවෙලා මේ තමන් දන්න තැනින් තමන්ට පුරුදු තැනින් පටන් ගන්න තමයි භාග්‍යවතුන් වහන්සේ කියන්නෙ.

ඉතින් අපි ගොඩක් වෙලාවට දන්නෙ පුරුදු අපිට අපිනෙ. ඒ නිසා තමයි අපි තුළින්, අපේ කය සම්බන්ධ, අපේ වේදනා සම්බන්ධ, අපේ සිතුවිලි සම්බන්ධ, අපේ ධර්ම කොටස් සම්බන්ධයෙන් මුලින්ම බලන්න කියන්නෙ ඒ නිසයි. එතකොට මේ ඇත්ත දැක්කහම අපිට ඒක බාහිරට ගලපන්න පුලුවන්. ආ මේ මගෙත් කක්කා, පිටත් කක්කා, ඇතුලත් කක්කා, පිටත් කක්කා, මගේ ඇතුලේ තියෙනවා වගේම තමයි පිටත් තියෙන්නෙ. මේ යථාර්තය දකින්න තමයි මුලින්ම අජ්ඣත්තංවා කියලා මේ තමන් තුළට අවධානය දෙන්නෙ. ඊටපස්සෙ තමයි බහිද්ධාවා කියන එක භාග්‍යවතුන් වහන්සේ යන්නෙ. එතකොට අපිට කෙනෙකුට ඇතුලතින් දැකලා පිටතට ගලපන්න පුලුවන්. එක්කො පිටතින් දැකලා ඇතුලතට ගලපන්න පුලුවන්. මේ දෙකට ගලපගෙන ගියහම ඒ යෝගාවචරයාට තේරෙනවා මේ කොහෙත් එකයි තියෙන්නෙ. ආයෙ අමුතු එකක් නැහැ. මේ ඇතුලෙ එකක් හෝ පිට එකක් කියලා එකක් නැහැ.

ඉතින් මේ සතර ආකාරයට, කාය වේදනා චිත්ත ධම්ම කියන මේ සතර ආකාරයට මේ යථාර්තය දැක්කහම තමයි ඒ මනුස්සයාට මනුෂ්‍යත්වය කියන්නෙ මොකක්ද කියන එක තේරුම් යන්නෙ. ඒ මනුෂ්‍යත්වය කියන්නෙ මොකක්ද කියන එක තේරුම් ගන්න තමයි මේ ප්‍රධාන මහා විශාල දොරවල් හතරක් අපිට දුන්නෙ. කාය වේදනා චිත්ත ධම්ම කියලා දොරවල් හතරෙන් ඕනම එකකින් අපිට ඇතුල් වෙන්න පුලුවන්, ඇතුල් වෙලා මේ හතරෙන්ම මේ මනුෂ්‍යත්වය කියන එක තේරුම් ගන්න පුලුවන්. ඒ හරහා අපිට මුළු විශ්ව ධාතුවම තේරුම් ගන්න පුලුවන්. ඒ නිසයි භාග්‍යවතුන් වහන්සේගේ ඉගැන්වීමේ මූලිකම

අර්ථය ඉස්සෙල්ලාම තමන් තුළින් දකින්න. මොකද, මේ ස්වභාවදහම විශ්වය කියන එක තමන් තුළම තියෙන දෙයක්. තමන් තුළින් දකින්න, එතකොට අපිට ඒක ගලපන්න පුලුවන්. එතකොට කාය, වේදනා, චිත්ත, ධම්ම. එතකොට කයේ ස්වභාවය, සිතුවිලිවල ස්වභාවය, වේදනාවල ස්වභාවය, කෙලෙස් වල ස්වභාවය, ධර්මතාවල ස්වභාවය මේ ගැන හොඳ වැටහීමක් ඇතිවෙනවා. ඒ වැටහීම ආවම තමයි අපි ඒකට අහුවෙන් නැතිව ඉන්නෙ. අහුවෙනවා කියන්නෙ සංසාරයට යනවා කියන එකනෙ.

ඉතින් ඒ යථාර්තය දැකගෙන යන ගමනේදී යෝගාවචරයාට මේ කාය වේදනා චිත්ත ධම්ම කියන දේවල් වල මුලක් මැදක් අගක් හොයන්න පුලුවන් වෙනවා. දකින්න පුලුවන් වෙනවා. අපිට එහෙම බැනෙ, අපි සාමාන්‍යයෙන් එද්දි මේකෙ මුලක් කොහෙද දන්නෙත් නැහැ, මැද තමයි අපිට අහුවෙලා තියෙන්නෙ, අගක් කොහෙද දන්නෙත් නැහැ, ඔක්කොම පැටලිලා. ඉතින් මුල, මැද, අග වශයෙන් මේකෙ හටගැන්ම, මේක පවතින විදිය මේක ගෙවෙන විදිය, මේකෙ නිරෝධය අපිට පේන්න පටන් ගන්නවා. එතකොට යෝගාවචරයාට කයට සම්බන්ධ දේවල් හටගන්නකොටම, වේදනාවල් හටගන්නකොටම, සිතුවිලි හටගන්නකොටම, ධර්මතා හටගන්නකොටම යෝගාවචරයාට දකින්න පුලුවන් වෙනවා. එතකොට ඒකට යටවෙන්නෙ නැහැ. අපිට මේ හටගන්නකොටම පේන්නැති නිසා හටගත්තු දේට අපි අහුවෙලා කතන්දර ගොතාගෙන ගිහිල්ලා අමාරුවෙ වැටෙනවා. ඉතින් ඔය හටගන්නකොටම දකින එක තමයි සමුදය වශයෙන් දකිනවා කියන්නෙ. සමුදය ධම්මානුපස්සීවා, හටගැන්ම දකිනවා. ඒ එක්කම ඒක දැක්කට පස්සෙ එයාට වය පේන්න ගන්නවා. මේකෙ නිරෝධය, මේක ගෙවෙන හැටි පේන්න ගන්නවා. වයධම්මානුපස්සීවා, ඔය දෙකම පේන්න ගන්නවා ඊටපස්සෙ යෝගාවචරයාට.

ඉතින් මේක එකපාරටම එන්නෙ නැහැ. කාලයක් වැටි වැටී පුහුණුවෙනකොට තමයි සමුදය වය, හටගැන්ම, මුලයි අගයි පේන්න පටන් ගන්නෙ. අපි ඉස්සෙල්ලාම මැද තමයි අල්ලන්නෙ. මැද අල්ලලා තමයි මුල අග අල්ලන්න යන්නෙ. ඒ ගැන දේශනා මාලාවේ මුල්ම කොටස් වල කියලා තියෙනවා. එතකොට යෝගාවචරයාට තේරෙනවා මේ ලෝකෙ ඇතිවෙච්චි දෙයක් තියෙනවා නම් ඒක අනිවාර්යයෙන්ම නැතිවෙලා යනවා කියලා යෝගාවචරයාට තේරෙනවා. හටගත්තු දෙයක් තියෙනවා නම් අනිවාර්යයෙන්ම ඒක වැනසෙනවා. එතකොට යෝගාවචරයා මේවට ඇලෙන්නෙ නැහැ. දේවල් වලට සැලෙන්නෙ නැහැ, බැඳෙන්නෙ නැහැ. උපාදාන කරන්නෙ නැහැ. තණ්හා දිට්ඨි මාන වශයෙන් යෝගාවචරයා මේවා අල්ලන්නෙ නැහැ. ඇයි අල්ලන්නෙ නැත්තෙ, සිහිය හරහා නුවණ වැඩුනහම තමයි ඒක වෙන්නෙ. සිහිය හරහා නුවණ වැඩුනොත්, අපි මුලින්ම සිහියෙන් ඉන්නෙ, ඒ හරහා සම්පජඤ්ඤය වැඩෙනවා කියලා අපි කියලා තියෙනවා.

මේ සිහි නුවණ දෙක එකතු වුනාම යෝගාවචරයාට ඇත්ත පේනවා. එතකොට එයා තණ්හාවෙන් නිශ්‍රය කරන්නෙ නැහැ, දිට්ඨියෙන් නිශ්‍රය කරන්නෙ නැහැ, මානයෙන් නිශ්‍රය කරන්නෙ නැහැ. ඒ කියන්නෙ දේකට හේත්තු වෙන්නෙ නැහැ. උපාදාන කරන්නෙ නැහැ. හිත යට කරගන්නෙ නෑ දේවල් වලට. මොකද දැන් අර එයා දේවල් වල හටගැන්මත් දැකලා තියෙනවා, විනාශයත් දැකලා තියෙනවා. මොකක්හරි හට අරන් තියෙනවා නම් ඕක අනිවාර්යයෙන් විනාශ වෙනවා කියලා යෝගාවචරයා දැන් තේරුම් අරන් තියෙන්නෙ. මේ මට්ටමේදී යෝගාවචරයා පට්ටම් හොයාගෙන යන්නෙ නැහැ. තානාන්තර හොයාගෙන යන්නෙ නැහැ. තනතුරු හොයාගෙන යන්නෙ නැහැ. තමන්ට දේවල් කඩාවඩාගන්න හොයාගන්න යන්නෙ නැහැ. අනුන්ගේ දේවල් කඩාවඩාගන්න යන්නෙ නැහැ. තමන්ගේ තත්වය රැකගන්න අනිත් අයව විනාශ කරන්න යන්නෙ නැහැ. අනිත් අයව යටකරන්න යන්නෙ නැහැ. තමන්ගේ නම්බු නාම රැකගන්න එයා කටයුතු කරන්නෙ නැහැ. ලාභ

සත්කාර වෙනුවෙන් දක්ෂයා විනාශ කරන්න හදන්නෙ නැහැ. තමන්ගේ භූමිකාව තියාගන්න දේවල් කරන්න යන්නෙ නැහැ. මේවා එන්නෙ නැහැ.

සිහි නුවණ දෙකම ආවහම දේවල් හැලෙනවා මිසක් රැස් කරන්න යන්නෙ නැහැ යෝගාවචරයා. මං හිතනවා ඒ වාක්‍යය ඔබට හොඳට ඇහෙන්න ඇති කියලා. නුවණ වැඩෙන්න වැඩෙන්න දේවල් හැලෙනවා, අතහැරෙනවා මනසින්, රැස් කරන්න යන්නෙ නැහැ. නමුත් අපි හිතන් ඉන්නෙ නුවණ ප්‍රඥාව වැඩෙද්දි දේවල් එකතු කරගන්න ඕනෙ, රැස් කරගන්න ඕනෙ, පට්ටම් හදාගන්න ඕනෙ, තානාන්තර හදාගන්න ඕනෙ, තත්ව හදාගන්න ඕනෙ, අපි හිතන් ඉන්නෙ එහෙමයි. ඒ පාර වැරදිලා තියෙන්නෙ එයාලට. ඒක තමයි අර කියන්නෙ ඤාණමත්තාය පතිස්සතිමත්තාය කියලා කියන්නෙ ඔන්න ඕක. සිහිය හරහා නුවණ වැඩුනට පස්සෙ නුවණ ටික ටික වැඩෙන්න පටන් ගත්තට පස්සෙ ඒ යෝගාවචරයාගේ මනසින් දේවල් හැලෙනවා ගැලවෙනවා මිසක් උපාදාන කරන්න යන්නෙ නැහැ. ඇත්තටම නම් අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියනවා මේ ටික තේරුම් ගන්න කායානුපස්සනාවත් ඇති හරියට වැඩ කරනවා නම්. කායානුපස්සනාවෙන් වුනත් මේ වැඩේ ගොඩදාගන්න පුලුවන්, මේ කියන්නෙ දේවල් ප්‍රඥාව වැඩෙන්න වැඩෙන්න දේවල් අතහැරෙනවා කියන්නෙ කායානුපස්සනා කොටසින් වුනත් මේ තැනට එන්න පුලුවන්.

එතකොට මේ නුවණ ටික ටික වැඩෙන්න ගන්නකොට යෝගාවචරයා ලබපු මාර්ග ඥාණය පවා මනසින් අතහැරෙනවා. මම මාර්ග ඥාණයක් ලැබුවා, මම සෝවාන් වෙලා, මම සකදාගාමී වෙලා, මම අනාගාමී වෙලා කියන්නෙත් නැහැ. අනුන් ලවා කියවන්නෙත් නැහැ, කියවන අයට අනුග්‍රහ කරන්නෙත් නැහැ. අපේ සමහරු එහෙම ඉන්නවා. සමහරු සමහර කාලෙකට අනාගාමී කියනවා, තව කාලෙකට සකෘදාගාමී කියනවා. ඒගොල්ලො උඩට නෙවෙයි යන්නෙ පල්ලෙහාට. මේ අනුන් ලවා කියවනවා, කියවන එක නවත්වන්නෙත් නැහැ. ඒ මොකක්ද ඒ අනුග්‍රහය දෙන්නෙ. මේ නුවණ වැඩෙන්න වැඩෙන්න ඕක වෙන්නෙ නැහැ. මාර්ග ඥාණය පවා අතහැරෙනවා. ධර්මයවත් උපාදාන කරන්නෙ නැහැ.

ඕක ගැන ඉතින් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරපු ප්‍රසිද්ධ වාක්‍යය ඕගොල්ලො දන්නවානෙ. ධර්මය පහුරක් කරගෙන යන්නෙ නැහැ, ඒකත් අතහරින්න ඕනෙ කියන එක. ඉතින් බුදුරජාණන් වහන්සේ කියන්නෙ මහණෙනි මේ ධර්මයත් අතහරින්න ඕනෙ, එහෙනම් අධර්මය ගැන කවර කතාද කියලා අහන්නෙ. මේකෙන් එගොඩ වෙන්න ගත්තු ධර්මයත් අතහරින්න ඕන නම් අධර්මය අතහරින්න ඕනෙ කියන එක අහන්න දෙයක් නැනෙ. ඉතින් ඒ නිසා මතක තියාගන්න අපේ මනස යම්තාක් සිහිය කියන එක වැඩෙනවා නම් ඒ තාක් දුරට දේවල් හැලෙනවා මිසක් දේවල් රැස් වෙන් නෑ, දේවල් අල්ලලා බදාගන්න යන්නෙ නැහැ, දේවල් රැකගන්න යන්නෙ නැහැ. අල්ලන්නෙ නැහැ. උපාදාන කරන්නෙ නැහැ. මොකද අපි කලින් එහෙම කලේ දේවල් වල ඇත්ත නොදැකපු නිසා. දැන් සිහිය හරහා අපිට දේවල් දකින්න පුලුවන්කම ලැබිලා තියෙනවා. ඒ හරහා නුවණ වැඩෙනවා. එතකොට මනසින් නිකම්ම දේවල් අතහැරෙනවා. ඒ නිසා මම කලින් වීඩියෝ වල කියලා ඇති, අතහරිනවා කියන එක කරන්න පුලුවන් දෙයක් නෙවෙයි, ඒක අතහැරෙනවා. දේවල් අතහැරෙනවා, දේවල් අතහැරෙන්නෙ මෙන්න මේ මානසිකත්වයට අපේ මනස ආවහමයි.

එතකොට ඒක වෙන්නෙ අපි ඇත්ත දැකපු නිසා. අපි යම්කිසි දෙයක ඇත්ත දැක්කා නම් අපිට ඒකෙන් කවදාවත් ප්‍රශ්නයක් එන්නෙ නැහැ. අපි ඒක දැඩිව අල්ලලා බදාගන්න යන්නෙ නැහැ. අපි මේ දෙයක යථාර්තය නොදැකපු නිසා තමයි අපිට ප්‍රශ්න හටඅරගෙන තියෙන්නෙ. ඒ නිසා සතිපට්ඨානය කියන එක ටික ටික වැඩෙන්න වැඩෙන්න ඒ

යෝගාවචරයාගේ මනසට ලොකු සැහැල්ලුවක් විතරයි ඉතුරු වෙන්නෙ. මං හිතනවා මේ වෙනකොට මේක කරන්න පටන් ගත්තු අයට ඒ අත්දැකීම ලැබිලා ඇති. ගොඩක් අයගේ කමටහන් වාර්තා වල ඒක තියෙනවා. සිහිය තියන්න, තියන්න, සිහිය හරහා සම්පජඤ්ඤය නුවණ කියන එක වැඩෙන්න වැඩෙන්න යෝගාවචරයාගේ මනසට සැහැල්ලුව එන්නෙ ඔන්න ඔය හේතුව නිසා. මොකද දේවල් හැලෙනවා. රැස් වෙන් නැහැ. ඇයි එයාට දේවල් වල ඇත්ත පේන්න පටන් ගන්නවා. අපි දේවල් වල ඇත්ත නොදැකපු නිසයි මෙච්චර දේවල් ගොඩගහගන්න යන්නෙ. අල්ලලා බදාගන්න යන්නෙ. රැස් කරගන්න යන්නෙ අපි දේවල් වල ඇත්ත නොදැකලා තියෙන නිසා. ඉතින් දේවල් හැලෙන්නෙ දැඩිව ගන්නෙ නැත්තෙ මෙන්න මේ ඇත්ත දකින නිසා.

ඉතින් මේ මට්ටමට යෝගාවචරයා ආවහම එයා ලෝකෙ දිහා බලන බැල්ම වෙනස් වෙනවා. කෝණය වෙනස් වෙනවා. එයාගේ මනසේ තියෙන ආකල්ප වෙනස් වෙනවා. එයා ලෝකෙ දිහා දකින්නෙ අනිත් අය දකින විදියට නෙවෙයි. එයා දේවල් දිහා බලන්නෙ අනිත් අය බලන විදියට නෙවෙයි, වෙනස්ම විදියකට. ආකල්ප වෙනස් වෙනවා. ඔන්න ඔය ක්‍රමයට භාවනා කලොත් තමයි භාග්‍යවතුන් වහන්සේ සතිපට්ඨාන සූත්‍රයේ අන්තිමට දේශනා කරනවා මේ ක්‍රමයට මේ ගැලවෙන ක්‍රමයට යෝගාවචරයා සතිපට්ඨානය පුරුදු කලොත් අවුරුදු හතක් ඇතුලත එක්කො එයා අනාගාමී වෙනවා, එක්කො රහත් වෙනවා කියලා බුදුරජාණන් වහන්සේ කැට තියලා කියනවා, මේ ක්‍රමයට කලොත්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ පල්ලෙහාට පල්ලෙහාට එනවානෙ අවුරුදු හය පහ හතර තුන දෙක එක, අවුරුද්ද ඊටපස්සෙ මාස හය, මාසෙ ඔහොම ඇවිල්ලා අන්තිමට සතියටම එනවා බුදුරජාණන් වහන්සේ. සතියක් ඇතුලත යෝගාවචරයා මේ ක්‍රමයට සතිපට්ඨාන විපස්සනා භාවනා ක්‍රමය කලොත් යෝගාවචරයා සතියක් ඇතුලත එක්කො රහත් වෙනවා, එක්කො අනාගාමී වෙනවා කියනවා.

මෙන්න මේ බුද්ධ වචනය නිසා තමයි වර්තමාන ලෝකයේ මේ භාවනා සැසි එහෙම නැත්නම් retreat භාවනා වැඩසටහන් අවම සතියක් විතර තියන්න පටන් අරන් තියෙන්නෙ ඒ නිසයි. ඉතින් සතියෙන් එහා දවස් දහය, සති දෙක, මාසය, මාස දෙක තුන ඔහොම retreat පවත්වන්නෙ මෙන්න මේ හේතුව නිසා. මේක හරියට ඇල්លුවොත් යෝගාවචරයාට එතෙන්ට එන්න පුලුවන්. එතකොට එතෙන්ට එන්න බැරිවුනත් මනසින් අර දේවල් අතහැරෙන මානසිකත්වය සැහැල්ලුව ලෝකෙ දිහා බලන කෝණ මේවා වෙනස් වුනේ නැතිනම් ඒ කියන්නෙ එහෙම වෙනසක් වෙන්නෙ නැත්නම් ඒ කියන්නෙ යෝගාවචරයා භාවනාව කරලා තියෙන්නෙ සතිපට්ඨාන විපස්සනාව අල්ලලා තියෙන්නෙ මේ සසරින් ගැලවෙන අදහසින් නෙවෙයි. මොනවහරි රැස් කරන අදහසින් තමයි එයා මේක කරලා තියෙන්නෙ. දේවල් අල්ලබදාගන්න. තත්වයක් හදාගන්න තමයි එයා භාවනා කරලා තියෙන්නෙ. ඒ නිසා තමයි එයාට ඒ සැහැල්ලුව එන්න ඇත්තෙ, මනසට බරයි. ඒ නිසා තමයි එයාට දේවල් හැලෙන් නැත්තෙ. ලෝකෙ දිහා බලන ආකල්පය වෙනස් වෙන්නැත්තෙ අන්න ඒ නිසා.

ඉතින් අද යෝගාවචරයො ගොඩක් ඉන්නවා එහෙම. ඒගොල්ලො භාවනා කරන්න ගියාට පස්සෙ ඔක්කොටම වැඩිය ඔළුව බරයි. ප්‍රශ්න වැඩියි. කරදර වැඩියි, ආතතිය වැඩිවෙලා. ඇයි මේකට බැහැලා තියෙන්නෙ වැරදි අදහසින්. ඒ නිසා අපේ ලොකු ස්වාමීන් වහන්සේ කියනවා මේක වම් අතින් හෝ තනි අතින් අල්ලන්න එපා, වරදිනවාමයි. මේක දෝතින් අල්ලන්න තියෙන දෙයක්. ඉතින් දෝතින් අල්ලනවා කියන එක ඇතුලත ඔක්කොම ටික තියෙනවා එතන ඒ වචනෙ ඇතුලත. ඉතින් සතිපට්ඨාන භාවනා ක්‍රමය ගැන සම්පූර්ණයෙන් මුලම ඉඳලා අග වෙනකල් දේශනා කරලා තියෙනවා අපි මේ category

එකේ. සිහිය හරහා මේක පුරුදු කරන්න කැමැති කෙනෙකුට ඇත්තටම මේ දේශනා මාලාවත් ඇති මේ චැනල් එකෙන් වැඩක් කරගන්නවා නම්. ඉතින් අදින් පස්සෙ අපේ සතිපට්ඨාන දේශනා මාලාව අවසන්.

කාටහරි මේකෙන් ප්‍රයෝජන ගන්න ඕනෙ නම්, මනසේ සහනය හොයාගෙන යන්න ඕන නම් ඒක භාවිතා කරන්න පුලුවන්, පුහුණු කරන්න පුලුවන් කැමැති කෙනෙකුට. ඉතින් භාවනා කරන්න කැමැති කෙනෙකුට මේ චැනල් එකේ තියෙන්නෙ category තුනයි; සතිමත් වීම, සතිපට්ඨාන සූත්‍රය සහ භාවනා කියලා playlist එකේ category  තුනක් තියෙනවා. ඒ තුනේ තමයි භාවනා කරන හැටි කියලා තියෙන්නෙ. අනිත් කිසිම category එකක භාවනා කරන හැටි කියලා දීලා නැහැ. ඒ අනිත් හැම වීඩියෝ එකක්ම දාලා තියෙන්නෙ මේ වැඩේ කරන්න උනන්දුව ඇති කරන්න විතරයි. මෙන්න මෙහෙම වටිනා නිධානයක් තියෙනවා ඒක හොයන්න තියෙන්නෙ මෙන්න මේ විදියට කියලා උනන්දුව උත්සාහය කැමැත්ත ඇති කරවන්න තමයි අනිත් හැම category එකක්ම කරලා තියෙන්නෙ. ඔබට වැඩේ කරන්න සියලුම guide එක තියෙන්නෙ මේ category තුනේ. ඒ ටික බලන්න playlist එකට ගිහිල්ලා. ඒ ටික බැලුවත් ඇති ඔබට තනියෙන් මේ පුහුණුව පටන් ගන්න පුලුවන්. ඉතින් අදින් අපේ සතිපට්ඨාන දේශනා මාලාව අවසන් කරනවා. හැමදෙනාටම තෙරුවන් සරණයි!